# මහා සතිපට්ඨාන සූත්‍ර දේශනාවලිය

## අට්ඨම භාගය

අති පූජනීය උඩඊරියගම ධම්මජීව ස්වාමීන්වහන්සේ

# මහා සතිපට්ඨාන සූත්‍ර දේශනාවලිය

අට්ඨම භාගය

ධර්ම දේශනා 63-72 දක්වා

(ධම්මානුපස්සනා - දුක්ඛං අරියසච්චං)

මීතිරිගල නිස්සරණ වනයේ ප්‍රධාන කර්මස්ථානාචාර්ය

**උඩඊරියගම ධම්මජීව ස්වාමීන් වහන්සේ**

නිස්සරණ වනය අරණ්‍ය සේනාසනය

මීතිරිගල

ධර්මදානය පිණිසයි.

ප්‍රථම මුද්‍රණය - 2022

**මහා සතිපට්ඨාන සූත්‍ර දේශනාවලිය - අට්ඨම භාගය**
**(ධම්මානුපස්සනා - දුක්ඛං අරියසච්චං)**
පූජනීය උඩඊරියගම ධම්මජීව ස්වාමීන් වහන්සේ

අයිතිය:

මීතිරිගල නිස්සරණ වනය සංරක්ෂණ මණ්ඩලය
මීතිරිගල, 11742
දුරකථනය: 033 2253295
nissaranavanaya@gmail.com
www.nissarana.lk

ISBN : 978-624-5512-16-4

මුද්‍රණය

කොලිටි ප්‍රින්ටර්ස්
17/2, පැඟිරිවත්ත පාර,
ගංගොඩවිල, නුගේගොඩ.
දුරකථනය: 011 487 0333

# පෙරවදන

**එකායනො අයං, භික්ඛවෙ, මග්ගො සත්තානං විසුද්ධියා, සොකපරිදෙවානං සමතික්කමාය දුක්ඛදොමනස්සානං අත්ථඞ්ගමාය ඤායස්ස අධිගමාය නිබ්බානස්ස සච්ඡිකිරියාය, යදිදං චත්තාරො සතිපට්ඨානා.**

මහා සතිපට්ඨාන සූත්‍ර දේශනාව යනු අතීතයේ පටන් අද දක්වාම බෞද්ධයන් අතර ඉමහත් ගෞරවාදරයට පත්වූ සර්වඥ දේශනාවකි.

සත්ත්වයාගේ විශුද්ධිය පිණිසද සෝක පරිදේව ඉක්මවනු පිණිසද දුක් දොම්නස් දුරු වනු පිණිසද ආර්ය අෂ්ටාංගික මාර්ගයට පැමිණීම පිණිසද නිවන් පසක් කිරීම පිණිසද යනාදී වශයෙන් ආනිසංස ගණනාවක් මෙම සතිපට්ඨානය තුළින් සාක්ෂාත් කළ හැකි බව සර්වඥයන් වහන්සේ විසින් සූත්‍ර විග්‍රහයට පෙරාතුවම දේශනා කරනු ලැබීම, මෙම සතිපට්ඨාන ප්‍රතිපදාවේ තිබෙන්නා වූ ගම්භීර භාවය පසක් කරවයි.

සතිපට්ඨාන සූත්‍රය ශ්‍රවණයෙන් හා සජ්ඣායනයෙන් පමණක්ම නොනැවතී ප්‍රායෝගිකව පුහුණු වීමේ ප්‍රවණතාවක් ගිහි පැවිදි දෙපාර්ශ්වය වෙතින්ම වර්තමානයේ දැකිය හැකි වීම සතුටට කාරණාවකි. මෙම ප්‍රායෝගික පුහුණුව සඳහා මග පෙන්වීමක් වන මේ දේශනා මාලාවද මෙලෙස පිටපත් දහස්ගණනින් මුද්‍රණය වීම, ප්‍රායෝගික පුහුණුවේ වටිනාකම තේරුම්ගත් යෝගාවචර පිරිස කොතරම්දැයි සිතාගැනීමට නිර්ණායකයක් වනු ඇත.

දශක එකහමාරකට පමණ පෙර මීතිරිගල නිස්සරණ වනය සේනාසනයේ යෝගාවචර සඟ පිරිස උදෙසා සතිපට්ඨාන සූත්‍රය අළලා සිදු කළ දේශනාවලිය ශ්‍රවණය කිරීමෙන් පසුව මෙහි අගය වටහාගත් යෝගාවචර මහතකු විසින් මෙය ග්‍රන්ථාවලියක් ලෙස මුද්‍රණය කිරීමට මූලිකත්වය ගන්නා ලදි. එතැන් පටන් ගිහි පැවිදි බොහෝදෙනකුගේ දයකත්වයෙන් මෙම පොත් පෙළ සකස් විය. දැන් මෙසේ පළ වන්නේ එම දේශනාවලියෙහි අටවන පුස්තකයයි.

ධම්මානුපස්සනාව යටතේ එන චතුරාර්‍ය සත්‍ය පර්වයේ පළමුවන ආර්‍ය සත්‍යය වන දුක්ඛ ආර්‍ය සත්‍යයට අදාළව සිදු කල දේශනා පෙළ මෙම පුස්තකයේ අන්තර්ගත වෙයි.

දුර්වල ශ්‍රවණ තත්ත්වයේ පවතින මෙම දේශනා පෙළ නැවත නැවතත් අසමින් ටයිප් පිටපත් කිරීම, සෝදු පත් කියවීම, මුද්‍රණය සඳහා සකස් කිරීම හා මුද්‍රණය කිරීම, ඒ සඳහා මූල්‍යමය දයකත්වය ලබා දීම ආදී විවිධාකාර කටයුතු සඳහා නා නා අයුරින් උපකාර කළ සියලු පින්වතුන්ට මේ සත්කාර්‍යය, ගෞතම සම්බුද්ධ ශාසනය තුළදීම නිර්වාණාවබෝධය සඳහාම හේතු වාසනා වේවා! මෙම ග්‍රන්ථය පරිශීලනය කරන සියලුදෙනාටත් විපස්සනා භාවනාව සඳහා මෙම පොත් පෙළ ආධාරකයක් වේවා!

බුද්ධ දේශනාවේ පමණක්ම ඇති සීල, සමාධි, ප්‍රඥා යන උතුම් ගුණ පූරණය වී නිර්වාණාවබෝධය සඳහාම මේ ප්‍රයත්නය සියලුමදෙනාටම හේතු වාසනා වේවා!

තෙරුවන් සරණයි!

උඩඊරියගම ධම්මජීව හිමි
නිස්සරණ වනය අරණ්‍ය සේනාසනය
මීතිරිගල - 11742
2022-02-24

# සම්පාදක සටහන

මීතිරිගල නිස්සරණ වනය අරණ්‍ය සේනාසනයට සම්බන්ධ වී කලක සිට ධර්ම ග්‍රන්ථ පිළිබඳව කටයුතු කරන්නට මා හට අවස්ථාව ලබා දුන් අති පූජ්‍ය උඩඊරියගම ධම්මජීව නායක ස්වාමීන් වහන්සේට මාගේ ගෞරව පූර්වක ප්‍රණාමය පළමුවෙන්ම පුද කරමි.

මහා සතිපට්ඨාන සූත්‍රය පාදක කරගෙන උන්වහන්සේ විසින් දේශිත ධර්ම දේශනාවලිය ලේඛනගත කිරීමේ කටයුත්ත දැනට සෑහෙන ප්‍රමාණයකට ඉටු වී ඇත. දේශනා සියල්ලම පාහේ අත්පිටපත් කර තිබේ. මේ එම ග්‍රන්ථාවලියේ අටවැනි කාණ්ඩය (ධම්මානුපස්සනාව - චතුරාර්ය සත්‍යය ධර්ම දේශනා 63-72) වේ.

මෙම දේශනා මාලාවේ අවසාන දේශනාව (72) ඇතුලත් වී තිබූ හඬපටිය ඉතාම අපහැදිලි තත්වයේ පැවති බැවින්, එය පිටපත් කර දේශනාවක් ලෙස සැකසීමට අපහසු විය. එහෙයින් පූජ්‍ය දෙල්ගමුවේ ධම්මසුභද්ද ස්වාමීන් වහන්සේගේ ඉල්ලීම පරිදි, අති පූජ්‍ය දේශකයාණන් වහන්සේ අදාල මාතෘකාව යටතේම අලුත් දේශනාවක් කිරීමට කාරුනික වුහ.ඉතාම කාර්යය බහුල අවදියක වුවද, එවැනි දේශනාවක් පැවත්වීම වෙනුවෙන් උන්වහන්සේට අපගේ ගෞරව පූර්වක ප්‍රණාමය පුද කරමු

පෙර පරිදිම මෙම කෘතිය සකස් කිරීම සඳහාත් නිස්සරණ වනය ආරණ්‍යවාසී මහා සංඝ රත්නය ඉදිරිපත් වූහ. මෙම ධර්ම

දේශනා පටිගත කොට ඇත්තේ දශකයකට පමණ පෙර බැවින් එම හඬ පටවල ශ්‍රවණ තත්ත්වය දුර්වල බවත් සමහර තැන්වල ඇතැම් ධර්ම කොට්ඨාශ මැකී ගොස් ඇති බවත් මෙම කටයුත්ත කරගෙන යාමේදී අප හට වැටහිණ. එහෙයින් ඒවා නිවැරදිව අර්ථවත්ව පිටපත් කිරීම ඉතාම දුෂ්කර කාර්යයක් විය. මේ නිසා, මෙම දේශනාවලියේ කිසි යම් තැනෙක අඩුපාඩුවක් හෝ නොගැළපීමක් වේ නම්, එය අති පූජ්‍ය දේශකයාණන් වහන්සේගේ පමාවක් නොව දේශනා පිටපත් කළ අප අතින් සිදු වූවක් බව විශේෂයෙන් සඳහන් කරන අතර, එසේ වී ඇත්නම් අපි උන්වහන්සේගෙන් සමාව අයදිමු.

මේ අන්දමේ ඌනතා අවම කරනු සඳහා පූජ්‍ය දෙල්ගමුවේ ධම්මසුභද්ද ස්වාමීන් වහන්සේ අදාළ දේශනා ඇතුළත් හඬ පට නැවත නැවතත් අසමින් ටයිප් පිටපත් නිවරද කිරීමේ යෙදුණහ. එම ඉමහත් කැප වීම මේ ග්‍රන්ථාවලිය පළ කරන්නට බෙහෙවින් උපකාරී විය. එහෙයින් උන්වහන්සේට මාගේ ගෞරව පූර්වක ප්‍රණාමය පුද කරමි.

තවද, මෙය සංස්කරණය කිරීමෙන් සහ සෝදු පත් පිරික්සීමෙන් රාණි රාජපක්ෂ මහත්මියත් අලංකාර ලෙස පිට කවරය නිර්මාණය කොට එහි මුද්‍රණ කටයුතු සම්බන්ධීකරණය කිරීමෙන් අමිල් කුමාර මහතාත්, පින් අනුමෝදනා විස්තර සටහන් සහ දේශනා සැකසීමෙන් භාමනී කුමාරසේන දයිකාවත් මෙහිදී සහාය වූහ. නිස්සරණ වනය සංරක්ෂණ මණ්ඩලයේ හේමන්ත රණවක මහතා මුද්‍රණ කටයුතු සම්බන්ධීකරණයෙන් සහාය විය. ඒ මහත්ම මහත්මීන්ද, කොලිටි ප්‍රින්ටර්ස් මුද්‍රණාලයේ අධිපති ජයසෝම මහතා සහ කාර්ය මණ්ඩලයද මෛත්‍රී පූර්වකව ගෞරවයෙන් සිහිපත් කරමි.

සම්පාදක<br>
2022, නවම් මස 20 වන ද

# පටුන

# 63 | දුක්ඛ සත්‍යය - හැඳින්වීම

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**පුනචපරං භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති චතූසු අරියසච්චෙසු. කථඤ්ච පන භික්ඛවෙ, භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති චතූසු අරියසච්චෙසුඃ**

**ඉධ භික්ඛවෙ භික්ඛු ඉදං දුක්ඛන්ති යථා භූතං පජානාති, අයං දුක්ඛසමුදයො ති යථාභූතං පජානාති, අයං දුක්ඛනිරොධො ති යථාභූතං පජානාති, අයං දුක්ඛනිරොධගාමිනී පටිපදා ති යථාභූතං පජානාති**

ගෞරවනීය මහා සංඝරත්නයෙන් අවසරයි, අද අපි මේ ආරම්භයක් තබන්න බලාපොරොත්තු වෙන්නෙ සතිපට්ඨාන සූත්‍රයේ ඉදිරි කොට ඇති, බොහෝමත්ම සංවේග කොට්ඨාශය වන චතුරාර්‍ය සත්‍යය සංග්‍රහ කෙරෙන සච්ච නිර්දේශයටයි; සත්‍ය ධර්‍ම විස්තර කරන පර්වයටයි. ඒකට එන්න අපි මේ වන විට දේශනා වශයෙන් 62 ක් පහු කරලා තියෙනවා, අපි මේ ඉන්නෙ 63 වෙනි වාරෙ.

මේකට ආසන්නයේම අපි සාකච්ඡා කළේ බොජ්ඣංග පර්වයයි. බොජ්ඣංග පර්වයේදී 7 ක් වූ බෝධි අංග අපි සාකච්ඡා කරන්න යෙදුණා. බොහෝදෙනා දන්නවා බොජ්ඣංග කිව්වහම බෝධිපාක්ෂික ධර්‍ම කියන වචනෙත් අර්ථයක් තියෙනවා. සත්ත බොජ්ඣංගවලටත් වැටෙනවා. සත්තිස් බෝධිපාක්ෂික ධර්‍මවල 37 ක්

තියනවා. මෙතන 7 ක් කියවෙනවා. ඊට අමතරව තව 30 ක් තියෙනවා, සම්බෝධිය සඳහා අවශ්‍ය කරන්නා වූ මූලික අවශ්‍යතා. අඩුමකුඩුම. සත්තිස් බෝධිපාක්ෂික ධර්මවල හෝ සප්ත බොජ්ඣංග ධර්මවල චතුරාර්‍ය සත්‍යය ගැබ් වෙන්නෙ නෑ. නමුත් චතුරාර්‍ය සත්‍යය, සතිපට්ඨාන සූත්‍රයේ ධම්මානුපස්සනා කොටසට දමලා සර්වඥයන් වහන්සේ දේශනා කරල තියෙනවා.

සතිපට්ඨානය මුල **එකායනො අයං භික්ඛවෙ මග්ගො** කියල සතිපට්ඨානයෙ ඇත්තා වූ ඒකායන බව, එකම පරමාර්ථයකට තුඩු දී ඇති බව, විස්තර කරනකොට ඒකෙන් ගම්‍ය වෙන්නෙ චතුරාර්‍ය සත්‍යයයි. පරමාර්ථ වශයෙන් බලාපොරොත්තු වෙන්නෙ සතිපට්ඨාන දේශනාවෙන්. මේ ඒකායන මාර්ගයකින්. එහෙම නැතුව වටපිට යන අවුල්පාස සහිත පාරකින් නෙවෙයි. ඒකායන ඍජු, කෙටි, පරම මාර්ගයකින් චතුරාර්‍ය සත්‍යයට පැමිණීමයි සතිපට්ඨාන සූත්‍රයේ සඳහන් කරන්නෙ. සත්තිස් බෝධිපාක්ෂික ධර්මවල සඳහන් කරන්නෙ. සප්ත බොජ්ඣංග ධර්මවල සඳහන් කරන්නෙ. ඒක නිසා යෝගාවචරයෙක් වශයෙන් චතුරාර්‍ය සත්‍යය පිළිබඳව අනුමාන ඥනයකින් හෝ අවබෝධයක් කලින් තිබිය යුතුයි. එතකොට තමයි එවැනි ප්‍රත්‍යක්ෂයකට ඒ යෝගාවචරයා කුසලච්ඡන්දයක් පහළ කරන්නෙ, වීර්‍ය කරන්නෙ, මේ ජීවිතයේදීම සත්‍යය සාක්ෂාත් කරන්න පෙළඹෙන්නෙ.

ඒ නිසා සතිපට්ඨාන සූත්‍රයේ චතුරාර්‍ය සත්‍යය පිළිබඳව සංග්‍රහයක් ඉදිරිපත් වෙනව. මේ සංග්‍රහය සාමාන්‍ය ථෙරවාද බුද්ධ ශාසනයේ සඳහන් වෙන මූලික ලක්ෂණ සහිතයි. වෙන විදිහකට කියනව නම්, ථෙරවාද බුද්ධ ශාසනයේ ඕනෑම දෙයක් පටන්ගන්න කලින් හොඳ පිරිසිදු ආරම්භයක්, පිරිසුදු පදනමක්, පාදමක් සකස් කරගැනීම බොහොම වැදගත් කාරණයක්. එමගින්ම ඒ බලාපොරොත්තු වෙන අවසාන පරමාර්ථයේ මූලික ලකුණු ආරම්භ කරන්නට යම් ප්‍රමාණයකට අත්දැකගන්න පුළුවන් ස්වභාවයක් තියනව. ඒ නිසා චතුරාර්‍ය සත්‍යයත් ගොඩනැගිල තියෙන්නෙ ආන්න ඒ කියන විදිහෙ පටන්ගැන්ම හොඳ සාර්ථක නම්, පටන්ගැන්ම කෙරේ හොඳ ශ්‍රද්ධාවක් තියනව නම්, හොඳ වීර්‍යයක් තියනව නම්, හොඳ සතියක්

තියනව නම්, සමාධියක් ප්‍රඥාවක් තියනව නම් ඉතුරු වැඩ ටික හරි ලේසි වෙන විදිහටයි.

ඒ නිසා චතුරාර්‍ය්‍ය සත්‍ය වශයෙන් තියන **ඉදං දුක්ඛන්ති යථා භූතං පජානාති** කියනකොට, දුක්ඛ ආර්‍ය්‍ය සත්‍යය තමයි මේ හතරින්ම ඉතාමත්ම වැදගත් වෙන්නෙ. ඒක පිළිබඳව ඒ වැදගත් තාලෙට සර්වඥයන් වහන්සේ අවධාරණය කරල තියන ආකාරයට තේරුම්ගත්තොත් ඉතුරු තුන ඉබේම සිද්ධ වෙනව. දුක්ඛ සත්‍යය අවබෝධ කළ පමණින් සමුදය සත්‍යය, නිරෝධ සත්‍යය, මාර්ග සත්‍යය කියන්නා වූ ඒ හතරට භාවනාමය කෘත්‍යය බොහෝ දුරට සිද්ධ වෙනව. ඒ නිසා හාත්පසින්ම අවබෝධ කළ යුත්ත වශයෙන් **ඉදං දුක්ඛන්ති යථා භූතං පජානාති** කියන එක අපි කලින් කිව්ව වගේ ප්‍රත්‍යක්ෂය නැත්නම්, අනුමාන ඥානයෙන් හෝ සුතමය ඥානයෙන් හෝ හොඳ හැටි දැනගෙන තියෙන්න ඕනැ. යෝගාවචරයා ඒක පිළිබඳව ඉම් ගම් සහිතව මායිම් සහිතව දැනගෙන තියෙන්න ඕනැ.

ඒක තවත් පැත්තකට විස්තර කරනව. අපි ගහක තියන අඹ පොකුරක් ගහල කඩන්න හදනව නම්, ඒ පොකුරෙ මුල් නටුව සිඳලූවොත් ගෙඩි පොකුරම බිම වැටෙනව. එහෙම නැතුව එක එක ගෙඩියෙ නැට්ට කඩන්න ගියොත් ගෙඩි ගානට පහර ගහන්න වෙනව. චතුරාර්‍ය්‍ය සත්‍යය පෙන්නන්නෙ ගෙඩි හතරක් සහිත අඹ පොකුරක් විදිහට. මේක මුලින්ම කඩන්න පුළුවන් දුක්ඛ සත්‍යය පිළිබඳව හොඳ පරිචය ඥානයක් ඇත්නම්. ඒ නිසා අපි සඳහන් කළා දුක්ඛ සත්‍යය ඉතාම වැදගත් කියල. නමුත් සාමාන්‍ය සංසාරෙ පැත්තෙන් බලනකොට අපිට නොවැදගත්ම තුච්ඡම පහත්ම එපාම කරපු ඉක්මනටම නැති කරන්න ඕනැ දේ දුකම තමයි. ඒ මොකද, සෑම සතෙක්ම, විශේෂයෙන්ම මනුෂ්‍යයා, සැප සොයා යන ගමනක් තමයි සංසාරේ තියෙන්නෙ.

ඒ නිසා ඒ පුද්ගලයට මේ සැප යාදෙන තාලෙකට සදාතනික ක්‍රමයකට සදාකාලික වෙන්න නම් දුක්ඛ සත්‍යය පිළිබඳව අවබෝධය අවශ්‍යයි කිව්වට පස්සෙ, එතැනදී ඒ දෙකම පිළිගන්න පුද්ගලයාට ආධ්‍යාත්මික වෙන්න වෙනව. ආගමානුකූල වෙන්න වෙනව. එහෙම නොකළොත් සාමාන්‍යයෙන් ඒ සැප සොයාගෙන යන කෙනා දුක

කියන එක අහන්නවත් කැමති නෑ. ඒක ගවේෂණය කරන්න කැමති නෑ. ඒකට බැසගන්න ඕනැ, ඒක අවබෝධ කරන්න ඕනැ කියන එකට කැමති නෑ. ඒ මොකද? ඒක අන්තයක්. කාමසුඛල්ලිකානුයෝගය කියන එක අන්තයක් තමයි දුක ප්‍රතික්ෂේප කිරීම මාර්ගයෙන් සැපම ලැබීම. හොඳින් හෝ නරකින් දුක ප්‍රතික්ෂේප කරලා හොඳින් හෝ නරකින් සැපම ලබන්නට හොයන මාර්ගය බුද්ධ දේශනාවට ගැළපෙන්නෙ නෑ. එහෙම නැත්නම් දුකම, දුකටම බැසගැනීමෙන්, දුක් දීමෙන් මේක කරන්න ඕනෑ කියන එකක්, අත්තකිලමථානුයෝගයක් මෙතන අනුමත වෙන්නෙත් නෑ. විශේෂයෙන්ම අපි පසළොස්වක දවසට සජ්ඣායනා කරන ධම්මචක්කප්පවත්තන සූත්‍රයේ මේ දෙක බැහැර කිරීම මාර්ගයෙන් තමයි ඒකායන මාර්ගයට පොට පාදගන්නෙ.

ඒ නිසා සම්‍යක් දෘෂ්ටික පුද්ගලයා, ආධ්‍යාත්මික ආගමික හැඟීමක් ඇති පුද්ගලයා ඒ දෙක මුලින්ම හඳුනාගෙන තියෙන්න ඕනැ. මේ හඳුනාගැනීමත් දුක්ඛ සත්‍යය අවබෝධ කිරීමේ මූලික සුදුසුකමක්. ඒ මොකද, වැදගත් වෙන්නේම, ප්‍රධාන වෙන්නේම, දුක්ඛ සත්‍යය අවබෝධ කිරීමයි. ඒ නිසා මේ ඉදිරිපත් කිරීම ප්‍රහේලිකාජනකයි. ඒ නිසා කවදකවත් බුද්ධ දේශනාව චතුරාර්‍ය සත්‍යයෙන් බණ පටන්ගන්නෙ නෑ. පටන්ගත්තොත් සුදුසු වෙච්ච, පෙළ ගැහිච්ච, පේ වෙච්ච මනසක් නැත්නම්, ඒක තවත් දුක වැඩි කිරීමට හේතු වෙන්න ඉඩ තියනව. ඒ නිසා ඒකට ක්‍රමික සත්තිස් බෝධිපාක්ෂික ධර්ම මාර්ගයෙන්, එහෙම නැත්නම් සතිපට්ඨානයේ කායානුපස්සනා ක්‍රමයෙන්, ක්‍රමිකව ළං වෙන්න ඕනැ. ඒ මොකද, දුක්ඛ සත්‍යය පිළිබඳ විග්‍රහය බොහෝමත්ම වාදවලට, එක වර අවබෝධ කරගන්න බැරි, මායා ස්වරූපයකට ලක් වෙනව. ඒක විශේෂයෙන්ම ප්‍රකටම චතුරාර්‍ය සත්‍යය අතරින් මේ දුක්ඛ සත්‍යය පිළිබඳ විග්‍රහයකදියි. ඒ මොකද, එක තැනකදී යම් ආකාරයකට මෙහි හිත යොදන්නා වූ, ගැඹුරට හිත යොදල භාවනා කරන්නා වූ යෝගාවචරයින්ට අස්වැසිල්ලක් පිණිස බුද්ධ දේශනාවේ සඳහන් වෙනව, "මහණෙනි ඇත්ත වශයෙන්ම මේ දුක නම් පෙළනසුලු තමයි, දුක් තමයි. නමුත් මේ දුක ආර්‍ය සත්‍යයක් බව දැනගැනීම නම් සැපයක්."

දුක නම් දුකයි. ඒක පිළිබඳව සර්වඥයන් වහන්සේ කවදාකවත්, දුක් වළඳන්න, දුක් ගෙන්නගන්න, එහෙම කියන්නෙ නෑ. ඒ වගේම පිළිගන්නවා ලෝක ස්වභාවයෙන් ගත්තත් උන්වහන්සේගේ සර්වඥතා ඥානයෙන් දැක්කත් දුක නම් දුකමයි. නමුත් මේ දුක සත්‍යයක් බව දැනගැනීම, ඒක ආර්‍ය්‍ය සත්‍යයක් බව දැනගැනීම පරම සැපයක්. පරම සැපයක්! ඒ නිසා ඉතාමත්ම ගැඹුරු දුකක් ඇති වුණාම "මේ තුළ සත්‍යය තියනව, මේ තුළ ආර්‍ය්‍ය සත්‍යය තියනව, ඒ නිසා මම මේක වටහාගත යුතුයි" කියල හිතනව නම්, ඔහුට ලැබෙන සැපය සාමාන්‍ය දුකක් වටහාගත්ත කෙනෙකුට වඩා වැඩියි.

මේක තමයි භාවනා ජීවිතේ, යෝගාවචර ජීවිතේ අෂ්ට ලෝක ධර්‍මය විෂයෙහි කම්පා නොවෙමින් ඉදිරියට ගමන් කරන ක්‍රමය. මංගල ආදී සූත්‍රවල නිවන් ලැබුවටත් පස්සෙ මේක සඳහන් කරන්නෙ.

**ඵුට්ඨස්ස ලොකධම්මෙහි චිත්තං යස්ස න කම්පති**
**අසොකං විරජං ඛෙමං එතං මංගලමුත්තමං**

ඊට ඉස්සෙල්ල තමයි **තපො ච බ්‍රහ්මචරියඤ්ච** ආදී ඒ ඔක්කොම තියෙන්නෙ. ඒ නිසා මේ සත්‍යාවබෝධය කියන එක එකම දවසක, එක චිත්තක්‍ෂණයක කරන්න අමාරුයි. ඒක ප්‍රතිපදාවක්. ඒ ප්‍රතිපදාව පුරාම තියෙන්නෙ ආරම්භය ඉතාම පිරිසිදුව, බොහෝම ශ්‍රද්ධාවෙන්, කුසලච්ඡන්දයකින්, කැප වීමකින් පුරන්න ඕනැ. පුරාගෙන යනකොට යනකොට යනකොට අර දුක වශයෙන් දැකපු දුකේ මොකක්දෝ හොඳ ලස්සනක්, හොඳ ඥානයක්, හොඳ සුඛයක් තියනව. එතකොට ඒ දුක දුක්ඛ සත්‍යය බවට පත් වෙලා, දුක්ඛ ආර්‍ය්‍ය සත්‍යය බවට පත් වෙනව.

යෝගාවචරයෙක් සතිපට්ඨානය අහන්න ඉස්සර වෙලා, භාවනා ජීවිතයකට පත් වෙන්න ඉස්සර වෙලා, ආගමික ජීවිතයකට පත් වෙන්න ඉස්සර වෙලා, සාමාන්‍ය අනෙකුත් සත්ත්වයන් සමග, අනෙකුත් මනුෂ්‍යයන් සමග බෙදාගෙන සැප සෙවීමේ ව්‍යාපාරයක යෙදෙනව. ඒක සාධාරණයි. නමුත් යම් දවසක "සතිපට්ඨාන වශයෙන් ඒකායන මාර්ගයක් මේකට තියනව සැප සෙවීම සඳහා. සුතමය වශයෙන්, චින්තාමය වශයෙන්, භාවනාමය වශයෙන් මේක සාක්‍ෂාත්

කරගන්න ඕනෑ"ය කිව්වට පස්සෙ ලොකු කැප කිරීමක් කරල තමයි සුතමය ඥනයට හෝ පත් වෙන්නෙ, චින්තාමය ඥනයට, අන්වය ඥනයට හෝ පත් වෙන්නෙ. ඊට පස්සෙ ඒක ප්‍රත්‍යවේක්ෂා කිරීම තමයි යෝග ජීවිතේ කියන්නෙ.

ඒ යෝගාවචරයා මුලින් කවුරුත් වගේ පැමිණෙන පුංචි දුකටත් සැලෙන, ඒකට ප්‍රතිකර්ම හොයන, සැප සොයනසුලු පුද්ගලයෙක් හැටියටම ඉන්නව. නමුත් කායානුපස්සනාවේ පටන් කරගෙන කරගෙන කරගෙන යනකොට ටිකෙන් ටික ටිකෙන් ටික තමන් කරා පැමිණෙන්නා වූ පුංචි පුංචි දුක් සමථ ක්‍රමයෙන් හෝ විපස්සනා ක්‍රමයෙන් හෝ එක්කො තළා ඔබල හෝ එහෙම නැත්නම් අභිභවනය කරමින් ඉදිරියට යනකොට යනකොට ඒ යෝගාවචරයට වැටහෙන්න පටන් අරගන්නව, මේ දුක හාත්පසින්ම අවබෝධ කළ යුතු ධර්‍මයක් වශයෙන් බැලුවොත් වෙනදට වඩා පොඩ්ඩක්, වෙනදට වඩා චිත්තක්‍ෂණයක් දුක දිහා ඉවසිල්ලෙන් බලාගෙන ඉන්න පුළුවන් ගතියක් තියන බව. ඊට පස්සෙ ආයේ නුරුස්නා ගතියට පත් වෙන්න ඉඩ තියනව.

නමුත් පහුවෙනිද වෙනකොට තවත් ටිකක් දුක්ඛානුපස්සනාව පිළිබඳව, දුක පිළිබඳව වෙනදට වඩා ඉවසීමේ ශක්තියකින් බලාගන හිටියොත්, වෙනදට වඩා ඒ දුකේ ඇති වීම, පැවතීම දකගන්න පුළුවන්, පුංචි පුංචි දුක්වල. තව ඉස්සරහට යනකොට ඊට වඩා මධ්‍යස්ථ ප්‍රමාණයේ එව්වත්. පුංචි පුංචි එව්ව නම් ඇති වීම, පැවතීම, නැති වීම තුනම දකගන්න පුළුවන්. "මධ්‍යස්ථ එව්වටත් මුහුණ දෙන්න ඕනැ, මුහුණ දිය යුතුයි, ඒක තමයි යෝගාවචරකම කියන්නෙ" කියල දුකේ විෂය ක්ෂේත්‍රය, තමන් අධ්‍යයනය කරන ප්‍රදේශය ටික ටික ටික ටික වැඩි කරල දවසක **පරිඤ්ඤෙය්‍යං** කියන විදිහට හාත්පසින්ම, මනුෂ්‍ය ජීවිතයකට ඔහුගෙ කර්මානුරූපව, අනෙකුත් ධර්‍මානුකූල හේතු මත "පැමිණෙන තාක් දුක් ඔක්කොම දරන්න පුළුවන්. දරන්න ඕනැ, දැරිය යුතුයි" කියන ධර්‍මයට එනකොට ඒ හිත පිපෙන්න පුළුවන් තරම් පිපෙනව. වැඩෙන්න පුළුවන් තරම් වැඩෙනව. සතිපට්ඨානය අහන්න ඉස්සර තිබුණට වඩා හාත්පසින්ම ලෝකය පිළිබඳව, සැප පිළිබඳව,

දුක පිළිබඳව, තමා පිළිබඳව පුදුමාකාර වෙනසක් ඇති වෙනව. මේක තමයි ඒකායන මාර්ගය.

දුක්ඛ ආර්‍ය්‍ය සත්‍යය පිළිබඳව ඇති හැටියෙන් විස්තර කර බැලීමෙන් ඒකායන මාර්ගය පිළිබඳව ධෛර්යය ඉපදෙනව. මේකට විවිධ තථාගත දේශනා උපමා ළං කරගත්තොත් මේ වාගේ පිරිසකට සතුටු වෙන්න, තමන් පිළිබඳව පිරිච්ච භාවයකට පත් වෙන්න පුළුවන් ගතිය වැඩියි. ඒ මොකද, මේ වෙනකොටත් සෑහෙන කැප කිරීමක් කරල මේ මාර්ගයට බැසගත්ත පිරිසක් වශයෙන්. අපි දුක පිළිබඳව අවබෝධ කිරීම, දුක හාත්පසින්ම දැනගැනීමේ ක්‍රමය චතුරාර්‍ය්‍ය සත්‍යය අවබෝධ කිරීමේ මූලික පාඩම, මූලික පෙළගැස්ම, සකස් වීම කියල ගත්තොත් අපි සර්වඥයන් වහන්සේට "සෙත් සිරි දෙන මහ ගුණ මුහුදුණන් - සත් හට වන භව දුකට වෙදුණන්" කියන භව දුකට වෙදකම, ඒකායන මාර්ගය තමයි මේකෙ පෙන්වන්නෙ.

නමුත් මේකට අපි සාමාන්‍ය නිදර්ශනයක් ගන්න පුළුවන්. කායික රෝග සඳහා වෛද්‍ය ක්‍රම දක්වන ආකල්ප ගැන බැලුවොත්, ලංකාව වගේ රටවල ඉන්න ඇත්තන්ට සම සම මට්ටමට බටහිර වෙදකමත් ආසියාකරයේ පවතින ආයුර්වේද වෙදකමත් බටහිර නොවෙන අනෙකුත් වෙදකම් ක්‍රම ගැනත් සෑහෙන අවබෝධයක් තියනව. මේ දෙකේ ප්‍රධාන ආකල්පමය වෙනස්කම් තියනව. ඒ මොනවද? බටහිර වෙදකම රෝග ලක්‍ෂණවලට වෙදකම් කරනව. වහාම ප්‍රතිඵල දෙනව. රෝග ලක්‍ෂණය හඳුනාගැනීම සඳහා නා නා ක්‍රම, ඒ වගේම උපකරණ රාශියක් තියනව. හරියටම රෝග ලක්‍ෂණය හඳුනාගෙන රෝග ලක්‍ෂණයට ප්‍රතිකර්ම කරනව. ඒ නිසා වහා ප්‍රතිඵල දෙනව. නමුත් ආයුර්වේද ක්‍රමය රෝගයට මූලයයි හොයන්නෙ. රෝග ලක්‍ෂණවලින් නතර වෙන්නෙ නැතුව ඒ රෝග ලක්‍ෂණ බොහෝ කොට හැදෑරීමෙන්; ඒ සඳහා වෛද්‍යවරයත් රෝගියත් දෙදෙනා අතර හොඳ කතාබහක් යන්න ඕනැ. සන්නිවේදනයක් යන්න ඕනැ. එතකොට රෝග මූලය හඳුනා ගන්න ටික කාලයක් යනව. ඒ රෝග මූලය හඳුනාගෙන වෙදකම් කළොත් බටහිර වෛද්‍ය ක්‍රමය වගේ අතුරු රෝග, අමතර රෝග මතු කරන්නෙ නැතුව කල් ගිහිල්ල හෝ යම් නිෂ්ටාවක් ලබන්න පුළුවන්.

මෑත කාලේදී, විශේෂයෙන්ම අපේ යුගයේ ඇති වුණ තාක්‍ෂණ සහ වෛද්‍ය විද්‍යාත්මක දියුණු ගති නිසා අපිට මේ හදිසි සුවය, හදිසි සහනය, සුඛය බොහෝම ලොකු කර පෙන්නන්න පටන්ගත්ත. ඒ නිසා අපි දේශීය ක්‍රමය ඉක්මවල බටහිර ක්‍රමවලට යන්න ගියා. ඒ මොකද, වහා ප්‍රතිඵල ලැබෙන ගතිය නිසා. දුක හැදෑරීමක් කරන්න ඕනෑ නෑ. දුකට හේතුව බැලීමක් අවශ්‍ය කරන්නෙ නෑ. වහාම එන දුකට වහාම ප්‍රතිකර්ම කරනව. වෙන විදිහකට කියනව නම් ප්‍රතික්‍රියාවෙන්. ඒකෙ සාර්ථකත්වයක් පේන්න පටන්ගත්ත.

පසුගිය අවුරුදු විස්සකට එහා වගේ කාලෙ මනුස්සයෝ විශේෂයෙන්ම බටහිර ක්‍රමය - වෛද්‍ය විද්‍යා ක්‍රමය විතරක් නෙවෙයි, විද්‍යාව, තාක්ෂණය, ආර්ථිකය වගේ බටහිරින් එන දේවල් - ගැන කතා කරපු දේවල් අද බටහිර විද්‍යාවත් බටහිර වෛද්‍ය ක්‍රමත් පසුබාන යුගයට එනකොට පුමාකාර හිස් ප්‍රලාප බවට පත් වෙලා තියනව. ඒ කාලෙ ඒ ඇත්තො හිතුවෙ "අපේ වෛද්‍ය ක්‍රමයත් හරි, විද්‍යා ක්‍රමයත් හරි, තාක්‍ෂණයත් හරි, ආර්ථිකයත් හරි" ඒ නිසා ලෝකෙටම බණ කියන්න පටන්ගත්ත. ඒක නිසා ආසියාකරයේ ඇත්තො තුන්වෙනි ලෝකෙ රටවල් හැටියට වැටුණෙ; ඒගොල්ලො දියුණු ලෝකෙ. ඒගොල්ලො කියාපු මතිමතාන්තර දිහා බලනකොට අපි අවුරුදු විස්සකට තිහකට ඉස්සර ඇත්තටම පරාජය පිළිගත්ත ස්වරූපයක් තිබුණෙ. නමුත් කවදක්වත් කවුරුත්වත් ඒ බටහිර වෛද්‍ය ක්‍රමය මේ දේශීය වෛද්‍ය ක්‍රමත් එක්ක ගළපල පර්යේෂණ කළේ නෑ. මොකද, එහෙම කළා නම් ඒකෙන් සිද්ධ වෙන්නෙ සත්‍යය මතු වෙන එකයි. ඒකට සල්ලි තිබුණෙ ඒගොල්ලො ගාව. ඒක දුන්නෙ නෑ.

නමුත් අද ඒගොල්ලොම හොයාගත්ත ක්‍රමය නිසා ඒගොල්ලො කීප ක්‍රමයකින් අමාරුවේ වැටිල තියනව. එතෙන්ට බලනකොට පේනව රෝගයට හදිස්සි වෙලා රෝග ලක්‍ෂණ නැති කරන මාර්ගයෙන් තමයි භයානක රෝග ඊට පස්සෙ මතු වෙන්නෙ. කයේ තියෙන්නා වූ පරිසරයට ඔරොත්තු දීමේ ශක්තියත් අර රෝග බීජ මැරෙනව වගේම බෙහෙතින් මැරෙනව. ඊට පස්සෙ ඔහුට මොනම දේකටවක්වත් මුහුණ දීගන්න බැරි, භයානක ඒඩ්ස් වගේ රෝග ඇති වෙනව. ඒක රසායනික තත්ත්වයක්. නමුත් දේශීය වෛද්‍ය

ක්‍රමය කෙරුවෙ ඒ රෝගය හොඳට හදුරල; රෝගය හොඳට මතු වෙනකල් ඉඳල හදුරල. ඒ කියන්නෙ ඒක හොඳටම පිළිගන්නව ලෝකය කියන එක ලෙඩක්, ඒකට කවදාකවත් බෙහෙත් හොයන්න බැහැ, අපිට අවශ්‍ය වෙලා තියෙන්නෙ අර දරාගන්න බැරි තත්ත්වය මගඇරින එකයි. නිෂ්ටාවක් ලබාගන්න නම් ඒ රෝග මූලය හොයාගන්න ඕනැ. ආන්න ඒ මූලය හොයාගෙන ඒකට වෙදකම් කෙරුවට පස්සෙ, ඒ පුද්ගලයට ඒ රෝගෙම පස්සෙ හැදෙන්නත් පුළුවන්. නමුත් ඒ රෝගය නිසා ඒ බෙහෙත් නිසා අමතර රෝග හැදෙන්නෙ නෑ. මේ නිසා සර්වඥයන් වහන්සෙ දුක්ඛ සත්‍යය පිළිබඳව මේ ඉදිරියෙන් තිබ්බ කාරණාව ඒත් එක්කම පෙන්නන සමුදය සත්‍යය, දුකට හේතුව සොයාගැනීමත් එක්ක තදබල සම්බන්ධකමක් තියනව.

ඒ නිසා දුක්ඛ සත්‍යය අවබෝධ කරගන්නව, හාත්පසින් දැකගන්නව කියන එක එතනදී වහාම දුක නැති කිරීමේ අදහසින් දුක අවබෝධ කරගන්න ගතියක්වත් දුකට කඩා පනින ගතියක්වත් දුකට ප්‍රතික්‍රියා කරන ගතියක්වත් නෙමෙයි. දුක මූලධර්මයක් වශයෙන්, සත්‍යයක් වශයෙන්, පරම සත්‍යයක් වශයෙන් අවබෝධ කරන්න නම් දුකත් දුකට වෙදකම් කිරීමත් අතරමැද ඉවසීම කියන චිත්තක්ෂණය තියෙන්න ඕනැ. විවේක බුද්ධියට ඉඩ තියෙන්න ඕනැ, එහෙම නැතුව එන එන දුකට බෙහෙත් දෙන්න ගත්තොත් ඒ වෙද බටහිර වෙදකමට තමයි වැටෙන්නෙ. දෙස් අහන්න වෙනව. ඒ පරම්පරාවෙදී නැති උනත් ඊළඟ පරම්පරාවෙදී හරි දෙස් අහන්න වෙනව.

එනිසා රෝග ලක්ෂණ දිහා බලල හාත්පසින්ම රෝග ලක්ෂණ ඉගෙනගන්න ඕනැ. එතකොට තමයි ඔහු ඒකෙ හේතුව, සමුදය කියන ධර්මයට යන්නෙ. ඒ නිසා මේ වෛද්‍ය ක්‍රමයේත්, බටහිර වෛද්‍ය ක්‍රමය කොහොම වෙතත් මේ දේශීය වෛද්‍ය ක්‍රමවල හැම වෙලාවෙම චතුරාර්ය සත්‍යය වගේ ආර්ය සත්‍යය නැති වුණාට සත්‍ය හතරක් තියනව. ඉස්සර වෙලා රෝගය දැනගන්න ඕනැ. ඊට පස්සේ රෝග නිධානය දැනගන්න ඕනැ. විශේෂයෙන්ම රෝගියාට තියෙන්නෙ රෝගය දැනගැනීම. ඒ වගේම රෝගය ඇති හැටියෙන් වෛද්‍යවරයාට කියා පෑම. වෛද්‍යවරයාට එතකොට තියනව ඒ රෝග නිධානය

සොයාගන්න. රෝගියාගෙත් රෝග ලක්‍ෂණවලත් උදව් උපකාර ඇතුව රෝග නිධානය තෝරගත්තට පස්සෙ තමයි එයින් නිරෝධයක්, ලෙඩ නිරෝධ කිරීමක් ගැන හිතන්න පුළුවන් වෙන්නෙ. ඊට පස්සෙ ඒක සඳහා මාර්ගය තියනව.

ඒ නිසා යෝගාවචරයා කියල කියන්නෙ දුක ආපු පමණින් දුකට ප්‍රතික්‍රියා කරන ඇත්තො නෙවෙයි. ඒ දුක හාත්පසින්ම තේරුම්ගත යුත්තක්. **දුක්ඛං පරිඤ්ඤෙය්‍යං**, හාත්පසින්ම තේරුම්ගත යුත්තක්. ඒ නිසා දුකට අපි අර ලෙඩ රෝග ලක්‍ෂණ ගත්ත වගේ යමක් කරනවා. අපි ඉස්සරහට විස්තර කරනව මොකක්ද මේ දුක කියන්නෙ කියල. ඒ වගේ දෙයක් මතු වෙච්චහම, "මෙන්න ඒක මතු වෙන හැටි, මේන්න ඒකෙන් දිගට පෙළන තවන හැටි, මෙන්න මේක අවසාන වෙනකොට ඒකෙ ඇතුළ පිට විස්තර දැක්වෙන හැටි". ඒ නිසා ඒ දුක මුල මැද අග කියන චිත්තක්‍ෂණ තුනම භාවනාවක් වශයෙන් තමන්ගේ ජීවිතය කැප කරල කරන ප්‍රතිපත්තිමය පූජාවක් වශයෙන් කරනව නම්, ආන්න ධර්මය ක්‍රියාත්මක වෙන්න පටන්ගන්නවා. බුදුහාමුදුරුවන් භව දුකට වෙදණන් කියපු විදිහට සමුදය සත්‍යය තේරුම් අරගන්න, බුද්ධ ඥනය යම් ආකාරයකට උන්වහන්සේ බොහෝ වීරියෙන් උත්සාහ කරල ගත්තද, ඒ වගේ යෝගාවචරයත් ටිකෙන් ටික ටිකෙන් ටික ඒ තමන් අත්දකින දුකට සාපේක්‍ෂකව අත්දකිනව. ඒ කියන්නෙ මෙතන තියෙන්නෙ ඒ දුක මුල මැද අග වශයෙන් හොඳට ඉවසීමෙන් බලා සිටීමෙන් ලැබෙන ආධ්‍යාත්මික ශක්තියෙන් පස්සෙ, බුද්ධාදී උත්තමයන් වහන්සේ සියල්ල දැකගෙන සියල්ල දැනගෙන දේශනා කරපු ඒකට හේතු ටික, ටික ටික ටික ටික තේරෙන්න පටන්ගැනීමයි.

ඉතින් ඒ නිසා අපි ඒ ආකාරයට දුකට කඩා පැනල, දුකට ප්‍රතික්‍රියා කරල දුකට අඬා වැලපෙන එක නෙමෙයි කරන්න තියෙන්නෙ, ඒ දුක ආර්‍ය සත්‍යයක් බවට පත් කරගන්න. ඒ දුකේ මුල මැද අග දැකල මමත් මේක දන්නා වෛද්‍ය විද්‍යාවට විශේෂඥ වූ වෛද්‍යවරයත් එකතු වෙලා "මේකෙ හේතු හොයාගන්න ඕනැ; මේ දුක නැති තැනක හේතු හොයල වැඩක් නෑ; දුක ගියාට පස්සෙ හොයල වැඩක් නෑ, දුක පවතිද්දිමයි හේතුව බොහොම ප්‍රකට; අන්න ඒක හොයාගන්න ඕනැ" කියන ආධ්‍යාත්මික කැප කිරීම, සම්‍යක්

දෘෂ්ටිය ඇති කරගත්ත නම්, ඔහුට ඒත් එක්කම තදංග වශයෙන් එතන එතන පුංචි පුංචි දුක්වල නිරෝධයත් නිරෝධ මාර්ගයත් පැදෙනව, ඒකට කියනව තදංග නිබ්බුතිය කියල. අන්න එහෙව් කෙනා තව ඉස්සරහට තියෙන්නා වූ, සාමාන්‍ය කෙනෙකුට දරාගන්න බැරි මට්ටමේ දුක් අත්දැකල ආධ්‍යාත්මික හොඳ අත්දැකීම් රාශියක් සහිත කෙනෙක් නම්, බොජ්ඣංග ධර්‍ම මතක් කරන පමණින්ම ලෙඩ සනීප වෙනව.

බොජ්ඣංග ධර්‍මවලින් කියන්නෙ චතුරාර්‍ය සත්‍යය අවබෝධ කරගැනීම සඳහා තමන් මීට ඉස්සර වෙලා කරපු අනන්ත උත්සාහ උපකාරවල ඇතුළෙ වැඩිච්ච හොඳ ගුණධර්‍ම රාශියක් තියනව. ඒ ගුණධර්‍ම මෙනෙහි කරනකොටම හිත සෞඛ්‍ය සම්පන්න වෙනව. හිත තේරුම් අරගන්නව මේ දුකට අඬා වැටෙන ගතිය හෝ දුකට ප්‍රතික්‍රියා කරන ගතිය කියන දෙකම ඥනයකට යොමු කරවන්නෙ නෑ. දෙකම අපිව පෙළනව. දෙකම අපිව කුප්පනය කරනව. ඒ නිසා මේ රෝග ලක්‍ෂණ පවතිද්දීම හිත මෙයින් වෙන් කරගෙන ඉන්න පුළුවන්, අනාත්ම ස්වභාවයකින් අනිත්‍ය ස්වභාවයෙන් දුක්ඛ ස්වභාවයෙන් අනාත්ම ස්වරූපයෙන් ඒ රෝග ලක්‍ෂණ දිහා බලන්න පුළුවන් ගතියක් තියනව. මේකට කියනව 'පරතෝ සංකල්පයකින්' කියල; ඒ රෝග වේදනා දුක් අනුන්ගේ දෙයක් බලන්නා සේ, ඒවට ආගන්තුක ස්වරූපයක් දීල බලන්න පුළුවන් ගතියක් එනව. ආන්න ඒ බලන්න පුළුවන් ගතිය එනකොට සම්පූර්ණ රෝගයෙන් කය පෙළෙද්දී හිත වෙන් කරගන්න පුළුවන්. පුංචි පුංචි එව්වට පුළුවන්. ආන්න ඒක ශක්තියක් වුණාට පස්සෙ ඒ යෝගාවචරයාට, ඒ රෝගී නැත්නම් ලෙඩ වෙලා ඉන්න යෝගාවචරයාට ධෛර්යක් වුණත් එන්න පුළුවන් මීට වැඩිය දුකක් ආවත් මට කරන්න තියෙන්නෙ මේකයි. ඉවසා දරාගන්න බැරි නම් අපි ඒකට ප්‍රතිකර්ම කළාට මේ දුක් එන්නෙ ලොකු පණිවුඩයක් කියන්නයි. චතුරාර්‍ය සත්‍යය අවබෝධ කරල දෙන්නයි. ඒ නිසා මේ දුකට මම මුහුණ දෙන්න ඕනැ. මීට වැඩිය බරපතළ දුකක් ආවත් ඒකට සාදර වෙන්න ඕනැ. සාදර වෙනවයි කියන්නෙ දුක බදගන්නව නෙමෙයි, දුකට ප්‍රතික්‍රියා කරනවත් නෙමෙයි. ඒ දුක එන්න හේතුව මොකක්ද කියල හොයනවා. අන්න එහෙව් කෙනාට

බොජ්ඣංග ධර්ම දේශනා කළත් දේශනා කරවාගත්තත් දෙකම හිත සුව කරනවා.

ඒ නිසා සතිපට්ඨානය කියල කියන්නෙ භව දුකට වෙදඇදුරන් කියන බුදුරජාණන් වහන්සේ දීපු අමෘතය වාගේ ගුලියක් තමයි. මේක බොජ්ඣංග ධර්ම පිළිබඳව සුතමය, චින්තාමය, භාවනාමය අත්දැකීම් නැති කෙනාට කනගාටුවෙන් නමුත් කියන්න වෙනව බෙහෙත් අවශ්‍යයි. සෞඛ්‍ය විධි අවශ්‍යයි. එව්වයින් යැපෙන්න වෙනව. ඒක කවදකවත් නිහීන තත්ත්වයක් හෝ පහත් තත්ත්වයක් නෙමෙයි. ඒ මොකද, වෙන කිසිම ආගමකට වඩා බුදුරජාණන් වහන්සේ විනය පිටකයේ භේසජ්ජක්ඛන්ධයක් දේශනා කරල තියනව. තාමත් එකම බෙහෙතක්වත් කාටක්වත් හොල්ලන්න වෙලා නැහැ. අනික ඔය බටහිර විද්‍යාවේ එන ඕනැම බෙහෙතක් තවත් දෙයකින් අලුත්වැඩියා වෙනව. මේක නම් කිසිම වෙලාවක වෙලා නෑ. ඒ තරමටම උතුම් භේසජ්ජක්ඛන්ධයක් දේශනා වෙලා තියනව. එයින් අදහස් කරන්නෙ තාම බොජ්ඣංග ධර්ම පිළිබඳව හෝ චතුරාර්‍ය සත්‍යය පිළිබඳව හෝ තමා ගැන තමන් විශ්වාසය ඇති වන මට්ටමට අභ්‍යන්තර ගුණ සන්තානය වැඩිල නැත්නම් ඒ පුද්ගලයා මත්තට හෝ එහෙම දෙයක් ඇති කරගන්න සෞඛ්‍ය සම්පන්න විය යුතුයි; අන්න ඒ සඳහා බෙහෙත් අවශ්‍යයි.

නමුත් හොඳට ඒ ගුණ හැදිච්ච වැඩිච්ච කෙනෙකුට බොජ්ඣංග ධර්ම මෙනෙහි කිරීම් පමණින් ඒ ලෙඩෙන් නැගිටින්න පුළුවන් ගතියක් තියනව. එනිසා දුක පිළිබඳව බලන දෘෂ්ටි කෝණය, බලන හැටි ඒ එක එක යෝගාවචරයාගේ භාවනා මට්ටම්වල හැටියට වෙනස් වෙනව. ඒ නිසා ආධුනිකයට විශේෂයෙන්ම සමථ භාවනාව ගැන කතා කරනකොට සප්පාය කරුණු කියල ජාතියක් උගන්වනවා, සැප කරුණු. ඒ කියන්නෙ දුක දෑවෙන ගොජ දමන උත්සන්න භාවයේ හිටියොත් ඔහුට ගැඹුරු ධර්මයක් අවබෝධ කරගන්න බැරි නිසා ඍතු සප්පාය, භෝජන සප්පාය, ගෝචර සප්පාය, ආවාස සප්පාය ආදී වශයෙන් හුඟාක් සැප කරුණු දීල තමයි ධර්මය තේරුම් කරන්නෙ. ධර්මය තේරුම් කරන්නෙ තව ඉස්සරහට තව සැප හොයල දෙන්නම්, සුඛෝපභෝගයක් දෙන්නම් කියන එක නෙවෙයි. මේ ලැබිච්ච පුංචි

ඉස්පාසුව තුළ චතුරාර්‍ය සත්‍යය අවබෝධ කිරීම් සඳහා හොඳ මානසිකත්වයක් ඇති කරගෙන මත්තට එන්නා වූ දුක්ඛ සත්‍යයට මුහුණ දෙන්න පුළුවන් ශක්තියක් ඇති කරගන්නයි.

ඉතින් ඒකෙදි ඇති වන අභ්‍යන්තර බාහිර බලපෑම් තියනව. "අපි ඒ එන දුකකට මුහුණ දෙන්න යනව නම් අපි බයාදු බැගෑපත් දුක්ඛිත ස්වභාවයකට නේද පත් වෙන්නෙ? එතකොට කොහොමද උත්තම ධර්‍මයක් අවබෝධ කරන්න වෙන්නෙ? ඒ නිසා අපි දුකෙන් තොර විය යුතුයි නේද?" කියල ඕනෑ කෙනෙකුට හිතන්න පුළුවන්. නමුත් සර්වඥයන් වහන්සේගේ අවසාන භවයේ උන්වහන්සේට සක්විති රජකම ලබන්න තරම් වාසනාව තියෙද්දිත් ඒ සියලුම ඒ සැප ඉසුරු සම්පත් අතහැරල උන්වහන්සේ ගිහිල්ල, ඊට වෙනස් විදිහකට කියනව නම් හයඅවුරුද්දක් දුෂ්කර වත කරල හමාර වෙලයි මේ දේශනා කරන්නෙ. එහෙම නැත්නම් කියන්න තිබුණා රජසැප විඳල කියන කතාවක්ය කියල, නැත්නම් දුප්පත් කුලයක ඉපදිලා දුක්ඛ සත්‍යය වින්ද නම් කියන්න පුළුවන් ඒ නැති බැරිකමට කියන කතාවක් කියල. නමුත් මේ දේශනාව, චතුරාර්‍ය සත්‍ය දේශනාව හෝ වෛද්‍ය, ලෙඩ පිළිබඳ කියන කතාව එහෙම එක පැත්තකට බර වෙච්ච එකක් නෙමෙයි.

ඒක නිසා උපනිසා සූත්‍රය ආදී සූත්‍රවල දුක්ඛ සත්‍යයේ තියෙන්නා වූ ප්‍රයෝජන ගත හැකි ශක්තිය, දුක්ඛ සත්‍යය දුක්ඛ ආර්‍ය සත්‍යයක් බවට පත් කරගැනීමට ඇති හැකියාව, බොහොම කැපී පේන විදිහට විස්තර කරනවා. මේ ලෝකේ ඕනෑම ආගමික ධාර්මික ජීවිතයකට පත් වෙන්න ශ්‍රද්ධාව ඉතා අවශ්‍යයි. ශ්‍රද්ධාවට ආසන්න කාරණාව දුක. දුකට පත් වුණාට පස්සෙ තමයි එක්කො දෙයියන් අදහන කෙනා දෙයියො අදහන්නෙ. එහෙම නැත්නම් බුදුන් අදහන කෙනා බුදුන් අදහන්නෙ. ඒක නිසා දුකේ තියනව පුදුමාකාරව ඒ අවබෝධය. මේ කියන විදිහෙ මායාකාරී ගතිය අයින් කරල දුකේ තියෙන ප්‍රයෝජන ගත හැකි ශක්තිය, ප්‍රයෝජන ගත හැකි වර්ගය තේරුම්ගැනීම චතුරාර්‍ය සත්‍ය දේශනාවේදී මුලින්ම තිබීම අවශ්‍යයි.

නමුත් ඒ දුක විස්තර වෙන, ඒ රෝග ලක්‍ෂණත් එක්ක ගැටීමත් මෝඩකමක්. එද අස්සජි මහා ස්වාමීන් වහන්සේ දැකපු ඒ පරිබ්‍රාජකයට

අස්සජි ස්වාමීන් වහන්සේ කිව්වෙ මේ ප්‍රශ්නය. මේ සත්‍යය. **යෙ ධම්මා හෙතුප්පභවා - තෙසං හෙතුං තථාගතො ආහ** ඇවැත්නි, යම් ධර්මයක් හේතු ප්‍රත්‍යයෙන් පැනනැග්ගා නම් සර්වඥයන් වහන්සේ අන්න ඒ හේතු ප්‍රත්‍ය ප්‍රකාශ කරනව. යම් දුකක් හේතුවකින් පැනනැග්ග නම් උන්වහන්සේ ඒ දුක ගැන අවබෝධය තුළින් හිත යොමු කරවන්නෙ ඒ දුකේ හේතුවටයි: සමුදය සත්‍යයටයි. මේක කියනකොටම සෝවාන් වුණා. මේක කියනකොටම **යං කිඤ්චි සමුදය ධම්මං සබ්බං තං නිරොධ ධම්මං** යම් තාක් ලෝකේ ඇති වෙන තාක් ධර්ම තියනව නම් ඒව ඔක්කෝම නිරෝධ වෙනසුලුයි කියල උපතිස්ස පරිබ්‍රාජකයාට තේරුණා. ඒ වැටහිල්ල, ඒ දර්ශනය තමයි යෝග ජීවිතය පුරාම තියෙන්නෙ. ඒ නිසාමදෝ **ඛන්ති පරමං තපො තිතික්ඛා** කියල අන්තිම පරම තපස කියල කියන්නෙ ඉවසිලිවන්තකම. මොකක්ද ඉවසන්නෙ? මේ දුක ඉවසන්නෙ. මොකටද? බයටවත් පස්සට වෙලා ඉඳල ආයෙ ගහන්නවත් නෙවෙයි, දුකේ හේතුව දකගන්න තරමට දුකේ ඉන්දැද්දීම විවේක බුද්ධිය පහළ විය යුතුයි. එහෙම නැත්නම් ඒ විවේක බුද්ධිය පහළ කරගත්තා වූ උත්තමයන් වහන්සේලා කියන තාලෙ වටහාගත යුතුයි. මේකයි දුක්ඛ සත්‍යය අවබෝධ කිරීමේ තියෙන්නෙ.

ඒ නිසා පටිසම්භිද මාර්ගයේ ඒ සත්‍යය දේශනා කරන තැන උන්වහන්සේ සඳහන් කරනව චතුරාර්‍ය සත්‍යයටම ගැළපෙන කාරණා තුනක්. ඒ චතුරාර්‍ය සත්‍යය කියන සත්‍ය හතරටම **තථ, අවිතථ, අනඤ්ඤථ** කියල කරුණු 3 ක් පෙන්නනව. මේ මං කියන්නා වූ මේ සත්‍ය හතර **තථයි** - සත්‍යයි. ඒකෙ බොරුවක් නෑ. ඒකාන්තයි. **අවිතථයි** - ඒක විතථ වෙන්නෙ නෑ. තථ භාවයෙන් වෙනස් බවට පත් වීමක් කවදකවත් නෑ. **අනඤ්ඤථයි** - අන්‍ය භාවයකට පත් වෙන්නෙත් නෑ වෙනස් බවට පත් වෙන්නෙත් නෑ. විපරිණාම වෙන්නෙත් නෑ. දුක්ඛ සත්‍යය කිව්වොත් ඒක එහෙම්මමයි. ඒක සර්වඥ දේශනාවක්. සම්‍යක් දෘෂ්ටික බෞද්ධයකුට, නැත්නම් රහතන් වහන්සේට පමණක් නෙවෙයි, ඕනැම කෙනෙකුට ඒකට විරුද්ධව කතා කරන්න දෙයක් නෑ. අවිතථයි - තථ භාවයෙන් අන්‍ය භාවයට, විපරිණාම භාවයකට කවදකවත් යන්නෙ නෑ. අනඤ්ඤථයි - අන්‍ය භාවයකට යන්නෙ නෑ.

මෙන්න මේ තුනට - චතුරායර්‍ය සත්‍යය කියන සත්‍ය හතරටම තථ, අවිතථ, අනඤ්ඤථ කියන භාවයට පත් කරගෙන උන්වහන්සේ එයින් ආයෙත් දුක්ඛ සත්‍යයට ආලෝකයක් අරන් දෙනව, දුක්ඛ සත්‍යය කොහොමද තථ, අවිතථ, අනඤ්ඤථ වෙන්නෙ? එතනදී කියනව දුකෙහි ඇත්තා වූ පෙළන බව, දුක්ඛ සත්‍යයෙහි තියෙන්නා වූ **පීළනට්ඨො** - පෙළන ස්වරූපයක් තියනව, ඒක ඇත්තක්. අවිතථයි - ඒකෙන් වෙනස් දෙයක් බවට විපරිණාමය වීමක් වෙන්නෙම නෑ, පෙළනව, පෙළනව, පෙළනව මයි. අනඤ්ඤථයි - අන්‍ය බවට පත් වීමක් නෑ. ඒ වාගේම **සංඛතට්ඨො**, දුක හැදිල තියෙන්නෙ කාරණා රාශියක් එකතු වෙලා. සංඛතයක්, ආයූහනයක්. ඒක එහෙම නෙවෙයි, වෙනයි කියල කියන්න පුළුවන් තත්ත්වයක් ඇත්තෙ නෑ, අන්‍ය භාවයක් ඇත්තෙ නෑ. **විතථ, අවිතථ, අනඤ්ඤථ**. ඒ වාගේම **සන්තාපනට්ඨො**, මේක තවනසුලුයි. දුකට පත් වෙච්චි කෙනා ඒකෙන් තැවෙනසුලුයි. ආන්න ඒ තැවෙනසුලු බව ඇත්තක්. සත්‍ය භාවයක්. ඒක විතථයකට යන්නෙ නෑ, අන්‍ය භාවයකට පත් වෙන්නෙ නෑ. ඒ වාගේම **විපරිණාමට්ඨො**. ඒක විපරිණාමයට පත් වෙනව. දුකට තිබුණොත් සැපට හැරෙනව. සැපට තිබුණොත් දුකට හැරෙනව. අදුක්ඛමසුඛ තත්ත්වයට පත් වෙනව. වෙනස් වෙනස් දේවල්වලට පත් වෙනව.

මෙන්න මේ ලකුණු හතර නිසා දුක්ඛ සත්‍යය සත්‍යයමයි. ඒක වෙනස් විපරීතයකට යන්නෙම නෑ, අන්‍ය භාවයකට යන්නෙ නෑ. ඒක නිසා දුක කියන එක පෙන්නනකම කියන එකට වාද නෑ. ඒ කියන්නෙ අපි වුණත් දුක කියල තේරුම්ගන්නෙ පෙළනසුලු ගතියට. නමුත් දුකේ පෙළනසුලු බව සදතනික සත්‍යයක්. දුකේ පෙළනසුලු බව ආයර්‍ය සත්‍යයක් කියල ඒ පෙළනසුලු බවට අවදි වුණොත් ඒ පුද්ගලයා එතනම බුදු වෙනව. පතින්න හදන්න එපා. පතින්න හැදුවොත් එතකොට අපි ඒ සදතනික සත්‍යය ප්‍රතික්ෂේප කෙරුව වෙනව. ප්‍රතිපදවෙන් වැටෙනව. ඒ නිසා දුකේ ඇත්තා වූ පෙළනසුලු ගතිය දුක නැති වෙලාවෙදි කවදකවත් අවබෝධ කරගන්න ප්‍රත්‍යක්ෂයක් එන්නෙ නෑ. ඒ විතරක් නෙවෙයි දුක ආවට පස්සෙ දුක කියන්නෙ ඒකාන්තයෙන් පෙළනසුලු බවක් කියල කලින් අහල නොතිබුණා නම් ඕනැම කෙනෙක් දුකෙන් පැනල යනව. ඒ මනුස්සයාගේ, සත්‍වාගේ තියෙන සහජයක්, සහජාසයක්.

අන්න ඒ සහජාසය කලින් කඩල තියෙන්න ඕනෑ. කඩල තියෙන්නෙ කොහොමද? ධර්ම සාකච්ඡාවලින්, බණ අහල, ධර්ම පොත් පත් බලල, සර්වඥයන් වහන්සෙ ඇත්තො වගේ උත්තමයන් වහන්සේ ආශ්‍රය කරල මේව කලින් හිතට කවල තියෙන්න ඕනෑ, දුක ළඟට එනකොට විශාල ආර්ය සත්‍යයකටයි අපිට දොර ඇරෙන්නෙ කියල. මේක එනකොට පෙළනසුලු ගතියක් තියනවා. මේ පෙළනසුලු ගතිය සදාතනික ධර්මයක්. සත්‍ය ධර්මයක්, ආර්ය ධර්මයක්. මේක කවදාකවත් ගහක වැලක හැදෙන්නෙ නෑ. අවබෝධ කරන්නත් බෑ. ඒක ඊයේ වුණාට වැඩකුත් නෑ. හෙට වෙලා වැඩකුත් නෑ. ඒක අල්ලපු ගෙදර කෙනාට වෙලත් වැඩක් නෑ. තමන්ට වර්තමාන මොහොතේදීම පැමිණිච්ච වෙලාවෙදී, මේන්න මේකෙ පෙළනසුලු ගතිය එනකොට හොඳට තේරෙනව ඒක සත්‍යයක්. අම්ම අප්ප කියල දීපු දෙයකුත් නෙමෙයි. ගුරුවරයා කියපු නිසා පිළිගන්න දෙයකුත් නෙමෙයි. වෙන සමීකරණයක සූත්‍රයක මාර්ගයකින් ලබපු දෙයකුත් නෙමෙයි. ශ්‍රද්ධාවෙන් බාරගන්න දෙයකුත් නෙමෙයි. තර්කයෙන් බැසගන්න දෙයකුත් නෙමෙයි දුකේ පෙළනසුලු ගතිය. ඒ පෙළනසුලු ගතිය තියෙන්නෙ පරම සත්‍යයෙයි. දුක කියල කියන්නෙ නම් දුකක්. නමුත් දුක, දුක බව දැනගන්න එක, යථාභූතව දැනගැනීම සැපක්. ඒ නිසා බුදුරජාණන් වහන්සේ අපට කිසි දෙයක් අලුතින් දීල නෑ. උන්වහන්සේ දීල තියෙන්නෙ උඹල ළඟම, නැත්නම් මේ පංචස්කන්ධයක් සහිතව පංචවෝකාර භවයක ඉපදුණු මේ සම්‍යක් දෘෂ්ටික මනුෂ්‍යයාට මේ දේ පිළිබඳව වෙනත් දෘෂ්ටි කෝණයකින් බලන විදිහ. ඒකටයි සම්‍යක් දෘෂ්ටිය කියල කියන්නෙ, වෙනත් දෘෂ්ටියක් නෙමෙයි.

ඒ නිසා දුකමයි ශ්‍රද්ධාව ඇති කරගත යුතු ධර්මය. දුකමයි වීරිය කළ යුතු ධර්මය. දුකමයි සතිමත් විය යුතු ධර්මය. ඒකෙමයි සමාධිය තියෙන්නෙ. ඒකෙමයි ප්‍රඥාව තියෙන්නෙ. ඉතින් ඒකට කලින් තමයි බොජ්ඣංග ධර්ම අවබෝධ කරල දීල තියෙන්නෙ. ඒක පෙන්නනව සතියෙ ඉඳලා උපේක්ෂාව දක්වා යන වැඩ පිළිවෙළට එන්න කොච්චර හිතේ විප්ලවයක්, හිතේ පරිණාමයක් තිබිය යුතුද? ඒ කොච්චර පරිණාමය වුණත් මේක චිත්තක්ෂණයක වැඩක්. දුක පිළිබඳව අවශ්‍ය නම් හිස අත බැඳගෙන ශෝක පරිදේව දුක්ඛ දෝමනස්ස වශයෙන් අඬඅඬා කොච්චරදෝ ගත කරන්න පුළුවන්. කවුද එන්නෙ අපිත්

එක්ක හද බෙදාගන්න. තවත් මෝඩයෙක් එයි. සර්වඥයන් වහන්සේ වගේ දන්න කෙනෙක් එන්නෙ නෑ.

සර්වඥයන් වහන්සේ කියන්නෙ ඕක ආවට පස්සෙ ඉස අත බැඳගෙන අඬන එකේ ඇති අවශ්‍යතාවක් නෑ. ඕක තමයි අපි සංසාරේ පුරාම කළේ. ඒ නිසා ඉස අත බැඳගෙන අඬන තරම් නැති වෙලාවක මේ බණ අහල, ඒවා පිළිබඳව එකක් එකක් එක්ක ගළපල, තර්ක ඥාන ඇති කරගෙන පුංචි පුංචි දුක්වලදී "පෙළනසුලු ගතිය මේකෙ තියනවා" කියල ඒ දේ දකගන්නාසුලු විදිහට දුකට එළඹ සිට වාසය කරනව. ඒ දුක එනකොට වීර්‍යයෙන් දුකම මෙනෙහි කරන ගතිය එනවා. මේ තුළම ශ්‍රද්ධාව ඇති කරගන්න. මෙතන තමයි බුදුන් ඉන්නෙ, මෙතන තමයි ධර්මය තියෙන්නෙ, මේක තමයි සංඝයා කියන්නෙ. මේක පන්නල, බටහිර වෛද්‍ය ක්‍රමය වගේ රෝග ලක්ෂණය පන්නල, නැත්නම් රෝග ලක්ෂණ යටපත් කරල, එහෙම වෙන්නත් ඉඩ තියනව. නමුත් ඒක හැමදාම සදාතනික ධර්මයක් වෙන්නෙ නෑ.

මෙහෙම ඒ දුකේ තියෙන්නා වූ පෙළනසුලු ගතිය බලනකොට ඒකට කියන්නෙ පීළනය කියල - **පීළනට්ඨො**, ඒක සංඛතයක්. දුක පෙළනසුලු ගතියක් කියන ඥානය ඇතිව දුක දිහා බලනකොට නම් ඒක සැපක් වශයෙන් හිතන්නත් පුළුවන්. නමුත් ඒ ඥානය නැතිව අවිද්‍යාව තියනකොට දුක දුකක්මයි. දුක ගොජදනව. ආසන්නයි. උත්සන්නයි. ඒ මොකද, ඔහුට තියෙන්නෙ තද නිත්‍ය සුඛ සුභ සංඥවක්. මිථ්‍යා දෘෂ්ටික සංඥවක්. ඒ නිසා දුක නැති කිරීමයි මගේ ආත්මයේ ගතිය කියල ඒකත් එක්ක රණ්ඩු කරන්න කරන්න කරන්න දුක වැඩි වෙනව.

නමුත් දුකට මුහුණ දෙන ගතිය එනකොට ඒ දුකට මුහුණ දීම ඥානයක් කියන අදහස හිතේ තියනකොට දුකේ සංකලනය, දුකේ තත්ත්වය වෙනස් වෙනව. අනිත් එක, තමන්ට තේරෙන්න පටන් අරගන්නව ඒ දුකට හේතුව ඒ කලින් හෝ මේ මොහොතේදී හෝ ඇති වුණා වූ තෘෂ්ණාවක් බව. ඒකට කවුරුත් එක්කවත් රණ්ඩු කරල හෝ අඬල හෝ යාඥා කරල කරන්න දෙයක් නෑ. ඒක ගෙවා දන්න පුළුවන්, ගෙව්වට මොනවක්වත් වෙන්නෙ නෑ. ඇඬුවත් ගෙවන්න වෙනව, නැතත් ගෙවන්න වෙනව. මද්දුම බණ්ඩා කරපු දේ කෙරුවත්

ලොකු බණ්ඩා කරපු දේ කෙරුවත් දෙන්නම මැරෙනව. ඒත් මද්දුම බණ්ඩාර අපි වීරයෙක් වශයෙන් සලකනව. ඒ මොකද? "මැරෙන හැටි මම පෙන්වන්නම්, ඕන්න මැරෙන හැටි" ඉවරයි.

අන්න ඒ වගේ ඒ වීර්‍ය්‍ය ශක්තිය ඇති වෙනව නම්, මේ දුකේ - දුක රැස් කිරීමට හේතු වන සංකලනය මේ කරුණු රාශියක් නිසායි ඇති වෙන්නෙ. එකම විදිහෙ පීඩන දෙකක් දෙන්නෙකුට දුන්නට දෙන්න විඳින්නෙ වෙන වෙන තාලෙට; ඒ එක එක්කෙනා ඒ පීඩනය විෂයෙහි දක්වන ආකල්ප මත. ඒක නිසා ඒක සංඛතයි, ආයූහනයි, තමා විසින්ම හදගනයි වළඳන්නෙ. ඇදගෙන නානව. අනාගෙන කනව. ඒකට අවිද්‍යාව වැඩි වෙන්න වැඩි වෙන්න, තෘෂ්ණාව වැඩි වෙන්න වැඩි වෙන්න එක තැන කරකැවෙන්න පටන්ගන්නව. ඒවා අඩු වෙන්න අඩු වෙන්න දීර්ඝ චක්‍ර වශයෙන් තේරෙන්න පටන් අරගන්නව. ඉස්සර වගේ නෙමෙයි දුක එනකොට ඉවසීමේ ශක්තියේ මාර්ගයෙන් ත්‍රිශික්ෂාව මාර්ගයෙන් දුක පිළිබඳව පෙර නොඇසූ නොවිරූ තාලෙට වැටහෙන්න පටන්ගන්නව.

**පුබ්බෙ අනනුස්සුතෙසු ධම්මෙසු** - මේ කවුරුත් කියපු එකක් නෙමෙයි. මෙතන බුදුරජාණන් වහන්සේ දේශනා කරල තියනව, දුක පිළිබඳව සාදර වෙන්න. දුක ගැන බලන්න. එතකොට ඕකට තර්කයට අහු වෙච්ච නැති ආකාරයේ ප්‍රත්‍යක්ෂයක් ලැබෙනව. ඒක අනනුස්සුතයි. වචනයට නගන්න බෑ. **අනනුස්සුතෙසු ධම්මෙසු - චක්ඛුං උදපාදි**, ඇහැට පේන්නා වගේ පේනවා. **ඤාණං උදපාදි**, හිතට වැටහෙන්නා වගේ වැටහෙනව. **පඤ්ඤා උදපාදි, විජ්ජා උදපාදි, ආලොකො උදපාදි**. ඒ පුංචි පුංචි සංඛත ස්වභාවය, දුක කියන්නෙ හදගත්ත දෙයක්, ඒ පුංචි දේවල්වල මේ විදිහට වැටහෙනකොට කෘත්‍ය ඥානය වැටහෙනව. මට මේක සියලු දුක් සඳහා අත්දකින්න පුළුවන්. ඒකෙන් කොටසක් මම මේ ජාත්‍යන්තර කොම්පැනියකට බාරදෙන්නම්, නැත්නම් කොටසක් මම සර්වබලධාරී දෙවියන් වහන්සේට බාරදෙන්නම්, නැත්නම් කොටසක් මම මගේ ජම්මන්තර වෛරක්කාරයට බාරදෙන්නම්; කවුරුවක්වත් හරි යන්නෙ නෑ. මේ සේරම දුක්මයි. ඒත් ඇති වෙන නැති වෙන දේවල්, ඒ සේරම දුක්.

ඒ නිසා මේ පුංචි දෙයක් මම අද පටන්ගත්ත. දරාගන්න පුළුවන් වුණා. තව විනාඩි දෙකතුනක් හරි එක විදිහකට වාඩි වෙලා ඉන්න පුළුවන්කමක් ලැබුව, අරමුණේ ගොඩ වෙලාවක් ඉන්න පුළුවන්කමක් ලැබුව. ඒ වෙනකොට තමන්ට එපාකම, කම්මැලිකම, බය, සංකාව, කාංසාව ඇති වුණා. ඒ සේරම දිහා මෙනෙහි කරමින් මූණට මූණ දල බලාගන ඉන්නකොට තේරෙන්න පටන් අරගන්නව මට මේ පටන්ගත්ත ක්‍රමයට හාත්පසම, උදේ ඉඳල හැන්දෑ වෙනකල් පර්යංකයක් පාසා, සක්මනක් පාසා, දවසක් දවසක් කරන වැඩක් පාසා මේ දුක පැතිරෙන්න ඕනෑ. එතකොට තේරෙනව **දුක්ඛං අරියසච්චං පරිඤ්ඤෙය්‍යන්ති මෙ භික්ඛවෙ, පුබ්බෙ අනනුස්සුතෙසු ධම්මෙසු** කවුරුත් කියල තිබුණෙ නෑ. නමුත් මට හිතුණා මේක නම් හාත්පසින්ම මම තේරුම්ගත යුතුයි කියල, නාහපු ධර්‍මයක් මට වැටහුණා කියල. ඒකට කියනව කෘත්‍ය ඥනය කියල. සත්‍ය ඥනය තමයි, මේ දුක පිළිබඳව සාදර බව. දුකම සත්‍යයක් බවට පත් කරගැනීමේ ඥනයක් අවශ්‍යයි.

ඊගාවට ඒ පුංචියෙන් පටන්ගත්ත එක හාත්පසින්ම ඉවර කිරීමේ ඥනයක් අවශ්‍යයි. ඊට පස්සෙ ඥනය පහළ වෙනව කොයි මොහොතක හරි **පරිඤ්ඤාතන්ති මෙ භික්ඛවෙ, පුබ්බෙ අනනුස්සුතෙසු ධම්මෙසු** - මම නම් හීනෙකින්වත් හිතුවෙ නෑ මේ දුක මැරෙන්න කලින් මේ විදිහට ඉවර කරගන්න පුළුවන් වෙයි කියල. නමුත් මම ඉවර කළා. පැමිණෙන්න පුළුවන් පුංචි දුක්වලින් පටන් අරගෙන අවසාන මරණ දුක දක්වා ඒ සේරම මම අත්දැක්ක. අත්දැකල මම දැන් නොමැරී වර්තමාන මොහොතෙ ජීවත් වෙනව. මේක පෙර නෑසූ ධර්‍මයක්. මෙන්න මේ විදිහට දුක්ඛ සත්‍යය පිළිබඳ සත්‍ය ඥනය, කෘත්‍ය ඥනය, කෘත ඥනය පහළ වෙන්න නම්, දුක පිළිබඳව, දුක නැවත චක්‍රීකරණය කරල, දුකම පොහොරක් බවට පත් කරගැනීමේ ශක්තිය අප තුළ ඇති විය යුතුයි.

මෙන්න මේකයි දුකට ප්‍රතිකර්ම හොයන සාමාන්‍ය පෘථග්ජනයාත් දුකම තුළින් දුකට උත්තරය හොයන යෝගාවචරයාත් අතර වෙනස. ඒක නිසා දුකේ සංඛත භාවය, මේක හදගත්ත දෙයක් බව, වවාගෙන කන දෙයක් බව, තේරුම් අරගන්න එක හිතට ලොකු

හාස්‍යයක් ඇති කරනව. අපි මේ අනුන්ට දෙස් කිව්වට, අනාගතයට දෙස් කිව්වට, අතීතයට දෙස් කිව්වට සෑහෙන ප්‍රදේශයක් මම වග කිව යුතුයි. බුදුරජාණන් වහන්සේ අන්න ඒ වගේ පූර්ණ මනුෂ්‍යත්වයක් අපට අතට දීල තියෙන්නෙ. දුක පිළිබඳව අවබෝධයට බහිනකොටම සර්වඥයන් වහන්සේගෙ තියෙන පූර්ණත්වයත් උන්වහන්සේ අපට දීල තියන පූර්ණත්වයත් නිදහසත් බොහොම පැහැදිලි වෙනවා. මේක සංඛතයක්. **පීළනට්ඨො.** ඊගාවට **සන්තාපනට්ඨො**, මේක තවනවමයි.

ඒක නිසා කාටවක්වත් මේක බූදලය වශයෙන්, දෙමව්පියන් විසින් දරුවන්ට දෙන බූදලයක් වශයෙන්, දෑවැද්දක් වශයෙන් ඇවිල්ල දෙන දෙයක් නෑ. ඒ මොකද, මේකෙ තියෙන්නෙ පුංචි දුක් පිළිබඳව අවබෝධ කරනකොට පුංචි තැවීමක් තියෙනවා. විශාල දුක් පිළිබඳව අවබෝධ කරනකොට විශාල තැවීමක් තියෙනවා. නමුත් ඒ තැවුණට ඒ තැවෙන ගතිය හාත්පසින් අවබෝධ කරන්න පුළුවන්. මැරිල යන්නෙ නෑ. පුපුරන්නෙ නෑ. නහින්නෙ නෑ. අංශභාග හැදෙන්නෙ නෑ. කොර වෙන්නෙ නෑ; වුණත් සැපයි. මොකද අපි මේ ඒකායන මාර්ගයක වැඩ කරන්නෙ. ඒ නිසා මේකේ තියෙන්නෙ තවනසුලු භාවය. ඒ සන්තාපනට්ඨ භාවය මුලින්ම තේරුම්ගන්න ඕනැ. ඒක මුලින්ම තේරුම්ගන්න තමයි අපි බණ අහන්නෙ. ඒ වගේම තමයි ඒක තුළින් අපිට නිවනක් ලබාගන්න පුළුවන්ද කියල කල්පනා කිරීම තමයි අන්වය ඥාන, තර්ක ඥාන, චින්තාමය ඥාන කියන්නෙ. ඊට පස්සෙ ටිකෙන් ටික ටිකෙන් ටික තවන ස්වරූපය වැඩි වෙනකොට "ඒත් මේක ඉවසන්න පුළුවන් මට. මීට මත්තට මීටත් වැඩියෙ තැවීමකට මම මුහුණදෙන්න ඕනෑ" කියල බලාපොරොත්තු වෙනව නම්, මාරයටවත් අල්ලන්න බෑ. බ්‍රහ්මයාට කරන්න දෙයකුත් නෑ. සර්වබලධාරී දෙවියන්ට කරන්න දෙයකුත් නෑ. නොකරනව නම්, ඒ පුද්ගලයට බුදුහාමුදුරුවන්ට කරන්න දෙයකුත් නෑ.

එනිසා මේක සතිපට්ඨානයට ලා දේශනා කළ යුතුමයි. මේ දුකේ පවතින්නෙ තථ භාවය, විතථ භාවය, අනඤ්ඤථ භාවය කියන එක පීළනට්ඨ කියන අදහසෙත් පෙළනසුලු භාවයේත් දෙකක් නෑ. වෙනසක් නෑ. අන්‍ය භාවයක් නෑ. මේක හදගත්ත, ආයූහනය කරපු එකක් බවට දෙකක් නෑ. සත්‍යයක්. වෙනස් වන භාවයක් නෑ. අන්‍ය

භාවයක් නෑ. ඒකෙ තවනසුලු භාවයත් තථයි, විතථයි, අනඤ්ඤථයි. අවසානෙදි තියනව විපරිණාමයි. සැප වේදනාවක් නම් අනිවාර්යයෙන්ම ඒක මතු වෙනකොට හොඳයි. නැති වෙනකොට දුකයි. දුක්ඛ වේදනාවක් නම් මතු වෙනකොට දුකයි. නැති වෙනකොට සැපයි. අදුක්ඛමසුඛ වේදනාවක් නම් දැනගැනීම සුඛයි. ඒක නොදැන සිටීම, අවිද්‍යාව දුකයි. ඒක නිතරෝම වෙනස් වනසුලු තත්ත්‍වයක්. කායානුපස්සනාවට ගන්න රූප ධර්මවලට වඩා මේ නාම ධර්ම ශීඝ්‍රයෙන් වෙනස් වෙනසුලුයි. නමුත් සංඥාව - දුක පිළිබඳව අපේ භය බොහෝ කල් පවතිනවා. ඒක කෙලෙස් ස්වභාවයක්. මේ දුක ඇති කරන මූල හේතුව නම් ශීඝ්‍රයෙන් වෙනස් වනසුලුයි.

ඒ නිසා පර්යංකයේදී නටන්න වුණාට, අඬන්න වුණාට, වෙව්ලන්න වුණාට, දඩිය දන්න වුණාට, යම් කිසි කෙනෙක් හිතනව නම් එහෙම නොවී ගල් පිළිමයක් වගේ ඉඳල භාවනා කරන්න, ඒක මනඃකල්පිතයක් විතරයි. අනිවාර්යයෙන් පර්යංකයකදී සක්මනකදී එදිනෙද වැඩවලදී මරණ දුක හෝ සමාන දුකක් විඳින්න වෙනව. හැබැයි යෝගාවචරයා ඒක විඳින්නෙ අර මද්දුමබණ්ඩා වින්ද වගේ, "බොහොම සැපක්. හොඳයි මම වෙන කාලෙක නම් වුණේ ඕක, මට ලෙඩ වෙලා, වයසට ගිහිල්ල, මරණ අවස්ථාවේ! මම දැන් හොඳ තරුණ යොබ්බනය තියන වෙලාවේදී ඒ පැමිණෙන දුකට ක්‍රමක්‍රමයෙන් ක්‍රමක්‍රමයෙන් මුහුණ දීල මේක අත්දකිනව."

ආන්න ඒ පුද්ගලයට පුළුවන් ලෞකික තත්ත්‍වය ඉක්මවල ලෝකෝත්තර තත්ත්‍වයට යන්න. ඒකෙදි තමයි අපි කාම ලෝක ඉක්මවල රූප ලෝකවලට යනකොට ලොකු ශක්තියක් එතන ඇති වෙන්නෙ. නිරාමිස සුඛයක් ඇති වෙන්නෙ. ඊට පස්සෙ රූප ලෝක ඉක්මවල අරූප ලෝකවලට යනකොට ඒත් ශක්තියක් ඇති වෙනව. එතෙන්ට යනකල්ම සම්බුදුරජාණන් වහන්සේ පහළ වෙන්න ඉස්සර වෙලා ඒ තත්ත්‍වය තේරුම් අරන් තිබුණා ලෝකෙ. පස්සෙ උන්වහන්සේ දේශනා කළා ඒ අරූප තත්ත්‍වයත් ඉක්මවල, ඒ තියෙන්නෙත් දුකක්. ඒකෙ ගන්න දෙයක් නෑ. ඒකත් අයින් කරන්න ඕනෑ. ඒකත් අයින් කරන්න නම් අරූප තත්ත්‍වය ඉක්මවල ඒ එන තත්ත්‍වයටත් "මේක තාමත් පෙළනවමයි, මේක තාමත් සංඛතයක්මයි,

මේක තාමත් තවනවමයි, මේක තාමත් වෙනස් වෙන තත්ත්‍වයකට පත් වෙන්න පුළුවන්. සදතනික නෑ." ආන්න ඒ විදිහට දුක පිළිබඳව එන්න එන්න එන්න එන්න ඉහළ මට්ටමට යනකොට හැබැයි මේක කියාගන්න බැරි තත්ත්‍වයකට පත් වෙනව. ඒ මොකද, බටහිර වෛද්‍ය විද්‍යාවයි ආයුර්වේද වෛද්‍ය විද්‍යාවයි ගත්තහම සසර පුරාම ආයුර්වේද වෛද්‍ය විද්‍යාව කෙරුවෙ තමන් කරන්න තියන දේ කරගෙන නිශ්ශබ්දව බලා සිටීම. හැබැයි බටහිර ක්‍රමය යන්නේම අඬහැරෙත් එක්කමයි. තළාගෙනමයි. පෙළාගෙනමයි. ඒකෙ තියෙන්නෙ විෂ බීජ නසන ගතිය. ඒ විතරක් නෙමෙයි අනෙක් වෛද්‍ය ක්‍රමත් නසන ගතියක් තියනව. අන්තිමට වෙන්නෙ මොකක්ද? බේත බීපු මනුස්සයත් නසනව.

ඒ තරමටම ගියාට පස්සෙ අද ඒ ඇත්තන්ට පේන්න පටන් අරන් තියනව ක්ෂුද්‍ර ජීවී නාශක බෙහෙත් අද මනුෂ්‍යයාට තියන ප්‍රධානම බාධාව වෙලා තියෙන බව. ඒ විතරක් නෙමෙයි, ඒ ක්ෂුද්‍ර ජීවීන් මනුෂ්‍යයා ඉක්මවල. ඕනෑම ප්‍රතිජීවකයක් හදනකොට ඊට ප්‍රතිවිරුද්ධ විෂ බීජවල තියෙන ප්‍රතිශක්තිය වැඩි වෙනව. ඒ නිසා අද කරකැවිල වැටිල තියනව මනුෂ්‍යයා, ඇහැට නොපෙනෙන ක්ෂුද්‍ර ජීවියාට පොහොරක් බවට පත් වෙලා තියනව. ඒක හොඳටම අද දන්නෙ වෛද්‍ය විද්‍යාවෙ ඉහළම පන්තිවල ඉන්න ඇත්තො. ඒ නිසා කර කියාගන්න දෙයක් නැති තත්ත්‍වයට පත් වෙලා තියනව. ඒ වාගේ තමයි, නමුත් අද ඒ ඇත්තොම තේරුම් අරන් තියනව. ඊට වැඩිය මේ කොළයක් තළාගෙන එහෙම කරන මේ වෛද්‍ය ක්‍රමයේ මොකක්දෝ පුදුමාකාර ගැඹුරක් තියනව කියල හොයන්න පටන් අරන් තියනව. එතකොටවත් ආයුර්වේද වෛද්‍ය විද්‍යාව උඩ දන්න ගත්තෙ නෑ. ඒගොල්ලො කියන්නෙ අපි එදා ඉඳල ඕක දැනගෙන හිටිය. මොකද අපි වෙදකම් කරන්නෙ හේතුවට. ඒ නිසා අපිට බෙහෙත් දීපු ගමන් රෝග ලක්ෂණ පහ වෙයි කියල කියන්න බෑ, වැඩි වෙන්න ඉඩ තියනව. ආයුර්වේදය කරන කට්ටිය හොඳටම දන්නව.

ඒ වගේ තමයි බුදුරජාණන් වහන්සේගේ දුක්ඛ සත්‍යය මුල් කර ගත්තා වූ චතුරාර්‍ය්‍ය සත්‍යයට බහිනකොට ඕනෑම කෙනෙකුට කියන්න පුළුවන් මේක දුක නසන ක්‍රමයක් නෙමෙයි, දුක වඩන ක්‍රමයක් කියල.

ඒ ඇත්තන්ට උත්තර දෙන්න පටන්ගත්තොත් කවදාකවත් යෝගාවචරයාට යෝගාවචරකම් කරන්න හම්බ වෙන්නෙ නෑ. ඒ නිසා යෝගාවචරයා ඒ වෙලාවලට කරන්න තියෙන්නෙ කන් ඇත්තේ නමුත් බීරෙක් වගේ ඉන්න. ඇස් ඇත්තේ නමුත් අන්ධයෙක් වගේ, කොන්ද පණ ඇත්තේ නමුත් කොඳු රෝගයක් ඇති කෙනෙක් වගේ, නැත්නම් මළමිනියක් වගේ ඉඳගෙන බුද්ධාදී උත්තමයන් වහන්සේලා දේශනා කරපු දේවල් ඒ තාලේටම දිගට කරගෙන යන්නටයි.

ඒ වාගේම තමයි ගණන් හදනකොටත් ඉතාම ගැඹුරු සංකීර්ණ ගානක් ආවත් ඒ ගාන ව්‍යාපාර වස්තු ගානක්ද, සුළු කිරීමේ ගානක්ද, වීජ ගණිතයක්ද ආදී වශයෙන් ගාන තේරුම් ගැනීමම ඉතාමත්ම වැදගත් වෙනව. ගාන ගත්තු ගමන්ම හදන්න පටන් අරගත්තට මොනව හදනවද කියල හිතේ නෑ කිසිම එකලාසයක්. නමුත් ගාන හොඳට අවබෝධ කරගත්ත නම් ඒක දුක්ඛ සත්‍යය අවබෝධ කළා වගේ. එතකොට තේරුම්ගන්නව මේක ව්‍යාපාර වස්තු ගානක්, නැත්නම් අංක ගණිතයක්, එහෙම නැත්නම් ශීඝ්‍ර ජ්‍යාමිතියක්, නැත්නම් නව ගණිතයක්, මොකක් හරි තේරුම් අරගෙන "මෙන්න මෙතනයි මේ කාරණාව" කියල ඒ ගානෙ ගැටලුව, ඒ ගාන ඉදිරිපත් කරපු කෙනා ගත්ත සංකල්පය, ඒ ගණන් පත්‍රයට උත්තර ලියන අපේක්ෂකයා තේරුම්ගත්ත නම් ඔහු විභාගය පාස් වෙලා ඉවරයි. ඒ පුද්ගලයා දන්නව හොඳටම දැන් මම ගාන තේරුම් අරගත්ත කියල. ඊට පස්සෙ නමුත් ඔහුට උත්තරය හිතට ආවට, ඔහුට පාස් බව ගන්න ඒක ක්‍රමයෙන් සමීකරණයෙන් සමීකරණයට ලියල, උත්තරයට ඉරි දෙකක් ගහල පරීක්ෂකයට ඉදිරිපත් කරන්න වෙනවා. ඉදිරිපත් කළාට පස්සෙ, මෙච්චර කාලෙකට පස්සෙ ඕන්න ප්‍රතිඵල එනව. නමුත් ගාන හරියට තේරුම් අරගෙන හදපු කෙනා ඒ වෙලාවෙම සමත්. නමුත් ප්‍රතිඵල එනකොට ටිකක් කල් යනව. ඒ ලෝකයාට. නමුත් ගාන හදපු එක්කෙනාට ඒක අදාළ නෑ.

ආන්න ඒ වගේ මොනම ප්‍රශ්නයක් ආවත් මොනම ක්ලේශයක් ආවත් මොනම සංසිද්ධියක් මතු උනත් අන්න ඒ සංසිද්ධියට පොඩ්ඩක් නතර වෙලා බලන ගතිය, සිංහ ආකල්පය, මේ තුළ තියනව ඒකෙ හේතු ප්‍රත්‍ය දැකගන්න පුංචි ඉඩක්. ඉවසීමේ ශක්තියක්. නැත්නම් නාම

රූප වශයෙන් පරිච්ඡේද කරගත්තට පස්සෙ ඒකෙ ප්‍රත්‍ය දැකගන්න, ධම්ම ඨිතිය දැකගන්න අවස්ථාවක් තියනව. ඒ ධර්මය, මුලින්ම ඇත්තා වූ ඒකෙ නාම රූප විභජනය, නාම රූප පරිච්ඡේදය දැක්ක නම්, ඒ පුද්ගලයා දිගටම සමාධියේ, සතියේ පවතිනව නම් අනිවාර්යයෙන්ම ගතියක් තමයි ඒකෙ ප්‍රත්‍ය බැලීම, පච්චය පරිග්ගහ, ධම්ම ඨිති කියන එක. ඒ ධම්මඨිතිය දකිනකොට ඕන්න පටිච්ච සමුප්පාද ආදී ක්‍ෂණ භංගුර භාවය හොඳට වැටහෙනව. ඒක කවදකවත් තර්කයක් නෙමෙයි, වැටහෙන දේ. ආන්න ඒ වැටහීම තමයි දුක්ඛ සත්‍යයට යටින්, දුක්ඛ සත්‍යයට පිටුපස්සෙන් පනවා වදරල තියන සමුදය සත්‍යය.

ඉතින් එතෙන්ට යනකොට පැහැදිලිවම තමන්ට තේරිලා තියෙනව මේක කවුරුත් කරපු දෙයක් නෙවෙයි. දුක්ඛ සත්‍යයේදී නම් ගොඩක් හිතෙනව මේක කවුදෝ කරපු දෙයක්. මේ විෂ බීජය නැසුවොත් මෙහෙම කරන්න පුළුවන් වෙයි. ඔය නානාප්‍ර දේවල් හිතෙනව. නමුත් පිටුපස්සට ගිහිල්ල යම් අවස්ථාවක ඒ රෝගියාට හෝ යෝගියාට තේරුණොත් මේක ඒකාන්තයෙන්ම තමන්ගෙ දෙයක් කියල අර බොජ්ඣංග ධර්ම ඇසීම වාගෙ හිතට පවන් සැලීමකින්, හිත ධෛර්යමත් කිරීමකින් ඒ සුවය, අධ්‍යාත්ම ඒකායන මාර්ගය සලසනව. ඒ නිසා චතුරාර්‍ය සත්‍යය දේශනාව සත්තිස් බෝධිපාර්ෂික ධර්මවල කළ යුත්තක් වශයෙන් පෙන්වන්නෙ නෑ. යෝගාවචරයා විසින් මේ දේ කළ යුතුයි, මේ දේ කළ යුතුයි කියල පෙන්වන්නෙ නෑ. නමුත් අනිවාර්යයෙන්ම යෝගාවචරයා මේ මූලධර්මය දැනගෙන නොසිටියොත් එක තැනම වටවළල්ලේ යනව. ඒ නිසා අනිවාර්යයෙන්ම දැනගෙන තියෙන්න ඕනෑ. ඒ දැනගැනීම සුතමය වශයෙන් චින්තාමය වශයෙන් තමයි සිද්ධ වෙන්නෙ. නමුත් ඒක වැදගත්. ඒ වැදගත් මුහුව හරියට කාරණා පෙන්නල තිබුණත් සර්වඥයන් වහන්සේ දීලා තියෙන මේ උපකල්පනය, මේ දීල තියෙන යෝජනාව ඉදිරිපත් නොවුණොත් ආයෙත් සංසාරයක් ජීවත් වෙන්න වෙනව එතෙන්ට එන්න. ඒ නිසා මේක සතිපට්ඨානයේ සච්ච පර්වය වශයෙන් දේශනා කරල තියනව.

ඒ නිසා යෝගාවචරයා තේරුම් අරගන්න ඕනෑ මෙච්ච අයින් කරල, ඕනෑ නෑ කියල පැත්තකට දල භාවනා කළොත් බොහෝ කල්

යනව. ඒ දේශනාව මාර්ගයෙන් තේරුම්ගන්නව විතර ලේසි වෙන්න නෑ. ඒ නිසා මෙව්ව පිළිබඳව අවබෝධයක් තියෙන්න ඕනෑ. ඒ අවබෝධය සඳහා මත්තට මේකෙ සඳහන් වෙනව චතුරාර්‍ය්‍ය සත්‍යය, **අයං දුක්ඛං අරියසච්චන්ති පජානාති**. ඊගාවට, **කතමඤ්ච භික්ඛවෙ දුක්ඛං අරියසච්චං** කියල එකින් එක එකින් එක එකින් එක විස්තර කරනව. ඒ විස්තර කරන්නෙ මේ කියල විස්තර කළ ධර්මතාව නිදර්ශන මාර්ගයෙන් එකින් එකට එකින් එකට පෙන්නන එක. නමුත් අවශ්‍ය වෙලා තියෙන්නෙ මූලිකවම මෙන්න මෙහෙම ධර්මතාවක් තියෙන්නෙඃ මේ දුක්ඛ සත්‍යයටම අවදි වීම. තමන්ගෙ වැරදි, තමන්ගෙ අඩුපාඩු, තමන්ගෙ තියෙන කෙලෙස් ස්වභාවය මතු වෙනකොට සතුටක් ඇති කරගන්න ඕනෑ. ඉස්සර උනේ ඒක අකමැත්තෙන් නොදැනුවත්වම ඇවිල්ල විත කරල යනව. අපි එතකොට කැකිල්ලේ රජ්ජුරුවො වගේ අල්ලපු ගෙදරට දෙස් කියනව, සෘතුවට දෙස් කියනව, විෂ බීජවලට දෙස් කියනව. නානාප්‍ර දේවල්.

නමුත් දැන් ඒ වැරැද්ද, ඒ අඩුපාඩු, ඒ කෙලේශය මතු වෙනකොට ඒක මකන්න යන්නෙත් නෑ, සාදර වෙන්නෙත් නෑ. ඒක පිළිබඳව හොඳට මේකෙ ඇත්තා වූ පෙළන ගතිය, මේකෙ ඇත්තා වූ සන්තාපන ගතිය, මේකෙ ඇත්තා වූ ආයූහන රැස් කරන ගතිය, මේකෙ ඇත්තා වූ පෙරළෙනසුලු ගතිය හොඳට බලාගන ඉන්නව නම්, ඒක දුක්ඛ සත්‍යය අවබෝධයට හේතු වෙනව. ඒක අනිවාර්යයෙන්ම සමුදයට යොමු කරවනව. සමුදය නිවනෙන් තොර නෑ. සමුදය දැනගන්නවත් එක්කම ඒකෙ නිවනට දෙර ඇරෙනව. නිවනට දෙර ඇරෙනකොට තමයි නිවන් මාර්ගය. එනිසා ගෙඩි හතරක් තියන අඹ වල්ලකට හරියටම මහ නැට්ටම කඩල දැම්ම වගේ, දුක්ඛ සත්‍යය අවබෝධ කළ පමණින් ඉතුරු සත්‍ය සතර අවබෝධ කිරීමට විශාල ඉඩක් ලැබෙනව.

නමුත් අභාග්‍යයකට වගේ මේක දුක්ඛ සත්‍යය. ඒක නිසා අනෙකුත් ආගම් ධර්මවල වගේ විවේක සුවය හොයාගෙන එන, අධ්‍යාත්මය විකුණාගෙන කන කාටවක්වත් බුද්ධාගමේ නිෂ්ටාවක් ලැබෙන්නෙ නෑ. දුකම දැනගෙන, දුකම දැනගෙනම ඉවසීමෙන් ඉදිරියට යනවා කියන කැප කිරීම ඇති කෙනාට නම් බුදුරජාණන් වහන්සේ

විතර ඇත්ත ඇත්ත හැටියට දේශනා කරපු, අපටත් ඒ තරමටම එතෙන්ට යන්න පාර පෙන්වා දුන්නා වූ උත්තමයන් වහන්සේ නමකගෙ වටිනාකම පේනව - "සත හට වන බව දුකට වෙදණන්". ඒ නිසා අපි තේරුම් අරගන්න ඕනැ අපි යම් තාක්, මේ තාක් කල් දැන හෝ නො දැන ආර්‍ය මාර්ගයක් වෙනුවෙන්, යෝගාවචර ජීවිතයක් වෙනුවෙන් යම් ආකාරයක දුකක් වින්ද නම්, කවදාකවත් එය අහේනියට හිටින්නෙ නෑ. අපිට තියෙන්නෙ ඒ විඳපු දුක් හෝ වේවා මත්තට මතු වෙන දුක් හෝ වේවා ඒක හාත්පසින්ම තේරුම්ගන්න ස්වභාවය - **පරිඤ්ඤෙය්‍යයං.**

ඒ නිසා අද දවසෙ අපි එකතු කරගත්ත මේ ධර්ම කොට්ඨාශයත් අපිට මේ එළඹෙන දුක, අපේ සිංහලේ කියනව නෙ "පැමිණි දුක් පැණි රහයි" කියල. අන්න ඒ පැණි රහ කරගන්න නම් මේ දුක හාත්පසින්ම අවබෝධ කරගත යුතුයි. ඒකයි දුක, දුක්ඛ ආර්‍ය සත්‍යය බවට පත් කිරීමේ ක්‍රමය. ඒකෙ යතුර බුදුරජාණන් වහන්සේ අපට භාරදෙනව. ඒ නිසා ඒක ආවට පස්සෙ අපට තියෙන්නෙ හොඳට දෙර ඇරල, කට ඇරල හොඳට ඒකෙ තියෙන ඒ පීළනට්ඨ භාවය, සංඛතට්ඨ භාවය, සන්තාපනට්ඨය, විපරිණාමට්ඨය කියන ඇති හැටිය දැකගන්නයි.

ඒ සඳහා අපිට මේ ධර්ම කොට්ඨාශයත් ශ්‍රද්ධාව පිණිස වේවා, වීර්‍යය පිණිස වේවා, සතිය පිණිස වේවා! මේ හිතුවෙ නැති වුණාට මේක තුළ සමාධිය ගන්න පුළුවන්. අනිවාර්යයෙන් පුදුමාකාර සමාධියක් ඇති කරන්න පුළුවන්. අන්න ඒ සමාධිය පිණිස වේවා, අවසානයේ ප්‍රඥාව පිණිස වේවා! මේ ආදී ක්‍රමයට ඉන්ද්‍රිය ධර්ම වැඩීමෙන් ඒකායන මාර්ගය, චතුරාර්‍ය සත්‍යය පෙර නොඇසූ නොවිරූ විදිහට දැකගන්න, දැනගන්න මේ වස් කාලය තුළම සියලුදෙනාටම ඒ ඉන්ද්‍රිය ධර්ම පිහිට වේවා! කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව මෙතනින් සමාප්ත කරනවා.

# 64 | ජාති දුක

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**කතමඤ්ච භික්ඛවෙ දුක්ඛං අරියසච්චං? ජාතිපි දුක්ඛා, ජරාපි දුක්ඛා, ව්‍යාධිපි දුක්ඛා, මරණම්පි දුක්ඛං, සොකපරිදෙවදුක්ඛදෙමනස්සුපායාසාපි දුක්ඛා, අප්පියෙහි සම්පයොගොපි දුක්ඛො, පියෙහි විප්පයොගොපි දුක්ඛො, යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං, සඞ්ඛිත්තෙන පඤ්චුපාදනක්ඛන්ධා දුක්ඛාතීති.**

ගෞරවනීය යෝගාවචර මහා සංසරත්නයෙන් අවසරයි, මේ මාතෘකාව සමග සම්බන්ධ කරගෙන, එක දිගට මහා සතිපට්ඨාන සූත්‍රය ඉදිරිපත් කරගෙන පවත්වාගෙන යන ධර්ම දේශනා මාලාවේ අද අපි මේ 64 වන අංකයටයි පත් වෙලා තියෙන්නේ. අපි චතුරාර්‍ය සත්‍යය සාකච්ඡා කරන කොටසට අද එළැඹිලා තියෙනවා. අපි ඒකට ප්‍රවේශය ගිය සතියේ බලා හඳුගත්තා.

නැවත මතක් කරගත්තොත් සත්‍ය සතර පිළිබඳව සර්වඥයන් වහන්සේගේ වචනයෙන්ම බොහෝදෙනා අහල හුරු පුරුදු, "**ඉදං දුක්ඛ'න්ති යථාභූතං පජානාති, 'අයං දුක්ඛසමුදයො'ති යථාභූතං පජානාති, 'අයං දුක්ඛනිරොධො'ති යථාභූතං පජානාති, 'අයං දුක්ඛනිරොධගාමිනී පටිපද'ති යථාභූතං පජානාති**" කියල අපි ඇහුවා, අහන්න ලැබුණා. එයින් චතුරාර්‍ය සත්‍යය පිළිබඳව සමස්ත

සම්පිණ්ඩනයක් අපි සෑහෙන දුරට ගිය සතියේ ගිය පාර ලබාගත්තා. ඒ දේවලුත් පිඩු කරල ගන්නව නම්, අනෙකුත් සත්තිස් බෝධිපාක්ෂික ධර්මවල නොදැනෙන නොදැක්වෙන චතුරාර්ය සත්‍යය බුද්ධ ශාසනය පිළිබඳව දේශන මාර්ගයෙන් හඳුන්වා දෙනකොට මූලික හරය බව දක්වනවා. නමුත් ක්‍රියා පටිපදවක් වශයෙන් ඒක සත්තිස් බෝධිපාක්ෂික ධර්මවල දැක්වෙන්නේ නැහැ. නමුත් චතුරාර්ය සත්‍යයේ වටිනාකමින් කුළුගැන්වෙන මේ සතිපට්ඨාන සූත්‍රය ආරම්භයේදීම ශ්‍රී මුඛ දේශනාවක් වශයෙන්ම මේක ඒකායන මාර්ගය කියල දක්වනවා. සතර සතිපට්ඨානය අවසානයේ එකම තැනකට, එකම එල්ලයකින් චතුරාර්ය සත්‍යය කරාම ගමන් කරවන බවක් මේකෙන් ගම්‍ය වෙනවා කියල හිතාගන්න පුළුවන්. ඒ මොකද, සර්වඥයන් වහන්සේ පවා ඉතාමත්ම සිත්ගන්නා තාලෙට ළෙන්ගතු තාලෙට දේශනා කරල තියෙනවා, 'මහණෙනි, ඔබලාත් මමත් චතුරාර්ය සත්‍යය සත්‍යාකාරයෙන්ම නොදන්නා නිසා මේ දීර්ඝ, අනන්ත කෙළවරක් නොපෙනෙන සංසාරයේ මෙතෙක් කල් සැරිසැරුවා, දැන් අපි චතුරාර්ය සත්‍යය අවබෝධ කළා. විශේෂයෙන්ම අවබෝධ කළා, මම ඔබලාට අවබෝධ කරල දුන්නා' යි කියල.

ඒ නිසා බුදුරාජාණන් වහන්සේ නමක් ලෝකයේ පහළ වීමේ ප්‍රධානම කෘත්‍යය චතුරාර්ය සත්‍යය අවබෝධ කිරීමත් අවබෝධ කර දීමත් කියන එක බව සිතන්න පුළුවන්. මේ කියන කාරණාව ගිළිහීම නිසාදෝ අද මේ මහා සාගරය වගේ, අපි සාමාන්‍ය සම්ප්‍රදායානුකූල වචනයෙන් කියනව නම්, අසූහාරදහසක් වූ මේ ධර්ම ස්කන්ධය පිළිගන්න විවිධ ඇත්තෝ ඉන්නවා. සමහරු ඉතාම සුළු කොටසක් මේ වගේ දුක්ඛ සත්‍යය අවබෝධ කරගැනීමත් සමුදය අවබෝධ කරගැනීමත් එයින් නිදහස් වීමත් ඒ සඳහා ඇති ප්‍රතිපත්තිය පිරීමත් කියන ප්‍රායෝගික මාර්ගයට බැහැගෙන සිටිනවා. නමුත් බොහෝ පිරිසක් වැඩිතරයක් මේ කියන ප්‍රයෝජනය සලකල නෙමෙයි බුද්ධාගම හදාරන්නේ, බුද්ධාගමට කැමැත්ත දක්වන්නේ. ඉන් මෙපිට තියන විවිධාකාර ලාභ ප්‍රයෝජන හිතාගෙන. ඒ නිසා ඒ ඇත්තෝ අර මුලින්ම ප්‍රතික්ෂේප කරපු දුක අවබෝධ කිරීමත් එහි සමුදය - දුකට හේතුව දැනගැනීමත් එයින් නිදහස් වීමත් ඒ සඳහා ඇති ප්‍රතිපත්ති

මාර්ගය, ආයර්‍ය අෂ්ටාංගික මාර්ගයත් කියන ඒවාට අන්ධ වීම නිසා ඒක දැන හෝ නොදැන ප්‍රතික්ෂේප කරනවා.

මේ ඇත්තෝ මුළු බුද්ධ දේශනාවම ඒ කොනේ සිට මේ කොනටත් මේ කොනේ සිට ඒ කොනටත් කියවමින් මොකක්ද බුදුහාමුදුරුවෝ කිව්වේ කියලා තේරෙන්නේ නැහැ කියා ප්‍රකාශන කරනවා. මුළු බුද්ධ ශාසනයම පීරලා බුද්ධ ධර්‍ම කොට්ඨාශම ආගම සම්බන්ධ කොටස්ම විවිධ ආගම් සමග ගළපමින්, මානව පරිණාමයේ අවස්ථා වශයෙන් සලකමින් දර්ශන වශයෙන් සලකමින් ඒ පැත්තට මේ පැත්තට ගෙනියමින් වහාම මුහුණට මුහුණ බලාගන්නවා, අන්ද මන්ද වෙනවා, මොකක්ද දේශනා කළේ, මොකටද මේ ඔක්කොම දේශනා කළේ කියන එක විශාල ප්‍රශ්නයක්. ඒ මොකද, ඒ ඇත්තෝ මුලින්ම අන්ධ වෙලා තියෙනවා, චතුරාර්‍ය සත්‍යයයි මේකෙ කාරණාව, චතුරාර්‍ය සත්‍යය අවබෝධ කරනකොට ඔය ප්‍රශ්න කරන මිනිහා ගැලවිලා යනවා. ප්‍රශ්න කරන මනුස්සයම දිය වෙනවා. ඔය දෘෂ්ටිය සක්කාය දෘෂ්ටිය දුරු වෙනවා. මෙගොඩ ඉඳගෙන මේ ශාසනයේ ඇත්තන්ට ඕනැ වෙලා තියෙන්නේ සක්කාය දිට්ඨිය හයියෙන් අල්ලගෙන ඒක මෙගොඩම තහවුරු කරගෙන, වතුරට බහින්නේ නැතුව වතුර පිළිබඳව හදුරන්න. ඒ නිසා ඒක මහා අවුලක්, අවුල් ජාලයක් බවට පත් වෙලා තියනවා. නමුත් ඒක මේ වගේ සජීවී ශාසනවල කවදටත් වෙන දේවල්. වෙච්ච දේවල්.

අපි මේ ජන්ම ලාභය ලබල තියෙන්නේ බුද්ධ ජයන්තියෙන් 2500 ක් ගත වෙච්ච සමයක. මේ වෙනකොට මේකේ පද ව්‍යඤ්ජන සහ අර්ථ නා නා විධියට වියවුල් වෙන්න පුළුවන් බව අපේ ගෞතම සර්වඥයන් වහන්සේ නොදැන සිටියා නෙවෙයි. ඒ නිසා උන්වහන්සේ කියල තියනවා, "මහණෙනි තුඹලා මේ ශිෂ්ටාචාරය බිහි වෙච්ච තැනකට යනකොට යම් කිසි විශාල මන්දිරයක් ගරා වැටිල තියෙනවා දැක්කොත් ඒකෙ ප්‍රයෝජනය, ඒකෙ හැඩය, ඒකේ යථා ස්වභාවය මොකක්ද කියල දැනගන්න ඒක නැවත ප්‍රතිසංස්කරණය කරන්න" යි කියලා. ප්‍රතිසංස්කරණය කරනකොට එතන විසිරී තියන මහා දේවල් අතරින් මේ ගෙට අයිති වන්නේ මේවයි, ඒකට ආගන්තුකව දාපු ඒව මේවයි කියන එක ප්‍රතිසංස්කරණයේදී ඔයගොල්ලන්ට දැනගන්න

පුළුවන් වෙනවා. එතනදී ඒ ගෙට අවශ්‍ය නැති දේවල් සෑහෙන්න ප්‍රදේශයක් තියෙන්න පුළුවන්. ඒ ටික බැහැර කරන්න. බැහැර කරල, ඒ ගෙට ප්‍රතිසංස්කරණයට අවශ්‍ය දේවල් කරලා අවසාන ඇසිල්ලේදී දැනගන්න මෙන්න මේක වෙන්න ඇති ගෙයි හැටි. පරණ පුරුදු මන්දිරයේ හැටි මෙහෙම වෙන්න ඇති කියල හිතාගන්නයි කියල. ඒ කියන්නේ මේ වගේ තැන්වලට පිටින් ඕනෑ තරම් දුර්මත එන්න ඉඩ තියෙනවා. ඒක නිසා චතුරාර්‍ය සත්‍යය පිළිබඳ කතාවෙදි දුර්මත නැහැයි කියල හෝ බුද්ධ ශාසනයේ මේව නැහැයි කියලා මේ වෙනකොට අපට කියන්න අමාරුයි.

නමුත් අපේ ප්‍රධාන අර්ථය දුක්ඛ සත්‍යය හාත්පසින්ම අවබෝධ කිරීම නම්, ඊගාවට දැක්වෙන්නා වූ සමුදය සත්‍යය ප්‍රහාණය නම්, නිරෝධය සාක්ෂාත්කරණය නම්, ආර්‍ය අෂ්ටාංගික මාර්ගය පිළිපැදීම නම්, අපට සිද්ධ වෙනවා බුද්ධ ධර්මයත් හදුරන්න. අපට එක එක්කෙනා ඉදිරිපත් කරන මතිමතාන්තරවලින්, අපි රකින සීලයෙන්, අපි වඩන සමාධියෙන්, අපිට වැටහෙන ඇත්ත ඇති සැටියෙන් දැනෙන විපස්සනා ඥානවලින් ඔය කවුරු මොන දෙයක් පිළිගන්න හැදුවත් අපට හදුරන්න වෙනවා. ඒකට සම්පූර්ණ අයිතියක් ඒකේ තියෙනවා. එහෙම නොවුණොත්, එහෙම ඉඩක් නොතිබුණොත් මේ 99.99 ක් වන කිසිම හරයක් හොයන්නේ නැතිව බුද්ධ ශාසනය තුළ මේ වෙනකොට කකා ඇවිදින ඇත්තන්ගේ ජනමතයට අනුව ඡන්දයක් තිබ්බොත් මෙලොව වශයෙන් නිවන් දකින්නට හදනවා කියන කෙනාට කවදාකවත් ඔළුව උස්සන්න හම්බ වෙන්නෙ නැහැ.

ඒ නිසා සර්වඥයන් වහන්සේ විවිධ පැතිවලින් මේකට උදව් උපකාර කරල තියෙනවා. මම හිතනවා චතුරාර්‍ය සත්‍යය දේශනාවටත් ඒ වාගේම අදහස් ඉදිරිපත් කරන්න හදන **කතමඤ්ච, භික්ඛවෙ, දුක්ඛං අරියසච්චං?** කියන කොටසටත් අපිට අපේ ස්වාධීන මතය හැම වෙලාවෙම සරණ වෙනවා. අපිට ඒක හැම වෙලාවෙම එන්න එන්න එන්න එන්න වෙනස් වෙමින් පරිණාමයට පත් වෙමින් යන එකක් බව පිළිගන්න සිද්ධ වෙනවා. ඒක නිසා අපේ වාසනාවට වගේ දුක්ඛ ආර්‍ය සත්‍යය පිළිබඳව මහා සතිපට්ඨාන සූත්‍රයේ සෑහෙන විස්තර බුද්ධ වචනය වශයෙන්ම ඉදිරිපත් කරල තියනවා. ඒවා පීරල බලනකොට, අපි ඒ බුද්ධ වචනවලට ඇහුම්කන් දෙනකොට ඒ බුදු

සුවඳ බුදුරජාණන් වහන්සේ එක්ක ජේතවනාරාමයේ වැඩ ඉන්නව වාගෙ අපට සැහෙන සමීපස්ථ භාවයකට යන්න පුළුවන්. නමුත් මේකට තමන්ම රකින්නා වූ තමන්ගේ පිරිසිදු ශීලය සමාධිය ප්‍රඥාව අවශ්‍යයි. ඒකේ ගොනුවකට තමයි, ඒකේ පෙළගැස්මකට තමයි, පැවැත්මකට තමයි මේ බුද්ධ වචන, මේ පාලි වචන අපි සම්බන්ධ කරගන්නේ.

ඒකෙදි දුක්ඛ සත්‍යය පිළිබඳව අපි දවස් 14 - 15 කට සැරයක් ධම්මචක්කප්පවත්තන සූත්‍රය සජ්ඣායනා කරන්න පුරුදු වෙලා තියෙනවා, අහන්න පුරුදු වෙලා තියෙනවා, කටපාඩම් කරන්න පුරුදු වෙලා තියෙනවා. ඒකේ සඳහන් වෙන්නෙත් ඔය පාඨයමයි. සතිපට්ඨාන සූත්‍රයේ සඳහන් වෙන පාඨයමයි. ඒක සියගණන් අනෙකුත් සම්බුද්ධ දේශිත සූත්‍රවල සඳහන් වෙනවා. ඒකෙදි සර්වඥයන් වහන්සේම පිළිතුරු දීමේ අදහසින් ප්‍රශ්නය මතු කරනවා. කොහොමද? මොකක්ද මේ දුක්ඛ ආර්‍ය සත්‍යය. **ජාතිපි දුක්ඛා** - ජාතිය දුකයි. **ජරාපි දුක්ඛා** - ජරාවට පත් වීම දිරා යාම දුකයි. **ව්‍යාධිපි දුක්ඛා** - ලෙඩ රෝග ව්‍යාධි රෝගාබාධවලට ලක් වීම දුකයි. **මරණම්පි දුක්ඛං** - මරණය දුකයි. ඊගාවට **අප්පියෙහි සම්පයොගොපි දුක්ඛො** - තමන්ට අප්‍රිය අමනාප පුද්ගලයන් සමග හමු වෙන්න වෙන එක, නැත්නම් ඒ ඇත්තන් එක්ක ඉන්න වෙන එක, ඒ ඇත්තන් මැදට පත් වෙන්න වෙන එක දුකයි. **පියෙහි විප්පයොගොපි දුක්ඛො** - යම් කිසි ප්‍රිය මනාප වස්තුවකින් පුද්ගලයෙක්ගෙන් වෙන් වන්න වෙනව නම් ඒක දුකයි. **යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං**, ඉච්ඡං කියල කියන්නේ අපි කැමති වන දේ. **ඉච්ඡිතං පත්ථිතං තුය්හං** කියල ගාථාවල කියන්නේ. **ඉච්ඡිතං** කියන්නේ ඔබ යමක් කැමතිද? **පත්ථිතං** - ඔබ යමක් ප්‍රාර්ථනා කළාද? ආන්න ඒ දේ ඉෂ්ට වේවා කියල කියනවා පිනකට අනුමෝදනා කරනකොට. අන්න ඒ **ඉච්ඡිත** භාවය, කැමැත්ත - යම් කැමති දෙයක් වෙනවා නම් - **යං+අපි+ඉච්ඡං න ලභති** - නොලැබේද? **තම්පි දුක්ඛං** - අපි ලෝකයේ ජීවත් වන සත්ත්වයෝ වශයෙන් අරක ලැබුණොත් හොඳයි මේක ලැබුණොත් හොඳයි කියල බලාපොරොත්තු වෙනවද, ඒ ලැබෙන්න බලාපොරොත්තු වන දේ නොලැබී යාම දුකයි.

අවසාන වශයෙන් බලනකොට මේ පංච උපාදනස්කන්ධයම, රූප වේදනා සංඥා සංඛාර විඥ්ඥාණ කියන එක ගත්තහම, රූපය

වශයෙනුත් අපි කැමති දේ අපට ලැබිල නැහැ. වේදනාව ගත්තත් සුඛ වේදනා, දුක්ඛ වේදනා, අදුක්ඛමසුඛ වේදනා කියන එකෙන් අපි හැම වෙලාවෙම සුඛ වේදනාවමයි ඉල්ලන්නේ. ඒක ලැබෙන්නේ නැහැ. සංඥාව ගත්තත් අපි හැම වෙලාවෙම කැමති අපට වාසිදයක සංඥාවල් අපෙන් නිකුත් වෙනව නම්; අපට ලැබෙනව නම්. නමුත් එහෙමම වෙන්නේ නැහැ. සංස්කාර වශයෙනුත් අපි ළඟට ඉදිරිපත් වන සෑම දේම අපි හැඩගස්සනවා. සංස්කරණය කරනවා. තමන්ට සුදුසු තාලෙට හරවගන්න හදනවා. නමුත් ඒවා ඒ තාලෙට හිටින්නේ නැහැ. විඤ්ඤාණය වශයෙනුත් මේ මේ දේවල් වෙන් කරගෙන, නැති දේවල් හිතින් මවාගෙන මේ ලෝකේ ගන්න හැදුවට ඒවා ඒ තාලෙන් හිටින්නෙ නැහැ. බොහෝම ඉක්මනට වෙනස් වෙලා යනවා. මේ නිසා යෝගාවචරයෙක් වශයෙන් ගත්තත් සාමාන්‍ය පුද්ගලයෙක් වශයෙන් ගත්තත් මේ උපාදනස්කන්ධ පහම දුකයි.

අභාග්‍යයකට වගේ උපාදනස්කන්ධ පහට තමයි තැනැත්තෙක් අරයා, මෙයා, පුද්ගලයා, ස්ත්‍රියාව, පුරුෂයෙක් කියල කියන්නේ. ඒක නිසා මේ අවබෝධ කරගන්න හදන, මම වශයෙන් ගන්න මේ තුළ තියෙන්නේ සර්වඥ දේශනා අනුව ගත්තත් උපාදනස්කන්ධ පහමයි. නමුත් උපාදනස්කන්ධ පහ දුකක්ව පවතිද්දි උපාදන ස්කන්ධවල තියෙන දුක්ඛිත භාවය වසාගැනීම සඳහා සියලුදෙනාම සැපක් පිටුපස්සේ හඹාගෙන යනවා කියන එක අපට පිළිගන්න වෙනවා. උපාදනස්කන්ධ පහ වශයෙන්ම දුකයි නම්, ඒ අඩුව තියන කෙනා ඒ අඩුව වසාගැනීම සඳහා සැපක් හොයාගෙන දුවනවා කියන එක තමයි සංසාර ස්වභාවය. **කිස්මිං ලොකො පතිට්ඨිතො, දුක්ඛෙ ලොකො පතිට්ඨිතො** - මේ ලෝකය මොකේද පිහිටල තියෙන්නේ? දුකෙයි මේ ලෝකය පිහිටල තියෙන්නේ.

ඉතින් ඒක නිසා බලනකොට පේන්නේ බුදුරජාණන් වහන්සේගේ මේ ලෝක දර්ශනය නාස්තික දුක්ඛදයී දුක්ඛාන්ත නාඩගමක්, දුක්ඛාන්ත වෘත්තාන්තයක් වගේ. ඒක නිසයි මේ මෑතකදී පාප්වහන්සේ බොහෝමත්ම ඍජු ප්‍රකාශනයක් කෙරුවේ. 'බෞද්ධයෝ කියල කියන්නේ මේ ලෝකය දුකක්, මේක ශෝකාන්තයක්ම බව මුලින්ම පිළිගන්නා වූ ශාස්තෲන් වහන්සේ නමකගේ ගෝලයෝ පිරිසක්. ඒ නිසා ඒ ඇත්තෝ හොඳ මානසික මට්ටමක ඉන්නව

වෙන්න බැහැ. ඒ නිසා ඒක ලෝකෙට පිළිගන්න බැහැ' යි කියල බොහෝම විශාලෙන් ප්‍රකාශනයක් කළා. හැබැයි මේක සර්වබලධාරී ලෝක හිතානුකම්පී පුද්ගලික දෙයියෙක් විසින් මවපු දෙයක් නම්, උන්දෑට පිස්සුයැ මේක නරකට, දුකට මවන්න? ඒ හින්ද අපි උන්දෑට වඳින්න වටිනවයැ සර්වබලධාරී කියල මේක දුකක් නම්? ඒ නිසා පැහැදිලිව මේ ලෝකයම පිහිටලා තියෙන්නේ දුකකය, එහෙම නැත්නම් පංච උපාදනස්කන්ධයම දුකය කියල පිළිගත්තොත් එක්කෝ අර දෙයියන්ගේ සර්වබලධාරිකමට කෙනෙහිල්ලක් වෙනවා. නැත්නම් උන්දෑගේ තියෙනවා කියන ඔය මහා කරුණාවට කෙනෙහිල්ලක් වෙනවා. එහෙම නැත්නම් උන්දෑ මේ පුද්ගලික දෙයියෙක් කියන එකත් කෙනෙහිල්ලක් වෙනවා.

බුද්ධ දේශනාවේ එක ජාතක කතාවක සර්වඥයන් වහන්සේ සඳහන් කරනවා මැව්වා නම් යමෙක්, උන්දෑට කියන්න වෙන්නේ මැවුම්කාරයා කියල නෙවෙයි, උන්දෑට කියන්න වෙන්නේ විනාසකයයි කියල. හාත්පසින්ම මෝඩයෙක්, හාත්පසින්ම විනාශකයෙක් කියන එක සර්වඥයන් වහන්සේ දේශනා කරල තියෙනවා. මොකද මවල තියෙන්නේ හතිකොන දුක. අභාග්‍යයකට වගේ අපේ බෞද්ධයොත් මේකට පිළියම් කරලා ලතු ගාලා සුවඳ කරලා මේක සැපක් බව පෙන්වන්න හදන අර දෙවියන් වහන්සේගේ ගෝලයෝ පිටිපස්සෙ ගිහිල්ලා, මේකේ නව දෙරින් වැගිරෙන කාරලු වහගෙන නා නා ප්‍රකාර සංදර්ශන, රූකඩ නැටුම්. ඉතින් ගිහිල්ලා කරකවාගෙන බල්ලා වලිගේ හපන්න පිටිපස්සෙ කරකැවෙනව වගේ රවුමේ කරකැවෙනවා. නැත්නම් මහාමේරු පර්වතය වටේ තමන්ගේ වලිගය අල්ලන්න වේගයෙන් දුවන කාල සර්පයා වගේ වේගයෙන් දුවනවා.

එහෙම දුවන ඇත්තන්ට සර්වඥයන් වහන්සේ මුල මතක් කරල දෙනවා, **සඞ්ඛිත්තෙන පඤ්චුපාදනක්ඛන්ධා දුක්ඛා.** මේක සිංහ ධර්‍මයක්, මේක සිංහ බැල්මක්. සර්වඥයන් වහන්සේ කිව්වේ ප්‍රශ්නයක් එනකොට ප්‍රශ්නයක් මතු වෙනකොට ප්‍රශ්නෙ මුලම බලන්න. ඒක තමයි සිංහයාගේ ප්‍රතිපත්තිය. ගලක් දමල ගහපුවම ඒ ගල පස්සේ එළවගෙන ගිහිල්ල හපන එක බල්ලගේ වැඩේ. නමුත් සිංහයා බලන්නේ කොහෙන්ද ගල එන්නේ, කවුද ගල ගහන්නෙ කියලා. ගලක්

දෙකක් එනකල් බලාගෙන ඉඳල ගිහිල්ලා ගල ගහපු එකාව මරල දනවා. බල්ල කරන්නේ ගහපු ගල පිටුපස්සේ ගිහිල්ලා ගල හපල දත් කඩාගන්නවා. ඒ වගේ මෙතන දුකක් නැත ය, මේක සර්වබලධාරී ය, මේක සුභ ය, මේක හොඳ ය, මේක මංගල ය කියල උපන්දින සාද පවත්වන්නයි ආරම්භක මුල්ගල් තැබීමේ මහා උත්සව පවත්වන්නයි මහා සමාරම්භක උත්සව පවත්වන්නයි යාමේදී **සඞ්ඛිත්තෙන පඤ්චුපාදනක්ඛන්ධා දුක්ඛා,** එහෙම නැත්නම් **දුක්ඛෙ ලොකො පතිට්ඨිතො** කියන කාරණාව අපිට තාවකාලිකව හෝ තිරයකින් වහන්න සිද්ධ වෙනවා. මේක වසාගැනීමේ මෙම වැඩ පිළිවෙළ තමයි දිගින් දිගටම ලෝකේ සංසාරය වශයෙන් පවතින්නේ. ආර්ථික විද්‍යාවෙත් කියන්නේ සීමිත තැන්පත්වලින් අසීමිත ආශාවල් ඉෂ්ට කිරීම සඳහා ගන්නා උත්සාහයක් කියල. පොඩ්ඩක් හිසකේ තියෙන මනුස්සයෙක් ඒකෙන් තට්ටය වහගන්න නිතරෝම පනාවෙන් පීර පීර ඉන්නව වගේ එකක් තමයි ආර්ථික විද්‍යාව කියන්නේ. ආන්න ඒකක් තමයි මේ ලෝකයේ තියෙන ප්‍රහිත ජීවිතය. ආර්ථික ප්‍රවර්ධනය, සංවර්ධනය, සාමාජික වශයෙන් පවත්නා වූ දේවල්, දේශපාලනය වශයෙන් පවත්වන්නා වූ විමුක්තිය ගැන කතා කරනකොට මේ කළු ලපයක් වහගන්න කරන උත්සාහයක් තියෙන්නේ. ආන්න ඒකට ඍජුම ඍජු ඇත්තම ප්‍රකාශනය තමයි **සඞ්ඛිත්තෙන පඤ්චුපාදනක්ඛන්ධා දුක්ඛා.**

මේ ලෝකය අවබෝධ කරන්න හදන, සර්වඥයන් වහන්සේ කවුද කියල අවබෝධ කරන්න හදන, ධර්මය අවබෝධ කරන්නෙ කවුද කියල හදන, සංඝයා කියන්නෙ කවුද කියල අවබෝධ කරන්න හදන, මේ සේරම කරන මේ අවබෝධ කරන පුද්ගලයාගේ පංච උපදනස්කන්ධයෝම හාත්පසින්ම දුකක්. එතකොට පටන්ගැන්මෙදීම තියෙන්නෙ කටට දගන්නකොටම තිත්ත රස දැනෙන මහා තිත්ත බෙහෙතක්. ඉතින් හුඟදෙනෙකුට මේක සීනි ආවරණයකින් වට කරල දෙන්න වෙනවා. ඒක නිසා දුක්ඛ සත්‍යය පිළිබඳව කථාව සතිපට්ඨාන සූත්‍රයේ අවසානයට තමයි තියෙන්නේ. කායානුපස්සනාව, වේදනානුපස්සනාව, චිත්තානුපස්සනාව ආදී ධර්‍ම හොඳට අවබෝධ කරල, ඉඳගැන්මෙ පටන් භාවනාව අවසානය දක්වාම, උත්පත්තියේ පටන් මරණ මොහොත දක්වාම මේකෙ හතීකොන තියෙන්නේ දුක්ඛ

ස්වභාවය කියල තේරුම්ගන්න නම්, එසේ මෙසේ දනමුතුකමක්, එසේ මෙසේ තලතුනාකමක් තිබ්ල බැහැ.

ඒක නිසා හුඟදෙනෙක් හිතනවා මේක පුංචි කාලෙදි උගන්වන්න අමාරුයි, මධ්‍යම වයසෙදි උගන්වන්න අමාරුයි, තලතුනා වයසට ගියාම තමයි ගැළපෙන්නේ කියලා. නමුත් ඒ එක ජීවිතයක් අල්ලගෙන මේ මූලධර්මය ළං කරන්න හදන ඇත්තන්ගේ හැටි. සංසාර වශයෙන් බලනකොට අපි සෑහෙන වයසක ඇත්තෝ. සෑම කෙනෙක්ම නොදන්නා කෙළවරක ඉඳලා සංසාරෙ ගත කරගෙන එන නිසා අපි කොච්චරක් මේවා පිළිබඳව මීට පෙර ආත්මවල දන හඳුනාගෙන තියෙනවද කියන එක දනගන්න නම්, කායානුපස්සනාව කියන, කය පිළිබඳව සිහිය පිහිටුවීමෙන් පටන් අරගෙන වේදනා, චිත්ත, ධම්ම කියන කොටසට යනකොට භාවනාවෙදී තමන්ට වැටහෙන්න පටන් අරගන්නවා, තමන් අරගත්ත මූල කර්මස්ථානය වේවා, එහෙම නැත්නම් මූල කර්මස්ථානය යට කරමින් එන්නා වූ බාධක අරමුණක් වේවා, හොඳ සමාධියක ඉන්නකොට සෑම අරමුණක්ම කරන්නේ පෙළන එක තමයි. ගැටීමක් තමයි, හැපීමක් තමයි. ඒ හැම හැපීමකින්ම වෙහෙසක් තමයි ගෙන දෙන්නේ.

යෝගාවචරයට ඉස්සෙල්ලම සිද්ධ වෙන්නේ අපි ආනාපානය ගත්තත් පිම්බීම හැකිළීම ගත්තත්, බුද්ධානුස්සතිය හෝ මෛත්‍රී භාවනාව වගේ අරමුණක් ගත්තත් ඒ අරමුණ මතු කරගෙන එන අනෙකුත් නීවරණ ධර්ම යටපත් කරගැනීමම දුකක්. ඒක නිසයි මේ ලක්ෂගණන් භාවනාවට බැස්සට සියගණනක් ඉතුරු වෙද්දි අනිත් කට්ටිය පැරදිලා පැත්තකට යන්නේ. නමුත් යම් කිසි කෙනෙක් තමන්ගේ භාවනා අරමුණ මතු කරගත්තත් ඉස්සෙල්ලම පේන්න තියෙන්නේ ඉතාම ඕළාරික ගොරෝසු අවස්ථාවක්. අපි අර විශාල අරමුණු රාශියක් කපාගෙන නීවරණ රාශියක් කපාගෙන මූල කර්මස්ථානයට හිත දනකොට නම් යම් කිසි විධියක ජයග්‍රාහී හැඟීමක් තියනවා. ඊට පස්සේ ඒ අරමුණේම හිත සියුම් වේගෙන සියුම් වේගෙන යනකොට ඒ අරමුණ මගඇරිලා නා නා ප්‍රකාර පුංචි පුංචි අනිකුත් අරමුණුවලින් බාධාවලට පත් වෙනකොට හුඟක්

යෝගාවචරයෝ මූල කර්මස්ථානය අමතක කරලා අනෙකුත් අරමුණුවලට ගිහිල්ල හිත නන්නත්තාර කරගන්නවා.

නමුත් මේ වෙලාවේ මොනවක්වත් බලන්න බැහැ, ඒ සියුම් වෙන්නා වූ සූක්ෂ්ම වෙන්නා වූ මූල කර්මස්ථානය දිගේම සිත පවත්වන්නය කියල දෙන උපදේශය දුක සේ දරාගෙන ඉදිරියට යන්න පටන් අරගත්තොත් ඒ පුද්ගලයට මතු වන මතු වන සෑම අරමුණකින්ම පෙළීමක් පීරීගෑමක් ඉස්පාසුවක් වෙන්නෙ නැති තත්ත්වයක් දිගට පවතින බව පේන්න පටන් අරගන්නවා. මේක හොඳටම ප්‍රකට වෙන්නේ විදර්ශනා භාවනාවෙදී. නමුත් සමථයේදී පවා මේක උපචාර සමාධියට කිට්ටු වෙනකොට වැටහෙන්න පටන්ගන්නවා. අවසානයේදී ඒ මූල කර්මස්ථානය පවතිද්දීම සද්ද ඇහෙනවා, රූප පේනවා, සිතිවිලි එනවා, වේදනා පහළ කරනවා. මේ සේරම එකම පණු රිත්තක් වගේ කැපිච්ච පණු ගොඩක් වගේ එකටම දඟලන්න පටන් අරගන්නවා. ඉතින් යෝගාවචරයාට ඒක නොබලත් බෑ. බැලුවමත් ඔක්කාරජනකයි, බිය එළවනසුලුයි, කෙළවරක් කරගන්න බෑ, අසරණයි. ආන්න ඒ තත්ත්වය තියෙද්දිත් මූල කර්මස්ථානය බලාගෙන ඉන්නකොට ඉන්නකොට, ඒ මූල කර්මස්ථානය ගෙවීගෙන ගෙවීගෙන යනකොට, විශේෂයෙන්ම උපේක්ඛාවට පත් වුණාට පස්සේ තමයි තේරෙන්නේ අරමුණු රාශි රාශි වැඩි වෙන්න වැඩි වෙන්න එක අරමුණක ඕළාරිකකම වැඩි වෙන්න වැඩි වෙන්න බලාගෙන ඉඳිල්ල බය එළවනවා. බලාගෙන ඉඳිල්ල වෙහෙස කරවනසුලුයි. ඉස්පාසුවක් වෙන්නේ නෑ. කවදකවත් මුලක් මැදක් අගක් වෙන් කරගන්න දෙන්නේ නෑ.

නමුත් යෝගාවචරයා සංසාර පුරුද්ද නිසාදෝ ඕළාරික අරමුණ හොයහොයා, සමහර විට අරමුණ මතු වෙන්නෙ නැත්නම් හයියෙන් හුස්ම ගන්න හෝ පෙළඹෙනවා. බඩ පුම්බල හෝ බලන්න පෙළඹෙනවා. ඒ මොකද? අරමුණකින් තොරව ඉස්පාසු වෙච්ච උපේක්ෂාව යෝගාවචරය අත්දැකල හුරු නෑ. එතකොට යෝගාවචරයාට මඬේ හිටවපු ඉන්න වගේ හිතේ කිසිම තේමාවක් නැති, යන එන තැනක් නැති, අන්ද මන්ද වෙච්ච ස්වරූපයක් ඇති වෙන්න පටන් අරගන්නවා. මේ නිසා කර්මස්ථානාචාර්යවරයා විසින් තේරුම් කරල දෙන්න වෙනවා, එකම අරමුණේ පුළුවන් තරම් සියුම්

වෙනකොට වෙනකොට වෙනකොට, අරමුණු නැති වීමෙන් හැපීමක් නැති වීමෙන් ඉස්පාසු වෙන ගතියක් හිතට එන්න පටන්ගන්න බව. ඒත් හුඟාක් උපේක්ෂාවෙන් ඉන්නකොටයි තේරෙන්නේ මේවා ඔක්කොගෙම නැති බව තමයි එකම සැප කියලා. තියන තාක් කල් මේක කරන්නේ අතොරක් නැතිව පෙළන ගතිය.

ඒක නිසා දුක්ඛ සත්‍යය පිළිබඳව මේකේ කෘත්‍යය පෙන්නන්නේ **පීළනට්ඨො** - පෙළන ගතිය. මේ පෙළන ගතිය වැටහෙනකොට ඕකේ තියනවා අනිකුත් සත්‍ය හතරේ ගෑවිලා යන ගතියක්. පෙළන ගති රාශියකින් හැදිච්ච එකක් මිස කවදකවත් තනි මිනිහෙක් දැකගන්න හම්බ වෙන්නේ නැහැ. පුංචි පුංචි පුංචි පුංචි කොටස් රාශි වශයෙන් තමයි ඒ වෙලාවේ පණුවෝ ගොඩක් නලියන්නා සේ, හවසක වැව් ඉස්මත්තකට හඳ පායලා තියෙනකොට වැවේ වතුර හෙල්ලෙනවා නම් ඒ හෙල්ලෙන වැවේ වැටෙන චන්ද්‍රයාගේ ඡායාව කොහොමද කඩ කඩ වෙලා යන්නෙ? ඒ වගේ රාශියක් පේනවා. එහෙම නැත්නම් ඉර පායලා තියෙන වෙලාවෙ මුහුද අයිනට ගියාම මූදේ රළ පේන්නේ ලක්ෂ කෝටියක්, කවදකවත් ඉස්පාසුවක් නැතිව පෙළන ගතිය. ආන්න ඒ ස්වරූපයට තමයි පේන්නේ. ඉස්සෙල්ලා යෝගාවචරයා හිතාගෙන හිටිය නම් මේක මුහුදක්, මේක වැවක් මේක එකක් කියලා, පස්සෙ එකක් නෙවෙයි විශාල ප්‍රදේශ පේන්න පටන්ගන්නවා. ඒ නිසා මේක සංඛතයක්. රාශියකින් හැදිච්ච දෙයක්. එකක් වෙන් කරල බැලුවත් ඒකේ ඒ ගතිය තියනවා. නමුත් රිත්තක්, ගොඩක්, කලාපයක් වශයෙන් බලනකොට කෙළවරක් කරගන්න බැරි සංඛත තත්ත්‍ව තියෙන්නෙ. එක්කෙනෙක් නම් එයා අල්ලගෙන නැති කරල මේක ඉවර කරගන්න පුළුවන්. කෝටිගණන් ලක්ෂගණන් තියෙනකොට කෙළවරක් මරලවත් කපලවත් අයින් කරලවත් හිතෙන් ප්‍රතික්ෂේප කරලවත් ඉවර කරන්න බැහැ.

ඒ නිසා මේ පුරා පවතින මේ සංඛත ස්වරූපය පේනවා. ඒ දිහා ඔක්කොම දැකගන්න අදහසින් හෝ එකක් දැකගන්න අදහසින් හෝ බලාගෙන ඉන්නකොට හරි තැවීමක් සන්තාපයක් තියෙන්නේ. ඒ සන්තාපය නිවෙන්න නම්, නාම රූප ධර්මයන්ගේ සම්පූර්ණ නිරෝධයක් වෙන්න ඕනෑ. එතකොට නිරෝධය කියල කියන්නේ සන්තාපයේ අනිත් පැත්ත. නිවීම. මේ සඳහා ඇති මාර්ගය

විපරිණාමයයි. නිතරෝම සංසාර පුද්ගලයා තමන් නිවන් දැකීම සඳහා හෝ සැප ලබන මාර්ග බොහොම සීඝ්‍රයෙන් වෙනස් කරනවා. අද යූ. එන්. පී. කාරයෙක් වෙලා හෙට ශ්‍රී ලංකා කාරයෙක් වෙලා බලනවා සැප මේකෙන් ලැබෙයි කියලා. විවිධාකාරයෙන් පැති මාරු කරනවා.

නමුත් සර්වඥ දේශනාවෙ සඳහන් කරනවා මේ සංඛත අතර ආර්‍ය්‍ය අෂ්ටාංගික මාර්ගය වූ එකම මාර්ගයෙ හැමදම යෙදෙන්න. ඒකෙන් පිට පනින වාරයක් පාසා තමන්ගේ වැඩ පිළිවෙළ නැවත නැවත නන්නත්තාර වෙනවා. ඒ නිසා එකම මාර්ගයේ යෙදුණොත් ගැලවෙන්න පුළුවන්. විවිධ මාර්ග දිගේ යන එක, හැම තැනම වතුර හොයාගෙන ළිං කපන කෙනෙක්ගේ වැඩක් වගේ. කොච්චර ළිං කැපුවත් කවදකවත් උල්පතකට යන්න හම්බ වෙන්නේ නැහැ. ඒ නිසා කපන එක අඩියටම කපන්න ඕනෑ ගලටම යනකල්. එතකොට නම් අඩු ගානේ තමන් කපන එක වැරදියි කියලවත් දැනගත හැකියි. ඒක නිසා විපරිණාම ස්වභාවය හොඳට තේරුම් අරගන්න වෙනව. මේ අරමුණු රාශි වශයෙන්, ප්‍රකට වශයෙන් තිබීම විශේෂ නම්බුවක් නෙමෙයි. විශාල වැඩ කොටසක් වෙනව, ඔක්කොම ගෙවල දන්න වෙනවා.

ඒක නිසා අල්ලගත්තු එකම අරමුණ ගෙවල දන එක ලේසියි. ඒ නිසා ඒ අරමුණ ප්‍රිය වුණත් අප්‍රිය වුණත් මේක දිගේම යන්න ඕනෑ කියලා දුක්ඛ සත්‍යය පිළිබඳවමත් ඔය **පීළනාර්ථය, සංඛතාර්ථය, සංතාපනාර්ථය, විපරිණාමාර්ථය** කියන ඒ හතරම වටහාගැනීමේ ශක්තියක් යෝගාවචරයාට තියෙනවා. එතකොට ඒ යෝගාවචරයා බුද්ධාගම් පොත් පෙරළ පෙරළ එහාට මෙහාට මත ප්‍රකාශ කරන්නා වූ දර්ශනිකයෙක් හෝ චින්තකයෙක්ගේ තත්ත්වයට පත් වෙන්නේ නෑ. ඔහුට භාවනා කරන ගමන් සර්වඥ දේශනාවෙ මෙන්න මේවා තියෙනවා නේද කියල වැටහෙනකොට තමන් අත්දකින දේවල් පිළිබඳව ලොකු ශක්තියක් ලැබෙනවා. ධර්ම කොට්ඨාශත් එක්ක එකතු වෙනකොට ලොකු ශක්තියක් ලැබෙනවා. ශක්තියක් ලැබෙන්න ලැබෙන්න ලැබෙන්න මං යන පාර හරි, මේකමයි තාවකාලිකව ලැබෙන බෙහෙත. මේ තාවකාලයේ ලැබෙන පෙළන ගතිය, ඒක වළක්වන්ට බෑ, මේ තමයි හැටි කියල ඉස්සරහට යන්න පුළුවන්

ගතියක් තියනවා. එතකොට එහෙව් යෝගාවරයෙකුට නම් හොඳට තේරුම් කරලා දෙන්න පුළුවන්,

සර්වඥ දේශනාවේ සඳහන් වෙන්නෙ චතුරාර්‍ය සත්‍යය අවබෝධ කිරීමට අවශ්‍ය කොටස විතරයි. එහෙම නැතුව බහුශෘත භාවයකට විශාරද භාවයකට යන්න හෝ සියලුම ප්‍රශ්නවලට උත්තර දෙන්න පුළුවන් තත්ත්වයක් ඇති කරන්න ඕනෑකමක් සර්වඥ දේශනාවේ නැහැ. මේක ප්‍රයෝජනය සලකලයි කරන්නෙ. මේකට කියනව උපයෝගිතාවාදී කියල, උපයෝගී භාවය සලකලයි මේක කරන්නෙ. නැතුව සර්වඥයන් වහන්සේ දන්න සියලු දේම දේශනා කළේ නැහැ. එක වරක් උන්වහන්සේ භික්ෂූන් වහන්සේලා එක්ක චාරිකාවක වැඩම කරනකොට කැලෑවක් මැදදි ගස්වලින් වැටිච්ච කොළ මිටක් අරගෙන විමසුවා භික්ෂූනි, මගෙ අතේ තියන කොළද වැඩි? නැත්නම් මේ මහ කැලයේ සියලු ගස්වල තියන කොළද? කියලා. ස්වාමීනි, මහ කැලයේ ගස්වල තියන කොළ සංඛ්‍යාව ඉතාමත්ම වැඩියි. එතකොට සර්වඥයන් වහන්සේ කිව්වා, භික්ෂූනි, සර්වඥතා ඥානය එක්ක මම ලෝකයේ දැනගත්ත ප්‍රදේශයේ දැනුම විශාලයි. මේ මහ කැලයේ තිබෙන කොළ වගේ. මම උඹලට උගන්වන්නේ මේ අතට ගත්ත කොළ ටික වගේ ඉතාම ටිකක්. ඒ මොකද, මේකෙන් විතරයි චතුරාර්‍ය සත්‍යයට යොමු වෙන්නේ. අනෙකුත් දේවල්වලින් ඒ වගේ ප්‍රයෝජනයක් ඉෂ්ට වෙන්නේ නැහැ.

ආන්න ඒ බව අපි තේරුම්ගන්න ඕනෑ. තේරුම් අරගෙන ආන්න ඒ දේ වුණත්, අහගෙන ඉන්නකොට දුක දනවනවා වුණත් ඒ ශුද්ධෝත්තම පාවුළු පාප්වහන්සේ අර විදියට ප්‍රකාශ කළත් අපිට හිතාගන්න වෙනවා ගැලවුම තියෙන්නේ නම් මේ අඳුරු තැන තමයි. ආලෝකවත් සංදර්ශන තැන්වල සැප, සතුට, ප්‍රීතිය ඇති කියල තමයි ආලෝකයට පතින පළඟැටියෝ වගේ සංසාර සත්ත්වයා දුවන්නේ. නමුත් සර්වඥයින් වහන්සේ ප්‍රඥවන්තයින් අමතලා දේශනා කරනව, 'මහණෙනි වැඩේ වෙන්න නම් ප්‍රථමයෙන්ම දුක්ඛ සත්‍යය පිළිබඳව මූලිකව තමන්ගේ සංඥව, සිත, මතය පිරිසිදු කරගන්න ඕනෑ, සූදනම් කරගන්න ඕනෑ, අහල තියෙන්න ඕනෑ, හිතල තියෙන්න ඕනෑ. ඒක

නිසා දුක්ඛ සත්‍යය පිළිබඳව හොඳට ගෞරවයෙන්, ඒක පීරලා වෙන් කරලා තේරුම් කරගන්න ඕනෑ.

ඒ නිසා සර්වඥයන් වහන්සේ චතුරාර්‍ය්‍ය සත්‍යය හඳුන්වල දීල දුක්ඛ සත්‍යය පිළිබඳව ජාති ජරා ව්‍යාධි ආදී මේ දුක් පෙන්වලා ඊට පස්සේ උන්වහන්සේ ජාති දුක, **කතමා ච භික්ඛවෙ ජාති?** බොහෝම ලස්සනට පෙන්වල දීල තියෙනවා. ඒකෙ **ජාති සඤ්ජාති ඔක්කන්ති අභිනිබ්බත්ති** ආදී වශයෙන් ලෝකයේ තියෙන්න පුළුවන් අණ්ඩජ, ජලාබුජ, සංසේදජ, ඕපපාතික කියන්නා වූ ජාති වර්ග හතරම මේ ධර්‍මයට ගැළපෙන දුකෙන් ගැලවීම පිණිස හේතු වන ආකාරයට. ඒ ඒ සත්ත්ව නිකායේ ඒ ඒ තැන්වල ඉපදීමක් වෙනවා නම්, ඒක **ජාතිය** කියල කියනවා. **සඤ්ජාතිය** කියල කියන්නේ මේරිච්ච ඉඳුරන් සහිතවම උපදිනවා. **ඔක්කන්ති** - ගැබකට මව් කුසකට පිවිසෙනවා. **අභිනිබ්බත්ති** - එනම් මව් කුසක පහසක් නැතුවම උත්පත්තිය ලබනවා. මේ ආදී විධියට ඒ ජාතියේ විවිධ ප්‍රභේද සර්වඥයන් වහන්සේ පෙන්වල දීල තියෙනවා.

ඉතින් මේකෙදි මේ ජාතියක්, එහෙම නැත්නම් විශේෂයෙන්ම මේ මව් කුසකට බිහි වීම පිළිබඳව අද පත්තරවල පිටු ගානයි ජනමාධ්‍යවල තියන පැය ගානයි අරගෙන බැලුවොත් හුඟදෙනෙකුට නොනිමෙන සාකච්ඡාවකට ප්‍රස්තුත ලබා දීල තියනවා. ඒක පිළිබඳව හුඟක් විස්තර කරන්න ගිය බුරුම ස්වාමීන් වහන්සේ කියනවා මේ ඇත්තන්ගේ වැඩ පිළිවෙළ, මේ චින්තතකයන්ගේ සහ දර්ශනිකයන්ගේ වැඩ පිළිවෙළ කරල් අහුලන්නන්ගේ වැඩ පිළිවෙළට සමානයි කියලා. කරල් අහුලන්නන් කියල කියන්නේ ගොවිතැන්බත් කරන ප්‍රදේශවල අභිකුණ්ඨික මනුෂ්‍යයෝ ගොවියා කුඹුර කපාගෙන උප්පිඩි අරගෙන ගිහිල්ලා බැත බේරගත්තට පස්සේ ඉතුරු වෙලා තියෙන කරල් ඇහිඳින්න පැසක් අරගෙන ඇවිදිනවා. ඒ ජාතියට, ඒ අභිකුණ්ඨික මනුෂ්‍යයන්ට ඉඩම් හිමිකමක් නැහැ. ගොවිතැන් කිරීමක් නැහැ. රජ්ජුරුවන්ගෙන් අවසරත් නැහැ ගොවිතැන් කරන්න. ඒ නිසා ඒ මනුස්සයන්ට තියෙන අවසරය තමයි, ගොවියා විසින් ගොවිතැන් කරලා කරල් කපාගත්තට පස්සේ ඉතිරි වෙලා තියෙන කරල් අහුලන්න පුළුවන්. අන්න ඒ වගේ තමයි අද චින්තකයෝ. මේ ඔක්කෝම

ගොවියා අස් කරගත්තට පස්සේ අර ඉතුරු වෙලා තියෙන කරල් ඇහිඳින්නා වගේ ජාතිය පිළිබඳව විවිධාකාර මත ඉදිරිපත් කරනවා.

ඒ මත ඉදිරිපත් කරනකොට බුද්ධ ධර්‍මය හාරල අවුස්සලා බැලුවත් ඒකේ බුදුරජාණන් වහන්සේ ඒ ඒ වෙලාවට ගැළපෙන විවිධ ආකාරයෙන් ජාතිය පිළිබඳව විස්තර කරල දීල තියනවා. විනය පිළිබඳව බලනකොට භික්ෂූන් වහන්සේ නමකට අධිශීලයක පිහිටන්න අවුරුදු 20 සම්පූර්ණ වෙන්න ඕනැයි කියල එක වෙලාවක සර්වඥයන් වහන්සේ නීතියක් පැනෙව්වා. නමුත් ඒ නීතිය පනවලා වැඩ කරගෙන යනකොට වහා උපසම්පද කළ යුතු එක තැනැත්තෙක් ඉදිරිපත් වුණා, අවුරුදු 19 පැනල, 20 සම්පූර්ණ වෙලා නැහැ. සර්වඥයන් වහන්සේ එතනදී සඳහන් කළා මවු ගැබේ හිටපු කාලයත් එක්කම අවුරුදු 20 සම්පූර්ණ වෙනවා නම් උපසම්පදවට කැපයි. ඒකට කියනවා ගබ්භවීසති කියල. ආන්න එතනදී සර්වඥයන් වහන්සේ මව් කුසේ පිළිසිඳගැනීම ගැන  කියන්නේ මව් කුසට විඤ්ඤාණය පහළ වෙච්ච තැන පටන් අවුරුදු 20 සම්පූර්ණ නම් හරි. ඉපදිලා අවුරුදු 19 යි මාස 3 ක් 4 ක් ගිය කෙනාට මව් කුසේ සිටි කාලය කොච්චරද කියල විඤ්ඤාණය පහළ වෙච්ච් තැන පටන් අරගත්තහම එයාට අවු. 20 සම්පූර්ණ වෙනවා නම් හරි. එතනදී විනයට සම්බන්ධව කතා කරල කියන්නේ විඤ්ඤාණයේ පහළ වීම.

මේ කාලයේ හැටියට බලනකොට අවුරුදු 5 ට ළමයි ඉස්කෝලේ දන්න ඕනැයි කියල ආණ්ඩුවේ නීතියක් තියෙනවා. ළමයා හරියට අවු. 04 යි මාස 11 යි දවස් 30 ක්, නැත්නම් 29 ක් ගත වෙච්ච කෙනෙක් නම් ඒ ළමය තව අවුරුද්දක් බලාගෙන ඉන්න ඕනෑ. ඉතින් දෙමව්පියෝ එකතු වෙලා උද්ඝෝෂණ කළා. එතකොට රජය මේක සලකා බලලා මාසයක් කල් දුන්නා එහාට. ජනවාරි වෙන්න ඕනැ නෑ, ඊට ඉස්සෙල්ලා අවුරුද්දේ දෙසැම්බර් මාසේ කොයි වෙලාවෙ හරි කමක් නෑ. දැන් නම් කොහොමද කියන්න දන්නෙ නෑ, ඒ දවස්වල තිබුණ නීතියක්. අන්න ඒ වගේ සලකා බලන්න සිද්ධ වෙනවා. ඒකෙදි සර්වඥයන් වහන්සේ ජාතිය පෙන්නල දුන්නේ විඤ්ඤාණයේ පහළ වීමත් එක්ක. නමුත් ඔය චිත්තායතන සූත්‍රවල ආදී තැන්වල සර්වඥයන් වහන්සේ පෙන්වල දීල තියනවා එද පැවතිච්ච දුර්මත. අන්න ඒව

විස්තර කරද්දි ජාතිය පෙන්නනකොට උන්වහන්සේ දේශනා කරනවා, **ඡන්නං, භික්ඛවෙ, ධාතූනං උපාදය**' - රූප, පඨවි ආපො තෙජො වායො ආකාස විඤ්ඤාණ කියන ධාතු හය එකතු වෙලා යම් වෙලාවක මව් කුසේ **ගබ්භාවක්කන්ති** කියල කියන ගැබේ එකතු වීමක් සිදු වෙනවද **ඔක්කන්තියා සති ජාති** ඒ එකතු වීමත් එක්කම එතන ජාතියක් ඇති වෙනවා. ඊට පස්සේ ඒ අනුව සළායතන ඵස්ස වේදනා ආදී පටිච්චසමුප්පාද ක්‍රමයට ඒ චිත්ත වීථිය දිගට වැඩ කරනවා. ආන්න එතන වේදනාව පහළ වෙලා දැනීම ඇති වෙච්ච තැන පටන්ම **දුක්ඛං, ඉදං දුක්ඛන්ති** කියල පටන් අරගන්නවා.

ඒ නිසා උන්වහන්සේ ජාතිය විස්තර කරල දෙන්නේ ඔය අතරමැද, අන්තරාභවයක්, **ගන්ධබ්බයක්** ආදී කථා ඇති කරගෙන සංසාරේ පීර පීර ඒක හොඳට තේරුම් අරගෙන, හොඳින් සංසාරයේ ජීවත් වීම සඳහා දීපු අත්වැලක් හැටියට නෙමෙයි. මෙතන පවතින්නා වූ පටිච්චසමුප්පාද ස්වරූපය පෙන්නලා ඒ මොහොතයි අනිකුත් සෑම මොහොතකමයි බොහෝ දුරට සමාන සංසිද්ධියක් සිද්ධ වෙන්නේ. ආන්න ඒකට බහින්න නම් ඒ යෝගාවචරයා විපස්සනා ඥානානුකූලව යන්න ඕනෑ. විපස්සනා ඥාන ගැන කථා කරනකොට, නාමරූප පරිච්ඡේද ඥානය ගැන විස්තර කරනකොට මේක හුඟක් පසුකාලීනව දියුණු වෙලා ආපු ආචාර්ය මතයක්. එතෙනදි පෙන්නනවා යම් ආකාරයකට යෝගාවචරයාට විපස්සනා ඥානය පහළ වෙලා ඒ අරමුණේම හිත පවත්වාගෙන යන්න පුළුවන්, දැන් පැවතුණා, දැනුත් පවතිනවා, මත්තටත් පවතී කියල විශ්වාසය ඇති වෙනකොට ඒ යෝගාවචරයාට පේනවා මේ මතු වන අරමුණත් තමන් ගත්ත මූලකර්මස්ථානය වෙන්නත් පුළුවන්, වෙන මොකක් හරි අරමුණක් වෙන්නත් පුළුවන්.

ඒ මතු වන අරමුණත් ඒ හා වේගයෙන් සීඝ්‍රයෙන් ඇති වෙනකොටම දැනගන්නා ඥානයත් ඉදිරිපත් වුණාම හිතට ලොකු කලඑළියක් එනවා. මේකෙ කිසිම නොදන්නා තැනක් නැහැ. අඳුරු තැනක් නැහැ. හොඳට පැහැදිලියි. සද්දයක් එනව නම් එනකොටම ඇහීම බව දන්නවා. උදරයේ පිම්බීම හැකිළීම සිදු වෙනව නම් මේ පිම්බීම බව දන්නවා. ආශ්වාසය වෙනව නම් හොඳට ආශ්වාසය බව

දන්නවා. ප්‍රශ්වාසය දන්නවා. හැකිළීම දන්නවා. එන ඕනෑම අරමුණක් දැනගත්තාම අරමුණයි හිතයි අතර වෙනසක් නැති තරමට වගේ ලොකු කලඑළියක් එනවා. වීදුරු කැල්ලකින් එහා පැත්ත බැලුව වගේ හොඳ පැහැදිලි දර්ශනයක් එනවා. මේ දර්ශනයට එනකොට ඒ ඇති වෙන්නා වූ අරමුණ නාම ධර්මයක් වෙන්නත් පුළුවන්, රූප ධර්මයක් වෙන්නත් පුළුවන්. විස්තර කරන්නේ හුඟාක් වෙලාවට රූප ධර්ම කිට්ටු කරගෙනයි.

විශේෂයෙන්ම වායෝ පොට්ඨබ්බ ධාතුව කියන ප්‍රකට රූප ධර්මය තමයි මූලධර්ම වශයෙන් ඉදිරිපත් කරගන්නේ. වායෝ පොට්ඨබ්බ ධාතුවේ උත්පාදය පේන්නේ නැහැ, පේන්නේ ඨිතිය. අපි මෙතන ගන්නේ කියලා, ඕනෑම සංස්කාරයක ඉපදීම, පැවතීම, නැති වීම **උප්පාදො පඤ්ඤායති, වයො පඤ්ඤායති, ඨිතස්ස අඤ්ඤතත්තං පඤ්ඤායති** කියල තුනක් හුඟදෙනෙක් අහල තියෙනව, ප්‍රසිද්ධයි. ඒකෙදි මේ පවතින මැද හරිය තමයි නාමරූප පරිච්ඡේද ඥානයේදී යෝගාවචරයට අරමුණු වෙන්නේ. ඒ අරමුණු වීම පවා සීඝ්‍රයෙන් මෙනෙහි කරන හිතට ළං වුණාම හිතේ ලොකු කලඑළියක් එනවා. මට මේකේ දකින්න බැරි දෙයක් නැහැ. එන ඕනෑම අරමුණක් කොච්චර යුහුසුළුව කොච්චර සීඝ්‍රයෙන් එනවද, ඒ හා සමානව මෙනෙහි කරන සිත යුහුසුළු වෙලා සීඝ්‍ර වෙලා ඒ ඒ දේ ඒ ඒ වශයෙන් දැනගන්නවා කියන මේ තීක්ෂණ, නැත්නම් හයආකාරයකින් දසආකාරයකින් පුරුදු පුහුණු වෙච්ච ඥානයේදී ඒ චිත්තක්ෂණයේ උත්පාදය පේන්නේ නැහැ කියල කියනවා. ඒ පුද්ගලයගේ හිත පුහුණු කරලා නැති නිසා පේන්නේ ඒකේ පැවතීම, භංගය පේන්නෙත් නැහැ. මුල පේන්නෙත් නැහැ, අග පේන්නෙත් නැහැ, පිටකොන්ද විතරයි පේන්නේ.

හැබැයි ඒ චිත්තක්ෂණයෙන් චිත්තක්ෂණයට දසදහස් කෝටි වර අරමුණු පහළ වෙන නිසා හිතත් බිඳිබිඳී නැවත පහළ වෙන නිසා ඒකෙන් ඒකට ඒකෙන් ඒකට දිගට යාදෙන ගතියක් තියෙනවා. නමුත් නාමරූප පරිච්ඡේදයේදී යෝගාවචරයාට ඒ ධර්ම පහළ වීමේ උත්පත්ති ස්ථානය පේන්නෙ නෑ. මෙන්න මේක දැනගෙන හෝ නොදැනගෙන වෙන්නත් පුළුවන්, යෝගාවචරයා තව ඉදිරියට මේ අරමුණේම බලාගෙන හිටියොත් ඊගාව චිත්තක්ෂණයේදී ඔහුට ඒ ධර්ම එකඑකක්

පිහිටා තියෙන ධීතිය - නැවතත් ධීතිය කියන වචනය මෙතන පාවිච්චි වෙනවා වෙනත් අර්ථයකින් - ඒකේ හේතුව වැටහෙන්න පටන්ගන්නවා. අරමුණ පහළ වීම නාම ධර්මයක් හෝ වේවා රූප ධර්මයක් හෝ වේවා කවදකවත් අහේතුකව පහළ වෙන්නේ නැහැ, ඒක හේතුකව පහළ වෙන්නේ නැහැ, විවිධාකාර හේතු නිසා විවිධාකාර හේතුඵල පහළ වෙනවා. මේ හේතුඵල දකිමින් නාමරූප පරිච්ඡේදය විසද කරගත්ත යෝගාවචරයා භාවනාවේ ඊගාව ඥානයට යනකොට ඒ සෑම නාමරූප ධර්මයකටම හේතුව පේන්න පටන්ගන්නවා. එතකොට තමයි අපි ඒකට කියන්නේ පටිච්චසමුප්පාද අවබෝධය යථාභූත ඥානය. ධර්මයේ ඇති හැටිය දකින්න පටන්ගන්න නම් බැලූ බැල්මට හම්බ වෙන පළවෙනි ඥානයේදී පේන්නේ නැහැ. ඒ වගේ තමයි මේ අෂ්ට ලෝකයේ කොච්චර මනුස්සයෝ දිහා අපි බලාගෙන හිටියත් සත්ත්වයාගේ උත්පත්තිය, ලෝකය පෙන්නන්නෙ නැහැ.

නමුත් සර්වඥයන් වහන්සේ යෝගාවචරයට කියනවා මේ ඉදිරිපත් කරන දේ බැලුවට කවදකවත් ජාතිය දකින්න බැහැ. ඉදිරිපත් කරන දේ නොබලත් ජාතිය දකින්න බැහැ. ඒක නිසා ඉදිරිපත් කරන දේ බලලා මේක මගේ ළඟට එනකොට සෑහෙන්න මෝරලා තියෙන්නේ. මේකේ මුල අල්ලගන්න ඕනැ. මුල දකින්න නම් ඒ එන එන එක එන කොටම, අරමුණ මතු වෙනකොටම පැනල මෙනෙහි කරන්න ඕනැ. මේකටමයි යෝනිසෝමනසිකාරය කියන්නේ. යෝනිසෝමනසිකාරය නැති කෙනා අරමුණ තමන්ට තැටියක තියලා සුදකින් වහලා පෙනුමක් වශයෙන් ඉදිරිපත් කරනකොට බොහොම සන්තෝෂයෙන් බාරගන්නවා. ඒ කියන්නේ මේක හොඳයි ඔක්කොම මෝරල තියෙන්නේ, දැන් තියෙන්නේ මට පාවිච්චි කරන්න විතරයි කියලා. නමුත් කවදකවත් එහෙම භාරගන්න කෙනාට, එතනින් නතර වෙන කෙනාට මේ කිසිම දෙයක උත්පත්තියක් දකගන්න ලැබෙන්නේ නැහැ.

ඒක නිසා ඒ පුද්ගලයාට සිංහ ප්‍රතිපත්තිය අනුගමනය කරන්න වෙනවා. මේ අරමුණ එනවාත් හා සමගම පැනල හොරෙක් අල්ලගන්නව වගේ, පාපන්දු ක්‍රීඩකයෙක් ඒ පාපන්දුවට කිසිම ඉඩක් නොතබා, වෙන කෙනෙකුට එන්න නොදී තමන් අතට එනකොටම

ඒ පන්දුව පෙරට පැනල යනව වගේ අරමුණට පැනීමේ ශක්තිය එන්න එන්න දියුණු කරන යෝගාවචරයාට ඉස්සෙල්ලාම නාම රූප වශයෙන් අරමුණ වැටහෙනවා. ඒ දැකලා ඒකේ කිසි සේත්ම හරයක් ගැඹුරක් මුලක් මම දැක්කේ නැහැ, මේක නැවත නැවතත් එහෙම සීඝ්‍රයෙන් මෙනෙහි කරමින් කරමින් එන දේ එනවාත් හා සමගම, අපි සිංහලෙන් සාමාන්‍යයෙන් කියන්නේ රත් වෙච්ච වෙලාවේ යකඩෙ තළාගන්න ඕනැ, ඒ වගේම කියනවා රත් වෙච්ච යකඩෙ දැකපුවහම ආචාරියා පස්ස පැත්ත උඩ දම දම තලනව කියලා. එහෙම යෝගාවචරයොත් ඉන්නවා. සන්තෝසෙට අරමුණ නොදැක්ක ක්‍රමයට වේගයෙන් මතු වෙනකොට ඒ හා වේගයකින් හිත මෙහෙයවමින් මෙහෙයවමින් අරමුණේ මූලාශ්‍රය, පටන්ගන්න හැටි තාම මම දැක්කේ නැහැ, දැකගත යුතුයි කියලා මුලට මෙහෙයවන ලද හිතකින් යුක්තව භාවනා කරනව නම්, හුඟාක් කල් කරන්න වෙන්නේ නැහැ.

මේ ලෝකයේ ඉදිරිපත් කරන ආටෝප සාටෝප සහිතව ප්‍රසංගය දිහා බලාගන හිටියොත් පේන්නේ පිටකොන්ද විතරයි. තිරේ පිටිපස්සේ ගොඩක් වැඩ තියනවා. ආන්න ඒ තිරය පිටුපස්සේ වැඩට, තිරය පිටුපසට එකවරම යන්නත් බෑ. ඉස්සර වෙලා අපි ඉස්සරහ නාඩගම බලන්න ඕනැ. බලල ඉතාමත්ම සමීපව ඉතාමත්ම උත්සන්නව ඉතාමත්ම ආසන්නව අරමුණ මෙනෙහි කිරීමෙන් පමණක් මේ සෑම අරමුණකම ජාතිය දැකගන්න පුළුවන්. ඒකට අපි කියන්නේ **ධම්මට්ඨිති** ඥානය කියල. සෑම අරමුණක්ම පිහිටල තියෙන්නේ මොකේද කියල දැකගන්න පුළුවන්. අර ඉස්සර වෙලාම අපි දකින එකේදි නාම රූප වශයෙන් මේ දෙක දැකගන්න පුළුවන්. දකින හිත නාමය, මතු වෙන අරමුණ රූපය. මේ ආකාරයෙන් මෙනෙහි කරගෙන මෙනෙහි කරගෙන යනකොට වුණත් සාමාන්‍ය කෙනෙකුට වටහාගන්න පුළුවන් මේ පුද්ගලයා හෝ මගේ හුස්මෙ හෝ මගේ පිම්බීම හැකිළීම තුළ හෝ කිසිම සතෙක් හෝ පුද්ගලයෙක් හෝ එහෙම ගුඪ දෙයක්, අල්ලන්න බැරි දෙයක් මොනවක්වත් නෑ. එන සෑම දේම අල්ලන්න පුළුවන්. අරමුණ වශයෙන් අරමුණු කරන්න පුළුවන් කියන විශ්වාසය ඇති වෙනවා.

යෝගාවචරයෙක් වශයෙන් ඒ විශ්වාසයෙන් මේ වාගේ ජාතිය, පටන්ගැන්ම බලන්න නම් එතනින් නතර වෙලා බැහැ. මේකේ තිරයේ

පිටුපස්සේ දර්ශනය දකින්න ඕනැ. ඒ නිසා ඉතාමත්ම සමීපව ඒක බලනකොට ඒකේ ධම්මට්ඨිති ඥානය කියන **පච්චය** (ප්‍රත්‍යය) දකගැනීමේ ඥානය පහළ වෙනවා. ඒක කවුරුවත් කරන දෙයක් නෙමෙයි. නාම රූප ඔක්කොම මම දක්කා, ඒකෙ තියෙන සෑම සටහනක්ම මම දක්කා, ඒකෙ තියෙන සෑම ආකාරයක්ම මම දක්කා, මේ තුළ මීට වැඩිය සමීප වෙන්න මට දෙයක් නෑ, පුළුවන් නම් මම සමීප වෙනවා කියල කවදාකවත් වෙහෙසට පත් නොවී, ඒ දිහාවටම තල්ලු කරගෙන ඉන්න කෙනාට විතරක් දොර ඇරෙනකොටම ඉස්සර වෙලාම ප්‍රවේශය ලබාගන්න පුළුවන්. මේක මේ ආධුනික යෝගාවචරයෙකුට පමණක් නෙවෙයි මාර්ගඵලලාභී යෝගාවචරයෙක් පවා භාවනා කරන හැම වෙලාවෙම පර්යංකයේ මුලදී අරමුණ පෙර නොදක්ක ප්‍රමාණයට සමීප කරල, ළං වෙලා බලනකොට ඒ ඒ නාම රූප ධර්ම හැම එකටම හේතු වන්නා වූ මූල කාරණාව, හේතුව පේන්න පටන්ගන්නවා. එහෙම පේන්න පටන් අරගත්තට පස්සේ වැටහෙන දෙයක් තමයි ඒකට හේතු වෙන්නෙත් මැවුම්කාර දෙවියන් වහන්සේ කෙනෙක්වත් කිසිම තේරුම් බේරුම් කරගන්න බැරි ගූඪ ධර්මයක්වත් නෙවෙයි, අර වෙන් කරල දැනගත්තා වූ නාම රූප දෙකක්මයි. නාම නිසාත් නාම පහළ වෙනවා, රූප නිසාත් නාම පහළ වෙනවා. නාම නිසාත් රූප පහළ වෙනවා, රූප නිසාත් රූප පහළ වෙනවා. මේ හතර ආකාරය පමණයි.

වෙන විධියකට කියනවා නම් යෝගාවචරය තමන්ගේ වලිගෙ අල්ලගත්ත වෙනවා. මේ සෑම දේටම හේතුව තමන්මයි. මේ සෑම එකකටම හේතුවක් තියනවා. ඒ හේතුව අල්ලගත්තට පස්සේ පේනවා, මැවුම්කාර දෙවියන් වහන්සේත් තමන්මයි. මේ බඹයක් පමණ වූ මේ ශරීරය ඇතුළත ඒකාන්තයෙන්ම දුක්ඛ සත්‍යය තියනවා. ඒ විතරක් නෙමෙයි දුකට හේතුවත් තියනවා. මෙන්න මේ දුක්ඛ සත්‍යය දුක්ඛ සත්‍යය වශයෙන් අම්හිරි වුණත් මේ තිත්ත බෙහෙත බීමමයි සත්‍ය ඥානය කියල කියන්නේ. **ඉදං දුක්ඛං අරියසච්චන්ති මෙ භික්ඛවෙ පුබ්බෙ අනනුස්සුතෙසු ධම්මෙසු චක්ඛුං උදපාදි ඤාණං උදපාදි** කියලා, මම ඉස්සෙල්ලා හිතාගෙන හිටියේ මේ දුක කොම්පැනියකට බාර දෙන්න ඕනැ, ඉස්පිරිතාලෙකට බාර දෙන්න ඕනැ, දොස්තර මහත්තයට බාර දෙන්න ඕනැ, එහෙම නැත්නම් කැකිල්ලේ

රජ්ජුරුවෝ වගෙ අල්ලපු ගෙදර මිනිස්සු හූනියන් කෙරුවය කියල බාර දෙන්න ඕනෑ කියල, මේක අනුන්ට බාර දෙන්න කරපු තමන්ගේ මේ ඥාන ශක්තිය සම්පූර්ණයෙන්ම බූමරංගයක් වගේ කරකැවිල ඇවිල්ලා වැටෙන්න පටන්ගන්නවා. මමමයි වග කියන්න වෙන්නේ.

මේ දුක මතු වුණේ විශාල දුක්ඛ ආර්‍ය සත්‍යයක් මතු කරල දෙන්නයි. ඒකට දෙර ඇරල සාදර වෙන තාක් කල් ඒක පිළිගන්න තාක් කල් කවදාක්වත් දුකේ සමුදය වැටහෙන්නේ නැහැ. ඒක ප්‍රහාණය කරන්නත් බැහැ. මොකද ප්‍රහාණය කරන්න අල්ලගන්නේ වෙන කවුරුත්. වැරදි නිගමනයක්. මොකද, අර කලින්ම ඇති කරගත්ත සක්කාය දිට්ඨි ආදී වැරදි කරුණු නිසා සංඥාව චිත්ත දිට්ඨි වශයෙන් වැරදිලා තියනවා. දැන් එහෙම කිසි දෙයක් වෙන්න සංඥාවට එන්න දෙන්නෙ නැහැ. මෙනෙහි කරන්නේ අරමුණමයි. මෙනෙහි කරන සිතයි අරමුණයි ඇර වෙන මොනවත්ම මායාකාරී ධර්මයක් නැහැ. එතකොට තේරෙන්න පටන් අරගන්නවා මේක දුකමයි, මේක පෙළනසුලුමයි. මේක සන්තාපන ස්වරූපමයි. නමුත් ඒකට සාදර වෙනකොට, ඒක අවබෝධ කළ යුත්තක් වශයෙන් වටහාගන්නකොට, වෙන විදියකට කියනව නම් මේක දුක්ඛ සත්‍යය බව, දුක්ඛ ආර්‍ය සත්‍යයක් බවට මේ දුකට සාදර වෙනකොට මාරයත් පස්ස ගහනවා. යෝගාවචරයා එන සෑම කරදරයක්ම තවත් හේතු සම්පත්තියක් කරගන්නවා.

ඒක නිසා බුදුරජාණන් වහන්සේ සඳහන් කරනවා, ධර්මය කෙරෙහි ශ්‍රද්ධාවක් ඇති වෙන්න නම් දුකක් පහළ විය යුතුමයි. බුදුරජාණන් වහන්සේ දුකට කැමති නිසා හෝ සාපයක් කරනවා නෙවෙයි. දුක එනකොට ශ්‍රද්ධාව වෙනුවට දුක මකන්න ක්‍රමයක් හෝ නැති කරන්න ක්‍රමයක් හෝ ඒක නිර්වින්දනය කරන්න ක්‍රමයක් හොයනවා නම් පැහැදිලිවම හිතාගන්න ඕනෑ මේ සංසාරය බදගැනීමක් කරන්නේ. ඉතින් ඒක අපිට මුලදි කරන්න වෙනවා. මුලදි කළාට අපිට තේරුම්ගන්න වෙනවා, දුකට මුහුණ දීම තුළින්, ජාතියට මුහුණ දීම තුළින්, දුක අපිට දරන්න පුළුවන් නිසයි මේ එන්නේ. දරාගන්න බැරි නම් මැරිල යයි. ඉවරයි. මේක දරාගන්නව වෙනුවට ඒ දුකට පොඩි ළමයි කට දන්න පටන් අරගත්තම සීනි ගාන්න කියනව, මොකද කට ඇතුළ දනකොට සීනි කාල පුරුදු වෙලා, කට

දනකොට සීනි ටිකක් ගාන්න කියල කියනවා. ඒ වගේ තමයි යෝගාවචරයොත් නානාප්‍ර විදියට දරාගන්න පුළුවන් දුක් ආපුවම තියන නිසා නා නා ප්‍රකාර ක්‍රම හොයනවා. මොකටද මේක විඳින්නේ. මේක නොවිඳ බේරිලා භාවනා කරන්න පුළුවන් කියල මොකක්දෝ හිතාගෙන ඉන්නවා. භාවනාව කියන්නේ මොකක්දෝ එකක්. දුකත් එක්ක වැඩ කරන එකක් නෙවෙයි. ඒක නිසා දුක අයින් කරල දුක්ඛ ආර්‍ය සත්‍යය ඉහළින් අවබෝධ කරන්න උත්සාහ කරනවා.

එතකොට ඒක ශාක්‍යපුත්‍ර ශාක්‍යසිංහ වැඩ පිළිවෙළක් වෙන්නේ නැහැ. සර්වඥයන් වහන්සේ සයඅවුරුද්දක් දුෂ්කර ක්‍රියා කරපු එක උන්වහන්සේ අනුමත කරන්නෙත් නැහැ. නමුත් උන්වහන්සේ දේශනා කරන්නේ භාවනා යෝගාවචරයෙක් හෝ වේවා මිථ්‍යාදෘෂ්ටික පාපතරයෙක් හෝ වේවා හැම වෙලාවෙම දුකේ තමයි පිහිටල තියෙන්නේ. තමන්ගේ කරපු පව්වලින් එන දුක වළක්වන්න සමුද්‍රය මැදකට ගියත් බැහැ, ආකාසෙට ගියත් බැහැ, කොහේ ගියත් බැහැ. වැළැක්වුවට වෙන්නේ සංසාරෙ දික් වෙන එක විතරයි. පැමිණි දුක් පැණි රසයි කියලා අපේ සිංහල කියමනක් තියෙනවා. ඒ නිසා පුළුවන් ප්‍රමාණයෙන් දුක හාත්පසින්ම තේරුම් ගන්න නම් ජාතිය, නැත්නම් දුකේ හටගැනීම දකින්න දුකත් එක්ක පොඩ්ඩක් වෙලා ඉන්න වෙනවා, පොඩ්ත්තක් ඉවසන්න වෙනවා. ඒක තමා අපි ගිය පාරත් මතක් කළේ.

අපිට සාමාන්‍යයෙන් කායික දුක් වේදනා පහළ වෙනවා. හිතට දුක්ඛ, ශෝක, දෝමනස්ස පහළ වෙනවා. ආන්න ඒ වෙලාවෙදි ආපු ගමන් කිපෙන්න යනව නම්, අපිට කියනවා කුප්පයා කියලා. බුදුරජාණන් වහන්සේ කියන්නේ **අකුප්පා මෙ චෙතො විමුත්ති** මම කුප්ප නෑ, කිපෙන්නේ නෑ. ඒක ටිකක් වෙලා බලා ඉන්නකොට තමයි මේක කොහේ ඉඳලද එන්නෙ කියලා දැකගන්න පුළුවන් වෙන්නේ. මේකට ඉවසීම තියෙන්න ඕනැ. ඒ නිසා දුක්ඛාර්‍ය සත්‍යය අවබෝධ කරන්න, එහි ඇත්තා වූ පෙළන ස්වභාවය, එහි ඇත්තා වූ තවන ස්වභාවය, එහි ඇත්තා වූ සමූහයක් එකතු වෙලා වද දෙන ස්වභාවය, එහි ඇත්තා වූ මේ වෙනස් කරමින් මාරු කරමින් වද දෙන ස්වභාවය දකින්න නම්, තමන් අධිෂ්ඨානයක් ඇති කරගන්න ඕනැ මේ නාඩගම සම්පූර්ණයෙන්ම නටල ඉවර වෙනකල් ඉවසිල්ලේ බලන්න. මේ

විධියට බලා ඉඳීමේදී සංසාරගත සත්ත්වයාගේ ප්‍රධානම සම්ප්‍රදයකුත් තියනවා, ආරෙකුත් තියෙනවා, සහජාසයකුත් තියෙනවා මේ ජාතිය වළක්වාගන්න, ජාතිය මකාගන්න, ජාතිය හංගගන්න, ජාතිය ඇත් කරල තියාගන්න. මේ ප්‍රයත්නය තුළ තමයි ගෞතම සිද්ධාර්ථ තාපසතුමා දිගට මේ ජීවිතෙත් නැටුවේ. නමුත් අවසානෙ බුද්ධෝත්පාදයට පොඩ්ඩකට කලින් උන්වහන්සේ ලැබුවට පස්සෙම කියන වචනවලින් තේරෙනවා,

**අනෙකජාති සංසාරං සන්ධාවිස්සං අනිබ්බිසං**
**ගහකාරකං ගවෙසන්තො දුක්ඛා ජාති පුනප්පුනං**
**ගහකාරක දිට්ඨෝසි පුන ගෙහං න කාහසී.**
**සබ්බා තෙ ඵාසුකා භග්ගා ගහකූටං විසංඛිතං**
**විසංඛාරගතං චිත්තං තණ්හානං ඛයමජ්ඣගා**

මං මෙච්චර කල් මේ සංසාරේ මේක හදන එකා, හදන වඩුවා හෙව්වා. ජාතියක් පස්සේ ජාතියක්, ජාතියක් පස්සේ ජාතියක් මම ගියා. නමුත් කවදකවත් මට හිතුණේ නෑ මේ ජාතිය ඇති වුණාට පස්සේ හොයලා වැඩක් නෑ කියල. මේ මෙතන දැනගත්ත ගමන්ම ප්‍රශ්නෙ තියෙන්නෙ ජාතියේමයි. උත්පත්තියේමයි. මේ උත්පත්තියට අපි උපන්දින සාද පවත්වමින්, පැමිණෙන ව්‍යාධි ජරා මරණ දුක් නැති කරන්න හදනවයි කියල කියන එක කාසියක එක පැත්තක් ගන්න හදනව වගෙ වැඩක්. කාසියක් ගන්නකොට පැති දෙකමයි.

අන්න ඒ ජාති දුක දැනගැනීමමයි උන්වහන්සේට සර්වඥතා ඥානය ලබාගැනීමට ලොකු හේතුවක් වුණේ. ඒ නිසා පළවෙනියෙන්ම පවත්වපු උදන පාඨයේ තියෙන්නේ මේ ජාතිය මම දැක්කා. මෙතෙක් කල් බෝසතාණන් වහන්සේ කෙනෙක් වශයෙන් පෙරුම් පුරනකොට ජරා ව්‍යාධි මරණ දුක් හොඳට දැක්කා. සතර පෙරනිමිති වශයෙනුත් දැක්කේ ව්‍යාධි මරණ ජරා. උත්පත්තිය අහු වුණේ නැහැ. උත්පත්තිය අහු වෙච්ච දවසෙම තමයි වැඩේ සිද්ධ වුණේ. ඒ නිසා මේ පැමිණිච්ච දුක පොඩ්ඩක් වෙලා ඉවසල, වෙනදට වඩා චිත්තක්ෂණයක් ඉවසල මේකේ මුල පටන්ගැන්ම මට දැකගන්නට ලැබේවා කියන අදහස යෝගාවචරයා ඇති කරගන්න ඕනැ. එහෙම ඇති කරගත්තට පස්සේ යෝගාවචරයාට වෙහෙසකරයි. ඒකයි බුදුරජාණන් වහන්සේ දේශනා

කළේ, **කිච්ඡෙන මෙ අධිගතං** - මං මේක ළඟා කරගත්තේ බොහොම බලවත් කෘත්‍යයකින්. **හලන්‍දානි පකාසිතුං** - කියලා වැඩක් නැහැ. වැඩක් වෙන්නෙ නැහැ, කියන්න ඕනැ නෑ කියල හිතෙනවා.

ඒක නිසා කවදාකවත් මෙච්චර ගැඹුරු දුක්ඛාර්‍ය සත්‍යය අවබෝධ කරගත්ත වෙලාවක මම ලෝකයේ කරන්න පුළුවන් විශාලම වැඩක් කෙරුවයි කියල කවම කවදාකවත් සම්භාෂණ පවත්වපු කෙනෙක් ලෝක ඉතිහාසයේ නැහැ. මම දුක්ඛ සත්‍යය අවබෝධ කළා කියල පාටියක් දැම්ම කියල කවදාකවත් සඳහන් වෙන්නේ නැහැ, දන්න දෙයක් නැහැ. දන කෙනත් ඉවරයි. ඒ මොකද, මුල දැක්කා කියල කියන්නේ ලොකු ඉවසීමක්. ලොකු ශාන්තියක්. එතකොට තමයි සමුදයයි දුකයි පිළිබඳව පැහැදිලි අවබෝධයක් එන්නේ.

මේක පෙර නොඇසූ නොවිරූ විධියට දැකගැනීම තමයි ධම්මචක්කප්පවත්තන සූත්‍රයේ පස්ආකාරයෙන් වර්ණනා කරල තියෙන්නේ. **චක්ඛුං උදපාදි ඤාණං උදපාදි පඤ්ඤා උදපාදි විජ්ජා උදපාදි ආලොකො උදපාදි** ඒ නිසා අපිට ඔක්කොටම සන්තෝෂ වෙන්න පුළුවන්. අපි ඒ මාර්ගයේ තමයි දැන් ඉන්නේ. ඒ නිසා මේ ධර්ම කොට්ඨාශත් එකතු කරන්නේ මේ කරගෙන යන ඉවසීමේ ශක්තියට මේ වැඩේම ඉදිරියට කරගෙන යාම සඳහා සද්ධා, වීර්ය, සති, සමාධි, ප්‍රඥා කියන ඉන්ද්‍රිය ධර්ම වඩාගැනීමටයි. නමුත් ඒ කෘත්‍යය තමතමන්ලා විසින් සම්පාදනය කළ යුත්තක් නිසා අපිම මේක සාකච්ඡා කරමින් නැවත නැවත මතු කරගත යුතුයි.

ඉතින් මේ ධර්ම කොට්ඨාශ නිසා තමන් ළඟ තියෙන අත්දැකීමටත් මේක ආලෝකයක් වේවා! ධර්ම කොට්ඨාශ ඉගෙනගැනීමටත් මේක ආලෝකයක් වේවා! මේ විදියට අත්දැකීම් සහිතව මේ වස් කාලය ගෙවී යන්න ඉස්සර වෙලා මේ කරන අමාරු සටනෙන් හිස උස්සාගන්න සියලුදෙනාට ශක්තිය, ධෛර්යය, වාසනාව ලැබේවා කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව මෙතනින් සමාප්ත කරනවා.

# 65 | ජරා දුක

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**පුනචපරං භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති චතූසු අරියසච්චෙසූ තී'ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝ රත්නයෙන් අවසරයි. මේ උපාසක නේවාසික ඇත්තන්වත් සම්බන්ධ කරගෙන සතිපට්ඨාන සූත්‍රය ඉදිරියෙන් තියාගෙන පවත්වාගෙන එන මේ ධර්ම දේශනා මාලාවේ අපි අද චතුරාර්ය සත්‍යයේ දුක්ඛ සත්‍යයට සම්බන්ධ දෙවෙනි පියවරක් තියන්ටයි උත්සාහ කරන්නේ. මේ අපේ 65 වෙනි දේශනා වාරය. අපි මීට සති දෙකකට කලින් පැවැත්වූ අවසාන ධර්ම දේශනාවේදී දුක්ඛ සත්‍යය පිළිබඳ ප්‍රවේශය, ආරම්භය, සතිපට්ඨාන සූත්‍රය අනුකූලව ඇති කරගත්තා.

ඒ අනුව අපි අද මාතෘකා කළ පාඨයේ සර්වඥයන් වහන්සේ **පුනචපරං භික්ඛවෙ භික්ඛු ධම්මෙසු ධම්මානුපස්සී විහරති** කියලා ධම්මානුපස්සනාවට වැටෙන, නමුත් මීට කලින් ඉදිරිපත් කරගන්නට යෙදුණ නීවරණ ධර්ම, ස්කන්ධ ධර්ම, බොජ්ඣංග ධර්ම, ආයතන ධර්ම වලට අමතරින් තවත් ධර්ම කොට්ඨාශයක් ඉදිරිපත් කිරීමටයි මේ ආරම්භය ලබාගන්නේ. ඒකට තමන්වහන්සේම පිළිතුරු සපයමින්; මොකක්ද ඒ? ඒ තමයි චතුරාර්‍ය සත්‍ය ධර්මය. චතුරාර්‍ය සත්‍යය භාවනා කරන යෝගාවචර පිරිස් අතර ප්‍රසිද්ධයි.

ප්‍රධාන වශයෙන්ම බෞද්ධයන් සාරය වශයෙන්, බුද්ධ පර්යප්ති ධර්මයේ, බුද්ධ ශාසනයේ ප්‍රධාන සාරය වශයෙන් ඉගෙනගන්නකොට චතුරාර්‍ය සත්‍යය ඉදිරිපත් කරගන්නවා. චතුරාර්‍ය සත්‍යය සඳහා තමයි අනෙකුත් ධර්ම කොට්ඨාශ පෙළගැහිලා යොමු වෙලා තියෙන්නේ. ඒක නිසා සතිපට්ඨාන සූත්‍රය වගේ තැන්වල ඒකායනවම, අතනෑරම, නිවැරදිවම, චතුරාර්‍ය සත්‍යයටම යොමු කරන නිසා සතිපට්ඨාන සූත්‍රයේ මුලදිම මේ හඳුන්වාදීම කරනවා. **එකායනො අයං භික්ඛවෙ මග්ගො** මේ තමයි ඒකායන මාර්ගය චතුරාර්‍ය සත්‍යයට. මේ නිසා ධම්මානුපස්සනාව කොටසෙහි ලා චතුරාර්‍ය සත්‍යය දේශනා කිරීම අවශ්‍ය කරනවා. ඒකට තමයි සච්ච පබ්බය කියලා චතුරාර්‍ය සත්‍යය පිළිබඳව පර්වයක් වෙන් කරගෙන තියෙන්නේ. ඒකේ මුලින්ම සඳහන් වෙන්නේ දුක්ඛ සත්‍යය.

ඒක සර්වඥයන් වහන්සේගේ පුදුමාකාර ඉදිරිපත් කිරීමේ ශක්තියක්. අද පවතින ලෝකයේ යමක් කෙනෙකුට ඒත්තු ගන්වන්න නම් ඒකේ ඉදිරිපත් කිරීමේ ක්‍රමයක් තියෙනවා. තවත් විදියකට කියනවා නම් අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාන කිව්වම යමක සංසිද්ධියක අර්ථය දැනගැනීම කාටත්, සිහි බුද්ධිය කල්පනාව තියෙන කාටත් තිබිය යුතු දෙයක්. තියෙන දෙයක්. නමුත් එයින් සුළු පිරිසකට තමයි එහි ඇත්තා වූ ධර්මය වැටහෙන්නේ. ඒකේ තියෙන යථාර්ථය, ඇත්ත ඇති හැටිය වැටහෙන්නේ අර්ථය දන්නා අයගෙන් සීමිත කොටසකට. ඒක හොඳට ඔප් නැංවෙනවා මේ ලෝකේ තියෙනව අර්ථ ශාස්ත්‍රය කියල එකක්. අර්ථ ශාස්ත්‍රය ගන්නකොට ධර්මය ගන්නෙ නෑ. ජීවිතයකට අවශ්‍ය කරන ධර්ම කොට්ඨාශ ගැන කතා කරනකොට ආර්ථිකය ගැන කතා කරනකොට දේශපාලනය ගැන කතා කරනකොට සමහර විටක ඕකට කියනවා අර්ථ ශාස්ත්‍රය කියලා.

නමුත් ධර්මය ඊට වැඩිය වෙනස්. අර්ථ ශාස්ත්‍ර කියන දේවල්, දැන් මේ ලෝකයෙ ජේන්න තියෙන මෙලොවට අයිති දේවල් වශයෙන් සලකනකොට මේ ලෝකය පරලෝකය දෙකටම ගැළපෙන තාලෙට ඒ දේවල් දක්ෂව කරන්න නම් ධර්මය පිළිබඳව අවබෝධයකුත් තියෙන්න ඕනෑ. එන්න ඒ දෙකම දැනගත්තට මදි

ගොළුවෙකුට නම්. අවබෝධ කරන්න පුළුවන් භාෂාවෙන් ඒක තව කෙනෙකුට කියාදෙන්න බැරි නම්, ගොළු භාවයක් නම් තියෙන්නේ, ඒකෙන් ලෝකෙට වෙන සේවාව අඩු නිසා ඒක නිරුක්තියට නංවන්න ඕනැ. නිරුක්ති කියල කියන්නේ ලෝකයේ ඒ වෙලාවේ ඒ කාලයේ ඒ දේශයේ පවතින්නා වූ භාෂා ශාස්ත්‍රයට නංවන්ට ඕනැ. ව්‍යාකරණානුකූලව ඒක ගොඩනගන්න ඕනැ. ඒකට නිරුක්ති ශාස්ත්‍රය අවශ්‍යයි. මේ අර්ථ ධර්ම වැටහෙන ඔක්කෝටම නිරුක්ති ශාස්ත්‍රය වැටහෙනවා නෙවෙයි. ගොළුවෙක් දැකපු හීනේ වාගේ බොහෝම ජයට අත්දකින්න පුළුවන්. නමුත් මේක නිරුක්තියට දක්වීමේදී එක එක්කෙනාගේ තියෙන දක්ෂකම් අදක්ෂකම් බොහොම වෙනස් වෙනවා. ඒක නිසා නිරුක්තියත් බොහොම වැදගත්. මෙන්න මෙව්වා සාමාන්‍ය කාගෙ අතරෙත් තරාතිරම්වල හැටියට අර්ථ ධම්ම නිරුක්ති පටිභාන වෙනස් වෙනවා. නමුත් එහි මේ ලෝකෝත්තර ධර්මයක් අර්ථ වශයෙන් ධර්ම වශයෙන් නිරුක්ති වශයෙන් තේරුම් අරගෙන එළි දක්වන්නා වූ විශේෂ හැකියාවලට තමයි පටිභානය කියලා කියන්නේ.

මේ පටිභානයේදී වැඩේ විතරක් මදි. වැඩේ හැඩේ තියෙන්නත් ඕනැ. කාරණාව තමන් තේරුම්ගත්තා. අනුන් කෙරෙහි කියාදීමේ කරුණාව මෛත්‍රියත් තිබුණට මදි. ඒකට කරන ක්‍රමවේදයක් තියෙනවා. ඉදිරිපත් කිරීමේ ක්‍රමයක් අවශ්‍යයි. විශේෂයෙන්ම මේ වගේ ගම්භීර ධර්මයකදි. අන්න එතනදි සර්වඥයන් වහන්සේ දුක්ඛ සත්‍යය ඉස්සරහට දනවා. ඉතින් සාමාන්‍ය වශයෙන් අද පවතින්නා වූ වාණිජකරණයේදී, එහෙම නැත්නම් වෙළෙඳ ප්‍රචාරක මාධ්‍ය අවස්ථාවලදී හුඟක් වෙලාවට එහෙම කෙනෙකුට, අද ඉන්න විශේෂඥයෙකුට චතුරාර්‍ය සත්‍යය ඉදිරිපත් කළා නම් කතා දෙකක් නැ, නිරෝධ සත්‍යයෙන් තමයි පටන්ගන්නේ. ඒක තමයි බොහෝම ලස්සන හොඳ මුහුණුවරක් තියෙන්නේ. නමුත් මෙතනදී සර්වඥයන් වහන්සේ දුක්ඛ සත්‍යයම ඉදිරිපත් කරලා තියෙනවා.

ඒක හරියට අර අර්ථ, ධම්ම, නිරුක්ති, පටිභාන කිව්වා වගේ අර්ථයමයි, මේ ලෝකයේ ඉන්න කෙනාට වැටහෙන දුක, දුක

වශයෙන්. ඊට පස්සේ ඒකේ ගම්භීර භාවය පෙන්නනවා නිරුක්ති පෙන්නන්නා වාගේ ධර්ම පෙන්නන්නා වාගේ මේක තණ්හාව නිසයි ඇති වෙන්නේ. නමුත් ඒ ඔක්කෝටම ඉස්සෙල්ලා දුක ඉදිරිපත් කිරීම නිසාම, අපි ගිය වතාවේදීත් කිව්වා කරගත්තා වගේ සර්වඥයන් වහන්සේට සහ උන්වහන්සේගේ ධර්මයට ශ්‍රාවක පිරිසට දෙස් නගනවා, මේ ලෝකයේ ඇත්තා වූ නාස්තික පැත්ත, නස්චාර්ථ පැත්ත, නරක පැත්ත ඉදිරිපත් කරගත්ත ශාස්තෲවරයෙක් කියලා. නමුත් මේකේ ඇත්ත, මේකේ ඇත්තා වූ තථ්‍ය භාවය, මේකේ ඇත්තා වූ අනන්‍යතාව පිළිබඳව ඒ ඇත්තෝ නිරුත්තර වෙනවා. නිශ්ශබ්ද භාවයකට පත් වෙනවා. සර්වඥයන් වහන්සේ මනුෂ්‍යයින්ගේ, සාමාන්‍ය ජනතාවගේ ඇත්තා වූ නාස්තික විවේචනයට නිශ්ශබ්ද වෙලා මෙහි ඇත්තා වූ සත්‍ය, තථ්‍ය, අනන්‍යතාව ගැන සලකලා දුක්ඛ සත්‍යය කියන එක සත්‍යයක්. ඒක අමිහිරි බව ඇත්ත. කව්රුත් ඒක පිළිගන්න කතා කරන්න කැමති නැති බව ඇත්ත. ඒක අභව්‍ය, එහෙම නැත්නම් අශෝභන අවමංගල්‍ය අභද්‍ර ධර්මයක් වශයෙන් සලකන්න ඉඩ තියෙනවා.

නමුත් සර්වඥයන් වහන්සේ පුදුම විදිහට දුකම ඉදිරිපත් කළා. ඒ දුක ඉදිරිපත් කිරීමේදී **කතමඤ්ච භික්ඛවෙ දුක්ඛං අරියසච්චං - ජාතිපි දුක්ඛා, ජරාපි දුක්ඛා, මරණම්පි දුක්ඛං** ආදී වශයෙන් ප්‍රධාන වශයෙන්ම පෙන්නන්නේ ජාති, ජරා, මරණ. මේක අන්තිමටම බිඳලා මේක තමා අපි සංඛත ධර්මයක පවතින්නා වූ මූලික ලක්ෂණය වශයෙන් පෙන්නන්නේ **උප්පාද ඨිති භංග** කියල. **උප්පාදො පඤ්ඤායති, වයො පඤ්ඤායති, ඨිතස්ස අඤ්ඤථත්තං පඤ්ඤායති.** මේක මුළු භවය පුරාම සංසාරය පුරාම හරස්කඩක්. අනිවාර්ය සත්‍ය තත්ත්වයක්. ආන්න ඒ සත්‍ය තත්ත්වය ඒ මනුෂ්‍යයා කියන සතාගේ ජීවිතයට සම්බන්ධ කළාම ඒකට අපි කියනවා ජාති, ජරා, මරණ කියල. ධම්මචක්කපවත්තන සූත්‍රය වගේ තැන්වල ජාති, ජරා, ව්‍යාධි, මරණ කියලත් පෙන්වනවා.

මෙතනදී අපිට ගන්න වෙනවා ජරා, මරණ කියන දෙකම මේ ජරා කියන පදේට. අපි එද ඉගෙනගත්තා ජාතිය **යා තෙසං තෙසං සත්තානං තම්හි තම්හි සත්තනිකායෙ ජාති සඤ්ජාති ඔක්කන්ති**

**අභිනිබ්බත්ති ඛන්ධානං පාතුභාවො ආයතනානං පටිලාභො** කියලා ජාතිය පිළිබඳව කතා කළා. එතෙන්දි අපි විශේෂයෙන් මතක් කළා ජාතිය ඇති වෙන හැටි අපිට සාමාන්‍ය ලෝකයා පෙන්නන්න කැමති නෑ. අපි දකින්නේ හුඟක් වෙලාවට ජාතිය ඉක්මවලා යම්කිසි ප්‍රමාණයකට හැදිච්ච වැඩිච්ච සංසිද්ධියක්. එහෙම නැත්නම් සතෙක්. එහෙම නැත්නම් දෙයක්. ඇති වීම හුඟක් වෙලාවට අපි දකින්නේ නෑ. දැක්කත් අපි ඒක හැම වෙලාවටම මංගල කාරණාවක්, සුභ කාරණාවක්, ආඪ්‍යයක්, සංවර්ධනයක් වැඩීමක් විදියට තමයි සලකන්නේ. මේක බෞද්ධයන් අතර පවා ප්‍රචලිත අන්ධ භූතයක්. ප්‍රචලිතව පවතින අන්ධ විශ්වාසයක් තියෙනවා ජාතිය පිළිබඳව හොඳ කතා කරන ගතියක්. බැරි වෙලාවත් සර්වඥයන් වහන්සේගේ ජාතිය, බුදු වීම, පරිනිර්වාණය කියන තුනම එක දවසේ නොවුණා නම් බොහෝ විට බෞද්ධයෝ සර්වඥයන් වහන්සේ වෙනුවෙන් උපන් දින සාද පවත්වන්න තිබුණා. නමුත් ඒකෙත් හොඳ ලස්සන ආදර්ශයක් පෙන්වමින් උන්වහන්සේ ජාතිය ඒ වෛශාඛ පූර්ණමය දිනය ඇති උනා වගේම බුද්ධත්වයට පත් වීම - සර්වඥතා ඥාන පටිලාභයත් තමන් වහන්සේගේ මහා පරිනිර්වාණයත් ඒ දවසටම වෙච්චි නිසා හුඟක් පූජා පින්කම්වලට ලැදි ඇත්තන් ලොකු කරදරේකට පත් වෙලා තියෙනවා කොහොමද මේ දවසට අපි උත්සවයක් පවත්වාගන්නේ කියලා. ඒක බොහොම ලස්සන ආදර්ශයක් බුද්ධ චරිතයේ.

කොහොම නමුත් නමුත් ජාතිය මොනම දේක හරි කමක් නෑ සතෙක්ගේ හෝ වස්තුවක හෝ නව නිෂ්පාදනවල එහෙම පුදුමාකාර සිලිලාරයක් ලෝකේ තියෙන්නේ. නමුත් සර්වඥයන් වහන්සේගේ අපි එද මතක් කරගත්ත විදිහට ප්‍රථම බුදු වීමෙන් පස්සේ ප්‍රථමයෙන් මුඛයට නැගිච්ච, භාෂා විලාශයට නැගිච්ච ප්‍රථම වචනය උනේ **අනෙකජාති සංසාරං සන්ධාවිස්සං අනිබ්බිසං ගහකාරකං ගවෙසන්තො දුක්ඛා ජාති පුනප්පුනං**. අන්තිම අනන්ත සංසාරයක් පුරාම හැසිරුණා මේක පටන්ගන්නේ කොහොමද කියලා බලාගන්න. **ගහකාරක දිට්ඨොසි පුන ගෙහං න කාහසි**. මම අද එන්න ඒ ජාතිය දැක්කා. **සබ්බා තෙ ඵාසුකා භග්ගා ගහකූටං**

**විසංඛිතං විසංකාරගතං චිත්තං තණ්හානං ඛයමජ්ඣගා.** මම ඒ ආය ජාති ඇති නොකරන විදිහට ඒ වඩුවාගේ අඩුම කැඩුම ටිකත් ඒ කැණිමඩලත් ඔක්කොම කඩලා විසික් කරලා දැම්මා. මීට පස්සේ හදන්නේ නෑ.

මේක බොහෝ විට ජාතිය පිළිබඳව මංගල පැත්තෙන් භද්‍ර පැත්තෙන් බලන ඇත්තන්ට හරිම දරාගන්න බැරි දිරවාගන්න බැරි ධර්මයක් බවට පත් වෙලා තියෙනවා. නමුත් අද අපි ඉදිරිපත් කරගන්න හදන මේ ජරාව කියන එකේ ඒ වගේ ඒත්තුගැන්වීමේ දුෂ්කරකමක් නම් නෑ. සමාජයේ මතිමතාන්තරවලට අහු වෙච්ච එකක් නම් නෙවෙයි. ජරාව අවමංගල්‍යයක්ම තමයි. ජාතියේදී වගේ උපන් දින සාද පැවැත්වීමක් ජරාවට නෑ. ඒක කව්රුත් පිළිගන්නවා. නමුත් මේ ජරාව ප්‍රධාන වශයෙන්ම නිර්මාණවාදී ඊශ්වර නිර්මාණවාදී සංකල්පයට විශාල තර්ජනයක් එල්ල කරනවා. ඊශ්ව,ර එහෙම නැත්නම් මැවුම්කාර දෙවියන් වහන්සේ, සර්වබලධාරීන් වහන්සේ මහා කරුණාවෙන් මහා ප්‍රඥාවෙන් දිව්‍ය ලෝක මනුෂ්‍ය ලෝක දෙක මවා වැදෑරුවා නම් ඇයි මේ ජරාව මැව්වේ? ඇයි මේ ජරාවට පත් වෙන ලෝකයක් මැව්වේ? නමුත් ඒ ඇත්තෝ පුදුමාකාර තර්ක විතර්ක ඉදිරිපත් කරනවා. එක පොතක සඳහන් කරලා තියෙනවා අපි මේ ලෝකෙට සත්‍යය හෙළි කරන්නා වූ ශාන්තුවරු පහළ කරනවා. ඒ ශාන්තුවරුන්ට අපි ජරාවට හේතු වන ව්‍යසන ඉදිරිපත් කරනවා. අන්න ඒ ව්‍යසනවලදී ඒ ශාන්තුවරු හිත මෙළෙක්ව දිගටම පවත්වාගෙන හිටියොත් දෙවියන් වහන්සේගේ ආශීර්වාදය ලබනවා. ඒ ඇත්තෝ යම් විදිහකට මේ ජරාවලදී ව්‍යසනවලදී ආදීනවවලදී හිත දැඩි කරගත්තොත් මාර පාශයට අහු වෙනවා. එතකොට දෙවියන් වහන්සේගේ ශාපයට ලක් වෙනවා. එයා ඊට පස්සේ ශාන්තුවරයෙක් නෙවෙයි. ඒ නිසා ඒ ශාන්තුවරුන්ගේ ආයුධ මුවහත් කරන්නයි මේ ජරාව ඒ සර්ව බලධාරී දෙවියන් වහන්සේ මවලා තියෙන්නේ. නරක නෑ වැඩේ.

නමුත් සර්වඥයන් වහන්සේගේ දේශනාවේදී එහෙම මැවුම්කාර අදහසක් නෙමෙයි ඉදිරිපත් කරන්නේ. මේක සංස්කාර

සංඛත ලෝකයේ අනිවාර්ය අංගයක්. ඉපදුණා නම් ජරාව ඒකාන්තයි. අන්න ඒ ජරාව පිළිබඳව අපි බෞද්ධයන් වශයෙන් හොඳට තේරුම් බේරුම් කරගන්න තියෙන්නේ ජාතියේදී වාගේ මේක මංගල කාරණාවක් කියන පටලැවිල්ලත් නැති නිසා ජරාව පිළිබඳව අපි ළඟ මධ්‍යම ප්‍රතිපදාවද තියෙන්නේ නැත්නම් කාම සුඛල්ලිකානුයෝගයද නැත්නම් අත්තකිලමථානුයෝගයද තියෙන්නේ කියලා බලන එකයි. ඒකෙදි අනිත් කාරණාවල වගේ මනුෂ්‍යාගේ, නැත්නම් ශාන්තුවරයාගේ ඉන්ද්‍රිය ධර්ම මුවහත දැකබලන්න දීපු එකක් වශයෙන් කියලා ගත්තාහම එක විදිහකට ඒගොල්ලෝ උත්තර දෙන්න හදනවා.

නමුත් අපි සාමාන්‍ය මනුෂ්‍යයින්ගේ තත්ත්වය අරගෙන බැලුවහොත් ජරාව පිළිබඳ මේ ප්‍රශ්නය බැලූ බැල්මට පේන්න තියෙන්නේ මනුෂ්‍යයාට විතරයි අදාළ. කිසිම සතෙක් පර්යේෂණ කරලා නෑ තමන්ගේ ජරාවට හේතුව. දෙවියන් වහන්සේට අන්තිමට අවමංගල්‍ය ලක්ෂණ, නැත්නම් සොහොන් ලකුණු පහක් පහළ වෙන වෙලාවේ ඇර, දෙවියන්ට නැහැයි කියලා කියනවා. ඊට පස්සේ චුතියකින් වැඩේ හමාර වෙනවා. මේක ඒකාන්තයෙන්ම මනුෂ්‍යයාට ආවේණික වූ ප්‍රශ්නයක්. මනුෂ්‍යයා අනාගත්ත ප්‍රශ්නයක්. මේ පුංචි පටලවාගැනිල්ලක් නෙවෙයි මේකේ තියෙන්නේ. විශාල පටලවාගැනීමක් තියෙන්නේ. ඒ පටලවාගැනිල්ලේ අපි හැම චිත්තක්ෂණයකම එක්කෝ ඒ අත්තකිලමථානුයෝගය අනුව අන්තවාදයට ගිය, පටලවාගත්ත ඇත්තන්ට ඡන්දය දෙන වෙලාවක් තියෙනවා. එහෙම නැත්නම් කාමසුඛල්ලිකානුයෝගය අනුව පටලවාගත්ත ඇත්තන්ට ඡන්දය දෙන වෙලාවක් තියෙනවා. මේ දෙකේදිම අපිට ජරාව පිළිබඳව යථාභූත ඥානයකට ඉඩ නැති වෙනවා.

ජරාව පිළිබඳව සර්වඥයන් වහන්සේ දේශනා කරන්නේ **කතමා ච භික්ඛවෙ ජරා: යා තෙසං තෙසං සත්තානං තම්හි තම්හි සත්ත නිකායෙ ජරා ජීරණතා ඛණ්ඩිච්චං පාලිච්චං වලිත්තචතා අයුනො සංහානි ඉන්ද්‍රියානං පරිපාකො.** මෙන්න මේක මේ තාලෙට බලාගැනීම තමයි අපිට මේ ධර්ම දේශනාවෙන් අපි මතු කරගන්න

ඕනැ. සමථ විදර්ශනා භාවනාවෙන් මතු කරගන්න ඕනැ. ශීලයේදී ඉදිරිපත් කරගන්න ඕනැ. එහෙම නැතුව මේක පිළිබඳව ඇත්තා වූ අනෙකුත් මතිමතාන්තර හැම වෙලාවේදීම අපි ඒ මධ්‍යම ප්‍රතිපදාවෙන් හෙළනවා. පැත්තකට හෙළනවා. මේ ජරාව දුරින්ම දුරුවන් කරන එක තමයි අදහසක් උනේ අර දේවවාදී අදහස් තිබුණ ඇත්තන්ට. ඒ ඇත්තන්ට උත්තරයක් දීගන්න බැරි උනා නේ මේ මැවුම්කාර මහා කරුණාවෙන් යුක්ත මේ උත්තමයන් වහන්සේට ඇයි ජරා නැති ලෝකයක් මවන්න බැරි උනේ කියලා. ඒ නිසා ඒ ආගම්වාදී ඇත්තන්ට සිද්ධ උනා ජරාව නැති දෙයක් බවට හෝ සුළු දෙයක් බවට හෝ පත් කරලා දෙවියන් වහන්සේගේ නිර්මාණය කිසිම වැරැද්දක් නැති එකක් බවට පෙන්නන්න.

ඒ නිසා මේ ඇත්තෝ ජරාව නැති කිරීම රජයේ යුතුකමක් ආගමේ යුතුකමක් කියලා ආගමේම ස්ථාන ඇති කළා වයසක ඇත්තෝ ගිහිල්ල තැන්පත් කරන්න. ළමා මඩම් හදන්න, ඉස්පිරිතාල හදන්න, මානසික රෝගීන්ට නතර වෙන්න තැන් හදන්න ඒ ආගම බාර ගත්තා. ඒක නිසා බොහෝම ලස්සන සුන්දර ලෝකයක් හැදුණා. ඒ ආගමට බැඳුණා වූ සහෝදර සහෝදරියන් සහ මව්වරු පියවරු සමාජයේ තියෙන මේ අකට විකටතා ආදීනව කොටස් සියල්ලම බාරගත්තා. බාර අරගෙන ආයතන පිහිටෙව්වා. වයසට යන ඇත්තන්ට මහලු මඩම් හදලා තරුණ කොටස් ඒකට වග කියන්න ඕනැ නෑ ඒක අපි බලාගන්නම්, ඒක තමයි දෙවියන් වහන්සේ සඳහා කළ හැකි මෙහෙවර. හොඳම ක්‍රියාවක් හොඳම පින් ක්‍රියාවක් කියලා වයසක ඇත්තෝ ඒ මහලු මඩම්වලට ගාල් කරගත්තා. උන්මත්තකයෝ පිස්සන් කොටුවට ගාල් කරනවා. ලෙඩ්ඩු ඉස්පිරිතාලෙට ගාල් කරනවා. පොඩි ළමයි මඩම් වලට ගාල් කරනවා.

ඒ ඇත්තෝ හැබැයි අපේ සාමාන්‍ය බෞද්ධ උපස්ථායකයන්ට වඩා මේක දේව මෙහෙයක් වශයෙන් සලකන්න පටන්ගත්තා. ඒ නිසා වයසක ඇත්තන්ගේ ප්‍රශ්න වෙනමම ගොනු වෙන්න පටන්ගත්තා සංවිධාන ශක්තිය නිසා. ඒ වාගේම

ලෙඩ්ඩුන්ගේ ප්‍රශ්න වෙනමම, මානසික රෝගීන්ගේ ප්‍රශ්න වෙනමම ගොනු වෙන්න පටන්ගත්තා. ඒ වගේම පොඩි ළමයින්ගේ අනාථ නිවාසවල ප්‍රශ්න ගොනු වෙච්චහාම මේ තුළ වෙනම විෂය ධාරා ගොඩ නැගෙන්න පටන්ගත්තා. ඒ ප්‍රශ්නයේම දිනපතාම පිළිතුරු සපයමින් ප්‍රශ්න ඇති වෙමින් යනකොට යෙදී ඉන්න ඇත්තන්ට ඒක පිළිබඳව ළමා පොඩි ප්‍රශ්න, අනාථ වෙච්ච ඇත්තන්ගේ මඩම් වල ප්‍රශ්න ඉස්පිරිතාලවල ප්‍රශ්න, මානසික රෝගීන්ගේ ප්‍රශ්න, වැඩිහිටියන්ගේ ප්‍රශ්න කියකියා ගියහම ඒක වෛද්‍ය විද්‍යාව, තාක්ෂණය, විනෝදාංශ, එහෙම නැත්නම් සුඛෝපභෝගිත්වය ආදී වශයෙන් විශාල කර්මාන්ත දියුණු වෙන්න පටන්ගත්තා. ඒක නව විද්‍යාවක් වශයෙන්, තාක්ෂණයක් වශයෙන්, වෛද්‍ය විද්‍යාවක් වශයෙන් ඉතාම ප්‍රසිද්ධ වුණා.

සාමාන්‍යයෙන් ආසියාකරයේ තිබුණේ පොඩි ළමයත් ගෙදර, ලෙඩත් ගෙදර, වයසක අත්තත් ගෙදර, පිස්සත් ගෙදර. ඒ නිසා අනෙක් ඉන්න ඇත්තන්ට සෞඛ්‍ය සම්පන්න ඇත්තන්ට සිද්ද වෙනවා ඒ සම්භාෂණ ප්‍රිය සම්භාෂණ පැවැත්වීම කෝක වෙතත් අර පොඩි දරුවන්ගේ ප්‍රශ්නවලට උත්තර දෙන්න. පිස්සන්ගේ නැත්නම් මානසික රෝගීන්ගේ ප්‍රශ්න තමන්ගේ පවුලේ ගමේ ප්‍රශ්නයක් වශයෙන් බාරගන්න වෙනවා. වයසක ඇත්තෝ උපදෙස් උපහැරණ දෙමින් ගෙදරදොරේම ගත කරනවා. ලෙඩ උනත් ගෙදරමයි. වෙද ගෙදරටයි එන්නේ. මේ නිසා ආසියාකරයේ පවුල්වලට තිබුණු ජරාව පිළිබඳව අවබෝධය පවුලේ ප්‍රශ්නයක්. බටහිරට යනකොට ඒක ආණ්ඩුවේ ප්‍රශ්නයක්, නැත්නම් ආගමේ ප්‍රශ්නයක් බවට පත් වුණා.

ඒ නිසා ඉතාම සංවිධානාත්මකව තමයි සමාජයේ පවතින්නා වූ ජරාව පිළිබඳව බටහිර ලෝකේ උත්තර දෙන්න ලැස්ති වෙන්නෙ. ඉතින් ඒක අපිට එනකොට ආසියාකරයේ හැදිච්ච ඇත්තන්ට, අපිට පෙනුණා මේක හරි ෂෝක් නෙ. බොහොම වටිනවා. ලේසියි වැඩේ. කරකවලා අතහැරලා දැන් අපේ යුගය වෙනකොට ඔය පටලැවිල්ලේ පැටලිලා අවුරුදු 20 ක 30 ක විතර අත්දැකීම් අපට තියෙනවා. එතකොට දැන් මොකද වෙලා

තියෙන්නේ. ඔය ජරාවට උත්තර ආයතන වශයෙන් සලකන්න ගියාම ඉතුරු වෙන අයට මොකද වෙලා තියෙන්නේ. ඒ ඇත්තන්ට කවදකවත් නැති අලුත් ප්‍රශ්න මතු වෙනවා. තද අසහනයකට එන්න පටන් අරන් තියෙනවා. ඉස්සර ඒ අසහනයට කරන්න දේකුත් නෑ. මොකද ගෙදරදෙරේ ප්‍රශ්න තියෙනවා. පොඩි දරුවෙක් ඉන්නවා. ඒ දරුවට දේවල් කරන්න කියන්න තියෙනවා. නැත්නම් මිනිස්සුන්ට ලොකු ඇත්තන්ට වැඩිහිටියන්ට හැසිරෙන්න සිද්ධ වෙනවා. ලෙඩ්ඩු ගෙදර ඉන්නවා. මොළේ නරක් වෙච්ච එක්කෙනෙක් දෙන්නෙක් කොහොමටත් ගමක හමාරක ඉන්නවා. වයසක ඇත්තෝ ඉන්නවා. ඒ නිසා අනවශ්‍ය විදිහට ඉඳුරන් පිනවීම සඳහා අති ධාවනකාරීව පරිභෝගිකත්වයට යෑම සඳහා සමාජය පෙළඹෙන්න බෑ. මොකද හතරපැත්තකින් විලංගු වැදිලා තියෙන්නේ. දේව දූතයෝ හතරදෙනෙක් ගෙදර. ඒක නිසා කාටවක්වත් ඕනෑ නැති අධික සම්භාෂණවලට යන්න බැරි උනා රජ පවුලක සිටු පවුලක හැර.

මේකේ ආදර්ශයක් අපිට දැකගන්නට පුළුවන් ගෞතම සිද්ධාර්ථ චරිතයේදී. එතුමන් වහන්සේ ඉපදිච්ච ගමන්ම එක්කෝ සක්විති රජ වෙනවා. නැත්නම් සර්වඥතා ඥානය ලබනවා කියලා අධි මානසිකත්වයෙන් යුක්තව ඒ අනාගත වාක්‍යය දේශනා කළහම රජ්ජුරුවන්ට අවශ්‍ය වුණේ ඒකාන්තයෙන්ම සක්විති රජ කරවන්න. එහෙම වෙන්න බෑ. මෙයා ඇත්ත දැක්කොත් මේ ජරාව දැක්කොත් බුදු වෙන්න ඉඩ තියෙනවා. ගිහි ගෙය අත අරින්න ඉඩ තියෙනවා. කළකිරෙන්න ඉඩ තියෙනවා. ඒ නිසා රජ්ජුරුවෝ ආන්න අර බටහිරේ කෙරුවා වගේ මුළු නගරය පුරාම ජරාව නැති කළා. මරණය නොදකින්න ඇරියා. ලෙඩ්ඩු නැති කළා. වයසට යන ඇත්තෝ නැති කළා. ඒ රජ අණට. නමුත් සිද්ධාර්ථ කුමාරයා විවාහ ජීවිතයට පත් වෙලා පුරවැසි භාවය ලැබුණට පස්සේ අර නගර සීමාව පැනපු ගමන්ම නගරයට සාමාන්‍ය කෙනෙක් වශයෙන් ඇතුල් වෙච්ච ගමන්ම ඉතාමත්ම තදින් වැදුණේ මෙන්න

මේවා තමයි. මේවාට අපි කියනවා පෙරනිමිති කියලා. සතර පෙර නමිති කියලා.

ඉතින් ජරාව ඒ නිසා එදා ඒ සර්වඥයන් වහන්සේ බවට පත් වෙන්න හිටපු බුද්ධාංකුරයන් වහන්සේගේ ලොකු චින්තාමය පරිණාමයකට පෙරළියකට හේතු වුණා. ඒක අතැරියේ නෑ. ඒ ගත්ත ගැම්ම නිසාම තමයි වීර්යයෙන් ශ්‍රද්ධාවෙන් කළ යුතු උත්තම ක්‍රියාව වන මේ අභිනිෂ්ක්‍රමණයට පෙළඹුනේ. ඒ අභිනිෂ්ක්‍රමණයට පෙළඹිලත් ඒත් අතඇරියේ නෑ. දිගටෝම කල්පනා කරමින් වැඩ කෙරුවේ හොඳ තරුණ යෞවන වයසෙදි මේක ගැනමයි. ඉතින් ඒක හරිම දරාගන්න අමාරුයි දේවවාදී ඇත්තන්ට. මේ මෙච්චර සැප සම්පත් තියෙන කෙනෙක් ඇයි මෙච්චර අත්තකිලමථානුයෝගය ගැන කල්පනා කළේ? ඇයි මේ සමාජයේ නරකම හොයන්නේ? ඇයි මේ විදිහට දරුවන් අඹුවන් රාජ්‍යය අතහැරලා ගියේ කියන එක පුදුම විදිහට නිදර්ශන දෙන්න පටන්ගන්නවා. හරි අමාරුයි ඒක අපිට වුණත් හැගුම්බරව මහා කරුණාවෙන් විසඳන්න ගියොත් කරන්න අමාරුයි. නමුත් ප්‍රඥවට වැටහෙනවා ජරාව පිළිබඳ මධ්‍යම ප්‍රතිපදාවේ ඉඳගෙන දැනගන්නවයි කියන එක, නැත්නම් ජරාව ජරාව වශයෙන් දැකගන්නවයි කියන එක ඔය තර්කෙකින්වත් ගුරුවරයා මේක දැක්ක නිසාවත් තමන්ට මේක දකින්න ඕනැකම තිබුණටවත් කවදාකවත් කරන්න බෑ.

අනිවාර්යයෙන්ම ජරාව ජරාව වශයෙන් දැකගැනීමට හොඳ සීලයක් තියෙන්න ඕනැ. ඒ මතුමත්තේ ඉඳලා හොඳ සමාධියක් ඇති කරගන්න ඕනැ. නමුත් වැඩේ එතනින් නතර වෙන්නේ නෑ. ප්‍රඥ භාවනාවෙන්මයි ජරාව ජරාව වශයෙන් දැකගන්න පුළුවන් වෙන්නේ. ඒ වැඩ පිළිවෙළේ යෙදී ඉන්න නිසයි අපි යෝගාවචර ජීවිතයක තියෙන වටිනාකම දකින්නේ. ඒ තියෙද්දිත් අපි ඒ වැඩ කරගෙන යනකොට අපිට ජරාව ඉදිරිපත් වෙනවා. මොකද, අරණ්‍යවාසීව හිටියත් ගෙවල් දෙරවල්වල සිල් පද රකිමින් හිටියත් ජරාව කියන එක අපිට ඒකාන්තයෙන්ම ඉදිරිපත් වෙනවා. ඉදිරිපත් වෙච්චි වෙලාවල්වල ජරාවට පත්වුණේ කවුද කියන එක මත අපි සැලෙන හැටි අපිට දැකගන්න පුළුවන් වෙනවා නම්, එක ජීවිතයක්

ඇති මේ ප්‍රශ්නය තේරුම්ගන්න. මේ ජරාව අල්ලපු ගෙදර තරහකාරයාගේ නැත්නම් අන්‍යාගමික කෙනෙකුට පත් වුණා නම් අපි හිතනවා ඔන්න අපේ බලේ. ඔන්න මගේ මන්තරේ හැටි. ඔන්න මගේ වශී කිරීම. මම අහවලා දුකට පත් කෙරුවා. අහවලා ජරාවට පත් කළා. හරි, කියලා අපි ජයග්‍රහණයක් කරගන්නවා ඒක.

බැරි වෙලාවක්වත් අපිට දුරින් සම්බන්ධ වෙච්ච කෙනෙකු මේ ජරා තත්ත්වෙකට පත් උනා නම් අපි ඉතින් අනේ අනිච්චං කියනවා. කර්මේ හැටි කියලා කියනවා. ඒ පුද්ගලයාට යමක් කරගන්න බැරි නිසා නේ කියලා අපි ඒකට එක විදිහකට නිදර්ශන දෙනවා. නමුත් කිට්ටුවන්තයෙකු ජරාවට පත් උනා නම් අපිට සන්තෝෂ වෙන්න පුළුවන් ගතියක් හෝ කර්මයට ඉඩ දීලා නිකන් ඉන්න පුළුවන් ගතියක් නෙමෙයි. අපි ටිකක් ඒකට දඟලන නලියන, ඒකෙන් අපි හිත ඒ වෙලාවේ හැගුම්බර වෙන ගතියකට පත් වෙනවා. ඒත් අපි උපස්ථානය මට්ටමින් නතර වෙන නිසා හුස්ම ගන්න වෙලාවක් තියෙනවා. නමුත් බැරි වෙලාවත් අපි ජරාවට පත් වෙනකොට, මේ කතා කරන කෙනාම ජරාවට පත් වෙනකොට අර කියන මධ්‍යස්ථව බලන ගතිය හුඟාක් වෙලාවට හැගුම්වලට යට වෙනවා.

මේ තත්ත්වය හුඟාක් වෙනස් හොඳට භාවනා කරලා අෂ්ට ලෝක ධර්මය විෂයෙහි කම්පා නොවන හිතක් ඇති කරගත්ත කෙනාට. ජරාව හතුරෙක්ගේ දෙයක් උනත් ඈතින් සම්බන්ධ වෙච්ච කෙනෙක්ගේ උනත් තමන් එක්කම ඉන්න හිතවන්ත කෙනෙක් උනත් තමන්ගේ දෙයක් උනත් ඒක සම මට්ටමින් බලාගන්න පුළුවන් වෙන්න ඕනැ. ඒකයි ප්‍රශස්ත මට්ටම. මෙතනදී සතිය බොහොම වැදගත් කෘත්‍යයක් ඉෂ්ට කරනවා. අපිම ජරාව පිළිබඳ සිද්ධියක් හිතට ආපුවම අපි මේකට දෙන අර්ථකථන, මේක දිහා බලන හැටි බලපුවාම මේක කබරගොයෙක් කරගන්න හදනවද තලගොයෙක් කරගන්න හදනවද කියන එක අපිට නම් අහු වෙන්නේ නෑ. ඒක අහු වෙන්නේ අහගෙන ඉන්න කෙනාට. අපි ගැන උනන්දුවෙන් හෝ අනුකම්පාවෙන් හෝ අහගෙන ඉන්න කෙනාට වැටහෙනවා කොහොමද අපි ජරා, ජීරණතා, කණ්ඩිච්චං,

පාලිච්චං ආදී වගේ දෙයක් ආපුවහම ක්‍රියා කරන හැටි. මෙහිදී සම්පුර්ණ ක්‍රියා නොකිරීම එක අන්තයක්. ඕනෑවට වැඩිය මේක පිළිබඳව සැලෙන එකත් තව අන්තයක්.

අපිට සිද්ධ වෙනවා මේ දෙක අතරමැදට එන්න. ගිරිමානන්ද සූත්‍රයේ සර්වඥයන් වහන්සේ මේක පිළිබඳව සඤ්ඤා දෙකක් ඉදිරිපත් කරලා තියෙනවා අසුභ සඤ්ඤා, ආදීනව සඤ්ඤා කියලා. ජරාව පිළිබඳව අසුභ සඤ්ඤා කොටසේ දෙතිස් කුණපයේ පළවෙනි තචපංචකය බොහෝම වැදගත්. මොකද ජරාව පේන කොටසෙ නේ අපිට මේ ප්‍රශ්නය තියෙන්නේ. ජරාව නෑ කියන්න අපි යන්නෙත් නෑ. අනුන්ට තිබුණට කමකුත් නෑ. අපට පේනකොට තමයි ඕකට බොහෝම අමාරුව තියෙන්නේ. ශරීරයේ පේන කොටස් ටික තමයි **කෙසා, ලොමා, නඛා, දන්තා, තචො.** ඒ නිසා සාමාන්‍යයෙන් ළදරු සාමණේරයාට හොඳට කැපී පේන තචපංචකය තමයි දෙන්නේ. තචපංචකය හොඳට කරලා ඒක **අජ්ඣත්ත බහිද්ධා** වශයෙන්, තමන් සහ අනුන් වශයෙන් සම්බන්ධ කරන කොට විශාල විපස්සනාවකට විශාල ගැඹුරකට ඉඩ සලසනවා. අනෙකුත් කොටස්වලටත් මේක පැතිරෙනවා. නමුත් මේ තචපංචකයම ඇත්ත ඇත්ත ඇති සැටියෙන් පෙන්නන්න උදව් කරනවා.

ඒ වාගේම ආදීනව සඤ්ඤා - **අරඤ්ඤගතො වා රුක්ඛමූලගතො වා සුඤ්ඤාගාරගතො වා ඉතිපටිසඤ්චික්ඛති: බහු දුක්ඛො ඛො අයං කායො බහු ආදීනවො** මේ ආදීනව පිළිබඳව නිතරම සලකන කෙනෙක් නම්, සාකච්ඡා කරන කෙනෙක් නම්, තමන්ට හෝ තමන්ට ඉතාම කිට්ටුවන්තයෙකුට මේ තත්ත්වයට පත් වෙනකොට, ඒක ස්වභාවයක් විදියට සලකමින්, මේක විය යුත්තක්, සත්‍යාවබෝධය සඳහා ශ්‍රද්ධාව වැඩීම සඳහා අවශ්‍ය කරන කාරණාවක් බවත් වැටහෙනවා. ඒක සඳහා අපි කරුණාවෙන් විතරක් ඉදිරිපත් උනොත් අන්තයකට වැටෙනවා. ප්‍රඥවෙන් ඉදිරිපත් උනොත් අන්තයකට වැටෙනවා. ප්‍රඥවයි කරුණාවයි දෙක සම්බන්ධ කරගෙන, ජරාව දුක්ඛ සත්‍යයේ ආර්ය සත්‍යයක්. චතුරාර්ය සත්‍යයේ දුක්ඛ සත්‍යය ආර්ය සත්‍යයක් බවට පත්

වෙන්න නම්, ජරාව කියන අවස්ථාවේදී අපි කොහොමද අර්ථයත් දැනගෙන ධර්මයත් දැනගෙන ඒකේ නිරුත්තියත් දැනගෙන කටයුතු කරන්නේ?

ඉතින් මේකෙදි අර හැඟුම්බර කරුණාබර එක්කෙනාට තියෙන්නේ ඒක දැකපු ගමන්ම වහාම ක්‍රියාත්මක වෙන ගතියක්. ඒ මොකද ඒක තමන් එක්ක අනන්‍ය කරගන්නවා. ඒ පුද්ගලයාගේ අදහස් අවශ්‍යත් නෑ, ඒකට කළ යුතු විවේක බුද්ධියෙන් දෙන අදහසත් ඕනැ නෑ, බොහොම ක්‍රියාත්මක වෙන්න පටන්ගන්නවා. ඒ ඇත්තෝ හොඳ උපස්ථායකයෝ වෙනවා. හොඳ උපස්ථායකයා වෙන්න නම්, මේක අපි කොච්චර මොනවා කළත් අපි දන්න අපට පුළුවන් කාරණා ටිකයි තියෙන්නේ. කර්මජ හේතු, ඍතුජ හේතු, චිත්තජ හේතු කියන එව්වා අපිට වෙනස් කරන්න බෑ. අපිට වෙනස් කරන්න පුළුවන් උපස්ථායකයගේ පැත්තෙන් විතරයි. ඒ නිසා හැම වෙලාවේදීම ඒ වගේ කෙනෙක් නිතරෝම ඒ ඒ අවස්ථාවේ එන සංඥා හොඳට ක්‍රියාත්මක කරලා තමයි වැඩ කරන්නෙ. තලතුනාකමක් ඇති වෙන්නේ අන්න එතනදී තමයි.

ලෙඩාගේ පැත්තෙන් බැලුවත් සමහර වෙලාවට සර්වඥයන් වහන්සේ උපමාවකට පෙන්වල තියනව විෂ ඊතලයක් වැදිච්ච මනුෂ්‍යයෙක් ඒ විෂ ඊතලය තමන් තුළ තියෙද්දිත් ඒ ඊතලය ආපු දිහාව, ගහපු මනුෂ්‍යයා, ඊතලය විද්ද මනුෂ්‍යයාගේ වංශය, ඊතලයේ තියෙන විෂ මොනවද කියකියා අහඅහා ඉන්න වෙලාවලුත් තියෙනවා. එතකොට කට තද කරලා හිර කරලා අල්ලලා ඊතලේ ඇදලා දන්න ඕනැ. ඒකටත් උපස්ථායකයා ක්‍රියාත්මක වෙන්න ඕනැ. ඒ වාගේම තමන්ගේ හැඟුම් කලබල වෙන්න දෙන්න නරකයි ඒ අවස්ථාවේ හැටියට. ඒ නිසා පුදුමාකාර විදිහට අනුන්ට එක්ක එකට ජීවත් වෙනකොට, සමූහයක් වශයෙන් කටයුතු කරනකොට මේක මධ්‍යස්ථ වශයෙන් මධ්‍යම ප්‍රතිපදාවක් වශයෙන් සම්බන්ධ කරගන්න හුඟාක් ඉඩ ලැබෙනවා. නමුත් අපි ආධුනික යෝගාවචරයෙකුට කියනවා එව්වට යන්න එපා. ආධුනික යෝගාවචරයා ඒකට ගියාම අර කලාතුරකින් හම්බ වෙච්ච සුළු

වෙලාව ඒ වගේ දේවල්වලට ගත කරපුවාම පුහුණුත් නෑ. සුදුසුත් නෑ. අමාරුයි.

නමුත් අපිට කවදාවත් ජීවිතේ ඒක නැතුව ජීවත් වෙන්න බෑ. ඒ නිසා ඒක පළපුරුදු ඇත්තෝ ඒකට සූදානම් වෙලා ඉන්න. ඒක දේව ආගමේ එක පිරිසකට මේ සමාජය සුද්දෙන් තියාගෙන ඉන්න බාර දෙනවා වගේ කොන්ත්‍රාත් එකක් නෙවෙයි. කාගෙත් වැඩක්. කවුරුත් කළ යුත්තක්. ඒ නිසා සර්වඥ දේශනාවේ සඳහන් වෙනවා "යමෙක් මගේ අවවාදය පිළි අරගනිමින් මට උපස්ථාන කරනවා නම් ඒ කෙනා ලෙඩ්ඩුන්ට රෝගීන්ට උපස්ථාන කරන්න." ඒක බුදු හාමුදුරුවන්ට කරන අනුකූල භාවයක්. ඒ නිසා සර්වඥයන් වහන්සේ පවා ඒකට ඉදිරිපත් වෙලා කටයුතු කරලා තියෙනවා. නමුත් ඒ සඳහා ප්‍රධානම වශයෙන් අවශ්‍ය කරලා තියෙන්නේ ලොකු ඉවසීමකින් කටයුතු කරන්න ඕනැ ජරා තත්ත්වය පිළිබඳව.

ඒක නිසා අද මේක පිළිබඳව හොඳටම ගැඹුරෙන් සාකච්ඡා කරන්න අයිතිවාසිකමකුත් තියෙන්නේ, කරලත් තියෙන්නේ බුද්ධාගමේ පමණයි. ඒ මොකද, බුදුරජාණන් වහන්සේ ජරාව පෙන්නලා දීලා තියෙන්නේ දුක්ඛ සත්‍යය දැක්වීමට මිස ජරාව ලෝකයෙන් නැති කරන්න නෙවෙයි. මේක පටලවාගත්ත බටහිර ලෝකයේ ජරාව නැති කිරීම සඳහා දැන් ආගම පාවිච්චි කරන්න පටන් අරන් තියෙනවා සුව කිරීමේ සේවාවට. බොහෝමත්ම ජනප්‍රියයි. ඉතාමත්ම ජනප්‍රියයි. මේ භාවනාව නිසා මේ රෝගය නැති කරන්න පුළුවන්, අර මානසික රෝගය නැති කරන්න පුළුවන්. ඒක නැති කරන්න පුළුවන්, මේක නැති කරන්න පුළුවන් කියලා හැම වෙලාවේදීම හරියට දොස්තර කෙනෙකුට ගෙවන්නා වගේ භාවනා ගුරුවරයෙකුට කීයක් හරි දීලා මේ රෝගය සනීප කරගෙන කාමභෝගී ජීවිතයට ශීඝ්‍රයෙන් ආපහු යන්නයි ඒත් ඕනැ වෙලා තියෙන්නේ. අත්දැකීම් සහිත ඇත්තෝ කියන්නේ ඉස්පිරිතාලෙට ලෙඩා ආපුවහම ඒ ලෙඩාට කොහොමටත් රටේ පවතින නීතියේ හැටියට රක්ෂණයක් තියෙනවා. ඒ රක්ෂණය නිසා දොස්තර මොන බෙහෙත දුන්නත් එයාට ඒ රක්ෂණයෙන් ගෙවන්න ඕනැ. රැකියාවක් කරනකොට රක්ෂණ බන්ධනයකුත් එක්කයි රැකියාව

දෙන්නේ. ඒ නිසා පොඩ්ඩක් කැක්කුමක් පිපිරුමක් ආව ගමන් ලෙඩා වහාම වෛද්‍යවරයා ගාවට යනවා. මොකද ඒකට රක්ෂණයෙන් ගෙවන නිසා. ගියාට පස්සේ කියනවා මට මේ රෝගය තියෙනවා. හැකි ඉක්මනට සැරම බෙහෙතෙන් මට මේක නතර කරලා දෙන්න කියල.

ඉතින් වෛද්‍යවරයා ඒක නතර කරනවා. නතර කරපු ගමන්ම ඒ මනුෂ්‍යයා ආපහු ගිහිල්ලා කරන්නේ මොකක්ද? අර රෝගයට ඉතාමත්ම අපථ්‍යකර ආහාර ගන්නවා. අපථ්‍යකර ඉරියව් පාවිච්චි කරනවා. අපථ්‍යකර විදිහට ඉඳුරන් පිනවනවා. ආයේ දවස් දෙකකින් ආයෙත් අර ලෙඩේ ඇති වෙනවා. ඉතින් දුවගෙන එනවා දෙස්තර ගාවට. අර බෙහෙතම ගහගන්නවා. ආයේ යන්නේ මොකටද? අර හිටපු කාමභෝගිත්වය බොහෝම ජයට රස විඳින්න. මොනම තාලෙකටවත් සනීප කරන්න බැරි ජරාවක් එතන ඇති වෙලා තියෙන්නේ. ව්‍යාධියක්. ඒ තරමටම ඉක්මනටම මේ ජරාව නැති කරගන්නේ මොකටද? නැවත කාම ලෝකයට යන්න. ඒ නිසා ඒ මනුෂ්‍යයාට අයිතිවාසිකමක් තියෙනවා තමන්ට තියෙන රක්ෂණ අයිතිවාසිකම නිසා. වෛද්‍යවරයාට බල කිරීමක් තියෙනවා තමන් ළඟට එන කෙනාට සුව කරන්න කියන නිසා. බලාගෙන ඉන්න මනුෂ්‍යයාට තේරෙනවා මොන තරම් අමනකමක්ද, මොන තරම් මනුෂ්‍යත්වයේ පිරිහීමක්ද මෙතන තියෙන්නේ? මේ ජරාව නතර කරගන්නේ මොකටද? නැවතත් ජරාව කන්නයි. නැත්නම් නැවතත් ජරාවට වැටෙන්නයි.

හුඟාක් වෙලාවට අද නව ලෝකයේ ඇති වෙලා තියෙන රෝග ප්‍රධාන වශයෙන්ම ආහාරවල, ඉරියව්වල තියෙන දුර්වලකම්. නමුත් රෝගියා කවදාකවත් කල්පනාවට ගන්නෙ නෑ මොන ආහාරද පථ්‍ය, අපථ්‍ය? මොන ඉරියව්ද පථ්‍ය, අපථ්‍ය? ඒ මොනවක්වත් නෑ. බෙහෙත තියෙනවා අර කඩේ. ලේබල් එක දාලා තියෙනවා. මේ බෙහෙතට මේකයි. ඉතින් කටට වක් කළා. ඒ මොහොතට හොඳයි. ආපහු යන්නේ අර ආහාරයටමයි. අර ඉරියව්වටමයි. ඉතින් විෂම චක්‍රය කරකැවෙනවා. පාඩු නෑ ජාත්‍යන්තර බෙහෙත් සමාගම්වලට. ඒගොල්ලෝ මුළු ලෝකයම පරිපාලනය කරනවා දූන් තොරතුරු

තාක්ෂණය මගින්. මොකද, ආගම පාවිච්චි කරන්නෙත් මේ ලෙඩ රෝග සුව කරන්න.

ලංකාවෙත් අද තියෙන ජන මාධ්‍ය ඉතාමත්ම ශීඝ්‍රව අන්‍යාගම්වලට පහර දෙන්න පවා පටන් අරන් තියෙනවා මේ භාවනා ආගමික වැඩ කරපුහම ලෙඩ සනීප වෙනවයි කියලා. ඉතින් ඒ ඇත්තො කියනව බුදුරජාණන් වහන්සේ පවා භෙසජ්ජක්ඛන්ධකයක් දේශනා කරලා තියෙනවා. ඒ නිසා වෙදකම් කරන්න එපැයි කියලා නෑ. ඇත්ත. ඒ මොකද, සර්වඥයන් වහන්සේ පහළ වෙන්න කලින් ලෝකයෙ තිබුණේ, ඉන්දියානු ලෝකයෙ තිබුණේ ඒ ආගමේ ඊශ්වරයා වෙතින් ඇති කරපු ලෝකයක්. ඒක අදහන ආගම. ඒ ආගමේ හැටියට ලෙඩක් උනා නම් ඒක ඊශ්වර ශාපය. මේ ලෝකේ කෙනෙකුට ඒක සනීප කරන්නත් බෑ. සනීප කෙරුවොත් ඒක වැරැද්දක්. ඒක ඊශ්වරයාට විරුද්ධව යාමක්. පුළුවන් නම් කරන්න තියෙන්නේ සතෙක් දෙන්නෙක් කපලා යාගයක් කරලා ඊශ්වරයා සන්තෝෂ කරන එකයි පූජකයා මාර්ගයෙන්. නමුත් තමන්ට ඒක කරන්න බෑ. ඒ නිසා ඒ පූජකවරු දේශනාවක් කරලා තිබුණා ලෙඩක් ඇති උනා නම් ජරාවක් ඇති උනා නම් මට ඇවිල්ලා කියන්න. දෙවියන් වහන්සේ මට දීලා තියෙනවා විශේෂ මන්තර ජප ක්‍රම. ඒකට කරලා දෙන්නම්. කවුරුහරි වෙදකමක් කළොත් කවුරුහරි මේක සනීප කරන්න පුළුවන් කියලා කිව්වොත් ඒකාන්තයෙන්ම ඊශ්වරයට විරුද්ධව යාමක්.

ඒ කාලෙත් හිටියා හැබැයි තුන්කල් දක්නා ඥානය තිබිලා, මේ මේ කොළ තළලා, නැත්නම් මේ මේ ආහාර පානවලින් ලෙඩ සුව කරන්න පුළුවන් බව කියලා. නමුත් බමුණු වාදය කවදාකවත් එහෙම දේකට ඉඩ දුන්නේ නෑ. ඒ ඇත්තෝ ඒ මනුෂ්‍යයන්ට පුදුමාකාර විදිහට බැනලා තියෙනවා. වෙද්දු කියලා කියන්නේ ලේ සැරව කාලා ජීවත් වෙන පිසාච ප්‍රේතයෝ කියලා බැනලා තියෙනවා. වෙදෙක්ගේ ගෙදරකට කවදාකවත් පිණ්ඩපාතය යන්න එපැයි කියලා තියෙනවා. පිණ්ඩපාතය ගිහිල්ලා ලැබුණොත් යමක්, ඒක පාත්තරේට ලේ සැරව වැටුණයි කියලා හිතාගන්න කියලා

තියෙනවා. පුදුම විදිහට ඒ වෛද්‍ය ශාස්ත්‍රය ඉදිරිපත් කරපු ඇත්තන්ට බැනපුවා අදත් උපනිෂද් ග්‍රන්ථවල සඳහන් වෙනවා. ඒ නිසා කිසිම කෙනෙක් නැගී හිටියේ නෑ වෛද්‍ය වෘත්තිය වෘත්තියක් විදිහට කරන්න. ඒක තනිකර බමුණු මතයකට යට වෙලා තිබ්බේ. ඒ මනුෂ්‍යයෝ වසලයෝ විදිහටයි සැලකුවේ. මේ ලේ සැරව අතගාන ජරා ජාතියක්, දෙවියන් වහන්සේගේ නිෂ්පාදනයට විරුද්ධව වැඩ කරනවයි කියලා.

මේ අතර ප්‍රධාන පෙළේ ක්ෂත්‍රිය වංශිකයන් දෙතුන්දෙනෙක් නැගිටලා ඒ ඇත්තෝ ප්‍රසිද්ධියේ ප්‍රකාශ කළා. ධාවනය, ස්නායු ක්ෂත්‍රිය කියලා කියන්නේ කඩුව අතට ගත්ත එකක්. කපලා බලනවා. බමුණන්ගේ අදහසටත් ගැහුවා. පුළුවන් නම් බමුණෝත් කැපුවා. මළකුණුත් කැපුවා. ලෙඩ්ඩුත් කැපුවා. කපලා බලනකොට සුව කරන්න පුළුවන්.

ඔය ධර්මය ඔය කියන මට්ටමට සැහෙන හිස ඔසවගෙන හිටපු කාලෙක තමයි සර්වඥයන් වහන්සේ ලෝකයෙ පහළ උනේ. ඒක නිසා උන්වහන්සේ කියනවා බෙහෙතෙන් සනීප කළ හැකි ලෙඩ තියෙනවා කියල. ඒ නිසා වෛද්‍ය විද්‍යාව ඉතාමත්ම වැදගත් සන්ධිස්ථානයක් තියෙනවා ජීවක වෛද්‍යවරයාටත් භෙසජ්ජක්ඛන්ධකයක් වාගෙ. ඊට පස්සේ තමයි වෛද්‍ය විද්‍යාවේ ත්‍රිමූර්තිය පහළ උනේ. ඒ ධන්වන්තරී, වාග්භට ආදී වශයෙන්. ආයුර්වේද ශාස්ත්‍රයේ ඉතාම උසස් තැනක ලා සලකන ධන්වන්තරී ඍෂිවරයා ආත්ම භාව කීපයකට පස්සේ රජ කෙනෙක් වෙලා, ඒ නමින්ම විශිෂ්ට ශල්‍ය වෛද්‍යවරයෙක් වුණා. එතුමා ශරීරයේ රුධිර සංසරණ පද්ධතිය වැඩ කරන හැටි හොයාගත්තා. මොළයෙ ඉඳලා පහළට එන සුෂුම්නා පද්ධතිය ගැන පුදුම උපදවන තරම් විශිෂ්ට දැනීමක් එතුමාට තිබුණා. මොළයේ දකුණු පැත්තෙයි වම් පැත්තෙයි ඉඳලා පහළට එන ස්නායු දෙක මොළයේ මැද හරියෙදි දෙපැත්තට මාරු වෙලා යන බවත් ඒකේ ප්‍රතිඵලයත් ඔහු ඉතා හොඳට විග්‍රහ කළා. ඒ කියන්නේ මොළයේ වම් පැත්ත ලෙඩ වුණොත් ශරීරයේ දකුණු පැත්ත ලෙඩ වෙනවා; මොළයේ දකුණු පැත්ත ලෙඩ

වුණොත් ශරීරයේ චම් පැත්ත ලෙඩ වෙනවා.[1] ඒ වුණත් බටහිර වෛද්‍ය විද්‍යාවේ මේ සොයාගැනීම් කළේ අදට ශතවර්ෂ දෙකකට විතර කලිනුයි.

ආයුර්වේදයෙත් සිංහල පාරම්පරික වෙදකමෙත් සමහර ඇත්තෝ බුදුන්ට වැඳලා තමයි පොත පටන්ගන්නේ. ඒ නිසා වෛද්‍ය වෘත්තිය බොරුවක් කියන්න දෙයක් ඇත්තේ නෑ. ඒකෙ තියෙනවා ලොකු රෝග සුව කිරීමක්. නමුත් අපි නැවතත් මතක තියාගන්න ඕනැ ජරාව සම්බන්ධයෙන් තියෙන මධ්‍යම ප්‍රතිපදාව තේරුම් අරගෙනයි සර්වඥයන් වහන්සේ බෙහෙත් පිළියෙළ කරලා තියෙන්නේ. එකම බෙහෙතක්වත් තාම බටහිර වෛද්‍ය ක්‍රමයට අනුකූලව පර්යේෂණ කරලත් නෑ. එකක්වත් නිෂ්ප්‍රභා වෙලත් නෑ. ඒක බලනකොට හොඳටම තේරෙනවා ලෙඩා සැහෙන දුරට ඒ තත්ත්වය, දුක තේරුම් අරගන්නා මට්ටමක් තියෙන්න ඕනැ. උපස්ථායකයත් තේරුම්ගන්න ඕනැ මේක පිහින්ට පුළුවන් දෙයක් නෙවෙයි. මෛත්‍රියෙන් කරුණාවෙන් උපස්ථාන කරලා ශාසනයට තමන්ට පින් කරගන්න පුළුවන් කියලා. එහෙම නැතුව ජරාව නැති කරන්න බෑ.

ඒ නිසා මේ මුළු ලෝකෙම තියෙන ලෙඩ සනීප කරන "සත් හට වන භව දුකට වෙදණන්" කියනකොටත් ලෞකික ලෙඩ සුව කිරීම පිළිබඳව සැහෙන කොටසක් තියෙනවා. ඒ නිසා යෝගාවචරයාට විශේෂ අවශ්‍යතාවක් තියෙනවා ජරාව පිළිබඳව මධ්‍යම ප්‍රතිපදාවට ගැළපෙන තාලෙට ජරාව, ජරාව වශයෙන් දැකගැනීමේ අවශ්‍යතාවක්. මෙතනදී ඒ නිසා හුඟාක් වැදගත් වෙනවා විපස්සනා භාවනානුකූලව මේ ලෝකය වටේම දූන් දූන් නිවන් දකින්න හදන ඇත්තෝ මේ පවතින්නා වූ රැල්ලට අනුව සුව කිරීමේ සේවාව ආගමික ක්‍රියාවලියෙන් කරන සුව කිරීමේ සේවාව එක ඇහැක් අන්ධ කරන එකක් බව හොඳට නුවණින් කල්පනා කරගන්න වෙනවා. එහෙම නොවුණොත්, අපිට මීට වැඩිය ලොකු සේවාවක් කරන්න පුළුවන් නේද එළියට ගිහිල්ලා

[1] චරකසංහිතා

ඉස්පිරිතාලෙකට කෙරුවොත්, නැත්නම් පිරිත් නූල් බැඳලා බෝධි පූජා පවත්වලා, නැත්නම් හිස අතගාලා ලෙඩ සුව කරලා කියන තර්කෙට අපි නිකන්ම යටපත් වෙන්න වෙනවා. පරාජය පිළිගන්න වෙනවා.

නමුත් අපි පිළිගන්න ඕනැ ජරාව නැති කිරීම කියන එක ජාතිය නැති කිරීමෙන් හැර කවදාකවත් ඒකාන්තයෙන් කරන්න බෑ. ඒ නිසා ජරාව පිළිබඳව පෙන්නන්නේ **ඛන්ධානං පරිපාක ලක්ඛණං** - ඇති වුණා වූ මේ ජාතියෙන් ඇති කළ පංචස්කන්ධය පිරිච්ච භාවයට පූර්ණ භාවයට ජරා දිරාපත් වෙච්ච බවට පරිපාකයට මේරීමකට පත් වීම තමයි මේකෙ හැටි. ඒ ජරාව **මරණූපායන** - ඒ කියන්නේ මරණයට ඇදගෙන යන ගතියක් තමයි තියෙන්නේ. අද ඉපදිච්ච කිරි දරුවගෙ ඉඳලා මරණය ඒ මොහොතෙම එන්නත් පුළුවන්. නැත්නම් දශක දශකයක් ගත කරලා එන්නත් පුළුවන්. ඒ දක්වා මරණය දක්වාම **මරණූපායන** මරණයට ඇදගෙන යන්නා වූ ලක්ෂණය තමයි තියෙන්නේ. ඉතින් **යොබ්බනවිනාසපච්චුපට්ඨානා.** මේ යෞවනය විනාශ කරන එක තමයි ඒකෙ වැටහෙන ආකාරය. මෙයට හේතුව පෙන්නන්නේ **ජාති පදට්ඨානං.** මේ ජරාව නැති කරන්න හදනවා ජාතිය තියාගෙන, කියන එක තරම් විහිළුවක් තිරිසනෙකුටවත් නෑ. තිරිසනා සම්පූර්ණයෙන්ම මෝහයේ ඉන්නේ. ජාතියත් කරන්න දෙයක් නෑ. ජරාවත් කරන්න දෙයක් නෑ. මරණයත් කරන්න දෙයක් නෑ. වනාන්තරේ ජරාව නෑ. හරි පුදුම දෙයක් ඒක. වනාන්තරේ ජරාව නෑ. ඒ මොකද, පොඩි සතා පොඩ්ඩක් අසනීප වෙච්ච ගමන් පොඩි සතාගේ පණ යන්නේ ලොකු සතාගේ හක්කේ. ඒක නිසා ඒකෙ නෑ මරණ ගෙවල්. මහලු මඩම් නෑ. ඉස්පිරිතාල නෑ. පිස්සු වාට්ටු නෑ. පොඩි ළමයින්ගේ මඩම් නෑ. ඒවා ඔක්කෝම හැංගිලා තියෙන්නේ. එළියට ආපු එකා අනිත් හරිය ඔක්කෝම සුද්ධ කරනවා. ඒ නිසා ඒ සත්තුන්ට කිසිම හේතුවක් නෑ රක්ෂණ විධි ඇති කරන්නවත් ජරාව පිළිබඳව කල්පනා කරන්නවත්.

මනුෂ්‍යයාට විතරමයි මේ ප්‍රශ්නය තියෙන්නේ. ඒ ප්‍රශ්නයත් අරගෙන "ජරාව නැති කරන්න පුළුවන් ජාතිය තියාගෙන" කියන

එක අදහාගෙන ඉන්නවා. නිතරෝම යෝගාවචරයා මතක තියාගන්න ඕනැ චිත්තක්ෂණයක උත්පාද ක්ෂණය ඇති වුණා නම් ඒක තිථියට පත් වෙන්න එපා, තිථියට පත් වෙන්න දෙන්නේ නෑ කියලා යම් කිසි කෙනෙක් කියනවා නම් මොන තරම් අන්ධකාරයක්ද මේ? මොන තරම් මෝහයක්ද මේකෙ තියෙන්නේ? මේකට අප්පටිපත්ති අවිජ්ජා කියලත් කියනවා, මිච්ඡාපටිපත්ති අවිජ්ජා කියලත් කියනවා. ජාතියත් එක්කම ජරාව උපදිනවා කියන එක සරලව දන්නේ නැතිකමත් එකක්. දෙවනි එක ජාතිය ඇති වුණාට පස්සේ වෛද්‍ය විද්‍යාවෙන් තාක්ෂණයෙන් විනෝදංශ මාර්ගයෙන් සුඛෝපභෝගිත්වය තුළින් ජරාවට එන්න නොදී ඉන්න පුළුවන් කියලා මහා මතියක්, එහෙම නැත්නම් මදයක් ප්‍රමාදයක් තියෙනවා. මේ දෙක අතරමැද තමයි අද මේ ශිෂ්ටාචාරය කරකැවෙන්නේ.

යම් කිසි කෙනෙක් තේරුම් අරගන්නවා නම් ප්‍රධාන ලෙස කළ යුත්තේ ජරාවත් එක්ක රැල්ල පදින්නා වගේ පැදලා කොහොම හෝ ජාතිය නැති කිරීමයි කියලා, ඉතින් ඒ ඇත්තාට බුදුරජාණන් වහන්සේට ආවා වගේ චෝදනා එනවා නාස්තික ධර්මයක් විනාසක ධර්මයක් දේශනා කරනවයි කියලා. නමුත් ඒකෙ තියෙන සත්‍ය භාවය තථ්‍ය භාවය අනන්‍යතා භාවය කියන එකට නම් කතා කරන්න කවුරුත් එන්නෙ නෑ. ඊට වැඩිය බර ගානක් අපිත් එක්ක අත්වැල් බැඳගෙන සුහද වෙන්න එන්න පුළුවන්, ජාතිය ගැන අපිට කරන්න දෙයක් නෑ අපි ජරාව නැති කරන්න පෙළගැහෙමු කිව්වොත්. එතකොට නම් ආගම් භේද මොනවක්වත් භේදයක් නැතුව එකතු වෙන්න ඉඩ තියෙනවා. කොහෙද යන්නේ? කොහාටද මේ යන්න හදන්නේ? සර්වඥයන් වහන්සේ මේ තත්ත්වය හොඳටම තේරුම් අරගෙන ජරාවත් ආදීනව සංඥවක් වශයෙන් එහෙම නැත්නම් අසුභ සංඥවක් වශයෙන් යෝගාවචරයාට අරමුණු කරන්නයි කියලා තියෙනවා.

අපේ ජීවිතේට ඇති වෙන්නා වූ ජරාව, අසල්වැසියාට වෙන්නා වූ ජරාව, ගස් ගල්වලට වෙන්නා වූ ජරාව, සතුන්ට වෙන්නා වූ ජරාව හැම චිත්තක්ෂණයකම තියනවා. මේක හොඳට

වැටහෙන්නේ උදයබ්බය ඤාණය අවස්ථාවට ආවාට පස්සෙයි. එතෙන්දි ඊට කලින් තියෙන්නා වූ නාමරූප පරිච්ඡේද, පච්චය පරිග්ගහ ඤාණ නිසා ඒ චිත්තක්ෂණය සාමාන්‍යයෙන් පෙන්නන්නේ මේරුණාට පස්සේ. සෑම සංසිද්ධියක්ම උනාට පස්සේ තමයි අපි දන්නේ. යෝනිසෝමනසිකාරය කියලා කියන්නේ එන තැනටම යනකල් මෙනෙහි කරමින් මෙනෙහි කරමින් ඉස්සර වෙන්න කියන එකයි. නමුත් උපත දකින්න නාමරූප පරිච්ඡේද ඥානයේදී බෑ. මුල දකින්න නම් පච්චය පරිග්ගහ ඤාණයට යන්න ඕනැ.

පච්චය පරිග්ගහ ඤාණයට ගියාම උත්පාද ක්ෂණයත් ඨිති ක්ෂණය කියන ජරා ක්ෂණයත් කියන දෙකම පේනවා. ඒක නිසා යමක හේතුවක් නිසා යමක් පහළ වෙනවා. එක හේතුවක් නිසා එකක් පහළ වෙන්නෙ නෑ. හේතු රාශියක් නිසා ඵල රාශියක් පහළ වෙනවා. ඒකට කාරකයෙක් නැත. ඒ ටික සිද්ධ වෙනවා පච්චය පරිග්ගහ ඤාණයේදී. තවත් මේක දකිමින් ඉදිරියට යනකොට යෝගවචාරයට උත්පාදයක්, ඨිතියක්, භංගයත් කියන මේ තුන සාමාන්‍ය තර්ක ඥානයට පෙර නොවිසූ විරූ තාලයට වැටහීම තමයි සම්මස්සන ඤාණය කියන්නේ. එතකොට ඒවයේ හැම එකකම ලක්ෂණ තුනම පේන්න පටන් අරගන්නවා. ශීඝ්‍රයෙන් වෙන වැඩක් තියෙනවා. ඒක දිහා බලාගන ඉඳීම මහා ණයක්. මහ ඔක්කාර දනවන දෙයක්. හැඩ නෑ. ආකාර නෑ. බලන එක මහා වෙහෙසක්. බලන විට පෙන්නනවා වගේ එකක් එන්න පටන්ගන්නවා.

එතකොට පේනවා මේක කොච්චර අමාරුවෙන් ඇතුළට අත දලා මේක බැලුවත් ඒකෙ තියෙන්නේ දුක්ඛ ස්වභාවයක්. ඉස්පාසු දෙන්නෙ නැති භාවයක්. අතරක් නොතබා සලන භාවයක්. ඒක නිසා මේ අනිත්‍යතාවම දුකක්. තව හොඳට දවස් ගණන් පැය ගණන් දිගට බලනකොට පේනවා මේකට අපි වග කියන්න ඕනැ නැහැ. ඒක ලෝක ස්වභාවය. අපි මේක වසන් කරගෙන හිටියොත් අපිට නා නා ප්‍රකාර හේතු හිතන්න පුළුවන්. උත්පාදය ඇති වුණාට අපිට ඨිතියට, නැත්නම් ජරාවට පත් වෙන්නේ නැතිව ජීවත් වෙන්න පුළුවන් ආදී මති මතාන්තර තියෙනවා. නමුත් අපිට දූන්

ජාතියත් පේනවා. ඨිතිය කියන ජරාවත් පේනවා. ඒක ඊගාවට මැරිලා යන එකත් පේනවා. ඉතාමත්ම දුක්ඛජනකයි. හරියට මිනී කාමරයේ වැඩ කරන සේවකයෙක් වාගේ. නැත්නම් හොඳටම අසාධ්‍ය රෝගීන් ඉන්න හදිසි අනතුරු වාට්ටුවක වැඩ කරන එක්කෙනෙක් වාගේ. නිතරම ලෙඩ්ඩු පිළිබඳව තමයි. සමහර වෙලාවට මැරිලා යනවා. සමහර වෙලාවට සුව වෙලා යනවා. උදේ ඉඳලා හැන්දෑ වෙනකල් ඒක දකිනවා නම් ආන්න ඒ වගේ තත්ත්වයකට යෝගාවචරයා පත් වෙනවා. එතකොට තමයි ඒක සම්මර්ශනයක් සිද්ධ වෙන්නේ.

අන්න ඒ සම්මර්ශනය සිද්ධ වීමට ජරාව අත්‍යවශ්‍යයි. ඒ නිසා තමයි මනුෂ්‍ය ලෝකෙ කාම භවයේ මේක මංගල ධර්මයක් වෙන්නේ. හොඳ නරක ජරාව ව්‍යාධිය මරණය ඔක්කොම තියෙන නිසා මධ්‍යම ප්‍රතිපදාවෙන් යුක්තව ජරාවත් අපි අමුද්‍රව්‍යයක් බවට පත් කරගන්න දන්නවා නම් ඒක නැති කරන්න හිතන්නෙත් නෑ. ඒක නොවේවා කියලා ප්‍රාර්ථනා කරන්නෙත් නෑ. ජරාව, ජරාව හැටියට දකිනවා නම්, අත්‍යවශ්‍යයෙන්ම ඒ යෝගාවචරයාට උත්පාද, ඨිති, භංග කියන තුනම දකින සම්මර්ශන අවස්ථාවට හිත ගෙනියන්න අවස්ථාව ලැබෙනවා. ඒත් තාම ඉන්නේ තර්ක ඥානයේ. මේ වෙලාවේදී කොච්චර වෙනසක් යෝගාවචරයෙකුට ඇති වෙනවද කියනව නම්, සමහර වෙලාවට හිතෙනවා රහත් වුණයි කියලා. සෝවාන් වෙලාවත් නෑ තව. උදයබ්බය ඤාණයටවත් පත් වෙලා නෑ. නමුත් අධිකතර ලොකු ගැඹුරක්, කොටින්ම කියනව නම්, මව් කුසේ ඉඳලා පේන්න පටන්ගන්නවා වගේ පේනවා. ඉස්සරහට වෙන්න තියෙන දේවලුත් පේන්න පටන්ගන්නවා. ඉස්සරහ ඉන්න මනුෂ්‍යයාත් පේන්න පටන් අරගන්නවා. බුදු හාමුදුරුවෝ කිව්වේ මේකයි කියලා පුදුමාකාර දර්ශනයක් එන්න පටන් අරගන්නවා. ඒ මොකද තාම ලෙල්ල ලෙවකාලා විතරයි තියෙන්නේ.

ඉතින් හොඳට යෝගාවචරයාට මතක් කරලා දෙන්න වෙනවා, හරි. දැන් ඇස්පනාපිටම තමන්ම ලබපු අත්දැකීමෙන් තමයි මෙතෙන්ට ඇවිල්ලා තියෙන්නේ. ඒක හරි. නමුත් ඕක තාම ඔය

තර්ක හිතින් දකින්නේ. තාම නීවරණ සහිතයි. ඒ නිසා අපි ඔය තත්ත්වයම හොඳට සිද්ධි වෙන්න අරිමු. ඇත්ත. මේකෙ අනිත්‍ය දුක්ඛ අනාත්ම තියනවා. ඇස්පනාපිට තියෙනවා. නමුත් ඕකම තව කෝටිවාරයක් දකිනකොට ඒ පුද්ගලයා තුළ නීවරණ ධර්මවල ප්‍රහාණය ප්‍රකට වෙන්ට වෙන්ට වෙන්ට වෙන්ට සම්මස්සන ඤාණය උදයබ්බය ඤාණයක් බවට පත් වෙනවා. අර වැඩ පිළිවෙළ කෙළකෝටි වාරෙකින් ශීඝ්‍ර වෙන්න පටන්ගන්නවා. බලන හිත පුදුමාකාර විදිහට කර්මණ්‍ය වෙන්න පටන්ගන්නවා. අන්තිමට කියනව නම් බලන හිතත් දකින දර්ශනයකුත් කියන දෙකක් නෑ. දෙක එකට එකතු වෙන්නා සේ යෝගාවචරයා මුල්ම වතාවට දිය වෙනවා. සංසිද්ධියට දිය වෙනවා. වෙන විදිහකට කියනවා නම් සක්කාය දිට්ඨිය හැලහැප්පෙන්න පටන්ගන්නවා.

යම් වෙලාවක යෝගාවචරයා යෝගාවචරයෙක් නොවී හුදු දර්ශනයක් බවට පත් වෙලා අර දර්ශනය තුළ කිමිදීගත්තට පස්සේ තමයි ඔන්න හිත විපස්සනාවට වැටුණා කියන්නේ. දැන් අනිත්‍ය, දුක්ඛ, අනාත්ම දකගන්න ත්‍රිලක්ෂණ භාවනාවට සුදුස්සෙක් බවට පත් වෙනවා. ඒ නිසා සම්මස්සන ඤාණ තත්ත්වයට පත් වීම පවා භවය වශයෙන් විශාල ලොකු පරිණාමයක් ඇති කරනවා. චුල්ල සෝතාපන්න තත්ත්වයට පත් වුණා, නියතගතික තත්ත්වයට පත් වුණා කියලා අපේ පොතේ සඳහන් කරනවා. ඒක ජරාව පිළිබඳව තියෙන, හොඳටම ජරාව ප්‍රයෝජන ගන්න අවස්ථාව. ඒකෙදි හොඳට මතක තියාගන්න ඕනෑ අපි ජරාව ප්‍රතික්ෂේප කරලත් බෑ. ජරාව බදාගෙනත් බෑ. මේක පිළිබඳව මධ්‍යම ප්‍රතිපදාව ඇති කරගන්න ඕනෑ.

මේ මධ්‍යම ප්‍රතිපදාව ඇති කරගන්න තමයි අපි ගිය ආත්මේ පින් කරලා පංචවෝකාර භවයක් සහිතව මනුෂ්‍ය ලෝකයට ආවේ. ඒ ඇවිල්ලා අපිට දුක එපා ජරාව එපා කියලා කියනව නම් අපි එක අන්තයකට වැටෙනවා. නැත්නම් ඔක්කෝම දුක් නැති කරන්න ජරාවල් නැති කරන්න රණ්ඩු සරුවල් කරමින් අපි ඒකෙ යෙදෙනව නම් ඒත් අපි අන්තයකට වැටෙනවා. ඒ නිසා ශරීරයක් අපිට දීලා තියෙනවා පංචස්කන්ධයක් සහිතව. ඒක සම්බන්ධව

අනිවාර්යයෙන්ම ජරාවක් ඉදිරිපත් වෙලා තියෙනවා. අපිට සිද්ධ වෙනවා මේකේ ප්‍රයෝජනය සලකල ක්‍රියාත්මක වෙන්න. එතකොට ලෙඩ රෝග කියලා කියන්නෙත් භාවනා අරමුණක්මයි. වේදනානුපස්සනාව. මේක පිළිබඳව ප්‍රගතිය කියලා කියන්නේ අදට වඩා ලොකු ජරාවක් අදට වඩා ලොකු වේදනාවක් ආවාට ඒක දරාගැනීමේ ශක්තිය යෝගාවචරයාට එන්ට එන්ට එන්ට එන්ට වැඩෙනවා. අන්න එහෙම වැඩිච්ච කල්‍යාණ මිත්‍රයන් එක්ක නැවත නැවත ආශ්‍රය කරමින් ඉදිරියට යනකොට මෙව්වා පිළිබඳව පුංචි දේවල්වලට වැඩි කතා වැඩි ක්‍රියා නතර කරලා වහාම මේ චිත්තක්ෂණයට හිත හරවාගන්න පුළුවන් ශක්තියක්, යෝනිසෝ මනසිකාරයක් ඇති කරගන්න පුළුවන් ශක්තියක් යෝගාවචරයාට ලැබෙනවා.

අන්න එතකොට තමයි යෝගාවචරයාට පුළුවන් වෙන්නේ කොච්චර දුකක් කොච්චර කරදරයක් තිබුණත් මූල කර්මස්ථානය දකිමින් දනිමින් දැකගනිමින් පර්යංකය ගත කරන්න; සක්මනේ ඉන්නකොටත් කවුරු මොන විදිහට හැසිරුණත් කටයුතු කළත් තමන්ගේ අරමුණ හැකි තාක් දුරට බිම වට්ටගන්නෙ නැතුව පවත්වන්න. අඩු ගානේ කියනව නම් දවස පුරාම කොච්චර ලෙඩ්ඩු හිටියත් කොච්චර මදයෙන් මත් වෙච්ච පිරිසක් කටයුතු කළත් තමන්ගේ සතිය පවත්වාගෙන යන්න පුළුවන් උදේ ඉඳලා හැන්දෑ වෙනකල්. ඒ මොකද, මේ හැම සංසිද්ධියක්ම දකින්නේ භාවනාව ඇති කිරීම සඳහා අපිට අරමුණක් වශයෙන් පමණයි.

ඒක නිසා අපි මේ කතා කරන මට්ටම මුලින්ම දේශනාවේ සඳහන් කළා වගේ ධම්මානුපස්සනා කොටසටයි වැටෙන්නේ. ආධුනික යෝගාවචරයාට මේක බරපතළ වැඩියි. ආධුනික යෝගාවචරයා ප්‍රධාන වශයෙන්ම කායානුපස්සනාවේ ගත කරන්නේ. නමුත් මතක තියාගෙන ඉන්න ඕනෑ සතිපට්ඨානය කායානුපස්සනාවෙන් නතර වෙන්නේ නැහැ. වේදනා, චිත්ත, ධම්ම කොටස්වලට එනකොට අපි හැමදම හැම වෙලාවෙම ගිහි වේවා පැවිදි වේවා ස්ත්‍රී වේවා පුරුෂ වේවා මොන කෙනත් අත්දකින සෑම අත්දැකීමක්ම භාවනාවක් බවට පත් වෙනවා. ඒ නිසා

අනුරුද්ධ මහ රහතන් වහන්සේ ලෙඩ වෙච්ච වෙලාවේදී උන්වහන්සේ ඉවසන ස්වරූපය දැකලා ආනන්ද ස්වාමීන් වහන්සේ අහනවා "ස්වාමීන් වහන්ස, ඔබවහන්සේට මේ ඇති වන දුක් වේදනා වලදී ඔබවහන්සේ මේ විදිහට කොහොමද ඉවසන්නේ?" කියලා. එතකොට කියනවා "ආයුෂ්මත්නි, මම එන හැම අරමුණක්ම සතිපට්ඨාන හතරට දලා බලනවා. අහු වෙන්නෙ නැති එකක් නෑ මට. සෑම අරමුණක්ම සතර සතිපට්ඨානයෙන් එකක් වශයෙන් මට අහු වෙනවා එච්චරයි. එතකොට මම සතිපට්ඨාන භාවනාවට යනවා".

එහෙම නැත්නම් මේ ලෙඩ සුවපත් කරන්න පුළුවන් වෙයි, නැත්නම් කාටවත් කියලා ඒත්තු ගන්වන්න පුළුවන් වෙයි කියලා කවදකවත් විශ්වාස කරන්න එපා. පටන්ගන්නේ එක්කෝ සිතිවිල්ලකින්, නැත්නම් වේදනාවකින්, ලෙඩකින් නැත්නම් සද්දෙකින් තමයි. ඒ සෑම දෙයක්ම ඊළඟ චිත්තක්ෂණයේ වහාම සතියට අහු වුණ ගමන් කායානුපස්සනාවටද, වේදනානුපස්සනාවටද, චිත්තානුපස්සනාවටද, ධම්මානුපස්සනාවටද මේක අහු වෙන්නේ කියලා වැටහිච්ච ගමන් උන්වහන්සේට ඉන් එහාට ඒක කරදරයක් නෑ. ඒ නිසා උන්වහන්සේ සඳහන් කරනවා මම මෙහෙම ඉඳලා දකුණු දිශාව බලනවා නම් මම දකුණු දිශාව බලන්න ඉස්සෙල්ලා දැනගන්නවා මට මේකෙන් හම්බ වෙන්නේ සතර සතිපට්ඨානයට අරමුණු විතරයි. මගේ හිත ඒ අරමුණු විෂයෙහි වික්ෂිප්ත නොවේවා, සතිය පිහිටාවා කියලා තමයි මම නැගෙනහිර බලන්නේ. නැගෙනහිර ඉඳලා මම උතුර දිහා බලනකොටත් ඒ පැත්තෙන් මට එන්න පුළුවන් සතර සතිපට්ඨානයට අරමුණු පමණයි. අන්න ඒ අරමුණු විෂයෙහි මගේ හිත නොවිසිරේවා, සතිය පිහිටුවාවා. දකින සෑම අරමුණක්ම සතිපට්ඨානයට නඟාගන්න ලැබේවා කියන මූලික ශික්ෂණයක් ඇතුව තමයි මම ඕනෑම දිශාවක් බලන්නේ. ඒ නිසා මට මුළු ජීවිතේම භාවනාවක්.

ඒක නිසා සතිපට්ඨාන දේශනාව මුලදිමත් අපි කිව්වා පටන් අරගන්නකොට ඒ වාගේ හැම දෙයක්ම අරමුණු කරගැනීමේ

භාවනාවට නංවාගැනීමේ ශක්තියක් යෝගාවචරයාට නෑ. ඒ නිසා ආනාපානය, පිම්බීම හැකිළීම, සක්මන් භාවනාව ආදී කායානුපස්සනා කොටසකින් තමයි පටන්ගන්නේ. නමුත් අපි එතන ජරාව නෑයි කියලා හිතන්න නරකයි. අපි ජරාව අඩුම තැනකින් පටන්ගන්නවා. නමුත් ඉතාම ශීඝ්‍රයෙන් බොහෝම ඉක්මනට ජරාව පැමිණෙනවා. ඒ පැමිණෙනකොට ජරාවට දුප් කියලා හෝ දෙස් කියලා හෝ ඒක විසඳගන්න බෑ. අපි හිතාගන්න ඕනෑ කායානුපස්සනාවෙන් තනාගත්තා වූ සමාධියෙන් යුක්තව මේකට ටික ටික ටික ටික මූණදීගෙන එනකොට අෂ්ට ලෝක ධර්මයට කම්පා නොවෙන හිත වැඩෙනකොට වැඩෙනකොට තමන්ට තේරෙන්න පටන්ගන්නවා ඉරියව්වක ටික වෙලාවක් ඉන්න පුළුවන්. කවුරුහරි ඇවිල්ලා තමන්ට අභූත වශයෙන් චෝදනා කරද්දි හිනා වෙලා බලාගෙන ඉන්න පුළුවන්. තමන් අනුන් විෂයෙහි කේලමක් අහලා හෝ අනුන්ට දෙස් කියනකොට ඒ මනුෂ්‍යයා හිනා වෙනකොට බොහෝම ඉක්මනට තේරුම්ගන්න පුළුවන්.

ඒ නිසා මේ ලෝකයෙ මනුෂ්‍යයෝ මෙච්චර වෛද්‍ය විද්‍යාවට අඬන්නේ මොකද කියලා තේරුම්ගන්න පුළුවන්. ඒක තේරුම්ගැනීමේ ශක්තිය වැඩි වෙනකොට වැඩි වෙනකොට කවදාකවත් නරකයි වාද විවාද විෂයෙහි යන්න. අපි නැවත නැවතත් යොදගන්න ඕනෑ අපි යම් ප්‍රමාණයකට දැන් ජරාව භාවනාවට නංවාගැනීම තේරුම් අරන් තියෙනවා. අපිට හෙට මීට වැඩිය ලොකු ජරාවක් එනවා. අන්න එදාටත් අපි ඒ ජරාවම තව භාවනා මනසිකාරයක් කරගන්න, මෙතෙක් අත් කරගෙන ගිය කායානුපස්සනා හෝ ඉන් මතුමත්තේ කෙරෙන සෑම භාවනාවක්ම එකින් එකට එකින් එකට යා වෙන තත්ත්වෙකට ගන්න, දැනගන්න ඕනෑ.

එතකොට තමයි අපට අප තුළින්ම ගුරුවරයා හොයාගන්න පුළුවන් වෙන්නේ. අපටම පැත්තකට වෙලා භාවනා කරන්න පුළුවන් වෙන්නේ. අප තුළින්ම ධර්මය දැකලා බුදුන් දකින්න පුළුවන් වෙන්නේ. ඒ නිසා ජරාව කියන එක මනුෂ්‍යයාටම ආවේණික දුකක් තමයි. අද මනුෂ්‍යයා ඉතාමත්ම ඒකෙ ගිලී

අඬනවා තමයි. නමුත් යෝගාවචරයෙකුට ලොකු නිධානයක්. ඒ නිධානෙ බවට පත් වෙන්නේ යෝනිසෝ මනසිකාරයෙන් දැක්කොත් පමණයි. අයෝනිසෝ මනසිකාරයට වැටුණොත් ඉතින් යෝගාවචරයෙක් නෙමෙයි. ඒ නිසා අපි නිතරම වග බලාගන්න ඕනෑ යෝගාවචරයන් බවට පත් වෙන්න. එහෙම නම් එන ජරාව එනවාමයි. ඒක එනකොට අපි සූදානම් මනසකින් එළඹ සිටි සිහියකින් මේක ගත කරගන්න යනවා නම්, සතිපට්ඨාන භාවනාවේ උසස්ම කොටසක් අපිට අත්දැකගන්න පුළුවන් වෙනවා. අපි දෙන්නෙක් විෂම නෑ. බොහෝම සමාන මට්ටමක ඉන්නේ හැම කෙනෙක්ම ඒ අතින්. මොකද හතිකොන පැතිරිච්ච දුකකයි ලෝකය පිහිටලා තියෙන්නේ. ඒකෙ අනිවාර්ය අංගයක් තමයි උත්පාදයත් එක්කම ජරාව.

ඒ නිසා සියලුදෙනාටම වෙනදටත් වඩා වර්තමාන මොහොතේ අවදි භාවය සතිය පිහිටාවා! ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥා ඇති කිරීමෙන් ජරා විෂයෙහි අපිට පෙර නොඇසූ නොවිරූ ආකාරයට දකගෙන මේක අපේ සතිපට්ඨාන භාවනාවට අමුද්‍රව්‍යයක් බවට පත් කරගෙන මේ ජීවිතයෙන් මත්තට ගිහිල්ලා තවත් ජාතියක් ඇති නොවී තවත් ජරාවක් ඇති නොවෙන මෙලොවදීම හමාර කරන වැඩ පිළිවෙළට අපිට මේ ධර්ම දේශනාවත් අපි අත ඇති ප්‍රායෝගික දැනුමත් හේතු වේවා වාසනා වේවා කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව අපි මෙතනින් නතර කරන්න බලාපොරොත්තු වෙනවා.

# 66 | මරණ දුක

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**කතමඤ්ච භික්ඛවෙ මරණං: යං තෙසං තෙසං සත්තානං තම්හා තම්හා සත්තනිකායා චුති චවනතා භෙදො අන්තරධානං මච්චුමරණං කාලකිරියා ඛන්ධානං භෙදො කළෙබරස්ස නික්ඛෙපො ජීවිතින්ද්‍රියස්සුපච්ඡෙදො, ඉදං වුච්චති භික්ඛවෙ මරණන්ති'ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංසරත්නයෙන් අවසරයි! උපාසක මහත්තුරුත් සම්බන්ධ කරගෙන නිතිපතා සතිපතා පවත්වාගෙන එන ධර්ම දේශනා මාලාවට අපි ඉදිරිපත් කරගත්තෙ මහා සතිපට්ඨාන සූත්‍රයයි. ඒ සතිපට්ඨාන සූත්‍රය කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, ධම්මානුපස්සනා වශයෙන් කොටස් හතරකට ගොනු කරලයි සර්වඥයන් වහන්සේ දේශනා කරන්න යෙදුණෙ. එයින් අද මේ උධෘතය ධම්මානුපස්සනා කොටසින්.

ධම්මානුපස්සනා කොටසෙ චතුසච්චපබ්බය කියන චතුරාර්ය සත්‍යය විග්‍රහ කරන පර්වයේ ප්‍රථම සත්‍යය, දුක්ඛ සත්‍යය පිළිබඳ විස්තර, සවිස්තර දේශනා කොටසකුයි මේ. මේක අනිකුත් සර්වඥ දේශනාවල විවිධ තැන්වල විවිධාකාරයෙන් විසිරී පවතිනවා. මරණය, නැත්නම් සමහර විට හුඟදෙනෙක් අහල තියෙන විදියට

මරණානුස්සතිය ආදී ධර්ම කොට්ඨාශ අත්‍යන්ත ආගමික ආධ්‍යාත්මික වැඩක් කියලයි අද සාමාන්‍ය පිළිගැනීම තියෙන්නෙ. ඒක නිසා යම් කිසි කෙනෙකුට මරණය ගැන කතා කරන්න වුණොත්, සාකච්ඡා කරන්න වුණොත් ඒක නොකර බැරි නිසා මගහරවාගන්න බැරි නිසා මූණදීමක් හෝ එහෙම නැත්නම් සම්පූර්ණ ජීවිතය ආධ්‍යාත්මික ආගමික කටයුතුවලට යොදපු ඇත්තන් සඳහා වෙන් වෙච්ච කොටසක් හෝ විදියට තමයි මරණානුස්සති භාවනාව ඉදිරිපත් කරගෙන තියෙන්නෙ.

අද බුද්ධාගම වාගෙ එලෝ මෙලෝ දෙකටම සම ආකාරයෙන් සුබවාදී හැඟීමක් බලාපොරොත්තුවක් ඇති කරන ආගමක්, මරණය දුරින් දුරුවන් කරන්න, මරණය සාකච්ඡාවෙන් බැහැර කරන්න උත්සාහ කරන, විශේෂයෙන් දියුණු යයි සම්මත බටහිර රටවලට යනකොට ධර්ම දේශකයාණන් වහන්සේ, නැත්නම් ධර්මදූත කටයුතුවල යෙදෙන ඇත්තො දැනගන්න ඕනැ, ඒ රටවල ඇත්තන්ට මරණය ගැන කතා කිරීම නොකළ යුත්තක්. අනවශ්‍ය කාරණාවක්. ඒ නිසා ථෙරවාද දර්ශනයේ මුලින්ම සඳහන් වෙන චතුරාරක්ඛ භාවනාවල **බුද්ධානුස්සති මෙත්තා ච - අසුභං මරණස්සති** කියන විදියට මරණානුස්සති භාවනාව තමයි හතරවෙනියට සඳහන් වෙන්නෙ. නමුත් මේක ඉතාමත්ම දුෂ්කරයි. අවස්ථාව දන්නෙ නැතුව ඉදිරිපත් කළොත් ඒ පිරිස හරි අපහසුතාවකට පත් වෙනවා, නොසන්සුන් භාවයකට, නුරුස්නා භාවයකට පත් වෙනවා නොතැන්හි මරණය ගැන කතා කිරීම.

නමුත් මේ වාගෙ පිරිසකට ඒක එහෙමම විය යුතු නෑ. මොකද, තමන් අධ්‍යාත්මයක් ගැන හිතලා නිස්සරණයක් ගැන හිතලා වැදගත් තීන්දු වැදගත් ක්‍රියා පිළිවෙළවල් රාශියක් ඉදිරියට තියපු පිරිසක්. ඒ නිසා මේ පිරිස සාමාන්‍ය කාමභෝගී, සෞන්දර්ය පැත්ත බලන සිලිලාරෙ බලන බහු ජනතාවට වඩා වෙනස් ගතියක් දක්වනවා. නමුත් මේ පිරිස වුණත් මතක තියාගන්න ඕනෑ අපි ජීවත් වෙන ලෝකයෙ අපි මේ ඉදිරිපත් කරගත්ත මාතෘකාවට විවිධ ආකල්ප තියෙන බව.

ඒ නිසාම කලින් සඳහන් කළා වාගෙ ත්‍රිපිටකයේ මරණය සඳහන් වීම සාමාන්‍ය ක්‍රමයෙන් ආකාර තුනකට විතර කඩල විග්‍රහ කරල තේරුම්ගන්න පුළුවන් විචිත්‍රත්වය සඳහා. එකක් තමයි සම්මුති මරණය සම්බන්ධයෙන් ඇත්තා වූ, සම්මුති පැත්තෙන් මරණය දිහා බැලීම. අනිත් එක තමයි විදර්ශනා පැත්තෙන්, නැත්නම් පරමාර්ථ පැත්තෙන්, උප්පාද - ඨිති - භංග කියන පැත්තට මරණය බැලීම. නැත්නම් දර්ශනික පැත්තෙන්, බටහිර හෝ වේවා එහෙම නැත්නම් ථෙරවාද බුද්ධාගමේ ඊට ලැබෙන පිටුවහල පැත්තෙන් බලලත් මරණය ගැන කතා කරන්න පුළුවන්. මේ තුනම මේ වාගෙ පිරිසකට බහුශෘත භාවය වැඩීමට, අපි අද ඉන්න තැන තේරුම්ගැනීමට උදවු උපකාර වෙනවා. ඒක හොඳ යෝනිසෝමනසිකාර ක්‍රමයක්. නුවණින් සලකා බලන ක්‍රමයක්.

අපි මීට කලින් සතිපට්ඨාන සූත්‍රයේ ඉදිරිපත්වෙන ස්වරූපයට හිත යොදලා බැලුවොත් ජාති, ජරා, මරණ කියල තමයි දුක්ඛ සත්‍යය විග්‍රහ කිරීමේ විස්තර ඉදිරිපත් වෙලා තියෙන්නෙ. සම්මත මනුෂ්‍ය ආත්මයක්, සත්ත්ව ආත්මයක් ගත්තොත් උප්පත්ති අවස්ථාව, ක්‍රමයෙන් මෝරන පැසුණු භාවයට පත් වෙන අවස්ථාව, මරණය. උත්පාද, ඊගාවට ජරා, මරණය. ඒකම තමයි පරමාර්ථ වශයෙන් බලනකොට - භාවනා යෝගාවචරයෙක් ඇත්ත ඇති හැටියේ දකගැනීමේ අදහසින් යම් කිසි සංස්කාර කොටසකට, යම් කිසි රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන කොටසකට හිත යොදගෙන බලනකොට මූලික විපස්සනාවට අවශ්‍ය කරන පාදක ධර්ම ඒ අවශ්‍ය ගති ලකුණුත් එක්ක පහළ වෙනවා නම්, ඔහුට ඒ සම්මුති සංස්කාර තුළින් දකගන්ට පුළුවන් වෙනවා මේ හැම නාම ධර්මයක්ම, රූප ධර්මයක්ම, හේතු ධර්මයක්ම, ඵල ධර්මයක්ම මූලික සංඛත ලක්ෂණයෙන් යුක්තයි. මේවාට උප්පාද - ඨිති - භංග කියන මූලික ලක්ෂණ තුනක්, මේ නාම රූප හේතු ඵල කොයි දේටත් තියනවා.

අන්න එතෙන්ට ගියාම ජීවිතේ සතිපට්ඨානය අහන්න කලින්, ආගම ධර්මය කෙරෙහි නැඹුරුවක් වෙන්ට කලින්, තමන් දකලා තිබුණු සත්ත්වයාගේ උත්පත්තිය, සත්ත්වයාගේ පැවැත්ම, මෙරීම සහ මරණය දූන් ඒ ඒ චිත්තක්ෂණයේ ඉතාමත්ම පුංචි ආදර්ශයක් විදියට

චිත්තක්ෂණයකට පොඩි කරල දැකගන්න පුළුවන් වෙනවා. ඒ යෝගාවචරයාගේ ඥානයත් ඒ තරමටම තීක්ෂණ නම්, ඉතාමත්ම සියුම් නම් ඔහු මේ එක චිත්තක්ෂණයක මුළු ජීවිතයම අත්දකින්නා සේ මේ සංස්කාර කොටස්වලින් ලොකු පාඩම් ඉගෙනගන්නවා.

අන්න ඒකෙදි ජරාව පිළිබඳව අපි ඉදිරිපත් කරගත්ත පාඨයේ තියෙන්නෙ **තෙසං තෙසං සත්තානං තම්හි තම්හි සත්තනිකායෙ........** ආදී වශයෙන්, ඉපදුණා වූ සංස්කාර කොටස්, නැත්නම් ජීවිතයක්, සතෙක් ක්‍රමයෙන් මරණය දක්වා ගෙවිගෙවී කැපිකැපී යන හැටි. **ඛණ්ඩිච්චං පාලිච්චං වලිත්තචතා ආයුනො සංහානි ඉන්ද්‍රියානං පරිපාකො, අයං වුච්චති භික්ඛවෙ ජරා** ආදී වශයෙන්, ඒකම පූර්ණත්වයට පත් වීමක් තමයි මරණය කියන්නෙ. ජරාව, දිරා යෑම පටන්ගන්නකොටම ලැබෙනවා. ඒ දිරා යෑම අවසාන වෙනකොට තමයි මරණය, චුතිය සිද්ධ වෙන්නෙ. ජීරණතාවක්, දිරන ගතියක් තියෙනවා. අපිට පේන්නෙ නැති වුණාට සංස්කාර ධර්මවල, විශේෂයෙන් ජීවිතයක, ක්‍රමයෙන් දිරන ගතියක් තියෙනවා. මේක සාමාන්‍යයෙන් අපිට පේනවා - ඉදිච්ච පලතුරක් ගත්තාම බොහෝම ඉක්මනට ඒක නරක් වෙිගෙන යනවා. පිපිච්ච මලක් ගත්තාම බොහෝම ශීඝ්‍රයෙන් ඒක මරණයට යනවා. මල මළ තත්ත්වයට පත් වෙනවා. අපි ඒකයි මල් පූජා කරල ප්‍රාර්ථනා කරන්නෙ. ඒ නිසා අපි එව්වා දිරීම නතර කරන්න ශීතකරණවල තබනවා, මල් වතුරේ ගිල්වා තබනවා. නා නා ප්‍රකාර දේවල් කෙරුවට ඒවායේ දිරන ගතියක් කියල එකක් තියෙනවා.

ඒක නිසා එක චිත්තක්ෂණයක් ගත්තාමත් **ඨිතස්ස අඤ්ඤථත්තං** ඨිතියේ වෙනස් බවට පත් වෙන ස්වරූපයක් කියල එකක් තියෙනවා. **උප්පාදො පඤ්ඤායති, වයො පඤ්ඤායති, ඨිතස්ස අඤ්ඤථත්තං පඤ්ඤායති.** මේ ඨිතිය කියන වචනයේ තේරුම හිටියා, පිහිටියා කියන එකයි. නමුත් ඒ පිහිටීමේ තියෙන්නෙ නිතරම අන්‍ය දෙයක් බවට පත් වෙන ස්වරූපයක්. හරියටම ප්‍රතිවිරුද්ධ වචන දෙකක් එකතු වෙලා තියෙන්නෙ. **ඨිතස්ස අඤ්ඤථත්තං**, සාමාන්‍ය විදියට බලනවා නම් පිහිටියා නම්, හිටියා නම් හෙල්ලෙන්නෙ නෑ, පෙරළෙන්නෙ නෑ, වෙනස් වෙන්නෙ නෑ. **අඤ්ඤථත්තං** කිව්වා නම්

අනාත්‍යතාවට පත් වෙනවා. ඒක නිසා ඉපදුණා වූ, භූත භාවයට පත් වුණා වූ මොනම දෙයක් හෝ එකම චිත්තක්ෂණයක්වත් නතර නොවී, එක දිගට පෙරළෙමින් පවතිනවා. ඒ පෙරළෙමින් පවතින ස්වරූපය තමයි අපි මෙතන ජරා කියන වචනයෙන් හඳුනාගත්තෙ. ඒක සඳහා කැඩෙනවා, බිඳෙනවා, ගැලවිලා යනවා, කැපිල යනවා ආදී දේවල් දිගටෝම සිද්ධ වෙනවා. දත් කඩලා යනවා, හිසකේ පැළිලා යනවා, හම පුපුරලා යනවා, අතපය කැපෙනවා, කැඩෙනවා. මේ සේරගේම මරණය පිළිබඳ සංකාව සංඥව පවතිනවා.

අවසානයේ **ඉන්ද්‍රියානං පරිපාකො**, ඉන්ද්‍රිය දුර්වල භාවයට පත් වෙච්චාම මොනම තාලෙකින්වත් ඒක ආයෙ පවත්තන්ට බැරි තත්ත්වෙට පත් වෙනකොට, මරණය ගැන කතා කරනකොට කියනවා **ජීවිතින්ද්‍රියස්සුපච්ඡෙදෙ**. ජීවිත ඉන්ද්‍රිය කපල යනවා. **කාලකිරියාය** කියල වචනයක් සඳහන් වෙනවා. කාලය ඔහු කෙරේ ක්‍රියාත්මක වෙලා ඉවරයි. කාලක්‍රියා කළායි කියල අපි කියනවා. කාලක්‍රියා කළායි කියල කියන්නෙ මේ ජීවිතය ලබනකොටම ඒ පුද්ගලයා යම් කිසි ආයුෂ ප්‍රමාණයක් ගෙනාව නම් ඒ ආයුෂ ප්‍රමාණය ගෙවිලා, ගෙවිලා දැන් කාලයෙ වැඩ හමාරයි. ඔහුගේ ජීවිතය උපච්ඡේදයට පත් වෙනවා. ඒ නිසා අපි ඒක ඒ අවසාන මොහොතට පත් වෙච්ච වෙලාවෙ දැනගත්තොත් මෙන්න මෙච්චර මට ජීවිතේ තිබිල තියෙනවා, නමුත් ඒ කාලය දැන් ඉවරයි කියලා හරි විශාල කනගාටුවකට, බලාපොරොත්තු සුන් වෙච්ච තත්ත්වෙකට පත් වෙනවා. මට පොඩ්ඩක් කල් ඇතුව දැනගන්න තිබුණා නම් මට මෙච්චරයි ආයුෂ තිබුණෙ, මීට වඩා වැඩි කරන්න පුළුවන් කෙනෙක් ලෝකෙ ඇත්තෙ නැත, එක්කො මට මීට වැඩිය අර්ථවත්ව තේරුමක් ඇතුව හරයක් ඇතුව මේ ජීවිතය ගත කරන්න තිබුණා නේද කියන අදහස ගන්න පුළුවන් වෙනවා. නමුත් සාමාන්‍ය පෘථග්ජන පුද්ගලයාගේ මරණ අවස්ථාවේදී අර විදියේ ජීවිතය ජීවිතේන්ද්‍රියාගේ ගෙවී යාම, කාලක්‍රියාව සිද්ධ වෙන කොට පමා වෙනවා.

ඒකට අපේ සාමාන්‍ය ඇත්ත නැත්ත කියන්න දන්නෙ නෑ. නමුත් මේකට කිට්ටු කරගන්න උපමාවක් තියනවා, අලියෙක් මැරෙන්න චිත්තක්ෂණ තුනකට කලින් ඌට උගෙ ශරීරෙ පේනවයි

කියල. එතකල් උගෙ කන් දෙකෙන් සම්පූර්ණ ශරීරය වහල තියෙන්නෙ. කන වහනකොට දිගඅරිනකොට ඒ කනත් එක්කම තමයි ඇහැ පිහිටල තියෙන්නෙ ඒ නිසා කන් දෙකේ ස්වභාවය හැර උගට කවදකවත් තමන්ගෙ පිටිපස්ස බලන්ට පුළුවන්කමක් නෑ, බෙල්ල හරවන්න පුළුවන්කමක් නෑ. ඒ නිසා ඇතා දන්නෙ නෑ මම මෙච්චර ලොකු සතෙක් කියල. ඒ නිසා ඒ සාමාන්‍ය ගමේ කතාවක් කියන්නෙ මරණෙට මොහොතකට, චිත්තක්ෂණ තුනකට කලින් ඇතාට තමන්ගෙ ශරීරය පේනකොට ලෝකෙ පෙරළන්න හිතෙනවලු. පෙරළනකොට තමන් පෙරළිලා ඉවරයි. එද තමයි දැනගන්නෙ මම ඇතෙක් කියල. ඒන්න ඒ වාගෙ තමයි හුඟක් වෙලාවට පෘථග්ජනයාට මරණ මොහොතෙදි තමයි ප්‍රමාදය වැටහෙන්නෙ.

මරණානුස්සති භාවනාව, නැත්නම් සතිපට්ඨාන භාවනාවෙදි මරණය ගෙන හැර දැක්වීම, ඒ නිසා ඒ අභාග්‍යසම්පන්න කාලක්‍රියාව **කළෙබරස්ස නික්ඛෙපො** කියන මෘත කලේබරය හැර දැමීමේ අසුබ ලක්ෂණය මුලට ගෙන ඒමක් කියලා හුඟදෙනෙක් මේක ප්‍රතික්ෂේප කරනවා. නමුත් ජීවිතය සහ මරණය කියන දෙක අතර පුදුමාකාර වෙන් කරන්න බැරි සම්බන්ධතාවක් තියෙන බව දර්ශනයේ නම්, දර්ශන විද්‍යාවට නම් මකන්න බෑ, වහන්න බෑ. ඒ නිසා යෝගාවචරයට සිද්ධ වෙනවා, එක්කෝ මරණය සම්මුති මරණයක් වශයෙන් සිදු වෙන වෙලාව එනකල් පමා නොවී කල් ඇතුව මරණය සිහිපත් කරල, එයින් ලබන්න පුළුවන් වෙන්නා වූ මේ පස්සට දන කාරණාව, හෙට කරනවයි කියන වැඩේ නතර කරල, වහවහා කළ යුත්ත කරන්න. ඒ විතරක් නෙවෙයි, තමන්ගේ ප්‍රිය මනාප ගුරු දෙමව්පිය ඇත්තො මිය පරලොව ගියාම ඉස අත බැඳගෙන අඬන්නෙ නැතුව සන්තෝෂ වෙන්න පුළුවන්. මම කලින් මරණානුස්සති භාවනාව කරපු නිසා, බොහෝදෙනාට සිහි විකල් වුණාට මූර්ජා වුණාට මට මේකෙදි ඒක දරාගන්න පුළුවන්.

ඒ විතරක් නෙවෙයි සාමාන්‍ය භාවනාවක් කරගෙන යන අවස්ථාවෙදි වුණත් ඒ පුද්ගලයට චිත්ත වීර්යය, භාවනා අරමුණේ හිත පවත්වනකොට මම තාම තරුණ වැඩියි, මට මේ වැඩේ කරන්න තියෙනවා, ඒ නිසා භාවනාව පැත්තක තියලා මම මේ මේ වැඩ

කරන්න ඕනෑ කියල වැඩ පස්සට දන ගතිය කියන දුර්වල භාවය මතු වුණොත්, මම ටිකක් නිදගන්න ඕනෑ, සැප ලබන්න ඕනෑ ආදිය කියන කොට මරණානුස්සති භාවනාව කරන කෙනාට ආරක්ෂාවකුත් සපයනවා. ඒ නිසා මේක තුන්පැත්තකින් උදවු උපකාරයි. ඒ උපකාරය වෙන්න මරණය දෙස අර කියන විදියට තුන්හතර පැත්තකින් කල් ඇතුව බලල තියෙන්න ඕනෑ. මේක සාමාන්‍යයෙන් අපි සතිපට්ඨාන සූත්‍රයෙ සඳහන් කරන විදියට **ජීවිතින්ද්‍රියස්සුපච්ඡෙදෙ** කියන විදියටත් "කාලකිරියා" කියන වචන දෙකෙනුත් සඳහන් වෙනවා, උපතින්ම උඹට මේ ආත්මය සඳහා මෙන්න මෙච්චර දින වකවානු ගණනක් හෝ මෙච්චර ආයුෂ තියෙනවා කියලයි අපි කියන්නෙ. ඒ ආයුෂය ගෙවී යමින් තමයි පවතින්නෙ. ඒක නතර කරන්න පුළුවන් කෙනෙක් ඇත්තෙ නෑ.

මේක මීට වැඩිය සිත් ගන්නාසුලු තාලෙට, හිත් වදිනා තාලෙට ඉදිරිපත් කරල තියෙනවා අන්‍ය ආගමක. විශේෂයෙන්ම පසුකාලීනව දියුණු වෙච්ච හින්දු යෝග ක්‍රම පෙන්නනකොට අපේ ආනාපානසති භාවනා වගේ ඒ ඇත්තන්ගෙත් ප්‍රාණායාම භාවනා ක්‍රමය කියල තියනවා. ආශ්වාස ප්‍රශ්වාසයට ප්‍රාණය කියන වචනය තමයි පාවිච්චි කරන්නෙ. අන්න ඒකෙදි පෙන්නල දෙනව, සාමාන්‍ය පුද්ගලයෙක් ඉතාමත්ම හැඟුම්බරව ගත කරනවා නම්, ඒ පුද්ගලයා ආශ්වාස කිරීම සඳහා ගන්න වෙලාවෙන් භාගයක් තරම් වෙලාවකින් හුස්ම එක පාරට පිට කරනවයි කියනවා. අපි කියනවා ඒකට සුවාසෙ අරිනවයි කියල. නිතරෝම හුස්ම ගන්නෙ ඉතාමත්ම හෙමිහිට. එකපාරට දැඩි තාපයක් එක්ක ආයාසයකින් පිට කරල දනවා, අර තියෙන ආවේගකර තත්ත්වය අසහනකාරී තත්ත්වය නිසා. ඉතින් ඒ පුද්ගලයා හුගක් වෙලාවට මරණ මොහොත දක්වාම දන්නෙ නෑ මේ පිට කරන හුස්ම අපි ඉතාම ශීඝ්‍රයෙන් පිට කරන්නෙ නාස්පුඩු පුරවාගෙන සෝෂාවක් ඇති කරමින් කියල. ආයෙ ප්‍රාණායාම භාවනාවෙදි කියනවා, ගන්න හුස්ම ගණන් කරල ගන්න. එකේ සිට හතර දක්වා ගණන් කරනකල් අපි හුස්ම ගන්නවායි හිතුවොත්, පිට කරනකොටත් එකේ සිට හතර දක්වා ගණන් කරන ප්‍රදේශයක් තුළ පාලනයෙන් යුක්තව පිට කරන්නයි කියල.

මේ උත්සාහයේදී ඒ පුද්ගලයාට තේරෙනවා ගන්න හුස්මට පිට කරන හුස්ම අපේ සාමාන්‍ය ජීවිතයේ සමාන නෑ. විශේෂයෙන්ම දුකක්, කරදරයක්, කම්කටුල්ලක්, හිතට වෙහෙසක් ආපුවාම පිට වෙන හුස්ම ඉතාම ශීඝ්‍රයෙන් පිට වෙනවා. මේ නිසා ඒ ඇත්තො කියනව පිට වෙන හුස්ම ඉක්මනින් පිට කළොත්, උඹට හම්බ වෙලා තියෙන හුස්ම රැළි ගාන සීමිතයි - ඒකට තමයි අපි ආයුෂය කියන්නෙ - ඒක ඉක්මනින් පිට කළොත් උඹ කලින් මැරිල යනවා. ඒක පාලනයෙන් යුක්තව හෙමිහිට පිට කරන තාලෙට ආයුෂ දික් වෙනවා. පැය ගානෙන් නෙවෙයි ආයුෂ මැනල තියෙන්නෙ හුස්ම ගානෙන්. ඒ නිසා හුස්ම පාලනය කරනව නම්, ප්‍රාණායාම කරනව නම් ඒ පුද්ගලයට ලැබිච්ච ආයුෂ, ලැබිච්ච ප්‍රාණය බොහෝ කාලයක් පාවිච්චි කරන්න පුළුවන්. මේ සඳහා ඉතාමත්ම උපේක්ෂකව, අෂ්ට ලෝක ධර්මයේ කම්පා නොවී තමන්ගෙ හුස්ම ගැනම හිත යොදාගෙන පුළුවන් තරම් හෙමිහිට හුස්ම පාවිච්චි කරල; ඒ කියන්නෙ හුස්ම ඇතුළට අරගෙන, පුළුවන් තරම් වේලාවක් හුස්ම පෙනහැල්ලෙ නතර කරගෙන ඉඳල, පුළුවන් තරම් හෙමින් ඒ හුස්ම පිට කරල නැවත හුස්මක් ගන්න කලින් පුළුවන් තරම් වේලාවක් විවේක වෙන්නෙයි කියනවා.

මේක තමයි චතුර්ථ ධ්‍යානෙදි වෙන්නෙ. ආයාසයක් නෑ හුස්ම ගන්නත්. ආයාසයක් නෑ හුස්ම ගත්ත එක ඉක්මනට පිට කරන්නත්. ආයාසයක් නෑ හුස්ම පිට කරන්නත්. ආයාසයක් නෑ පිට කරපු හුස්ම නැවත ගන්නත්. කාය සංස්කාරයන්ගෙ සම්පූර්ණ සංහිඳීම වෙනකොට බොහෝ ආයුෂ ලබනවා, දීර්ඝායුෂ වෙනවා. ඒ පුද්ගලයා දේවල් කෙරෙහි උපේක්ෂකයි. සංඛාර උපේක්ඛා ඥානයෙදි උපේක්ෂක වෙනවා. නමුත් එතකොට අර තියන වේගය, උත්සන්න ගතියක් ආසන්න ගතියක් නෑ. ඉතාමත්ම ශාන්ත සුන්දර භාවයකට පත් වෙලා තියනවා.

යෝගාවචරයෙකුට වුණත් ඒක ඒත්තුගන්නල දෙන්න අමාරුයි. ඒ මොකද, යෝගාවචරයන්ටත් මේ භාවනා ප්‍රතිඵල කියල මොනවදෝ ජාතියක් අවශ්‍ය කරල තියනවා. ඒ නිසා හුස්ම ගනිමින් වේග වෙමින් කොහේදෝ දුවනවා ඒ භාවනා ප්‍රතිඵල හොයන්න. දුවන්න දුවන්න සිද්ධ වෙන්නෙ අර නිශ්චල භාවයෙන්, අර තැන්පත්

හුස්මෙන් ඈත් වෙන එකයි. සත්‍යය මැද නතර වෙලා බලාගෙන ඉන්නවා, අපි සත්‍යය හොයමින් ඈතට වටවළල්ලෙ දුවනවා. යම් දවසක මේ හෙවීම නතර කරපු දවසට අපි සත්‍යය කරා ළං වෙනවා. මොකද, දුවන්න දුවන්න අපි සත්‍යයෙන් ඈත් වෙනවා. සත්‍යය තියෙන්නෙ ඉතාම තැන්පත්ව මැද. අපි ඈතට දුවනවා, දුවන්න දුවන්න වේග වැඩි වෙනවා. වේග වැඩි වෙන්න වැඩි වෙන්න ස්වාසෙ අරිනව වැඩි වෙනවා, ජීවිතේ කෙටි වෙනවා.

මේක තවත් උපමාවකින් කියනවා නම්, අපි පලතුරු, එළවළු ගෙනාපුවම ඒවා අව්වට සීතට උෂ්ණෙට ඉක්මනට ලක් වුණොත් ඉක්මනට නරක් වෙනවා. අපි ඒකට කරන්නෙ අයිස් පෙට්ටියට දානවා. අයිස් පෙට්ටියට දාපුවම ඒකෙ ක්‍රියාකාරකම් ඔක්කොම අන්තිම ජීවිතේ පැවැත්වීම සඳහා පමණක් නතර වෙලා අරක බොහෝ වේලා නරක් නොවී, කුණු නොවී පවත්වාගන්න පුළුවන් ශක්තියක් ලැබෙනවා. බ්‍රහ්ම ලෝකෙ කියලා කියන්නෙ අන්න ඔහොම අයිස් පෙට්ටියක්. ඕකට ගියාම ඇහෙන් පේන විශාල ක්‍රියාකාරකම් සියල්ලම නතර වෙලා ඒ සඳහා ඇත්තා වූ චේතනා, ආසාවල්, මද මාන සියල්ලම නතර වෙනවා. ඉන්ද්‍රිය ධර්ම ගොඩාක් වැඩ කරන්නෙ නෑ. තියෙන්නෙ ඉතාමත්ම සුළු පැවැත්ම පමණයි. ඉතින් කියනවා ආයුෂ කොච්චරදෝ කෙළකෝටි ගානක් තියෙනවයි කියල.

ඊට වැඩිය ටිකක් වෙනස් දිව්‍ය ලෝකෙ. දිව්‍ය ලෝකෙත් ඔය චාතුර්මහාරාජිකය, තාවතිංස දෙවියන්ට කඩිකුලප්පුව වැඩියි. ටිකක් රැස්සන්නෙ නැති ගතිය, එහෙ දුවන මෙහෙ දුවන ගතිය. ලංකාවට මේ ලෝකෙට නිතර එන්නෙ ඒ ඇත්තො තමයි. මෙච්චා ගැන හොයනව බලනවා. ඒ නිසා ජීවිත කෙටි වෙනවා. ඉහළට ඉහළට යනකොට යාමය, තුසිතය, නිම්මානරතිය, පරනිම්මිත වසවර්තිය, ලෝකෙට මොන හෙණයක් ගැහුවත් ඒ ඇත්තො නෙවෙයි හැරිල බලන්නෙ. මෙකට මොනවා වුණත් එකයි, බලන්නෙත් නෑ. ඒ ඇත්තො දීර්ඝායුෂ වෙනවා. ඉතින් ඒ නිසා සමහරු හිතනවා මේ දීර්ඝායුෂ භාවයයි භාවනාවයි දියුණු වෙනකොට දියුණු වෙනකොට මනුෂ්‍යයා ලෞකික හැඟීම් නැති කරලා, මේ ලෝකෙ ගැන කැක්කුමක් රිදිල්ලක් නැති වෙච්ච නිසා නිකම්ම ගහක් ගලක් පර්වතයක් වෙනවා,

ගල් බමුණෙක් වෙනවායි කියලා. මේ නිසාම මරණය පිළිබඳව හෝ භාවනාව පිළිබඳව කතා කිරීම මනුෂ්‍යයෝ හිතනවා ආගමික වැඩක්, ආධ්‍යාත්මික වැඩක්. ඒක මේ ලෝකයේ තියෙන සිලිලාරයට, ලෝකයේ තියෙන සුන්දරත්වය මේ මඟුල් සක්වළේ විනෝදයට බාධකයි.

නමුත් මේ වගේ පිරිසක් ඉදිරිපත් වෙච්චාම ඒ ඇත්තො ඒ සෞන්දර්යයේ, ඒ සිලිලාරේ, ඒ සමනළ වර්ණයේ රස දැකල තියනවා. ඒක කොච්චර භයානකද කොච්චර මරණය ආසන්නයට ගෙනියනවද කියන එක දන්න නිසා පෙර කළ පිනක් නිසා හෝ මේ ජීවිතේ ඇත්තා වූ ප්‍රයෝග ඥනයක් නිසා මීට විකල්පයක් හොයන්න පෙළඹිලා තියෙනවා. ඒ පෙළඹීම ආධ්‍යාත්මික තමයි. ඒ පෙළඹීම ආගමික තමයි. නමුත් ඒක හුදු හැඟීමකින් හුදු ආවේගයකින් කරන දෙයක් නෙවෙයි. තර්කයට දර්ශනයට වුණත් පෙන්නල දෙන්න පුළුවන්. මේ වගේ පෙළඹිච්ච පිරිසකට ඒ තාර්කික ඒ දර්ශන ලකුණු ඉදිරිපත් කරල පෙන්නන්නේ එක පැත්තකින් තමන් ගත්තා වූ තීන්දුව, තමන් යන ගමන හරි බවට උද්‍යෝගයක් ඇති කරගන්නයි. දෙක තමයි අපි මේ විදියට කටයුතු කරනකොට නා නා ප්‍රකාරව ඒ සිලිලාරය සෞන්දර්යය අගය කරන ඇත්තො ඇවිල්ල වාද පටලවනවා. ඔහොම නම්, අයිස් පෙට්ටියක දාලා තිබ්බ නම් බොහොම කල් තියන්න පුළුවන් නේද මොකටද ඔය ජීවිතේ?

කලිනුත් මං දවසක කිව්වා වගෙ එක වයසක, අවුරුදු එකසිය විස්සක විතර මනුස්සයෙකුට හොඳ සෞන්දර්යවත් ජීවිතයක් ගත කරන රසාස්වාදය දන්නා වූ ඉඳුරන් පිනවමින් ගත කරන ක්‍රීඩා දශකයේ ඉන්න තරුණයෙක් හම්බ වෙලා තියනවා. ඒ පුද්ගලයා දවසම සැලසුම් කරල තියෙන්නෙ තමන්ගෙ ඇහැ, නාසය, කන, දිව, ශරීරය පිනවීම සඳහා විශාල වැඩ පිළිවෙළක් ඇතුව තදබල කාල සටහනකටයි. අර වයසක මනුස්සයා බොහෝම විවේකීව ඉන්නවා. හම්බ වෙච්චාම මේ දෙන්නගෙ කලබලේදී ඒ වයසක මනුස්සයා අහනවා, මෙහෙමයි මෙහෙමයි මොකද මේ කලබලේ? ඉතින් එයා කියනවා ඔය නාකි මනුස්සයොත් එක්ක අපිට කතා කර කර ඉන්න වෙලාවක් නෑ, මේ මේ ජාතියේ වැඩ තියෙනවා.

ඉතින් මේ මනුස්සයාට පේනවා මේ තරුණයා මේ දුවන දිවිල්ල නිසා බොහෝම ඉක්මනට තමන්ගෙ ආයුෂ කෙටි කරගන්නවා, නරක පුරුදුවලට බෝ වෙනවා. ඒ නිසා අවවාදයක් වශයෙන් කියනවා, "දරුවා මම කවදකවත් මත්පැනක් පාවිච්චි කරල නෑ. මම කවදකවත් දුම් බීමක් කරල නෑ. කාමයේ වරදවා හැසිරිල නෑ. සත්තු මරාගෙන කාල නෑ. මම බොරු කේලාම් හිස් වචන කතා කරල නෑ. ඒ නිසා බලපන් මම අවුරුදු එකසිය විස්සක් ජීවත් වෙලා තියනවා. උඹ ඔය විදියට දුවල ඉවර වෙලා ඉක්මනට මැරෙයි". අර මනුස්සයා හොඳට උඩ පල්ලෙහා බලල කිව්වලු, "ඔහේ ඔය මස් මාළු කන්නෙත් නැත්නම් බොන්නෙත් නැත්නම් සිගරට් බොන්නෙත් නැත්නම් මේ කාමයත් නැත්නම් මොකටද එකසිය විස්සක් ඉඳලා?" කිව්වලු. ඉන්න ටිකේ මේවා කරන්ට ඕනැ. කරන්නෙ නැත්නං එකසිය විස්සක් මොකටද ඉඳලා?

ඕන්න ඔය ප්‍රශ්නය සාමාන්‍යයෙන් ආධ්‍යාත්මික ජීවිතේ යන ඇත්තන්ට මුහුණ දෙන්න වෙන ප්‍රශ්නයක්. එකසිය විස්සක් නෙවෙයි දෙසිය හතළිහක් හිටියත් වැඩක් නෑ කරන්න තියන සැප නොවිඳ. මේක අපේ ජීවිතේටත් මතු වෙන දෙයක්, සමාජයේ ඉන්නකොටත් මතු වෙන දෙයක්. ආන්න ඒක සඳහා, කොහොමද බුද්ධාදී උත්තමයන් වහන්සේලා මේක දිහා බැලුවේ? කොහොමද මේක දර්ශනිකව බලන්නෙ? කොහොමද අපි මේකට සම්මත වශයෙන් උත්තරයක් දෙන්නෙ? කොහොමද අපි මේකට විපස්සනාමය වශයෙන් උත්තරයක් දෙන්නෙ කියන එක තමයි සතිපට්ඨානයට මරණය කියන ධර්මය ඇතුල් කිරීමෙන් බලාපොරොත්තු වෙලා තියෙන්නෙ. ඒ මොකද, අපි මරණය ගැන කල්පනා නොකර ඔය කියන විදියේ ජීවිතේ සෞන්දර්යය, ඥාන විභාගය, මේ ලෝකෙ ආධ්‍යාත්මික දේ, එහෙම නැත්නම් භෞතික දේවල්, ඉක්මවලා ගිහින් මොනවද තියෙන්නෙ? මොනවද හොඳ නරක කියලා කියන්නෙ? ආදී වශයෙන් දර්ශනික ප්‍රශ්න කල්පනා කර කර හිටියට අපි මොහොතින් මොහොත දක්වාම මරණයට ළං වෙනවාමයි.

මේක කිසිම නැවැත්මක් නැතුව දිගට පවතින දෙයක් කියල කල්පනා කරන්න පටන්ගත්තාම දර්ශනිකයන්ටම කල්පනා වෙන්න

පටන් අරගත්තා මේ දර්ශනය කියල කියන්නෙ ප්‍රමාදයක්. අනවශ්‍ය ප්‍රශ්න වගයක් ඉදිරිපත් කරගෙන කතා කර කර හිටියට මරණය සිද්ධ වෙනවා. ඒ නිසා ඒ ඇත්තො ඒ ඔක්කොම අමතක කරලා මරණය කියන එකත් දර්ශනයට ලක් කරල බැලුවා. දර්ශන ශාස්ත්‍රයට මරණය ලක් කරල බලපුවාම ඒ ඇත්තො සඳහන් කරගත්තා, තේරුම්ගත්තා, පැවැත්ම කියන එක තියෙනවා නම් ඒකෙ අනිවාර්යයෙන්ම මරණය තියෙනවාමයි. මරණයට උත්තර දෙන්න නම් පැවැත්ම සම්බන්ධවයි අපි හැඩගැසීමක් කරගන්න ඕනැ.

මරණය නොදන අපි මේ ශීඝ්‍ර ගමනක, අර කලින් කිව්ව තරුණ රසකාමී පුද්ගලයා වගේ ශීඝ්‍ර ගමනක අපි යන්නෙ අපි සාමාන්‍ය සමාජ සංසිද්ධියක මුල මැද අග කියන තුන නොදන්නාකම නිසායි. අපි හිතන සැප, අපි හිතන ප්‍රණීත භාවය, අපි හිතන හොඳ, හොඳ වෙන්නෙ ඒක ලබාගන්නකල් පමණයි. අපි අධ්‍යාපනය ලබනකොට - දැන් තියෙන ක්‍රමය ටිකක් වෙනස් ඇති - 10 වෙනි ශ්‍රේණියෙ හෝ ඊට පස්සෙ තියෙන ශ්‍රේණිවල හෝ හැම වර්ෂ අවසානයකම විභාගයක් තියෙනවා. ඒ සෑම විභාගයටම අධ්‍යාපනය ගැන බලාපොරොත්තු වෙන සෑම ශිෂ්‍යයෙක්ම හිතේ කුතුහලයක් ඇති කරගන්නවා. බොහෝම උනන්දුවෙන් කටයුතු කරනවා. නමුත් ගිය පාර තමා පාස් වෙච්ච විභාගෙට තමන්ගෙ මල්ලි මහන්සි වෙනවා දකිනකොට කියන්නෙ ඕක නම් එච්චර අමාරු එකක් නෙවෙයි, පහේ පන්තියේ විභාගය ලේසියි. මට අද ඉන්න තියෙන්නෙ අටේ පන්තියේ විභාගෙට, නැත්නම් දහයේ පන්තියට. ඒකයි අමාරු. ඕන්න ඒක ඉවර වෙලා තව අවුරුද්දක් ගියාම ඒ පාස් කරපු විභාගය එච්චර ලොකු දෙයක් නෙවෙයි. ඊගාවට එන්න තියෙන විභාගය ලොකුයි.

ඉතින් හිතනවා, මේ හම්බ වෙන හම්බ වෙන මූලධර්මයකදී අලුතින් සිදු වෙන දෙයක් තියනවා කියල. නෑ. මේක මුළු ලෝකෙටම සමාන දෙයක්. අපි මේ හොයන සැප, අපි හොඳයි කියන දේ ලැබෙනකල් තමයි ඒ සිලිලාරේ. ලැබිච්චි දවසට ඒ සැපය නෑ. ඒ නිසා යම් තාක් ඒක නොලැබී තියෙන තාක් කල්, හිඟ තාක් කල් ඒකෙ වටිනාකම දැනෙනවා වැඩියි. ඒක නිසා මලක ඔපය මල පිපුමෙන් හමාරයි, රළක හැඩය රළ බිඳුමෙන් හමාරයි. අපි

සාමාන්‍යයෙන් දන්නවා නිතරම හොඳට දකගන්න පුළුවන් දෙයක් තමයි ඉර නඟින වෙලාවෙදි තාම ඉර නැගලා නෑ. අරුණ කැපීගෙන එනකොට පුදුමාකාර සුභදකමක් තියෙන්නෙ. සාදරකමක් තියෙන්නෙ. අපි ඉර නඟිනවා බලන්න වෙරළට යනවා. නමුත් ඉර නැගලා දවල් දහය එකොළහ දෙළහ වෙනකොට සන් ග්ලාසස් දනවා මේක නො පෙනෙන්න, පේනකොට ඇස් කකියනවා. නමුත් හෙටත් ඉර නඟිනවා බලන්න යනවා.

මේන්න මේ වගේ දර්ශනයක් තියෙන්නෙ. ඒ නිසා දර්ශනික පැත්තෙන් බැලුවත් හොඳටෝම තේරෙන්ට පටන් අරගත්තා මේ පැවැත්ම විෂයෙහි මනුස්සයා පුදුමාකාර විදියට අලුත් දෙයක් පිළිබදව අලුත් සැලසුම් කළාට, වෙච්ච දේවල් පිළිබඳව නිතරෝම තියෙන්නෙ පශ්චාත්තාපය. එහෙම නැත්නම් ඒ සිලිලාරෙ නැතුව යනවා. මේ නිසා ජීවිතේ ඉස්සෙල්ලාම හම්බ වෙන මේ සෞන්දර්ය යුගය, රස ආස්වාද ලබන යුගය තුළ මනුස්සයා ආචාර ධර්ම අමතක කරලා ආගම ධර්මය අමතක කරලා පුදුමාකාර දිවීමකට යටත් වෙනවා. නමුත් ඒ කාලෙ බොහෝම පව් සිද්ධ වෙන බය ලැජ්ජා නැති කරන යුගයක්.

ආන්න ඒ යුගයේ ඇති වෙන්නා වූ පශ්චාත්තාපය වැඩෙන්න වැඩෙන්න වැඩෙන්න වැඩි කාලයක් ගිහිල්ලා හෝ අඩු කාලයක් ගිහිල්ලා හෝ ක්‍රමයෙන් මේ ආචාර ධර්ම නැතුව ලබන සැප එතන එතනම දුක් දෙන දෙයක් බව පශ්චාත්තාප එකතු කරන්නක් බව සමහරු තේරුම්ගන්නකොට පමයි. සමහරු නම් ඒක තේරුම් අරගත්තට පස්සෙ වහාම ඒ වෙච්ච තරුණ යුගය අතඇරල ආචාර විද්‍යාත්මක යුගයකට, බය ලැජ්ජා සහිත යුගයකට, හොඳ නරක තේරුම්ගන්න යුගයකට පත් වෙනවා. එතකොට අර ආස්වාද ගතිය, සිලිලාරෙ, සමනල ජීවිතය, සමනල වර්ණ, දේදුනු වර්ණ ඉබේම පැත්තකට කරන්න වෙනවා, ඉතාමත්ම අකමැත්තෙන් නමුත්. ඒකට බාරගන්න ආචාර ධර්ම හොඳ වෙන්න ඕනැ, අම්මට තාත්තට සලකන්න ඕනැ, ගුරුවරුන්ට වැඩිහිටියන්ට සලකන්න ඕනැ ආදී වශයෙන් ඒ ආචාර ධර්ම කරගෙන යනකොටත් මැදි වයසෙදි තේරෙනවා, ආගමක ධර්මයක ආභාසයක් නැති වුණොත් ආචාර ධර්මත් අපිව තැනකට යොමු කරන්නෙ නෑ. මේ ජීවිතෙත් තාම

තියෙනවා හිස් ගතියක්. බොල් ගතියක්. කෝම්බ ගතියක්. ඉතාමත්ම සුළු පිරිසක් ඒකත් තේරුම් ඇරගෙන ආචාර ධර්ම පවා අමතක කර ඒවා අතඇරලා, තමන් මෙතෙක් කල් එකතු කරපු ඥාති ධර්ම අතඇරලා වස්තු අතඇරලා ආධ්‍යාත්මික ජීවිතයට පෙළඹෙනවා. ඒක සෞන්දර්ය යුගයකට නම් තේරුම්ගන්න ඉතාමත්ම අමාරුයි. ආචාර ධර්ම කරන ඇත්තන්ටත් තේරුම් අරගන්න අමාරුයි කොහොමද සිද්ධාර්ථ කුමාරයා තමන්ගෙ යසෝදරාවට පළවෙනි පුතා හම්බ වෙච්ච වෙලාවෙදි මේක රාහු උපන්නා කියල දැක්කෙ. කොහොමද එදා ගෙදරින් පැනල ගියේ කියන එක තේරුම්ගන්න ඉතාමත්ම දුෂ්කර අමාරු දෙයක්.

නමුත් මරණය පිළිබඳව හොයාගෙන යනකොට පැහැදිලිව පේනවා සැප ලැබීම සඳහා කරන්නා වූ මේ ප්‍රයත්නය නිසා විශාල පශ්චාත්තාපකම් ඇති කරනවා. ඒ පශ්චාත්තාපකම්වලින් වැළකීමට ආචාර ධර්ම ළං කරගත්තට සීලය පමණක් ළං කරගත්තට මදි. ඊට එහාට සමාධියට, ඊට එහාට ප්‍රඥාවට යොමු කළ යුතු වෙනවා. ආන්න ඒ යොමු කිරීම සඳහාමත් මරණානුස්සති භාවනාව යොදාගන්න පුළුවන්. ඒක නිසා එක තැනකදි සාරිපුත්ත ස්වාමීන් වහන්සේ දේශනා කරපු සූත්‍රයක් අපිට මෙතෙන්දි මේ පසුබිමත් එක්ක සම්බන්ධ කරන්න පුළුවන්. ලෝකය මරණය දකින්නෙ අසුභ දෙයක් විදියට; නොවිය යුත්තක්, අවමංගල්‍ය කාරණයක් විදියට. ඒක නිසා සාරිපුත්ත ස්වාමීන් වහන්සෙ දවසක් මහා සංඝරත්නය, සහෝදර පිරිස, සබ්‍රහ්මචාරීන් වහන්සේලා එකතු වෙච්ච වෙලාවෙදි මතු කරනවා මාතෘකාවක්. කියලා තියෙනවා යම් ආකාරයකට මහණෙනි, සහෝදරවරුනි මනුස්සයෙක් ජීවිතේ පවත්වනවා නම්, ඒ ආකාරය නිසා ඔහුට මරණය අභද්‍ර, නැත්නම් සාමාන්‍ය විදියට අපි කියන කාලකන්නි මරණයක් සිද්ධ වෙනවා. යම් ආකාරයකට මනුස්සයෙක් ඒක දැනගෙන ජීවිතය හැඩ ගසාගන්නව නම්, ඒ හැඩගැසීම තුළින්ම ඔහුට පුළුවන් මරණය භද්‍ර මරණයක් කරගන්න. ඒ අවමංගල්‍යය මංගල්‍යයක් කරගන්න. උන්වහන්සේ මේ විදියට සංඝයා තුළ ප්‍රස්තුතය මතු කරගෙන අහනවා යම් යම් ආකාරයකට භික්ෂූන් වහන්සේ නමක් යම්

ආකාරයකට ජීවත් වෙනවා නම්, එයින් ඔහුට අභද්‍ර මරණයක් කාලකන්නි මරණයක් සිදු වෙනවා නම් මොකද්ද ඒ ආකාරය?

ඒක තමයි අපිට හම්බ වෙන උපදෙස් පන්තිය. උන්වහන්සේ සඳහන් කරනවා **කම්මාරාමො හොති, කම්මරතො, කම්මාරාමතමනුයුත්තො.** ඔහුගේ මුළු ජීවිතේම වැඩවලට යටයි, වැඩ වැඩ වැඩ වැඩ. **කම්මාරාමො** කියලා කියන්නෙ කර්මාන්ත කිරීමේ කැමැත්ත. කර්මාන්ත කිරීමේ කවදාකවත් ඉවරයක් නෑ. **කම්මාරාමො හොති**, එයා කර්මයේ යෙදිල ඉන්නවා. **කම්මරතො**, ඒකම තමයි, මං වැඩ කරන අයටමයි කැමති. **කම්මාරාමතං අනුයුත්තො**, තමනුත් එහි යෙදී ගත කරනවා. ඒ නිසා ඔහුට මැරෙන්න වෙලාවක් නෑ. ඒ නිසා මරණ මොහොත එනකොට විශාල අදාළ වැඩ රාශියක් තියෙද්දි තමයි අත ඇරල දාන්න වෙන්නෙ.

ඊගාවට **භස්සාරාමො හොති, භස්සරතො, භස්සාරාමතමනුයුත්තො.** කතාව කිව්වාම කෙළවරක් නෑ. තමන්ට කියන්න තියෙන දේවල් තාම කතා මල්ල ඉවර නෑ. අනුන්ගෙන් අහන්න තියෙන දේවල්වල, නැත්නම් පරුෂ වචන, හිස් වචන, කේලම් වචන ආදී දේවල්වල කෙළවරක් නෑ. තාම කවුරුහරි එනකල් බලාගෙන ඉන්නෙ කතාවට. මේ වෙලාවෙ කතා නොකර හිටියත් කතා කරන්ට ලැබේවා කියන අදහසින් ඉන්න මනුස්සයට මරණයට සූදානම් වෙන්න වෙලාවක් නෑ.

**නිද්දාරාමො හොති නිද්දාරතො නිද්දාරාමතමනුයුත්තො.** අසීමිත විදියට කුසීතව කම්මැලිව නින්දට කැමතියි. මොන වැඩක් කළත් ඔහුට අවශ්‍යතාව තියෙන්නෙ මේ වැඩේ ඉවර වෙච්ච ගමන් ගිහිල්ලා නිදාගන්ට ඕනෑ කියන අදහස නම්, ඒත් ඔහු මරණයට සූදානම් නෑ.

ඊගාවට **සංසග්ගාරාමො හොති සංසග්ගරතො සංසග්ගාරාමතං අනුයුත්තො.** භාවනා මධ්‍යස්ථානයට ගියාම ඔක්කොටම නිදාගෙන ඉන්න හම්බ වෙන්නෙත් නෑ. කතාව හම්බ වෙන්නෙත් නෑ. දකින දකින කෙනා දෙස් කියනවා. ඒ වගේම වැඩ එක එක දේවල් පටලවාගන්න හම්බ වෙන්නෙත් නෑ. කියල තියෙනවා පොතේ ඕනෑ දෙයක් ලියන්න, තමතමන්ගෙ වැඩක් කරගන්ඩ කියල. ආන්න එහෙම

වෙච්චි එක්කෙනා මේ වගේ තැන් හොයාගෙන එනවා. ආවත් මොකද කරන්නෙ? සංසර්ගය පවත්වනවා තමන්ගෙ ප්‍රියමනාප ඇත්තන් එක්ක. එක්කො ටෙලිෆෝන් කරන්න ඕනැ, එක්කො ලියුම් ලියන්න ඕනැ, එක්කො නැත්නම් ඒ කට්ටියගෙන් ලියුම් ලබන්න ඕනැ, එහෙම නැත්නම් යන එන කට්ටියගෙන් කාගෙන්හරි විස්තර අහන්න ඕනැ. හිතේ තියෙනවා තාම දස්සන - දර්ශනය ලබාගන්න, සද්ද ලබාගන්න, හැඩය ලබාගන්න, ගඳ සුවඳ ලබාගන්න ආදී වශයෙන් සංසග්ගය. ඒ වාගේම සංසග්ග - නිතර ප්‍රිය සම්භාෂණ පවත්වන්න, දකින්න, අහන්න තියෙන ආශාව, අතපතගාන්න තියෙන ආශාව. මෙන්න මේ ආශාවල් තියෙන මනුස්සයට කවදාකවත් ඉස්පාසුවෙන් මැරෙන්න හම්බ වෙන්නෙ නෑ.

අවසානයේ මේ නිසා වෙන්නෙ **පපඤ්චාරාමො හොති පපඤ්චරතො පපඤ්චාරාමතං අනුයුත්තො.** නිතරෝම හිතේ අතෝරක් නැතුව හිතිවිලි. මේවට කියනවා ප්‍රපංච කියලා. ඔහු හිතනවා එහෙම හිතිවිලි හිතන එක මේ ලෝකෙ ගැන කැක්කුමක් තියෙන නිසා, මට හැඟීමක් තියෙන නිසා, මහා කරුණාව මට තියෙන නිසා පරානුග්ගහිත පටිසංයුක්ත කල්පනාවක් මේක, ඥාති පටිසංයුක්ත කල්පනාවක් මේක, අනුන්ට උපකාර කිරීම පිළිබඳ කල්පනාවක්, කියල නිතරෝම කල්පනා කරගෙන ඉන්න එක්කෙනාටත් කවදාකවත් නිදහසක් නෑ. මේ දේවල් මතු වෙනකොට තමයි මේකෙ සිලිලාරෙ තියෙන්නෙ. මේවා ඉවර වුණාට පස්සෙ මේවයෙ ගන්න දෙයක් නෑ. අවසානයේ අපි මේ පැවැත්ම පිළිබඳ හැඟීමකින් තොරව මරණයට පත් වෙන්නෙ මේ වගේ වැඩ අධික නිසා, කතාව වැඩිකම නිසා, නින්ද වැඩිකම නිසා, අනිත් අය දකින්න අහන්න තියෙන ආශාව නිසා, සංසග්ගය පැවැත්වීමට තියෙන ආශාව නිසා හිතේ වේගය වැඩියි නිසා. වෙන විදියකට කියනවා නම් කයෙන් කරන වැඩ, වචනයෙන් කරන වැඩ, හිතෙන් කරන වැඩ වේගය වැඩි තාක් කල් අපේ කිසිම සූදානමක් නෑ මරණයට.

ඒකම පසු කොටසෙ සාරිපුත්ත ස්වාමීන් වහන්සෙ සඳහන් කරනවා යම් කිසි කෙනෙක් යම් යම් ආකාරයට ජීවත් වෙනවා නම් ඔහුගේ මරණය භද්‍ර මරණයක් වෙන්න නම් කාරණා හයක් බලපානවා.

ඔහු කම්මාරාමතාවයෙත් නෑ, කම්මාරාමතාවයෙ අනුයුක්තත් නෑ. දනට කර්මයේ යෙදිලත් නෑ, කටයුතු කරනවා කළ යුතු නිසා. නමුත් වහාම ඉවර වෙච්ච ගමන් අමතක කරනවා. කටයුතු ඉදිරිපත් වෙච්ච දේ කරනවා. නමුත් කටයුත්තෙන් කටයුත්තට බැඳෙන ගතියක් නෑ. ඒ වාගේම භස්සාරාමතාවයත් නෑ. අවශ්‍යතාවට කතා කරනවා. අප්පිච්ච කතා ආදි දසකතා වස්තුවල නියැලෙනවා. නමුත් අර තිරච්ඡාන කතාවල, තිස්දෙකක් කතාවල නෑ. ඒ වාගේම නිද්‍රාරාමතාව. ඔහු දන්නවා කයට අවශ්‍යයි නින්ද. ඒ නින්ද දෙනවා මිසක්කා කුසීතකමට පොහොර වැටෙන තාලෙට නිදිමත දෙන්නෙ නෑ. ඒ වාගේම තමන් වෙත එන කෙනෙකුට අනුකම්පාවෙන් මොනවා හරි කියනව මිසක්කා නෑදෑකම නිසා හෝ හිතවත්කම නිසා හෝ අහිතවත්කම නිසා හෝ කිසිම කෙනෙක් එක්ක බැඳීමක් තියාගන්නෙ නෑ.

සංසර්ගයකුත් නෑ. මට මේ දේ බලන්න වේවා, මට අර සංදර්ශනය බලන්න ලැබේවා, නුවර පෙරහැර බලන්න යන්න ලැබේවා, චිත්‍රපටියක් බලන්න ලැබේවා, ටෙලිවිෂන් බලන්න මොනම දේකවත් ඒ වගේ සම්බන්ධතාවක් නෑ. දැක්කට ඒකෙන් කරප්පන් එන්නෙත් නෑ. ඒව දැක්කට ඇති දෝෂයක් නෑ. නමුත් ඒවා ගැන හොයන්න යන්නෙ නෑ. අවසාන වශයෙන් දන්නවා ප්‍රපංචත් නෑ. අපිට නිතරෝම එච්චා නැති වුණත් හිතෙන් කයෙන් හිතින් හිතහිතා ඉන්න ගතිය තමයි මරණෙට අපි සීඝ්‍රයෙන් ඇද ගෙන යන්නෙ. ඒ නිසා ප්‍රපංචරාමතාවකුත් නෑ.

ආන්න එහෙව් කෙනාගෙ මරණය භද්‍ර මරණයක් කියලා සාරිපුත්ත ස්වාමීන් වහන්සෙ සඳහන් කරනවා. සර්වඥයන් වහන්සෙ මේක බොහෝම කෙටියෙන් සඳහන් කරනවා, යම් කිසි කෙනෙක් මැරෙන බව, මරණානුස්සතිය නිතර සිහිපත් කරනවා නම් ඔහු අප්‍රමාද ජීවිතයක් ගත කරනවා. ඔහු අමරණීය තත්ත්වයට පත් වෙනවා. ඒ නිසා ථෙරවාදී ශාසනයේ අවසාන නිට්ඨාව අපි කියනවා නම් අමරණීයත්වය කියල, ඒ අමරණීයත්වයට ඇති එක පදයක් තමයි මරණය. හැබැයි මරණය අමතක කළොත් ප්‍රමාදයට වැටෙනවා. මරණයම, මරණානුස්සතියම හැම චිත්තක්ෂණයකම උප්පාද ඨිති භංග කියන, සංස්කාරයන්ගේ සෑම ඇති වීමක්ම පැවතීමක්ම නැති වීමක්ම

දකින උදයබ්බය ඤාණය ආදී බලවත් ඥානයක ගත කරන්න පුළුවන් නම් ඔහුට මරණය එන්නෙත් නෑ. ඒ නිසා,

**යථා බුබ්බුලකං පස්සෙ - යථා පස්සෙ මරීචිකං**
**එවං ලොකං අවෙක්ඛන්තං - මච්චුරාජා න පස්සති.**[2]

මේ ලෝකයේ ඇති වෙන සෑම සිද්ධියක්ම දියකඩක් මතුපිටට වැස්ස වැටෙනකොට මතු වෙන දිය බුබුලක් සේ දකින්න පුළුවන් නම්, සෑම දෙයක්ම ඈතට ලස්සනට පෙනුණට ළං වෙනකොට නැතුව යන මිරිඟුවක් සේ දකින්න පුළුවන් නම්, ඒ ජීවිතය ඒ විදියට බලන ඔහු කෙරෙහි මාරයාට බැල්ම හෙළන්න බැරි වෙනවා. මාර බැල්මෙන් අයින් වෙනවා. මරණෙන් මිදෙනවා. ඒ නිසා මේ බුබ්බුලකය, මේ දිය බුබුලක ප්‍රශ්නය, මිරිඟුවක් දිහා බලන හැටි දකින එක තමයි අපි අර කලින්ම සඳහන් කළේ යම් කිසි දෙයක් ඒක ලබාගන්නා තෙක් බොහෝම සිලිලාරයක් තියෙනවා. එතෙන්ට ගිහිල්ලා බලනකොට එහෙම එකක් නෑ. ඒකයි කියන්නෙ මිරිඟුවක් ඈත ඉඳලා බලනකොට තද කාෂ්ටක ගිම්හාන සෘතුවේ කර වෙච්ච පොළවක මතු වෙන්නෙ. බැලූ බැල්මට පේන්නෙ රැළි ගහමින් තියෙන්නා වූ දිය දහරාවක්. ඒ දිය දහරාව තියනවා කියල හිතාගන හති හලමින් එතෙන්ට දුවගෙන ගියාට, ගිහිල්ල බලනකොට එතන තියෙන්නෙ දුම් දන රස්නයක් මිස දියක සංඥුවක් නෙවෙයි.

මෙන්න මේක එකක් දෙකක් තුනක් වුණාට පස්සෙ අපි මේ නිතරම සිලිලාරෙකින් යුක්තව, සෞන්දර්යයකින් යුක්තව මේ ලබාගන්න හදන දේවල් සෑම දෙයක්ම මේ වගේ මිරිඟුවක් කියලා දන්නවා නම් ඔහු භස්සාරාමතාවට යන්නෙත් නෑ. කම්මාරාමතාවට යන්නෙත් නෑ. ගණසඞ්ගණිකාරාමතාවට යන්නෙත් නෑ. ඔය කියන ප්‍රපංච කිසිම දෙයක් ඇති කරන්නෙ නෑ. මෙන්න මෙහෙම දෙයක් මේ ජීවිතේ කියල කියන්නෙ. ඇහින් දකින රූපයත් මෙන්න මේ විදියෙ තෘෂ්ණා ඇති කළාට ඕක ලබාගත්තට පස්සෙ ඕකෙ ඇති හරයක් නෑ. කනින් ඇහෙන සද්දයත් නාසයෙන් ඇදෙන ගඳ සුවඳත් දිවට දැනෙන

[2] ධම්මපදය - ලෝක වග්ගය

රසයත් කයට ලැබෙන පහසත් හිතට එන සිතිවිල්ලත් සෑම වෙලාවෙම අපිව කුප්පවනසුලුයි, කිතිකවනසුලුයි, සිලිලාරයක් දනවනසුලුයි.

ඒ එනකොටම සිලිලාරය දනවෙන්නෙ මගෙ ඇසෙන්ය, නාසයෙන්ය, කනෙන්ය, දිවෙන්ය, ශරීරයෙන්ය, හිතෙන්ය කියල දැනගත්තොත් ඒ ද්වාරය මෙනෙහි කරගන්න පුළුවන් වුණොත් අපි ඉන් එහාට තව දුරටත් සිලිලාරයක් පිටිපස්සෙ දුවන භද්‍ර යෞවන වයසෙ ක්‍රීඩා දශකයෙ ගත කරන පොඩි ළමයෙක් වාගෙ නෙවෙයි. මේ දේවල් හැම වෙලාවෙම සිලිලාරයක් උනන්දුවක් ඇති කරන්න උත්සාහ කළාට මේ කිසිම දෙයක හරයක්, ගන්න දෙයක් නෑ. හැම වෙලාවෙම තෘෂ්ණාවට නතු කරන ඔපයක් පමණයි මේකෙ තියෙන්නෙ කියල දැනගත්තා නම්, ඒ කියන්නෙ උදයබ්බය ඤාණය ආදී මතු වෙන මතු වෙන අරමුණක ඇති හැටිය දැකගන්න පුළුවන් වෙනව නම් පරිනිර්වාණයට පත් වෙන්න ඕනැත් නෑ, මොනවක්වත් අවශ්‍ය වෙන්නෙ නෑ, මේ ජීවිතේදීම මේ චිත්තක්ෂණයේදීම ඔහුට ඒකාන්තයෙන්ම ජීවිතයේ පවතින්නා වූ අනිත්‍යය, දුක්ඛය, අනාත්මය මූණ ඉදිරියේම තියෙන දෙයක් වගේ අවබෝධ කරගන්න පුළුවන්.

මේ අවබෝධය භද්‍ර යෞවනයේදීම සිද්ධ වෙනව නම්, ජීවිතයේ මැදි වයසේදී සිද්ධ වෙනව නම්, ඔහු එතන ඉඳලම කවදාකවත් ආය අනුන් මරාගෙන හෝ ජීවත් වෙන්න ඕනැ කියන අදහසක්වත් මම ජීවිතේ කැපී පේන්න ඕනැ කියන මදයක්වත් නෑ. වෙන කිසිම මදයකට යට වෙන්නෙ නෑ. ආරෝග්‍ය මදය, යෞවන මදය, ඓශ්වර්යය මදය කියල විවිධාකාර මිනිසුන්ගෙ හිත තද්ධ භාවයට මද භාවයට පත් කරන දේවල් තියනවා. ඒවා ඒකාන්තයෙන්ම ප්‍රමාදයට ලක් කරනවා. මරණානුස්සතිය ගැන දන්න කෙනා තුළ කවදාකවත් ඒ වාගේ ඒ අසාමාන්‍ය විදියට හිත කුළුගන්වාගෙන කුප්පවාගෙන අනුන් තළාගෙන තමන් මතු කරන්න හදන ගති නැති වෙනවා.

ඒ නිසා මරණානුස්සතිය, මරණය පිළිබඳව අමතක කිරීම ඒකාන්තයෙන්ම **අප්පමාදෙ අමතපදං පමාදෙ මච්චුනො පදං**, කියන විදියට අප්‍රමාදයටමයි හේතු වෙන්නෙ. මේ අනුව යෝගාවචරයා

සතිපට්ඨාන භාවනාවෙදි තරම් කවම කවදකවත් වර්තමාන මොහොතට අවදි කරවීමක්, වර්තමානෙට අවදි කරවලත් සමථයෙන් ගත නොකර විපස්සනා වශයෙන් චිත්තක්ෂණයක් පාසා මේකෙ අනිත්‍ය භාවය, දුක්ඛ භාවය, අනාත්ම භාවය තේරුම් කරල දෙන ධර්මයක් වෙන ඇත්තෙ නෑ. ඒ නිසා සතිපට්ඨාන භාවනාවට අනිවාර්යයෙන්ම මරණානුස්සතිය ඇතුල් කළ යුතුයි.

ඒක නිසා දුක්ඛ සත්‍යයෙදි, ජීවත් වෙන ඇත්තන් විසින් අනිවාර්යයෙන්ම කළ යුත්තක් විදියට මරණය පෙන්නල දීල තියෙනව. නමුත් අපි මුල ඉඳලම මතක් කරල දුන්නෙ මේක කෙනෙකුට ඒත්තු ගන්වන්න අමාරු මේක පිළිබඳව පවතින්නා වූ අවමංගල්‍ය, අසුභ, අභද්‍ර ආකල්පය නිසා. මේක නිසාමයි සතිපට්ඨානයේ දුක්ඛ සත්‍යය ආරම්භයෙදීම අපි මතක් කරන්න යෙදුණෙ - මේ මරණයම මේ අවමංගල්‍යයම මේ අභද්‍ර තත්ත්වයම සාමාන්‍ය ලෝකයාට දුකක් බව හැබෑව; මරණය දුකක් ශෝක පරිදේවයට පත් විය යුතු කාරණාවක්. නමුත් ඒ තුළම දුක්ඛ ආර්ය සත්‍යය බවට පත් කරගැනීමේ හැකියාවත් තියනවා. මරණය භයෙන් යුක්තව, ප්‍රමාදයෙන් යුක්තව, මදයෙන් යුක්තව බලනකොට දුකට හේතු වෙනවා. ඒ මරණයම යථාභූතව ඇත්ත ඇති හැටියට, අනිවාර්ය ලෝක ස්වභාවයක් ලෙස දකගන්න පටන්ගත්තොත් ඒ තුළම දුක්ඛ සත්‍යය, දුක්ඛ ආර්ය සත්‍යයක් බවට පත් කිරීමේ ශක්තියක් තියනවා.

ඒ නිසා විපස්සනා භාවනා කරන යෝගාවචරයට ප්‍රධාන වශයෙන්ම සාරිපුත්ත ස්වාමීන් වහන්සේගේ භද්‍ර සූත්‍රයෙත් සඳහන් කරලා තියෙනවා, යම් කිසි කෙනෙක් නිතරම වැඩවලට හිත යොදලා, නිතරම කතාවට හිත යෙදිලා, නිතරම නින්දට හිත යොදගෙන නිතරෝම සංසර්ගයේ හිත යෙදීගෙන, සංසර්ගවල යෙදීගෙන සංගනිකාවෙ යෙදීගෙන හිත අවුලෙන් ගත කරනව නම් අනිවාර්යයෙන්ම ඔහු තුළ සක්කාය දිට්ඨිය වැඩෙනවා. මමෙක් ඉන්නවා. ආත්මයක් තියෙනවා. මම ඒකට ආස්වාදය දෙන්න ඕනැ, මම ඒක පිනවන්න ඕනැ, සෞන්දර්යය දෙන්න ඕනැ, අනික් අයගෙන් වෙන් වී කැපෙන්න ඕනැ කියන සක්කාය දිට්ඨිය අර කර්මාන්ත තුළ, නින්ද තුළ, කතාව තුළ අනිවාර්යයෙන්ම ගැබ් වෙලා තියනවා.

යම් කිසි කෙනෙක් ඒ බව දැනගෙන කර්මාන්තය අවශ්‍යතාව සලකල කරනවා, ප්‍රයෝජනය සලකල. කතාවත් ප්‍රයෝජනය සලකල කරනවා. නින්දත් ප්‍රයෝජනය සලකල ලබාගන්නවා. අනිත් අයත් එක්ක සබ්‍රහ්මචාරීන් වහන්සේලාත් එක්ක දායක කාරක ඇත්තන් එක්ක ගුරු දෙමව්පියන් එක්ක පැවතිය යුතු ඒ ඒ සංසර්ගය, අනනුලෝමික ගිහි සංසර්ගයට ඉඩ නොලැබෙන පරිදි කියල අපේ ව්‍යවස්ථාවෙ සඳහන් කරල තියන ආකාරයට, අනුන්ට ක්ලේශ ඇති නොවෙන තාලෙට ඇති කරනවා. සංගනිකාව, අපි පෝය කරන්න අනිවාර්යයෙන්ම එකතු වෙනවා. එහෙම නැතුව වෙන ප්‍රියසම්භාෂණ සඳහා නෙවෙයි එකතු වෙන්නෙ. ඒ සංගනිකාව අවශ්‍යයි. නමුත් කාම තණ්හා මාන දිට්ඨි ඇති කරන සංගනිකාව දුකට හේතු වෙනවා. ඒ වාගෙම තමයි හිතට එන හිතිවිලිවල ධම්මවිචය අවශ්‍යයි. ඉන් එහාට යන දේවල් තමයි ප්‍රපංචයට ලක් වෙන්නෙ.

මෙන්න මේ දේ දැනගෙන, මේ දේ අවශ්‍යතාව අනුව දැනගැනීම මේ දේ අවබෝධ කිරීමේ හැකියාව තියෙන්නෙ ඒකාන්තයෙන්ම මනුස්සයාට පමණමයි, සතිපට්ඨානය තුළින් පමණමයි කියල තේරුම් අරගත්තොත් ඒ පුද්ගලයා තුළ කොහොමටක්වත් මමෙක්, සක්කාය දිට්ඨියක් පටලවල වරදගැනීමක් ඉතුරු වෙන්න විදියක් නෑ. අන්න ඒ නිසා තමයි අර තරුණයා අර වයසක මනුස්සයට කිව්වෙ. එහෙම සක්කා දිට්ඨියකින් තොරව අවුරුදු එකසිය විස්සක් ජීවත් වුණත් ඇති වැඩේ මොකද්ද කියල මිනිහට තේරෙන්නෙ නෑ. එයාට විතරක් නෙවෙයි සමහර යෝගාවචරයන්ට තේරෙන්නෙත් නෑ. ඒ මොකද, අදුක්ඛමසුඛ වේදනාව හුඟක් වෙලාවට මරණය වගේ එකක් තමයි. ඒකෙ විඳින්න කෙනෙක් නෑ. අදුක්ඛමසුඛ වේදනාව තියෙනවා. අපි ඒක එනකොට බයේ පැනල යනව. අපිට අවශ්‍ය කරල තියෙන්නෙ සැප. එහෙම නැත්නම් දුක හරි කමක් නෑ. මේ නොදැනෙන අදුක්ඛමසුඛයක් නම් ඕනැ නෑ.

එහෙම නැත්නම් කාමරාග, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්ච කුක්කුච්ච, විචිකිච්ඡා කියල කියන්නෙ මේ හිතේ චංචලයි. ඉතින් චංචලයක් නම් අසුබෙන් හරි කමක් නෑ නරකින් හරි කමක් නෑ අපිට තියෙනව නම්, අපි ඉන්න බව දැනෙනවා. මමයා ඉන්නවා. යම් කිසි

වෙලාවක පංචනීවරණ ධර්ම තොර වෙච්චාම නොදැනෙන තත්ත්වයකට නොකියාගන්න පුළුවන් තත්ත්වයකට, විස්තර කරගන්න බැරි තත්ත්වයකට පත් වෙනකොට යෝගාවචරයා හරියට කලබල වෙනවා. එක්කෝ කමටහන් සුද්ධ කිරීම නතර කරනවා. කියන්න දෙයක් නෑ. ඒ මොකද, කියන්න මොනවා හරි අතට අහු වෙන රත්තරන් ගුලියක් වගේ දෙයක් හෝ මොකක් හරි තියෙන්න ඕනැ. මොකක්වත් නැති තත්ත්වෙකට පත් වෙනකොට මරණයේ ස්වභාවය හොඳට පේනවා. ඒ තුළම නෙ අමරණීයත්වය තියෙන්නෙ. නමුත් ඒ අමරණීයත්වයට යන්න ඉස්සෙල්ලා ප්‍රපංච නැති වීගෙන යනකොට යෝගාවචරයට පේන්නෙ තමන්ගෙ අනන්‍යතාව නැති වුණා වාගෙ. මමයා නැති වුණා. හරි කලබල භාවයට පත් වෙනවා.

ඊට බොහෝම කිට්ටු දෙයක් වෙනවයි කියල පර්යේෂණ කරනවා මත්කුඩු පාවිච්චියේදී. යම් ප්‍රමාණයකට ශරීරය ඒ විෂ ද්‍රව්‍ය මත්ද්‍ර ද්‍රව්‍ය පාවිච්චි කරපුවාම ස්නායු තුඩු ඔක්කොම අක්‍රිය වෙනවා. ස්නායු තුඩු අක්‍රිය වෙච්චාම ඒ පුද්ගලයාම තමන්ටම තළාගැනීම, කපා කොටාගැනීම හරි විහිළුවක්. ඔහු හිතන්නෙ අනිත් ඔක්කොටමත් දැන් තියෙන්නෙ ස්නායු අක්‍රිය වෙලා, ඒගොල්ල ගැහුවට මැරුවට ප්‍රශ්නෙකුත් නෑ. ඒ නිසා කොයි දේ කළත් ඔහුට ඒකෙ හොඳක් නරකක් තේරෙන්නෙ නෑ. නමුත් අභාග්‍යය තියෙන්නෙ, පහුවෙනිද ඊට වැඩිය වැඩි ප්‍රමාණයක් වියදම් කරන්න ඕනැ ඒ රසායන ද්‍රව්‍ය ගන්න. නැතුව ගන්න බෑ. ඒ රසායන ද්‍රව්‍ය නැති වුණාම ස්නායු තිබුණට වැඩිය වේගවත් වෙලා ක්‍රියාත්මක වෙනව.

භාවනාවෙදිත් ආන්න ඒ වාගේම තදබල සුඛ වේදනා හා තදබල දුක්ඛ වේදනාව දුරු කරමින්, ක්‍රමයෙන් මධ්‍යස්ථ සුඛ දුක් වේදනා ගෙනල්ලා අවසානෙ යෝගාවචරයා නතර කරනවා අදුක්ඛමසුඛයට. එතකොට නින්දට ගිහිල්ලා, ඕන්න තක්කු මුක්කු වෙලා ගැස්සිලා නැගිටිනකොටයි තේරෙන්නෙ මං භාවනා කළාද, හිත නහයෙද තිබ්බෙ, පිම්බීම හැකිළීම පෙනුණද, ආශ්වාසය පෙනුණද නැද්ද? ඉතින් යෝගාවචරයා කලකොල වෙලා නතර වෙන්නෙ, අවදි වෙන්නෙ. නමුත් හොඳටෝම දන්නවා ආයෙත් අවදි වෙන්නෙ අරමුණටමයි, තිබුණ තැනටමයි. නමුත් ඒ වුණාට වෙච්ච දේ මොකද?

ඒ වාගේම **න සඤ්ඤසඤ්ඤී න විසඤ්ඤසඤ්ඤී, නොපි අසඤ්ඤී න විභූතසඤ්ඤී**[3], ආදී වශයෙන් අපි විසඤ්ඤ වෙලත් නෑ, අසඤ්ඤ තත්ත්වෙත් නෙවෙයි. සංඥාව නතර වෙලත් නෑ, මොකක්දෝ සංඥාවක් තියෙනවා, ඒක විතර භයානකකමක් ඇත්තෙ නෑ ආධුනිකයට. ඒක ආපු ගමන් හරියට නිදාගත්ත ළමයෙක් නිදිද කියල අහන්න ළමයට කතා කරල අහනව වගේ, බබා ඔයා නිදාගත්තද කියල. ඉතින් එතකොට වෙන්නෙ මොකද? අර නිදාගෙන හිටපු එක කැඩෙනවා.

ඒ වගේ තමයි යෝගාවචරයට මරණය, ඒ වගේම අමරණීයත්වය කියන තත්ත්වයට පත් වෙනකොට රූපය තුළිනුත් සටහන් ආකාර නැති වෙලා හුදු භාව ලකුණු විතරක් ඉතිරි වෙනවා. ඒ භාව ලකුණු ආපුවාම මේ හමෙන් ඇතුළත තියෙන මමයත් හමෙන් පිට තියෙන ආකාශ වස්තු ගහකොළ පඨවි තේජෝ වායෝ ඔක්කොමත් සම වෙලා යනව. සම වෙච්චාම මේකෙ සීමාවල් කඩල යනව. එතකොටත් යෝගාවචරයා ඇස් දෙක ඇරලා බලනවා කඳ බඩ තියෙනවද, පිම්බීම හැකිළීම නැත්නම් පුම්බලා හකුළවලා බලලා, හුස්ම නැත්නම් නයි පිඹින්නා වාගෙ පිඹලා බලනවා. ඒක තියෙනවද කියල බලනවා. ඒ මොකද, රූපයාගේ ඇත්තා වූ සටහන් ආකාරවලින් තොර තත්ත්වෙට යනකොට විශාල භයකට පත් වෙනවා, කුඩු ගහපු මනුස්සයො වාගෙ. සර්වඥයන් වහන්සේගෙ තියෙන ක්‍රමය තමන්ට කැමති ප්‍රදේශයකට ගිහිල්ලා කැමති තරම් විඳල ආපහු එන්න පුළුවන්. පහුවෙනිදත් එතනින් එහාටත් යන්න පුළුවන්. අමතර වියදමකුත් නෑ, රසායන ද්‍රව්‍ය අවශ්‍යතාවකුත් නෑ, බාහිරින් මොනම දෙයක්වත් ඕනැ නෑ.

ආනාපානසති භාවනාවේ ආනිශංස ගැන කතා කරනකොට සර්වඥයන් වහන්සේ සඳහන් කරනවා **සන්තො චෙව පණීතො ච අසෙචනකො ච සුඛො ච විහාරො.** කියලා. මේකට කසින මණ්ඩල හදන්න ඕනැ නෑ. ෆාමසියට ගිහිල්ලා කුඩු බෙහෙත් ගන්න ඕනැකමක් ඇත්තෙ නෑ. හුස්මමයි. හුස්ම දිහාම පැවැත්ම දිහාම වෙන මොනවකටවත් හිත යන්න දෙන්නෙ නැතුව, වැඩ නතර කරල, කතාව

[3] ඛුද්දක නිකාය, කලහවිවාද සූත්‍රය

නතර කරල, නින්දට ඉඩ නොතබා, සංසර්ග සංගනිකාවෙන් වෙන් වෙලා, ප්‍රපංච හිතිවිලි නතර කරලා හුස්මම දිගට පවත්වනකොට මේ හුස්මට මේ දේ වෙනවා. ඒක සමථ මට්ටමින් සියුම් තත්ත්වයට, සුබුමතර තත්ත්වයට පත් වෙනවා.

විපස්සනා මට්ටමින් නම් මේකෙ සටහන් ආකාර නැති වෙලා හුදු භාව ලකුණුවලට පත් වෙනකොට ඒ භාව ලකුණු උඹෙත් නෙවෙයි, මගෙත් නෙවෙයි. ඇතුළතත් නෙවෙයි, පිටත් නෙවෙයි. දුරත් නෙවෙයි, ළඟත් නෙවෙයි. මේක හතීකොන පැතිරිච්ච තත්ත්වෙට පත් වෙනකොට අන්න සක්කාය දිට්ඨිය කඩල යනවා. නැත්නම් තදංග වශයෙන් හෝ කඩල යනවා. ඒ කඩල යනකොටම යෝගාවචරයා භය වෙනවා ඉතින් මම නැති වුණාට පස්සෙ භාවනා කරන්නෙ කවුද? ඉතින් හැම වෙලාවෙදීම ඇස් දෙක ඇරලා බලනවා මේ මොකද වුණේ, මොකද මේ වෙච්ච සංගදිය කියල. ඒ නිසා මේකට භය හිතුණට නම් කරන්න දෙයක් නෑ. කියන්න තියෙන්නෙ මේකයි; මේ යන ගමනෙ අවසාන නිෂ්ටාව කියල කියන්නෙ පරිනිර්වාණය. පරිනිර්වාණය කියල කියන්නෙ තථාගතයන් වහන්සේගෙ මරණය. හුඟදෙනෙක් නිවනට කැමතියි, නමුත් පරිනිර්වාණයට කැමති නෑ. මොකද, පරිනිර්වාණයට යන්න මෙච්චරම දඟලන්න ඕනැයෑ. සිල් රැකලා සමාධි භාවනා කරලා විපස්සනා භාවනා කරලා එකම ඍද්ධි ප්‍රාතිහාර්යයක්වත් පා ගන්ට බැරි වුණොත්? කාටවත් කියාගන්න බැරි වුණොත් මම රහත් වුණායි කියල? අන්න අර නාකි මනුස්සයාගෙන් අර ඉලන්දරියා අහපු ප්‍රශ්නය අහන්න වෙනවා. මොකටද එහෙනම් ඔය නිවන? ඔය පෙට්ටියකට දාලා තියෙන එකක් වගෙ මොකටද? මරණය මේ තරම්ම ගැඹුරක් අපේ ජීවිතයට ළං කරනවා.

මේ නිසාමදෝ සර්වඥයන් වහන්සේගෙ දේශනාව වාගෙ ඉතාම ගැඹුරකින් මරණය විග්‍රහ කරන්ට බැරි වුණත් දර්ශනිකයන්ට ආගමික නායකයන්ට මරණය කියන එක නොසලකා හරින්න බැරි වුණා. මුළු ලෝකයේ තියෙන සෑම ආගමක්ම මරණින් මත්තෙ ජීවිතයක් පෙන්නනවා. ආගමක් නොවන උච්ඡේදවාදය විතරක් කියනවා - ඒකට අපිට ආගමක් කියන්න අමාරුයි - මරණින් මත්තෙ

ඔක්කොම නතර වෙනවා. බුද්ධාගමේ හා හින්දු ආගමේ මරණින් මත්තෙ ජීවිත රාශියක් තියෙන බව කියනවා. මුස්ලිම් ආගමේ, කතෝලික ආගමේ, සික් ආගමේ මරණින් මත්තෙ එක ජීවිතයක් තියෙනවායි කියනවා දෙවියන් වහන්සේත් එක්ක. නැත්නම් අපාය.

ඒ නිසා මරණින් වැඩේ හමාර වෙන්නෙ නැති බව වැඩි ජනතාවක් පිළිඅරන් තියනවා. නමුත් අභාග්‍යයකට වගේ ඒගොල්ලො හිතුවා මේකෙ තියන ඉතාම ගුප්ත භාවය තේරුම්ගන්ට බැරි භාවය නිසා හොඳ හරිය තියෙන්නෙ මේ ජීවිතේ ටිකේ නෙවෙයි, මේකෙන් මත්තෙ. ඒක තියෙන්නෙ මගේ අතේ නෙවෙයි. දෙවියන් වහන්සේ අතේ. ඒ නිසා අපිට ඒ ගැන කතා කරන්න බෑ කියනවා. මෙන්න මෙවැනි ඝනබහළ දෘෂ්ටි කට්ටයක්, දෘෂ්ටි කෝම්බයක් තියෙන තැන තමයි සර්වඥයන් වහන්සේ සඳහන් කළේ මරණයත් තේරුම්ගන්න පුළුවන්. මරණය තේරුම්ගැනීමමයි අමරණීයත්වය කියන්නෙ. ඒ නිසා ඔය සැප දුක් වේදනා දෙක මැද තියෙන අදුක්ඛමසුඛ වේදනාවට ලක්ෂ කෙළකෝටි වාරයක්, පැය ගණන් සමවදින්ට ඕනැ. ඒ වාගේම කියාගන්ට බැරි සංඥවකට හිත පත් වෙනවා. කාටවත් කියන්න ඕනැ කමක් නෑ. සංඥව තියෙනවා නම් කියන්න ගුරුවරයට. මට මෙහෙමයි මේ සංඥව මට තියෙනවා - රූප සංඥව, ශබ්ද සංඥව, ගන්ධ සංඥව, රස සංඥව, පොට්ඨබ්බ සංඥව, ධර්ම සංඥව තියෙනවා. අපි ඔය කතා කරනවයි කියල කියන්නෙ ඔය ටික තමයි.

ඒ තියෙන සේරම කියනකොට දෙන්නටම තේරෙනවා කියාගන්ට බැරි තැනකට ගියාම එහෙමත් සංඥවක් තියෙනවා. සංස්කාර කියල කියන්නෙ අපි ළඟට එන හැම දේම හැම වෙලාවෙදිම අපි සංස්කරණය කරනවා. හුස්මත්; ඒකට කියනවා කාය සංස්කාර කියලා. හුස්මත් අඩු වැඩි කරනවා, අඩු වැඩි වෙනවා. ඊගාවට වචී සංඛාර කියල කියනවා විතක්ක විචාර දෙකට. ඔය විතක්ක විචාර දෙකේ තමයි දර්ශනිකව ගත කරන්නෙ. ඊගාවට මනෝ සංඛාර කියල කියනවා සංඥ, වේදනා. සංඥ වේදයිත නිරෝධයට යනකොට ඒකත් නතර වෙනවා. මේ දේ නතර වීගෙන එනකොට අපට පේන්නෙ මරණයක් වාගෙ. එතකොට අර ඇති සංඥවල් සියල්ලම හඳුනාගෙන මතක් කරගන්නකොට අර කියන්න බැරි සංඥවට වැටෙනවා. ඒ

වාගෙම තමයි සංස්කාරත් අතගෑවෙනවා. සිංහලෙන් මේකට අපි කියනවා අනනවයි කියල, ඇදගෙන නානවයි කියලත් කියනවා, ඉල්ලගෙන කනවයි කියලත් කියනවා.

ඔය ඉල්ලගෙන කෑම නතර වෙලා, භාවනා නොකර මෙනෙහි නොකර අරමුණේ බොහෝ වේලාවක් ඉන්ඩ පුළුවන් තත්ත්වය ඉක්මවුවාම අර්පණා සමාධිය කියල කියනවා. එහෙම නැත්නම් උපේක්ෂාව කියල කියනවා විපස්සනාවෙදි. නැත්නම් මාර්ග ඵලය කියල කියනවා. අන්න ඒකට ගියාට පස්සෙ කිසිම දෙයක් නොකර යන්න ඇරල බලාගෙන ඉන්න එක, පැයගණන් කරන්න වෙනවා. කෙළකෝටි ගානක් විස්තර කරන්න වෙනවා. මේක ප්‍රකෘති දෙයක්. මේ ලෝකෙ අත්දකින්න පුළුවන් දෙයක්. හැබැයි හැමෝටම බෑ, හැමදම බෑ. හරියට අනුගමන වැඩ පිළිවෙළකින් ගියොත් ඒක ලබාගන්න පුළුවන්.

ඊගාවට විඤ්ඤාණයේත් අනිදස්සන ස්වරූපයක් තියනවා. විඤ්ඤාණයේ වැඩේම හැම වෙලාවෙම නාම රූප වෙන් කරනවා. නාම ධර්ම කියල කියන්නෙ චිත්ත චෛතසික වශයෙන් වෙන් කරනවා. රූප ධර්ම කියල කියන්නෙ පඨවි, ආපෝ, තේජෝ, වායෝ ආදි විසිඅට කොටසකට වෙන් කරනවා. වැඩේම කපකපා බලන එකයි, නිදර්ශනය කරන එකයි, අරකෙන් මේක වෙන් කරන එකයි. ඔන්න ඔය බිස්නස් එක නතර වෙනවා, විඤ්ඤාණෙට දෙක වෙන් කරගන්න බැරි තත්ත්වෙට පත් වෙනකොට. එතනට අපි කියනවා අනිදස්සනයි. ඒක නිදර්ශනය කරන්න බෑ. ඒක නිදර්ශනය වෙන්නෙ එතකොට හරියට එතනදි තමයි.

ආන්න ඔය තත්ත්වවලට ළං වේගෙන යාම තමයි විපස්සනා ඥානවල දිගින් දිගට දිගින් දිගට සිද්ධ වෙන්නෙ. එතකොට මේකෙ ඉතාම සක්‍රිය, සිලිලාරජනක, ආස්වාදජනක සෞන්දර්යාත්මක තැනක ඉඳලා මරණය කරා ක්‍රමයෙන් ළං වීමක් තියෙන්නෙ. සම්මුති මරණය ගැන නෙවෙයි අපි මේ කතා කරන්නෙ. පරමාර්ථ වශයෙන් රූපය සුඛුමතර තත්ත්වයට පත් වෙනවා. එහෙම නැත්නම් හුදු භාව තත්ත්වයට පත් වෙනවා. වේදනා අදුක්ඛමසුඛ තත්ත්වයට පත්

වෙනවා. සංඥුව අමුතු සංඥුවක් පහළ වෙනවා. සංස්කරණය හිටිනවා. සංස්කරණය කිරීම නතර වෙනවා. විඤ්ඤාණය අනිදස්සන තත්ත්වයට පත් වෙනවා. මේ ටික ඔක්කොම ඔය වගේ තමයි මරණින් පස්සෙ. මැරුණට පස්සෙ කලේබරය නම් ඉතුරු වෙනවා රූපයේ. නමුත් වේදනාව නතර වෙනවා. සංඥුව නතර වෙනවා. මිනියට කරන්න දෙයක් නැති වෙනවා. සංස්කාර ඔක්කොම නතර වෙනවා. විඤ්ඤාණය චුත වෙනවා. ඒ නිසා ඒක අපිට පේන්නෙ මළා සේ. මැරුණා වාගෙ.

නමුත් යෝගාවචරයා හරියට භාවනා කරලා සංඥා වේදයිත නිරෝධයට සමවැදුණොත්, ගිනි තිබ්බත් දවස් හතක් යනකන් ගිනි ගන්නෙ නෑ කියල කියනවා. මේ දේ එක ජීවිතයක් තුළ ලබාගන්න පුළුවන් භාවය සඳහායි සර්වඥයන් වහන්සේගෙ විශේෂත්වය තියෙන්නෙ. ඒ සඳහා උන්වහන්සේ පෙන්වා දෙනවා මරණය නිතරෝම සිහිපත් කරන්න. ඒක අපිට සංවේගය දනවන්න මෙවැනි දෙයක් කරන්න ඕනෑ. ලෝකයේ මරණය තියෙනවා නම් අනිවාර්යයෙන්ම ලෝකයේ අමරණීයත්වය තිබිය යුතුමයි. අමරණීයත්වය තියෙන්නෙ ලෝකෙන් එපිට නෙවෙයි, සර්වබලධාරී වහන්සේ අතේ නෙවෙයි, මේ ජීවිතේමයි. මේන්න මේ අධිෂ්ඨානය, මේ **කිං කුසල ගවෙසී** කියන අදහස තමයි සර්වඥයන් වහන්සේ අත නෑර, මුලින් ගුරුවරු හම්බ වුණත් මොනම සැප ලැබුණත් අත නෑර ගියේ. උන්වහන්සේ කොච්චර මේ ගැඹුරු ධර්මය, උන්වහන්සේගේ මහා සම්මා සම්බුද්ධත්ව ගුණය උදෙසා අනුන්ට කියා දෙන්න උත්සාහ කළාද කියනවා නම්, අද වෙනකල්ම මේක අත්දකින්න පුළුවන් තත්ත්වයක් තියෙනවා. මුළු ලෝකෙ කවම කවදකවත් රහසක් අවුරුදු සීයකට වැඩිය පැවතිච්ච බවක් ඉතිහාසගත වෙලා නෑ. මේක රහසක් නෙවෙයි, මේක ඇත්තක්. මේ ඇත්ත වුණත් කළු ලෑල්ලක පෙන්නන්න බෑ. රට හුණු කෑල්ලකින් අඳින්න බෑ, අල්ලල කියන්න බෑ. ගහල කියල දෙන්න බෑ. ඒ ධර්මය පවා අද පුළුවන් වෙලා තියෙන්නෙ මරණය අපිත් එක්ක ඉන්න නිසා. මරණය අපේ ජීවිතේ තියෙන නිසා.

ඒ නිසා මරණය බාහිරව බලන්න සම්මුතිය වශයෙන්. ආධ්‍යාත්මිකව බලන්න පරමාර්ථ වශයෙන්. විපස්සනා වශයෙන් හැම මොහොතකම මැරි මැරී උපදිනවා. ඒ මැරෙන මොහොතත් එක්කම හැම වෙලාවෙම නිවන පිළිබඳ අවස්ථාවක් පැහැරහැරෙනවා. ඒ මොකද, අපිට තියෙන්නෙ මේ මැරුණට මොකද ඊගාව චිත්තක්ෂණය මීට වඩා හොඳින් ජීවත් වීමේ තණ්හා මාන ප්‍රපංචයි. එහෙම නැතුව මරණය අපි අලුත් කරනවා. විශේෂයෙන්ම අසාධ්‍ය රෝගියෙක් ගැන කල්පනා කරන්න. මැරෙන එක කොච්චර හොඳ දෙයක්ද ඒ මනුස්සයට? එතකොට ඉවරයි. පවුලේ මනුස්සයන්ටත් කරදරේ ඉවරයි. නමුත් මනුස්සයෝ හරිම බයයි මැරුණට කමක් නෑ කියන්න. කොහොම හරි නහය මිරිකලා හරි ජීවත් කරවන්න උත්සාහ කරනවා. ඒ නිසා හිතනවා මේක මානව දයාව කියලා.

මං හිතනවා අද අපි මරණය පිළිබඳව පරමාර්ථමය වශයෙනුත් සම්මුති වශයෙනුත් බැලීමේ වැදගත්කම සෑහෙන්න සාකච්ඡා කළා. කෙසේ වෙතත් මේ ධර්ම දේශනාවත් ධර්ම ශ්‍රවණයත් ආයාසකර වුණා කියල මට හිතෙනවා. ඒ වුණත් මේ කරුණු විග්‍රහය නිසා මරණයේ යථාර්ථය ගැන අවබෝධයක් මේ පිරිසට ලැබෙන්න ඇති. එහෙම වුණා නම් ඒක ඉතාම වටිනවා.

මේ යෝගාවචර පිරිස මේ තාක් කල් ලබාගත්තා වූ භාවනාමය අත්දැකීම්, භාවනාමය ඥානය අද දේශනාවෙන් තව දුරටත් පරිණත වෙන්න, තියුණු වෙන්න ඇති කියලා බලාපොරොත්තු වෙනවා. ඒ අනුව, අද ධර්ම දේශනාවෙන් ඉදිරිපත් වූ ධර්ම කරුණුත් මේ පිරිසගේ ඉදිරි භාවනාවට අත්වැලක් වේවා කියල ප්‍රාර්ථනා කරනවා.

සියලුදෙනාටම සැනසීම උදා වේවා!

# 67 | සෝක පරිදේව දුක

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**කතමො ච භික්ඛවෙ සොකොː යො ඛො භික්ඛවෙ අඤ්ඤතරඤ්ඤතරෙන බ්‍යසනෙන සමන්නාගතස්ස අඤ්ඤතරඤ්ඤතරෙන දුක්ඛධම්මෙන ඵුට්ඨස්ස සොකො සොචනා සොචිතත්තං අන්තොසොකො අන්තොපරිසොකො, අයං වුච්චති භික්ඛවෙ සොකොතී'ති.**

ගෞරවනීය මහා සංඝරත්නයෙන් අවසරයි. අපි මහා වටිනාකමකින් යුක්ත වූ සතිපට්ඨාන සූත්‍රයට අනුව පවත්වාගෙන යනු ලබන ධර්ම දේශනා මාලාවේ අද වෙනකොට 67 වන අංකයටයි මේ මුල පුරන්නේ. මේ වෙනකොට අපි ධම්මානුපස්සනා කොටසට අයිති දුක්ඛ සත්‍යය කොටස් කොටස් වශයෙන් අපි දන්නා ප්‍රමාණයට, අත්දැකීම් ඇති ප්‍රමාණයට විස්තර විභාගයක් ඉදිරිපත් කරගන්නයි බලාපොරොත්තු වෙන්නේ.

අපි ගිය වාර කිහිපයකදී ජාති ජරා මරණ කියන කොටස් ඉදිරිපත් කරගත්තා. ඒ සෑම අවස්ථාවකදීම ධර්ම දේශනාවත් ධර්ම ශ්‍රවණයත් ආයාසකර වුණා. ඒ මොකද, මේක ඉතාමත් ජනප්‍රිය හෝ ප්‍රිය උපදවන ධර්ම කොට්ඨාසයක් නොවෙන නිසා. ඒයේ ප්‍රධාන වශයෙන් ජාති ජරා මරණ කියන ඒවා සමථ ක්‍රමයට, විපස්සනා ක්‍රමයට, නැත්නම් සම්මුති ක්‍රමයට, පරමාර්ථ ක්‍රමයට දකින්න පුළුවන් මේ කොටස් රූප ධර්ම පිළිබඳව, මනුස්ස කාය සන්තානය පිළිබඳව සම්මුති වශයෙන් පරමාර්ථ වශයෙන් බෙදල වෙන් කළා.

ඒකෙම ඇත්තා වූ යම් කිසි මානසික කොටසක්, මනස හා සම්බන්ධ කොටසක් තමයි **සොක පරිදෙව දුක්ඛ දෙමනස්ස උපායාස** කියල සඳහන් කරන්නේ. මේ කොටස්වලත් ජාති ජරා මරණ කියන කොටස්වල වගේම ඉතාම ආයාසකර ගතියක් තියනව. කිසිම වින්දනයක් කරන්න බැරි තත්ත්වයක් තියනව. එහෙම නමුත් ඒක අයින් කරල සිලිලාර පැත්ත විතරක්, සුන්දර පැත්ත විතරක්, ලස්සන පැත්ත විතරක් ගත්තට ධම්මානුපස්සනාවක් නොවන නිසාදෝ සර්වඥයන් වහන්සේ ඒක ඉදිරිපත් කරල තියනව. අපට ඒ නිසා හිතේ තද ප්‍රිය මනාප ප්‍රණීත හැඟීමක් නැති වුණත් තේරුම්ගැනීමට සිද්ධ වෙලා තියනව.

සතිපට්ඨානයේම මේ සොක පරිදෙව දුක්ඛ දෙමනස්ස කියන ඒවා දෙකොටසක දෙපොළක සඳහන් වෙනව. ඉස්ඉස්සෙල්ලාම සතිපට්ඨාන සූත්‍රය කුරු දනව්වේ කුරු වැසියන්ට දේශනා කරන්න කලින්, කුරු දනව්ව තෝරාගත්තේ මේ දේශනය විවරණය කර දක්වන්නයි. එහිදී බොහෝ සූත්‍රවල දක්වනවාට වඩා කල් ඇතුවම ආනිසංශ ප්‍රකාශ කිරීමේ විශේෂ උපක්‍රමයක් ක්‍රමවේදයක් සතිපට්ඨාන සූත්‍රය ඉදිරිපත් කිරීමේදි තිබුණ බව බොහොම ප්‍රසිද්ධ කාරණාවක්. **එකායනො අයං භික්ඛවෙ මග්ගො සත්තානං විසුද්ධියා සොකපරිද්දවානං සමතික්කමාය දුක්ඛදෙමනස්සානං අත්ථඞ්ගමාය** ආදී වශයෙන් සොක පරිදෙව දුක්ඛ දෙමනස්ස දුරු කිරීමට විද්වංසනය කිරීමටම සතිපට්ඨානය හේතු වෙනව කියල ආරම්භක පාඨයේ එක පොළක ආනිසංස දැක්වීමක් කරනව.

දැන් නැවතත් ධම්මානුපස්සනා කොටසේදී **කතමො ච භික්ඛවෙ සොකො?** අර කලින්ම ආනිසංසයක් වශයෙන් මේ ධර්ම දේශනාවේ සඳහන් ක්‍රමයට, සතිපට්ඨානයේ සඳහන් ක්‍රමයට භාවනා කළොත් සොක පරිදෙව දුක්ඛ දෙමනස්ස දුරු වෙනව, ඒක ඒකාන්තයි කියල හඳුන්වාදීපු ධර්ම දේශනාවේ විවරණයේ අවසාන කෙළවරට, උග්‍ර කොටසට, උච්ච කොටසට මස්තකප්‍රාප්ත කොටසට යනකොට නැවතත් මේ සෝකය කියන ධර්මතාව ඉදිරිපත් කරගන්නව ධම්මානුපස්සනාවක් වශයෙන් යෝනිසෝමනසිකාරයට ලක් කරන්න. ඊට බොහොම සමානව තියන නිසා සොක පරිදෙව දුක්ඛ දෙමනස්ස උපායාස කියන පහම එකට අරගෙන සාකච්ඡා

කරන්න පුළුවන්. ඒවා ඔක්කොම මනුෂ්‍ය වර්ගයා සත්ත්ව වර්ගයා විසින් නැත්නම් හොඳයි කියල හිතන මානසික ධර්ම කොටස්.

සෝකය කියල කියන්නේ **යො බො භික්ඛවෙ අඤ්ඤතරඤ්ඤතරෙන බ්‍යසනෙන සමන්නාගතස්ස අඤ්ඤතරඤ්ඤතරෙන දුක්ඛධම්මෙන ඵුට්ඨස්ස සොකො** යම් කිසි වූ ඥාති ව්‍යසන, වස්තු ව්‍යසන, භෝග ව්‍යසන, සීල ව්‍යසන දිට්ඨි ව්‍යසන කියල මේ නැති නාස්ති කළ ධම්ම පහෙන් පහසක් ලැබූ අයකු විසින්, නැත්නම් යම් වූ ආකාර දුකකින් පෙළෙන්නකු යම් සෝකයක් සිත ගත වෙළාගන්නාසුලු සෝක ස්වරූපයක් ඇති කරනව නම්, **සොචනා** - හද හාත්පසින් වෙළාගෙන දවන තත්ත්වයක් ඇති වෙනව නම්, **සොචිතත්තං** එවනි දවන භාවයකට පත් වුණා නම්, **අන්තොසොකො අන්තොපරිසොකො** ආදී වශයෙන් අභ්‍යන්තරයේම හටගන්නා වූ අභ්‍යන්තරයේ හාත්පසින් හටගන්නා වූ සෝක භාවයකට සතිපට්ඨාන අර්ථකථනය අනුව සෝකය කියන වචනය සම්බන්ධ කරනව.

මේක නොදන්න දෙයක් නෙවෙයි. විශේෂයෙන්ම දන්නේ මතක තියන ප්‍රිය දෙයක් විදිහට නෙවෙයි. ඒක නොදකිනව නම් හොඳයි. නොපතන ජාති ධර්මයක් විදියටයි සෝකය සෑම මනුස්සයෙක් විසින්ම සලකන්නේ. සත්තුන්ගේ ඉරියව් දිහා බලනකොටත් සත්තුන්ගේත් ඒ විෂයෙහි තියෙන්නේ ඒක නොවෙනව නම් හොඳයි කියන අදහසක් වගේ එකක්. මේක සාමාන්‍යයෙන් ධර්ම විග්‍රහයකට අභිධර්ම විග්‍රහයට අනුව බලනව නම් ද්වේෂ චෛතසිකයක්. ඒක තේරුම්ගැනීමම යෝගාවචරයට විශාල සහනයක් ගෙන දෙනව. අසහනයක් ගෙනදෙන්නත් ඉඩ තියනව. සොක පරිදෙව දුක්ඛ දෙමනස්සවලට තමයි අසහනය කියන්නේ. අසහනය ඇති වෙන්නේ ද්වේෂ චෛතසිකයක් නිසායි කියන එක තේරුම්ගත්තොත් යෝගාවචරයාගේ සමීකරණය විසඳීම, ගාන හැදීම බොහොම පහසු වෙනව.

ඒක නිසා සොක පරිදෙව දුක්ඛ දෙමනස්ස කියන මේ පහම ද්වේෂ ජවන, ද්වේෂය සහිත සිතකින් ඇති වෙලා ඒක නතර කරගන්න බැරි තරමට කසකැවිල වේග වෙච්චාම ඇති වන

දුවන්නා වූ ජවන ස්වරූපයට තමයි මේ කියන්නේ සෝකය, පරිදේවය, දුක්ඛය, දෝමනස්සය, උපායාස කියල. ඒ වුණාට අපි දුක්ඛ සත්‍යය නේ ඉදිරිපත් කරගෙන තියෙන්නේ. ඒ ඉදිරිපත් කරගත්ත එක තව ස්වල්ප වෙලාවකින් දේශනාවෙ අපි යනව සමුදය සත්‍යයට.

නමුත් සර්වඥයන් වහන්සේ මේ සියල්ලටම සමුදය දක්වල තියෙන්නේ ද්වේෂය නෙවෙයි තෘෂ්ණාව කියන එක. ආසාව. ඇලීම සහ ගැටීම කියන එකට කියනව තණ්හාව හා ද්වේෂය කියල. එතකොට සොක, පරිදෙව, දුක්ඛ, දෙමනස්ස, කියන ඕනෑම ජීවිතයක පැතිකඩක ගෑවිලා තැවරිල තියෙන්නා වූ මේ අයින් කරන්න බැරි පිළිලය, අත්‍යවශ්‍යයෙන් අයින් කළ යුතු නමුත් අයින් කරන්න බැරි මේ පිළිලය ප්‍රධාන වශයෙන් ඇති වෙන්නේ ද්වේෂයෙන්. එතකොට දුක ඇති වෙන්නේ, කායික දුක නම් අර කියන විදියට ආසා දේ නැති වීම නිසා වෙන්න පුළුවන්. මානසික දුක නම් ඒකාන්තයෙන්ම ද්වේෂයෙන් ඇති වෙන්නේ. එහෙම නම් කොහොමද සමුදය සත්‍යයට මේක සම්බන්ධ කරන්නේ? සමුදය සත්‍යයේ එකම කාරණාවයි පෙන්වන්නේ. ඒ තමයි තණ්හාව.

තෘෂ්ණාවයි මේකට සම්බන්ධ වෙන්නේ. මේ දෙකේ තියෙන්නා වූ පරස්පර විරෝධී භාවය නිසාම මානසික රෝග ගැන කථා කරන්න ගියහම අමුතු ගූඪත්වයක් ගුප්ත ස්වරූපයක් සැඟවිච්ච ස්වරූපයක් තියනවා. ඒක සාමාන්‍ය මූලධර්ම අනුව පරමාර්ථ ධර්ම අනුව ගත්තොත් එච්චරම අමාරු නැහැ තේරුම්ගන්න. ඒ අමාරු වෙනකොට සෝකය ඇවිල්ලා නම්, සෝකයට පත් වෙලා ඉන්නකොට නම් ඒක තේරුම්ගන්න අමාරුයි. ඒක නිසා සෝකයක් නැති වෙලාවක මූලධර්ම කරුණු, හරියට දිග කොණ්ඩයක් ගැට ඇරල පීරන්නා වාගේ නිරවුල් කරගන්න ඕනෑ. යම් වෙලාවක ද්වේෂයක් ඇති වෙනව නම් ඇති වෙන්නේ තමන් ආසා කරන දෙයක් නොලැබීම නිසා. ඒ ආසා කරන දේ නොලැබෙනවා වෙනුවට ඊට වඩා අඩු තක්සේරුවක් ඇති හෝ ඊට වඩා නොරුස්නා දෙයක් ලැබිලා තියනව. ඉතින් මේ ලැබිච්ච දේ නෙවෙයි නෙ අපේක්ෂාව. ඒ නිසා වැඩි වේලාවක් ඒක ආශ්‍රය කරනකොට එක්කො මේ අකමැත්තෙන් ලැබිච්ච දේ

කෙරෙහි ද්වේෂයක් පහළ වෙනව. මේක නිසයි මට මේ හොඳ අවස්ථාව පැහැරහැරුණේ කියල. හොඳ දෙයක් ලැබෙන්න තිබුණ එක නැති වුණේ මේක ලැබුණ නිසයි, ඒ නිසා මේක එක්කො වනසන්න ඕනැ, නැති කරන්න ඕනැ, දුරු කරන්න ඕනැ කියන අදහස තමයි අර ලැබිච්ච දේට ඇති වෙන්නේ. ඒ වෙනුවට තමන් බලාපොරොත්තු වෙන්නා වූ ලෝභජනක වස්තුවක් නොලැබී යාම නිසා.

ඒක නිසා ද්වේෂය ලෝභයේම දරුවෙක්, හැබැයි අනියම් විවාහයකින් ඇති වෙච්ච අනියම් දරුවෙක්. මේ නිසා සාමාන්‍යයෙන් ගත්තොත් බටහිර මනෝවිද්‍යානුකූලව බලනකොට මුළු මනෝ විද්‍යාවම කැටි කරල ගත්තම ද්වේෂ චෛතසිකයයි වැඩ කරන්නේ. ඒ ද්වේෂ චෛතසිකයට උත්තර හොයන්න ඒගොල්ලො බලාගෙන යනකොට පෙනිල තියනව ද්වේෂ චෛතසිකය කියල කියන්නේ රාග චෛතසිකයක ප්‍රතිඵලයක්, එහෙම නැත්නම් අතීතයක ප්‍රතිඵලයක් කියල. මේ චිත්තක්ෂණය නිසා වෙන දෙයක් නෙවෙයි, ඊට ඉස්සරහ චිත්තක්ෂණය හෝ ඊටත් එහා ගිය දෙයක්. ඊට ඉස්සරහ චිත්තක්ෂණය බොහෝ විට ඇලීමක් බැඳීමක් නිසා ආසාවක් නිසා ඇති වෙච්ච දෙයක්. ඒක නිසා සෝකයක් ගත්තොත් **අඤ්ඤතරඤ්ඤතරෙන බ්‍යසනෙන සමන්නාගතස්ස. අඤ්ඤතර** වූ යම් ආකාර වූ ව්‍යසනයකින් ස්පර්ශ කරන ලද්ද වු **අඤ්ඤතරඤ්ඤතරෙන දුක්ඛධම්මෙන ඵුට්ඨස්ස** යම් කිසි වූ දුකකින් ස්පර්ශ කරන ලද්ද වූ කියනකොට පැහැදිලි වෙනව අපි මේ ව්‍යසන ධර්ම නිසයි සෝකය පහළ කරගන්නේ. ව්‍යසනය ඇති වන්නේ මොකටද? ඥාතීන්ට ඇති ආසාව නිසා. වස්තුවට ඇති ආසාව නිසා. භෝගවලට ඇති ආසාව නිසා. සීල ව්‍රතවලට ඇති ආසාව නිසා. දෘෂ්ටියට ඇති ආසාව නිසා. ඒ ආසා කරන්නා වූ ඥාතීන්ට ව්‍යසනයක් විනාසයක් ඇති වුණා නම් සෝකයක් ඇති වෙනව. අපි ආසාවෙන් රැස් කළ භෝගයට වස්තුවට ආසාවෙන්, රකින්නා වූ සීලයට ආසාවෙන්, රකින්නා වූ දෘෂ්ටි මතිමතාන්තරවලට යම් විදියකට පරස්පර විරෝධි භාවයක් ඇති වුණා නම්, ඒ ඥාතීන්ට වස්තුවට බෝගයට සීලයට දෘෂ්ටියට

යම් තාක් ප්‍රේම කළාද යම් තාක් ඇලුම් කළාද ඒ හා සමානව සෝකයක් මතු වෙනව.

ඒ නිසා සෝකය ඇති වුණාට පස්සේ ඒ සෝකය මකන්න හදනවයි කියන්නේ සැරව ගෙඩියක් විසර ගෙඩියක් වගේ එකකින් සැරව ටික විසර ටික එන්න දෙන්නේ නැතුව තුවාලේ මකල තියාගන්න හදනව වගේ වැඩක්. එන්න එන්න පුපුරු ගහනව. සෝකය කියල කියන්නේ ලෙඩේ නෙවෙයි ලෙඩෙන් ඇති වෙච්ච අතුරු ඵලයක්. ඒ අතුරු ඵලය මැකුවත් හැඳුවත් අඩු වුණත් වැඩි වුණත් රෝග මූලයට ගියේ නැත්නම් දිගටෝම අපි සෝකය කියන රෝගයෙන් පෙළෙනව. සංසාර රෝගයෙන් පෙළෙනව. නමුත් මේක කලින් පොදුවේ සඳහන් කළා සියලු සත්ත්වයන්ට හා සියලු මනුෂ්‍යයන්ට පොදුයි කියල. සර්වඥයන් වහන්සේ ලෝකයේ පහළ වෙන්න කලින් නම් ඒ කථාව ඇත්ත.

සර්වඥයන් වහන්සේ ලෝකයේ පහළ වුණාට පස්සේ උන්වහන්සේ සෝකයෙන් තොර සත්ත්ව කොට්ඨාසයකට මේකේ ඉන්න පුළුවන් භාවයකට ආර්ය ලෝකයක් ආර්ය සම්බන්ධයක් ආර්ය විනයක් ආර්ය ධර්මයක් ආර්ය පරම්පරාවක් ඇති කළා. ඒ ආර්යයන් වහන්සේලාට ඥාතීන් නැහැ. ඒ ආර්යයන් වහන්සේලාට වස්තුව නැහැ. ඒ ආර්යයන් වහන්සේලාට භෝග නැහැ. ඒ ආර්යයන් වහන්සේලාට සීල ව්‍රත නැහැ. උන්වහන්සේලාට දෘෂ්ටි නැහැ. ඒ නිසා කවදාවකවත් වස්තු ව්‍යසනයක්, බෝග ව්‍යසනයක්, ඥාති ව්‍යසනයක්, සීල ව්‍යසනයක්, දෘෂ්ටි ව්‍යසනයක් රහතන් වහන්සේට නැහැ. ඒ නිසා රහතන් වහන්සේට සෝක නැහැ. ඒකයි සතිපට්ඨානේ මුලදීම ඒකායන මාර්ගයක් විදිහට විශ්වාස ඇති කරන්න ශ්‍රද්ධාව ඇති කරන්න සඳහන් කරල දීල තියෙන්නේ සත්ත්වයාගේ විශුද්ධිය සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස දුරු කරන්න පුළුවන් කියල. ඒවා දුරු කරන්නේ, සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස කියන ව්‍යාසන ධර්මවලට හේතු වන්නා වූ ආසාවල් දුරු කිරීම මාර්ගයෙන්.

ඒක නිසා මේ සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස ආදී ධර්ම සාකච්ඡා කරනකොට අපි පැහැදිලිවම තේරුම් අරන් ඉන්න ඕනැ

දුකට පත් වෙච්ච ඇත්තන්ට මේක තේරුම් කරගන්න තරම් ඉස්පාසුවක් නැහැ. සෝකයකට පරිදේවයකට දෝමනස්සයකට උපායාසයකට පත් වෙලා ඉන්න කෙනෙකුට මේ කියන දුක, සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස කියල කියන්නේ ද්වේෂ චෛතසිකයක්. ද්වේෂ චෛතසිකයක් කවදාවත් තෘෂ්ණාව නැතුව ආසාවකින් තොරව හටගන්නේ නැහැ. ඒ ආසාව තෘෂ්ණාව වර්තමානයේ පේන්නත් පුළුවන්, නොපෙනෙන්නත් පුළුවන්. ඒක අතීතයට අයිති දෙයක්. ඒ නිසා සෝකය නැති කරන්න නම්, සෝකයට පත් වෙන තෘෂ්ණාව ඇති කරගෙන තෘෂ්ණාව නිසා ද්වේෂය ඇති කරගෙන ද්වේෂය නිසා සෝක ඇති කරගෙන පෙළෙනකොට ඒක මකන්න හදන එකේ ඇති තේරුමකුත් නැහැ. කවදාකවත් ප්‍රශ්නෙ මූලයට යන්නත් බැහැ. මේ නිසා සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස පිළිබඳව ආස්තිකවාදීන්ගේ ආකල්ප, නාස්තිකවාදීන්ගේ ආකල්ප කියන දෙක බලනකොට කොයි කෙනා ප්‍රශ්නයේ මුල තේරුම් අරන් තියනවාද නැද්ද කියන එක බොහෝම ප්‍රකටයි.

මෙහිදී කිසිම අන්තවාදයකට සර්වඥයන් වහන්සේගේ ධර්මය ගියේ නැහැ. උන්වහන්සේ සෝකය නැති කරන්න බැහැ කිව්වෙත් නැහැ. ඒකාන්තයෙන්ම සතිපට්ඨානයේ මුලදී, හරිගියහම ශාස්තුව ගෙවීමේ ක්‍රමයට ගුරුකමක් කරල තියන ගුරුවරයෙක් වාගේ උන්වහන්සේ දේශනා කළා ඒකාන්තයෙන්ම සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස මං නැති කරනව. නැති කරන මාර්ගයයි මේ දේශනා කරන්නේ. ඒ සඳහා සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස අත්‍යවශ්‍යයි. සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස නිසා තමයි කෙනෙකුට කවදා හෝ නැති ශ්‍රද්ධාවක් ඇති වන්නේ. ඒක බුද්ධාගමේ ප්‍රතික්ෂේප කරල නැහැ. නමුත් කවදාකවත් කාටවත් ව්‍යසනයක් කරල ශ්‍රද්ධාව ඇති කරපන් කියල බුදු කටින් නම් කවදාකවත් බුද්ධ වචනයෙන් නම් පිට වෙලා නැහැ.

සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස ජීවිතයට එක අංගයක්. ඒ අංගය එක් එක්කෙනාට එක එක තාලෙට මතු වෙනව. ඒ මතු වන ක්‍රමය සර්වඥයන් වහන්සේ කිව්වේ තෘෂ්ණාව කියල. සර්වබලධාරී දෙවියන් වහන්සේ කිව්වේ මේක මගේ සාපය කියල.

තොපි කරපු මුල් වැරැද්ද වෙනුවෙන් මං තොපිට සාප කිරීමක් වශයෙන් ව්‍යසන පමුණුවනව කියල. ඉතින් මේ දෙවියා මැවුම්කාරයෙක් නෙවෙයි විනාශකාරයෙක් කියල සර්වඥයන් වහන්සේ කියනව. මේකා ව්‍යසන මවන්නෙක්. ලෝකය පුරා හතීකොන පැතිරිලා තියන සෝකය දිහා බලනකොට පුදුමාකාර ව්‍යසන තොගයක් තියනව. ඒක භාරගන්නව නම් මැවුම්කාරයා, ඒ මැවුම්කාරයාට කියන්න තියෙන්නේ විනාශකයෙක් කියල. සර්වඥයන් වහන්සේ දේශනා කෙරුවා තමන්මයි මේ විනාශකයා, තමන්මයි මේ තෘෂ්ණාවන්තයා, තමන්මයි මේ ද්වේෂය පහළ කරගන්නේ. තමන්මයි සෝක කරන්නේ. ඒ නිසා තමන්ට ශ්‍රද්ධාව පහළ වෙනව. ශ්‍රද්ධාවෙන් සර්වඥ දේශනාවට හොඳට ඇහුම්කන් දෙන්න, සෝකයට පත් වෙච්ච වෙලාවෙ නෙවෙයි, කියල කියන්නෙ අන්න එතනයි.

වේදනට්ඨ පුද්ගලයාට ධර්මය තේරෙන්නේ නැහැ. වේදනට්ඨ පුද්ගලයාට විනය රකින්න බැහැ. ඒ නිසා වේදනාව, දුක තොර මධ්‍යස්ථ තත්ත්වයක ඉඳගෙන ඊට පස්සේ යෝනිසෝමනසිකාරයෙන් හිතන්න ඕනැ මේ පැමිණි දුක පැමිණි සෝකය පැණි රහ කරගන්න තමයි ධර්මය තියෙන්නේ කියල. ඒ සෝකය දිහා ඒ දුක දිහා මූලද්‍රව්‍යයක් අමුද්‍රව්‍යයක් දිහා බලන නිෂ්පාදකයෙක් කොහොමද ඒ අමුද්‍රව්‍ය යොදගෙන අවසානයේ කාටත් ප්‍රයෝජනයට ගන්න පුළුවන් මිහිරි ඵලයක් ලබාගන්නේ, අන්න ඒ වගේ සෝකය මුල් කරගෙන සෝක දුරු කිරීමේ මාර්ගය කොහොමද ඇති කරගන්නේ, කියන එකයි සතිපට්ඨාන සූත්‍රයට සෝකය ඇතුළු කිරීමේ පරමාර්ථය.

ශුද්ධ වූ කුරානයේ සඳහන් කරනව දෙවියන් වහන්සේ පැහැදිලිවම කියනව මං උඹලාට ඉස්සර වෙලා මොහොමඩ් පහළ කරන්න ඉස්සෙල්ලා මේ ජනතාව වෙනුවෙන් කබීර්, නැත්නම් ඊශ්‍රායල් ජනතාවට මම වෙන ශාස්තෘවරයෙක්, දෙවියන් වහන්සේගේ වෙන නියෝජිතයෙක් එව්වා කතෝලික ජනතාව වෙනුවෙන්. ඒ මෙසයියා එවල තියනව. ඒ මං එවපු නියෝජිතයාට අපෝස්තල්වරු කියල කියන්නේ. ඒ අපෝස්තල්වරුන්ට ගෞරවයෙන් ශ්‍රද්ධාවෙන් කියන දේ අහගෙන ඉන්නවද බලන්න

මං උඹලට ඊගාවට ව්‍යසන එව්වා. උඹලට විනාශ ධර්ම, එහෙම නැත්නම් පැතිරෙන රෝග, නියඟ, දුර්භික්ෂ ආදී උපද්‍රව එව්වා. උපද්‍රව එවල මං බැලුවේ උඹල මේ උපද්‍රව ඉස්සරහ දෙවියන් වහන්සේගේ මහ බලවත්කම, දෙවියන් වහන්සේගේ මහා මැවුම්කාරකම දකල යටහත් පහත් ස්වරූප වුණා නම් උඹලා විසින් මම එවන ලද ඒ ඇපෝස්ටල්වරුන් කියන දේ අසාවි. ඒ ඇත්තන් කෙරෙහි ශ්‍රද්ධාව පිහිටුවා ගනිවී.

නමුත් ඒ වෙනුවට උඹල කෙරුවෙ මොකක්ද? උඹලගේ හිත දැඩි කරගත්තා. ඇපෝස්ටල්වරුන්ගෙන් ඈත් වුණා. මේ නිසා සාතන් නුඹලාගේ හිත සම්පූර්ණ පාපයට පෙළඹුවා. එහෙම නම් දැන් විඳවගනිල්ලා. මං ඒ නිසයි මුස්ලිම් ජනතාව වෙන් කරල මොහොමඩ් එවල තියෙන්නේ. මොහොමඩ් ළඟ තියෙන්නෙත් ඔච්චරයි. මම ඊට පස්සේ උඹලට ව්‍යාසන එවනව. අන්න ඒ ව්‍යාසනවලදි පුළුවන් තරම් යටහත් පහත්ව ඒ ඇපෝස්ටල්වරයට, එයා දෙන උපදෙස් අනුව කටයුතු කරන්න. එතකොට දෙවියන් වහන්සේගේ පූර්ණ අනුකම්පාව දයාව ආශීර්වාද ලැබෙයි.

ඒකෙදිත් හැබැයි හොඳ කාරණා තියනව. ව්‍යාසන එන වෙලාවේදි හිත දැඩි කරගත්තා කියල කියන්නේ ද්වේෂය පහළ කරගත්තා කියන එක. ද්වේෂය පහළ කරපු ගමන්ම සාතන්ගේ ක්ෂේත්‍රය බවට පත් වෙනව. සාතන් මනාප දෙයක් කරනව කියල තියනව ද්වේෂ හිතකට. ද්වේෂ හිත සාතන්ගේ. අපේ පැත්තෙන් කියනව නම් මාරයා. ඒක නිසා යම් සෝකයකට, පරිදේවයකට, දුක්ඛයකට, දෝමනස්සයකට, උපායාසයකට හේතු වෙන්නා වූ ජාති ව්‍යසනයක් වස්තු ව්‍යසනයක් භෝග ව්‍යසනයක් ශීල ව්‍යසනයක් දෘෂ්ටි ව්‍යසනයක් ඇති වෙච්ච වෙලාවක යම් කිසි කෙනෙක්ගේ ශ්‍රද්ධාව යෝනිසෝමනසිකාරය ධම්මානුධම්ම ප්‍රතිපත්තිය ආදී දේවල්වලට ශුද්ධ අවස්ථාවක් කරගන්නව වෙනුවට ද්වේෂ ජවන ද්වේෂ සිතකින් පහළ වනු ලබන ජවනවලට පත් වුණා නම් ඒක මාරයාගේ කම්මල තමයි. යකාගේ කම්මල තමයි. ඒක හදන්න දෙවියන් වහන්සේ තියා සර්වඥයන් වහන්සේවත් ඉදිරිපත් වන්නේ නැහැ. ඒ මොකද, ඒ වගේ කෙනාට බණ තේරෙන්නේ නැහැ.

එවැනි කෙනාට ඉස්පාසුවක් නැහැ බණ ටිකක් විවේකීව අහගෙන ඉන්න. ඒකට සප්පාය අවස්ථාවක් නෙවෙයි.

මේ නිසා සර්වඥයන් වහන්සේ ඉතිවුත්තක දේශනාවක සදහන් කරනව **තථාගතස්ස භික්ඛවෙ අරහතො සම්මාසම්බුද්ධස්ස ද්වෙ ධම්මදෙසනා පරියායෙන භවන්ති** - මහණනි ධර්ම දේශනා කළ යුතු පරියාය ආකාර 2 ක් තියනව. එකක් තමයි **පාපං පාපකතො පස්සථා'ති - අයං පඨමා ධම්මදෙසනා** - පාපය පාපය වශයෙන් දකීවා. පාපය පාපය වශයෙන් දකිව්. පාපය පාපය වශයෙන් බලව් කියලා එක ධර්ම දේශනාවක් කළා. **පාපං පාපකතො දිස්වා තත්‍ථ නිබ්බින්දථ විරජ්ජථ විමුච්චථා'ති - අයං දුතියා ධම්මදෙසනා** - පාපය පාපය වශයෙන් දක එයින් අත්මිදීමට එයින් නිර්වින්දනය ඇති කරගැනීමට විරාගය ඇති කිරීමට එයින් මිදීමට කටයුතු කරව්. කටයුතු කරත්වා. කටයුතු කරනව නම් හොඳයි. මේක දෙවෙනි ධර්ම දේශනාව.

විශේෂයෙන්ම ද්වේෂය සම්බන්ධ කටයුතුවලදී ද්වේෂය ද්වේෂය වශයෙන් දකගැනීම, පිළියම් කරන්න ඉස්සර වෙලා අනිවාර්යෙන්ම කළ යුතු දෙයක්. මේක ඇති වෙලා තියෙන්නේ ද්වේෂයක් නිසා කියන එක, නැත්නම් අපි ශෝකය කියල කියන එක ඉතාම අනුකම්පා ස්වරූපයක් පෙන්වීමක් තියෙන්නේ. ඉතාමත්ම බැගෑ අහිංසක ස්වරූපයක් පේන්නේ. නමුත් මේකේ වැඩ කරන්නේ ද්වේෂය නෙවෙයි, ද්වේෂ ජවන. හොඳටම කසකැවිච්ච ද්වේෂයක් වැඩ කරන්නේ කියන එක සෝකයට පත් වෙච්ච පුද්ගලයා අවබෝධ කරනකල් ධර්මයක් හෝ පිළියමක් හෝ සුව කිරීමක් හෝ බලාපොරොත්තු වෙන්න බැහැ. අද වෙලා තියෙන්නේ සෝකයට පත් වෙච්ච එක්කෙනා නම් දැඩි ද්වේෂ ජවනයක හිටියා හෝ නොවේවා, සෝකය සුවපත් කරන්න ඉදිරිපත් වෙච්ච ඇත්තන්ට හැදිල තියන භයානකම රෝගය තමයි. ඒ ඇත්තෝ කිසි සේත්ම බලාපොරොත්තු වෙන්නෙත් නැහැ. ඉවසන්නෙත් නැහැ. දන්නෙත් නැහැ. දැනගන්න ඕනැකමකුත් නැහැ.

මේක පියවර දෙකකින් සනීප කළ යුතු තත්ත්වයක්. මමවත් අඩු ගානේ තත්ත්වය තේරුම්ගන්නේ නැතුව කොහොමද මේ සෝකයෙන් පෙළෙන කෙනෙකුට උත්තර දෙන්නේ කියල, දෙවියන් වහන්සේ අත තියන්න කැමති නැති තැන මෝඩයෝ පිනුම් ගහනව වාගේ තමන් සෝකය පිළිබඳව කිසිම හැඟීමක්, යාන්ත්‍රණය පිළිබඳ කිසිම දැනීමක් නැතුව, සෝකී ඇත්තන්ට ආශීර්වාද කිරීම පිණිස සුව කිරීම පිණිස මහා කරුණාවෙන් දෑත දෙපැත්තට විහිදුවාගෙන ඉදිරිපත් වෙනවා. පුදුමාකාර අවස්ථාවාදී චරිත තියෙන්නේ. මේ ඇත්තන්ගෙන් අපි පරිස්සම් වෙන්න ඕනැ. මේවයෙන් ආරක්ෂා වෙන්න සර්වඥයන් වහන්සේ දේශනා කරල තියන දේවල් බොහොම වටිනව. මම නැවතත් මතක් කරනව සෝකයට පත් වෙනකල් ඉන්න එපා මේ ධර්ම තේරුම්ගන්න. මොකද, සෝකයට පත් වුණාට පස්සේ ධර්ම තේරුම්ගන්න අමාරුයි. කැලඹෙන වතුරේ ඡයාව හොඳට පේන්නේ නැහැ, උතුරන වතුරේ ඡයාව හොඳට පේන්නේ නැහැ. ඒක තැන්පත් වෙන්න ඕනෑ. ඒ නිසා තැන්පත් වෙච්ච වෙලාවට තේරුම්ගන්න ඕනෑ. රාගය හරි ලේසියි. රාගය ඍජුයි. ආසාව බැඳීම මේක බොහොම ඍජු ධර්මයක්. මේ විදියට පත් වෙච්චාම මේකට පිළියම් කරතැහැකි. හරියට රෝගය දන්නව. ඒකට වෙදකම් කළා. ඉවරයි.

මේක එහෙම නෙවෙයි. රාගය නිසා ව්‍යසනයට පත් වෙච්ච පුද්ගලයටත් බාහිර ලෝකයටත් නොපෙනෙන ද්වේෂයක් හටගන්නව. මේ ද්වේෂයේ ප්‍රතිඵල, ද්වේෂයේ රෝග ලක්ෂණ එළියට ආපුවහම ඒකට පිළියම් කරන්න හදන එක්කෙනාටත් රාගයේ ද්වේෂයේ තියන ඒ අධික ආතතිය වදිනව. විදුලිය සැර වේගයක් වැදිල ඉන්න කෙනාට ආදරෙන් අත තියල ගන්න හැදුවොත්, තියනවත් එක්කම තමන්ටත් විදුලිය වැදෙනව. ඒ නිසා තමන් වැඩ කරන්න ඕනැ වේළිච්ච දේකින් තමයි ඒ පුද්ගලයාට සම්බන්ධ වෙන්න ඕනැ. එහෙම නොවුණොත් අර අධික විදුලි සැරය තමන්ටත් වදිනව. ඒ වාගෙම තමයි තමන් කල් ඇතුව දැනගන්න ඕනෑ සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස කියන දේවල් ද්වේෂයෙන් හටගන්න දේවල්. ද්වේෂයේ තියෙන්නේ තණ්හාව රාගය. මේ පුද්ගලයා දැන් රාගය තණ්හාවක් බවට විකෘති භාවයකට

පත් කරගෙන, එහෙම නැත්නම් පැටලිච්ච භාවයකට කැරකිච්ච භාවයකට වංචක භාවයකට පත් කරගෙන. ඒකට ද්වේෂ වෙලා දඟලන වෙලාවෙදි ඒකට පිළියම් කරන්න ඉස්සෙල්ලා අපි යාන්ත්‍රණය දැනගන්න ඕනැ, මෙන්න මෙහෙම වැඩක් මෙතන වෙන්නේ කියල.

ඒ නිසා මේකේ භයානක අතුරු ප්‍රතිඵල අද කාලේ බොහෝම ප්‍රසිද්ධයි. මොකද බුද්ධාගම හුඟදෙනෙක් තේරුම් අරන් තියන්නේම සුව සේවාවක් විදියට. ලංකාව වගේ රටවලත් දැන් ඒක සීඝ්‍රයෙන් පැතිරෙමින් තියනව. බටහිර රටවල, දියුණු යැයි සම්මත රටවල බුද්ධාගම පැතිරෙන්නේම සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස දුරු කිරීමේ සුව සේවාවක් විදිහට. මේ සඳහා විශාල සෝකයට දුකට පත් වෙච්ච මානසික අසහනකාරී ඇත්තන් එක්ක සාකච්ඡා කරමින් ඒ අයට අනුකම්පා කරමින් විශාල ආගමික ස්වරූපයෙන් සිදු කරන ව්‍යාපාර තියනව. ඔක්කොම සල්ලිවලට යටයි. ඔක්කොම විනාඩි 10 පැය භාගෙට පැයකට ගණන් කරනව. ගණන් කරල, ඔබේ තියන සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස ඔක්කොම මම දුරු කරනව. මගෙත් එක්ක සාකච්ඡා කරන්න. මම ඔබේ ප්‍රශ්න මූලයට ගෙනියනව මට වෙන මොනවත් එපා. වෙන අමතර කට්ට කුමංජල් සුවඳ දුම් මොනවක්වත් ඕනැ නැහැ පැයකට මෙච්චරක් ගෙවන්න.

අන්තිමට බලාගෙන ගියහම යම් කිසි සේවයකුත් සිද්ධ වෙනව. අභාග්‍යයකට වගේ ඒ රෝගය සනීප කරන්න ආපු ඇත්තාට අන්තිමට මානසික අසහනයක් ඇවිල්ලා ඒ මනුස්සයා සනීප කරන්න බැරි මානසික රෝගියෙක් බවට පත් වෙච්ච දවසට තමයි ලෙඩයි වෙදයි දෙන්නම වැටෙන්නේ. ඒ නිසා යම් කිසි කෙනෙක් බලාපොරොත්තු වෙනවා නම් තව කෙනෙකුට භාවනාව උගන්වන්න, තව කෙනෙකුට සීලයෙන් සමාධියෙන් ප්‍රඥාවෙන් අවවාද අනුසාසනා කරන්න, මතක තියාගෙන ඉන්න ඕනැ, තමන්ගේ තියන රාග දෝස මෝහ පිළිබඳව සෑහෙන පරිචයක් සෑහෙන හැඟීමක් ඇති කරගෙන මිස තමන් ඒ දේවල්වලට බැස්සොත් ඒකාන්තයෙන්ම ඇති වෙන්නේ භයානක රෝග පැතිරෙන තැනකට ආරක්ෂා රහිතව ගිය වෛද්‍යවරයෙකුට ඒ

රෝගය වැළඳෙන්න තියන අවස්ථාව වගේ භයානක තත්ත්වයක්. ඒ නිසා යන්න ඉස්සෙල්ලා මේ වෛද්‍යවරයා තමන් එන්නත් කරගන්න ඕනැ. ඒ රෝගයට ප්‍රතිශක්තියක් ඇති කරගෙනයි රෝග භූමියට යන්නේ.

එහෙම මොනවක්වත් නැහැ. දෙවියන් වහන්සේ හිටගෙන ඉන්න කැමති නැති තැන්වල මෝඩයෝ පිනුම් ගහනව වගේ බොහෝදෙනා මේ මානසික රෝගීන්ට මානසික අසහනකාරයින්ට වෙදකම් කරන්න යනව. මොකද මානසික අසහනකාරයෝ හුඟදෙනෙක් හොඳ පොහොසත්තු. ඒ නිසා කියපු ගානක් දෙනව. ඒ වාගේම පටන්ගන්නකොටම ඇති වෙන සුහද භාවයෙන් මානසික රෝගියා සෑහෙන්න සැනසෙනව. පවුලේ අයටත් ලොකු ශාන්තියක් එනව. අන්තිමට එතන රාග ස්වරූපයෙන් මෛත්‍රිය වැඩ කිරීම කියන වංචනික ධර්මය හෝ ද්වේෂ ස්වරූපයෙන් කරුණාව වැඩ කිරීම කියන වංචනික ධර්මය ඉතාමත්ම ලස්සනට ක්‍රියාත්මක වෙනව. පැත්තක ඉඳල බලා ඉන්නකොට පේනව සුදුසුකම් නැති වෛද්‍යවරුන්ට ලෙඩ්ඩු ඇති වෙච්ච මේ අවස්ථාව ප්‍රයෝජනයට අරගෙන අවස්ථාවාදීව කටයුතු කිරීමට සෝකය කියන මාතෘකාව බොහෝම හොඳ පසුබිමක් සලසනව - මේකේ තියෙන්නා වූ වංචක ස්වරූපය. ඒක නිසා යෝගාවචරයා හොඳට තේරුම් අරගන්න ඕනැ භාවනා කරන්න ගියා කියල, අපි සතිපට්ඨානය පටන්ගත්තායි කියල සෝකය නැති වෙන්නේ නැහැ. හුඟදෙනෙක් නම් බලාපොරොත්තු වෙනව ආරණ්‍යගත වෙන කොට පැවිදි වෙනකොට සතිපට්ඨානය පටන් අරගත්තට පස්සේ ඒ ඇත්තන්ට සෝකය එන්න බැහැ. කොහොමද ඒ ඇත්තන්ට සෝකය එන්නේ කියල ඒ භාවනා ගැන නොදන්න ඇත්තෝ ලොකු බලාපොරොත්තු ඇති කරගන්නව.

නමුත් යෝගාවචරයා දන්නව පැහැදිලිවම සෝකයට මුහුණ දීමේ වැඩ පිළිවෙළක් අපි මේ කරන්නේ කියල. ඒ නිසා වෙනදට වඩා සෝකය අපි කෙරේ පැමිණෙන නිසා තමයි අපි ඥාතීන් අතහැරල දල මේකට එන්නෙ. අපි වස්තුව භෝගය අතහැරල දල මේකට එන්නෙ. අපි සීල ව්‍රත දෘෂ්ටි අතහැරල දල ඉන්න ඕනැ. මේ සියල්ලක්ම සෝකයට හේතු වෙනව. ඒ විදිහට අපි ඥාතීන්

අතහැරියයි කියල, වස්තු අතහැරියයි කියල, භෝග අතහැරියයි කියල, අභිනිෂ්ක්‍රමණය කළයි කියල ආවට අපේ හිත පැවිදි වෙලා නැත්නම් ප්‍රශ්නයක්. ඇඟ නම් සිවුරකින් වෙළිල තියෙන්න පුළුවන්. හිස බූගැවිලා තියෙන්න පුළුවන්. නමුත් හිතේ පැවිද්ද නැත්නම් ඥාතීන් මාර්ගයෙන් එන ව්‍යසන කම්පන එනව. භෝග කම්පන වස්තු කම්පන හිතට වදිනව. ඒ වාගේම වැරදි ගුරුවරයෙක් ළඟට වැරදි ස්ථානයකට වැටුණා නම් සීල විපත්ති පිළිබඳව දෘෂ්ටි විපත්ති පිළිබඳව නිතරෝම කම්පන ඇති වෙනව. ඒ නිසා සෝකය නිතරම පැමිණෙනව. ඒ සෝකය පැමිණියහම ප්‍රථමයෙන්ම අපි ඉතිවුත්තක පාලියෙහි සඳහන් වන ආකාරයට **පාපං පාපකතො පස්සථ**. සෝකය, එහෙම නැත්නම් සෝකයට හේතු වුණ ව්‍යසන, දුක, පාප ධර්මයක් විදිහට හොඳට දකින්න ඕනැ. හිතනව නම් කවුරු හරි මේ සෝකය ඉගෙනගන්න පුළුවන් වෙන්නේ ගිය ආත්මේ ඇති වෙච්ච හෝ පෙර ඇති වෙච්ච සෝකයක් හේතු කරගෙන කියල. එහෙම නැත්නම් එන්න තියෙන සෝකයක් හේතු කරගෙන කියල. ඊට වැඩිය බොහෝමත්ම සජීවියි මේ පැමිණිච්ච, ඇස් ඉදිරිපිට තියන සෝකය.

ඒක නිසා පැමිණිච්ච දුක පැමිණිච්ච සෝකය ඉතාමත්ම වටිනා මූලධර්මයක් අමුද්‍රව්‍යයක් යෝගාවචරයාට. හැබැයි මං අර කලින් සඳහන් කළ විදිහට කවමදවකවත් යෝගාවචරයෙක් හෝ කර්මස්ථානාචාර්යවරයෙක් ශාස්තෘවරයෙක් සෝකය ප්‍රාර්ථනා කරන්න දෙන්න නරකයි. සෝකයක් වේවා ව්‍යාසනයක් වේවා කියල ප්‍රාර්ථනා කරන්න නරකයි. ප්‍රාර්ථනා කරන්න දෙයක් නැහැ. සෝක ව්‍යසන කියන එක ජීවිතයත් එක්ක නිතරෝම සමාන්තරව ගමන් කරන දෙයක්. පැමිණෙන සෝකය පැමිණෙන ව්‍යසනය පාපයක් විදිහට හොඳට ඒකට මුහුණදෙන්න පුළුවන් වෙන්නේ වර්තමානව, ඒ ව්‍යසනය තියෙද්දිම. වර්තමානව **සොකො සොචනා සොචිතත්තං අන්තොසොකො අන්තොපරිසොකො** විදිහට හොඳට තේරෙනව කොච්චර කැවත් කොච්චර නිදාගත්තත් කවුරුත් එක්ක හිනා වෙන පිරිසක් එක්ක කොච්චර ආශ්‍රය කළත් අර ඇතුළේ වෙළාගෙන දවන තවන ගතිය නෑ කියන්න බෑ. කියන්න බැරි තාලේට එනව. මේක අයින් කරන්න උත්සාහ කළොත් කවදවත්

අපිට **පාපං පාපකතො පස්සථ** කියන විදිහට අපි ඒක පාපයක් විදිහට දැකීමේ මූලික ධර්මතාව මේ බණවලදි සාකච්ඡා වෙන්නෙ නෑ.

අප්‍රමාදය ගැන කතා කරනකොට කියනව කාරාපක අප්‍රමාදය කියල. අපිට තේරෙනව මොකද්දෝ එකක් පටලැවිලයි කියල. වෙන විදියකට කියනවා නම්, අපි දන්නව හිත අරමුණින් කැඩිල ගිහිල්ලා, හිත මේ වගේ පැත්තකට ගිහිල්ලා. අන්න ඒ වෙලාවෙදි දැන් මේ තත්ත්වය නිසා මට ද්වේෂය පහළ වෙලා තියනව. සෝකය තේරුම්ගන්න බැරි තරමටම ද්වේෂය පහළ වෙලා තියනව. ඒ නිසා මේ ද්වේෂ පදනමින් තොරව සෝකය දැකගැනීම කියල කියන්නේ නම් ගැඹුරු විපස්සනාවක්. ඒක සාමාන්‍ය සතියකින් අල්ලන්නත් අමාරුයි. සතිය හුගාක් දියුණු කරපු කෙනාට නම් සෝකය පදනම් වෙලා තියන ද්වේෂය සෝකය පවතිද්දීම දැකගන්න පුළුවන් වුණොත් සෝකය දුක්ඛ සත්‍යයක් බවට දුක්ඛ ආර්ය සත්‍යයක් බවට පත් වෙනව. එතනයි මේක ධම්මානුපස්සනාවට සම්බන්ධ වෙන තැන.

සෝකය නිසා ඇති වන තත්ත්ව සර්වඥයන් වහන්සේ විස්තර කරන්නේ, සෝකය අර්ථ දක්වන්නේ **සොකො සොචනා සොචිතත්තං** හද වෙළාගෙන දවන ගතිය, වෙහෙස කරන ගතිය, සොවින ගතිය, සෝක කරන ගතිය. ඒ සෝකය හෝ හද වෙළාගෙන කරන හෝ සෝක කරන ගතිය කියන එක ඉතුරු වෙනව, ඒ කියන්නේ වර්තමානයේ පැහැදිලිවම හදවත තැවෙනවා. ඒ තැවීම ඉතුරු වෙනව. ඒකට පදනම් වුණා වූ ද්වේෂයෙන් තොරව තමන් ඒ ගැන යෝනිසෝමනසිකාරයෙන් බැලුවොත් - මේක හුගක් කල් වෙන එකක් නෙවෙයි, නිතර අවශ්‍ය කරන දේකුත් නෙවෙයි - එක දවසක් හරියට මේක දැක්කා නම් ඒ ජීවිතයේ ප්‍රධාන වෙනසක් ඇති වෙනව පෞරුෂත්වයේම. ඒ පුද්ගලයා ලෝකයට දක්වන ආකල්ප විකල්පවල රුචි අරුචිකම්වල පැහැදිලි වෙනසක් ඇති වෙනව. මෙතෙක් වෙනකල්ම ඔහු සෝකය දැකල තියෙන්නේ කළු පාට රෞද්‍ර වෙස් මූණක් සහිතව. ඔහු ඒක ද්වේෂයෙන් අයින් කරල වෙනම බැලුවට පස්සේ ඒක ආර්ය භාවයටත් සත්‍යයක් බවටත් පත් වෙනව. එතකොට දුක්ඛ ආර්ය

සත්‍යය බවට පත් වෙනව. මේක වෙන්ට නම්, හුඟක් අසාර්ථක ප්‍රයත්න, දුක ළඟට ගිහිල්ලා පස්ස හැරිල එන අවස්ථා, දුක ළඟට ගිහිල්ලා බය වෙලා හැරිල එන අවස්ථා රාශියක් විඳල විඳල විඳල විඳල තමයි සෝකය ආපුවහම "සෝකය නම් දුකයි තමයි, සෝකය දුකක් බව දැනගැනීම සැපයි" කියල සර්වඥයන් වහන්සේ දේශනා කළ දේ තේරෙන්නේ.

එතකොට ඒක සත්‍යයක් බවට පත් වෙනව. ඒක මකන්න බැරි සත්‍යයක් ජීවිතයත් එක්ක තියන. අපි මෙතෙක් කල් කෙරුවේ සෝකය මකන්න හැදුවා. අපි මෙතෙක් කල් කෙරුවේ ඒ සෝකයට උත්තර හෙව්වා. දැන් කරන්න තියෙන්නේ සෝකයට කෙළින්ම මූණ දීල, සෝකය ඇවිල්ලා තියෙන්නේ ද්වේෂ පදනමින්, ඒ ද්වේෂ පදනම ඇවිල්ලා තියෙන්නේ රාගය නිසා. ඒ නිසා අපිට ව්‍යසන ධර්ම සිද්ධ වෙනව. ව්‍යසන නැහැ රාගය නැත්නම්. ව්‍යසන නැත්නම් ද්වේෂය එන්නේත් නැහැ. සෝකය එන්නෙත් නැහැ. සෝකය ආපු වෙලාවක ඒක උපේක්ඛා වේදනාවෙන්, නැත්නම් ඒකට මුහුණ දෙන තත්ත්වයෙන් සෝකය දිහා බලන්න පුළුවන් නම්, එතන පහළ වෙන ඥානය ඇත්තටම ඥානය නෙවෙයි, ද්වේෂය නැතිකම. සෝකයේ සම්පූර්ණ තෙම්පරාදුව වෙනස් කරනව. ඒකට සම්පූර්ණ රස මසවුළුවක් එකතු කරනව. එකතු කළාට පස්සේ ඒ යෝගාවචරයා ඒ චිත්තක්ෂණයේ ඉගෙනගන්නා වූ සෝකය පිළිබඳ දැනුම ඔහුගේ ජීවිතයේ අතීතයටත් සම්බන්ධයි. අනාගතයටත් සම්බන්ධයි. තමන් ඉස්සරහ ඉඳගෙන භාවනා කරන කෙනාටත් සම්බන්ධයි. පස්සේ ඉඳගෙන භාවනා කරන කෙනාටත් සම්බන්ධයි.

මේක මුළු ලෝකයටම අදාළ ධර්මයක්. එදාට මනුෂ්‍ය ජීවිතය සම්බන්ධව හතීකොන ගෑව්ච්ච ප්‍රධාන සත්‍යයක්, මෙතෙක් කල් දුරු කරන්න උත්සාහ කරපු දෙයක්, ප්‍රඥා මානසිකත්වයකින් ඉඳගෙන යෝනිසෝමනසිකාරයක ඉඳගෙන ඔහුට දැකගන්න පුළුවන් නම්, කායානුපස්සනාවෙන් ලබන සතුටට වඩා බොහෝම ගැඹුරට ගිය සතුටක් ලබනව. පිම්බෙන වෙලාවෙදි පිම්බෙනව කියල මෙනෙහි කරනකොට ඇති වෙන සතුටට වඩා, ආශ්වාස කරනකොට ආශ්වාස කරනව කියල ඇති වෙන සතුටට වඩා, පය ඔසවනකොට ඔසවනව කියල හරියටම අරමුණයි හිතයි එකතු

වෙනකොට ඇති වෙන සතුටට වඩා විශාල සතුටක් ඇති වෙනව. මොකද, මේ සෝක ධර්මය පදනම කවුරුත් පිළිගන්න කැමති නැහැ. ඒක දකින්නේම අයින් කරන්න මකන්න හදන දෙයක් හැටියට. නමුත් මේ තුළ ධර්මතාවක් ධම්මානුපස්සනාවකට අවශ්‍ය පදනම තියනව කියල දැනගන්න නම් සෝකයට මුහුණදෙන්න වෙනව. මුහුණදුන්නාම ඔය කියන තරම් යකා කළු නැහැ. දුවන්න ගත්තොත් නම් එලව එලව කනව. ඒ නිසා සෝකය එනකොට සෝකය වශයෙන් දැකගැනීම, කලිනුත් මං කිව්වා වගේ නාම ධර්ම නාම ධර්ම වශයෙන් දැනගැනීමට, රූප ධර්ම රූප ධර්ම වශයෙන් දැනගැනීමට වඩා සංකීර්ණ වූ දෙයක්. බොහෝම පරිචයකින් ලබාගත යුතු දෙයක්. කොච්චරද කියල කියනව නම්, සාමාන්‍ය ආධුනිකයන්ට හිතාගන්න බැරි දෙයක්.

ඒ නිසා ආධුනිකයන්ට කියනව භාවනාව පටන්ගන්නකොට සෝකය නැති තැනකින් පටන්ගන්න කියල. සෝකය තීබීම අසප්පායයි කියල. නමුත් මේකෙන් අදහස් කරන්නේ නැහැ යෝගාවචරයා හැමදාම භාවනා මධ්‍යස්ථානයක ඉන්න ඕනැ, හැමදාම පර්යංක ඉරියව්වෙන් විතරයි භාවනා කරන්න ඕනැ, එහෙම නැත්නම් සක්මනේ විතරයි, එහෙම මොනවක්වත් නැහැ. පර්යංකය දැනගත්තාම සක්මනට ගියා නම් එදිනෙදා වැඩවලට සම්බන්ධ වුණා නම්, එන්න එන්න එන්න එන්න මේ සෝකය කියන ඉස්සෙල්ලා නරකයි කියපු දේ අසප්පායයි කියපු දේ භාවනාවට ආහාරයක් වෙනව. ඒ වෙනකොටත් අර කායානුපස්සනාව, වේදනානුපස්සනාව, චිත්තානුපස්සනාව හොඳ පදනමක් දීල තියනව. ඒ පදනම මත ඉඳගෙන, සාමාන්‍ය පොළවේ ඇවිදින්න පුංචි කාලේ ඉගෙනගන්න දරුවෙක් ඒ පොළවෙම ඒ දරුවම ලොකු වෙලා ඒක උඩ සර්කස් පෙන්නන්නා වාගේ විශේෂ දක්ෂතා පෙන්වන වෙලාවක් තමයි මේ සෝකයත් එක්ක භාවනා කරන වේලාව.

මේ නිසයි කායානුපස්සනාව වේදනානුපස්සනාව චිත්තානුපස්සනාව ඉක්මවල ඉතාම ගැඹුරු තැනකට ගියාට පස්සේ සෝකය වගේ දේවල් ධම්මානුපස්සනා කොටසට දල ආර්ය සත්‍යයක් වශයෙන් දේශනා කරල තියෙන්නෙ. ඒක නිසා මේකෙදි

පුදුමාකාර මූලධර්මයක් මතු වෙනව. මේක හිතාගන්න බැරි වෙන්නත් පුළුවන්. නමුත් අධිෂ්ඨාන පූර්වකව හොඳ ගුරුවරයෙක් යටතේ පුහුණු කරනකොට යම් දවසක නම්, තමා වශයෙන් වර්තමාන වශයෙන් මේක අවබෝධ කරන්න පුළුවන්. නමුත් තව කෙනෙකුට මේක අවබෝධ කරවල දෙන්න පුළුවන් කියල නම් හිතන්න අමාරුයි කොහොමත්. මේ නිසා තමයි, සර්වඥයන් වහන්සේ සම්මා සම්බුද්ධත්වයට පස්සේ මේ ධර්මය දේශනා කරනවට වඩා හොඳයි නොකර ඉන්න එක කියල හිතාගත්තේ.

මේක ඉතාමත්ම දුෂ්කරයි, ඉතාමත්ම ආයාසකරයි, ඉතාමත්ම පරද්දන සුලුයි, ඉතාමත්ම වෙහෙස කරනසුලුයි. නමුත් ඒ වෙහෙස තරමට, පරදින තරමට, ආයාසකර තරමට සෝකය තේරුම්ගැනීමෙන් ලැබෙන්නා වූ ඉස්පාසුව මානුෂික නැහැ. ඒක අමානුෂිකයි. ඒ මොකද, මනුෂ්‍යයොත් එක්ක කතා කරන්න ගියාම මනුෂ්‍යයෝ හිතන්නේ දුක් වඩන්න මේ බණ කියනව, දුක් වඩන්න මේ භාවනා කරනව, දුක් වඩන්න මේ සතිට්ඨානය කියනව කියලයි. සෝකය පිළිබඳ භාවනාව ගැන අභිධර්ම පොත්වල ලියලත් තියනව. ඒකේ සඳහන් කරල තියනව **ජාති පච්චයා සොකො** ජාතිය හේතු ධර්මයයි. සෝකය ඵල ධර්මයයි. ඒ නිසා සෝකයක් ආපු වෙලාවේදිම ඉතාමත්ම අභිධර්මානුකූලව සඳහන් කරල තියනව ජාතිය තියනව නම් සෝකය තියනව.

එක දවසක් ස්වාමීන් වහන්සේ කෙනෙක් - ඒ ස්වාමීන් වහන්සේ දැන් අපවත් වෙලා. දේශීය ඇත්තන්ගේ ඉතාමත්ම සිත් ගත්ත බටහිර ස්වාමීන් වහන්සේ නමක් - ඉතාමත්ම ආරණ්‍යගතව ගත කරල තියනව. පස්සේ ඒ ස්වාමීන් වහන්සේගේ වාත විස අයින් කරගැනීමේ අවශ්‍යතාවක් සඳහා කොළඹට ගිය වෙලාවෙදි සාදරයෙන් භාරගත්ත උපාසක අම්මා කෙනෙක් ඒ ස්වාමීන් වහන්සේ කටයුතු කරන කාලේ දානය දෙන්න සූදානම් වෙලා තියනව. මේ ස්වාමීන් වහන්සේ එතනට ගියාම දානය ටිකක් වළඳල තමන්ට දන්න තේරෙන භාෂාවෙන් බණ ටිකක් කියන එක චාරිත්‍රයක් කරගෙන තියනව. ඒක දෙපැත්තටම බොහොම කලාතුරකින් හම්බ වෙන අවස්ථාවක්. මේ නිසා දෙපැත්තම

බොහෝමත්ම සුහද විශ්වාසයක් ධාර්මික සම්බන්ධයක් ඇති කරගෙන තියනව.

මේ උපාසකම්මා ස්වාමීන් වහන්සේ වැඩිය වෙලාවෙදි ළඟ හිටපු උපාසක අම්මා කෙනෙකුත් සම්බන්ධ කරගෙන තියනව දනෙට. ඒ අම්මත් බොහොමත්ම මධ්‍යම තරුණ වයසේ කෙනෙක්. ඇවිල්ලා දනෙට සම්බන්ධ වෙලා බණ ඉවර වෙලා මේ ස්වාමීන් වහන්සේ ධර්ම සාකච්ඡා කරනකොට අර ළඟ ගෙදර ඉන්න උපාසක අම්මා අහනවලු ස්වාමීන් වහන්ස, මම මගේ පළවෙනි විවාහය බොහොම ආදරෙන් බොහොම සහෘත්වය ඇතුව සමාජ ධර්ම අනුව සිද්ධ කළා. මගේ මහත්තයත් බොහොම හොඳ කෙනෙක්. නමුත් අපිට ලැබිච්ච පළවෙනි දරුවා බහ තෝරන වයසෙදි මිය පරලොව ගියා. ඒ නිසා මගේ මුළු ජීවිතයම සෝකයෙන් වෙළිල තියෙන්නේ. ඇයි ස්වාමීන් වහන්ස කිසිම දෙයක් ලෝකේ හයහතරක් නොදන්න මේ අහිංසක දරුවට මේ වගේ කර්ම විපාකයක් පටිසන් දුන්නේ? ඇයි මට මෙහෙම සෝකයක් ආවේ? කියල. ඒ දරුවට වෙච්ච දේ කොච්චර අසාධාරණද කොච්චර අකරුණාවන්තද? ඇයි මේ විදිහේ දෙයක් මොකක්ද මේ ජීවිතේ? කියල ඇහුවලු.

ඉතින් ස්වාමීන් වහන්සේ කිව්වලු ඒ දරුවට ආපු මරණ දුක ජාති දුකේම කොටසක්. මැරුණේ දුකට පත් වුණේ ඉපදිච්ච නිසා. නමුත් ඒ දරුවා උපදින දවසේ ඔබ කොච්චර සතුටු වුණාද? පළවෙනි විවාහය, පළවෙනි බබා. මේක තුළ ජරාව තියනවයි කියල, මරණය තියනවයි කියල, සෝකය තියනවයි කියල, පරිදේවය තියනවයි කියල, උපායාසය තියනවයි කියල හීනෙකින්වත් හිතුවේ නැහැ. හිතල තිබුණා නම් උත්පත්තියෙදි ඔබ ටිකක් කනගාටු වෙනව ඔන්න ජරාවක් උපන්නා කියල. සිද්ධාර්ථ කුමාරයා දැක්කේ **රාහු ජාතො බන්ධනං ජාතං** කියල.

ඕක පෙන්නන්න බැහැ අනික් ආගමික ඇත්තන්ට. ඒගොල්ලො කියන්නේ මේ දරුවා ඉපදිච්ච වෙලාවේ ඇයි අවමංගල්‍ය කථා කරන්නේ කියල. අවමංගල්‍ය කථාවක් නෙවෙයි, මේ කාරණාව විසඳන්න ඕනැ දෙපාරින්. ඒ නිසා අපි ළඟට එන

ඔය හොඳයි කියන සෑම ආශීර්වාදයක් තුළම මරණය, නයි බිම්මල් හත්ත එක පස් කඳුලක් ඔළුවේ තියාගෙන නැගිටින්නා සේ උපදින සෑම කෙනා මරණයත් එක්කයි උපදින්නේ. ජරාවත් එක්කමයි උපදින්නේ. ඒ විතරක් නෙවෙයි සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස උපායාස කියන මේ අනායාසයෙන් එන අනියම් දුක් සියල්ලම අරගෙන එන්නේ. ඒත් ජාතියෙන් ජාතිය බොහෝම ප්‍රීතියට පත් වෙනව මම මවක් බවට පත් වෙලා. අපේ පවුල් ජීවිතේ පූර්ණත්වයට පත් වුණා, බබෙක් උපන්නා කියල ඒක පූර්ණ සැපක් විදියට බලා ඉන්නව. අනේ ඒකා අකාලයේ මැරිල ගියාම මුළු ජීවිතේම තැවෙනව අර ව්‍යසනය නිසා. ඉතින් කවුරු හරි මතු කරල දෙන්න ඕනැ ජාතිය උපන් දවසේමයි ඕක උපන්නේ. නමුත් ඒක දැක්කේ නැති නිසා ඒකෙන් සෝකයක් එනකොට අපි ඒ සෝකයෙන් ද්වේෂ සහගතව වෙළීගන්නව නම්, ඇත්තටම සෝකයක් වෙළාගැනීම මතම තමයි සෝකයක්, සෝකයක් වෙන්නේ. වෙළෙන්නේ නැතිව සෝකය ආපුවහම ඒක යෝනිසෝමනසිකාරයට ලක් කරන්න නම්, නැවතත් මං මතක් කරනව හොඳ කායානුපස්සනාවෙ දක්ෂතාවක් තියෙන්න ඕනැ. වේදනානුපස්සනාවෙ දක්ෂතාවක් තියෙන්න ඕනැ. චිත්තානුපස්සනාවෙ දක්ෂතාවක් තියෙන්න ඕනැ. තිබුණොත් ඔහුට පුළුවන් වෙනව දුක්ඛ දෝමනස්ස සහිත මේ සෝකය, මේ චෛතසික තත්ත්වය තේරුම් අරගන්න.

භාවනා පැත්තට යනකොට අපි දන්නව ආනාපානය හෝ පිම්බීම හැකිළීම හෝ වෙන යම් සංස්කාර කොටසක් ඇරගෙන අපි භාවනා කරමින් යනකොට ඒ භාවනාව සාර්ථක වෙනව නම්, ක්‍රමයෙන් අපට ඒ අරමුණට මුහුණට මුහුණ දල සිටින අවස්ථාවක් එනව. ඒ තත්ත්වය ආවට පස්සේ ඒක තේරුම් අරගෙන, දැන් අපි ප්‍රධාන වශයෙන්ම අරමුණයි සිතයි මුහුණට මුහුණ දල තියනව. දැන් අපට තියෙන්නෙ සමථ වශයෙන් හෝ විපස්සනා වශයෙන් හෝ මේකට පුළුවන් තරම් ළං වීමයි. ඒ ළං වීම කරන්න අනිකුත් බාධක ධර්ම රණ්ඩු කරද්දි අමාරුයි. හිතාගන්න අමාරුයි. අරමුණට මුහුණට මුහුණ දල ඉන්න නිසා දැන් අපිට එහෙම තත්ත්වයක් නැහැ. අරමුණට මුහුණට මුහුණ දල දැන් තියෙන්නේ. හැකි තාක්

දුරට මේ දෙක අතර සමීප සම්බන්ධතාවක් ඇති කරන්නය කියල, අර මුලින් අවස්ථාවට වඩා - මුල් අවස්ථාව අපි කිව්වොත් ආරම්භක වීරිය කියල, දැන් පග්ගහිත විරියෙන් - අතට ගත්ත දේ අත නාරින ස්වරූපයෙන් දිගට භාවනාව කරගෙන යනකොට මේ අරමුණේ සියුම් වීමක් වෙන්න පටන්ගන්නව. සමහර වෙලාවට ශාන්ත භාවය තුළ සියුම් වෙනව. සමහර වෙලාවට ඉතාමත්ව සක්‍රිය භාවයක් තුළ උත්සන්න භාවයක් තුළ සියුම් වීම වෙන්න පටන්ගන්නව.

මේ සියුම් වීම අරමුණේම හිත එකට කිට්ටු වෙන වෙලාවේ සියුම් වේගන යනකොට අපේ ශරීරයේ තැන් තැන්වලින් පුංචි පුංචි වේදනා කොච්චර දෝ පහළ වෙන්න පටන්ගන්නව. සමහර වෙලාවට මුළු කයම අයිස් කාමරේක දාපුවහම ගල්ගැහෙන්නේ, අයිස් වෙන්නේ, හිරි වැටෙන්නේ කොහොමද? ඒ තරමට ඇඟ සම්පූර්ණ හිරිවැටීගෙන යනව අංශභාගේ හැදීගෙන එනව වගේ හොඳටෝම වැටහෙනව. එහෙම නැත්නම් ඇඟ පුරාම නයි කූඹි දුවනව, කනව වාගේ, කකියන නළියන ගති කොච්චරදෝ මතු වෙනව. එහෙම නැත්නම් මුළු ශරීරයම ගලක් වාගේ යකඩයක් වාගේ තද වෙන ගල් වෙන පිඹුරෙක් වෙළාගත්තා වාගේ වෙළාගන්න ගති, සමහර වෙලාවට වැගිරෙන ගති, සමහර විට උණුසුම් ගති කොච්චරදෝ මතු වෙනව. එතකොට යෝගාවචරයට කියනව මේ රූප ධර්ම ගෙවීගෙන ගෙවීගෙන යනකොට වේදනානුපස්සනාව උඩ දමන ගතිය වේදනානුපස්සනාව ඇවිල්ලා අවධානය ඉල්ලන ගතිය ස්වාභාවිකයි. ඒ නිසා දැන් අරමුණ තියනව නේ හිතේ. ඒ ඇති. ඒ තියන අරමුණ දෙස බලාගෙන මේ වේදනාවෙන් මතු වෙන්නා වූ සෑම සියලු දෙයක්ම දැකගන්න. නමුත් බලන්න යන්න එපා. දැනෙන්න අරින්න. ඒවාට අවධානය යොමු කරන්න එපා, තමන් අරමුණේම ගත කරන්න කියල කියනවා.

යම් අවස්ථාවක යෝගාවචරයා මේකේ දක්ෂ වුණොත් වේදනා එනව පවතිනව යනව. තව ඊට වඩා උග්‍ර එකක් එනව පවතිනව යනව. අපි ඒකට කියනව වේදනානුපස්සනාව කියල. ඕක ජයගත්තට පස්සේ කියනව වේදනා විජය කියල. ඒ කියන්නේ

වේදනා නැසීම නෙවෙයි. වේදනාව එනකොටම දන්නව. ඇවිල්ලා එයා අපිට කරදර කරන හැටි, දෙරට තට්ටු කරන හැටි, අවධානය ගන්න හදන හැටි දන්නව. එයා එනවා වගේම යනව. ඒ මුල මැද අග තුන දැක්ක නම් විපස්සනාව ඉවරයි. වේදනාව සම්බන්ධව අපි කියනව වේදනා විජය කියල. ඊට පස්සේ වේදනාවත් පවතිද්දි සිතිවිලි එනව. රාග සිතුවිලි, අතීත සිතුවිලි, අනාගත සිතුවිලි, සැලසුම් ද්වේෂ ඔක්කොම එන්න පටන්ගන්නව. ඒ කොච්චර ආවත් යෝගාවචරයට සතියට සමාධියට වැටහෙනව නම් මූල කර්මස්ථානය දැන් පවතිනව. මූල කර්මස්ථානය පවතිද්දිමයි මේ සිතුවිලි රාශි රාශි එන්නේ. කමක් නැහැ. ඒ සිතුවිලි එනව පවතිනව යනව.

ආන්න ඒ විදිහට මේ සිතුවිලි විෂයෙහි අරමුණෙහි සිත පවතිද්දි යෝගාවචරයාට දැනුණට දැනගන්න යන්නේ නැහැ, පෙනුණට බලන්න යන්නේ නැතුව හිටපුවහම අර සිතිවිලිත් යට වෙනව. ඒකට කියනව විතක්ක විජය කියල. මේ විතක්ක විජය වේදනා විජය යට කළාට පස්සේ තමයි අරමුණෙහි මෙහෙම හිත පවතිද්දිත් මේකේ ඇති දෙයක් නැහැ කියල ඒක නීරස වෙන ගති පහළ වෙන්නෙ. අයියෝ මං වගේ තරුණ පිරිස් මේ වෙලාවේ කොයි තරම් කීයක් හරි හම්බ කරගෙන ඉන්නව ඇත්ද, දේවල් රස බලනව ඇත්ද, මං විතරක් මේ ඉඳගෙන කොච්චරදෝ භාවනා කරනව. මොකක්දෝ මේකේ ඇති වැඩේ කියල අර හොඳට යන භාවනාව පිළිබඳව සෝක සෝචනා මතු වෙන්න පටන්ගන්නව. එහෙම නැත්නම් නීරස ගති මතු වෙනව. එපා වෙන ගති මතු වෙනව. බය ගති පහළ වෙනව. මේ පහළ වෙනකොටත් යෝගාවචරයා හොඳට සතියෙන් සමාධියෙන් බැලුවොත් අරමුණ තියෙද්දියි මේව එන්නෙ. මේවා විෂයෙහි හැසිරෙන්න පටන්ගත්තොත්, බලන්න පටන්ගත්තොත්, මෙනෙහි කරන්න පටන්ගත්තොත් තව වැඩි වෙනව.

ඒ පදනම, ඒ නීරස ගති, ඒ සෝක කරන ගති, පරිදේව කරන ගති සමහර වෙලාවට දීර්ඝ සුසුම් හෙළනව සුවාසේ හෙළන්නා වගේ. මේ සැම දෙයක්ම එන්නේ ද්වේෂ පදනමින්. ආන්න ඒ ද්වේෂ පදනම දැකගන්න නම්, ඉස්සෙල්ලා වගේම

අරමුණ මෙනෙහි කිරීමේ දක්ෂතාව තිබිල බැහැ. අරමුණ මෙනෙහි කිරීමේ දක්ෂතාව නිසා තමයි දූන් අරමුණ නොසැලී පවතින්නේ. දූන් දනගන්න ඕනැ මේ අරමුණ තියෙද්දි පැත්තකින් යන එන ධර්මවලට අපි යට වෙන්නේ මේක ද්වේෂයෙන් එන බව නොදූන හිටියොත් තමයි. අපි ඒවා මකන්න උත්සාහ ගන්නව. නොඒවා නොදකින් කියල කටයුතු කළොත් එන්න එන්න එන්න එන්න ඒවායේ තියන දුෂ්ට ගති දරුණු ගති වැඩි වෙනව. ඒ නිසා ඒ වෙලාවෙදි අපට අවශ්‍යයි ඒ පාපය පාපය වශයෙන් දූනගන්න. මොකක්ද පාපේ? මේව එන්නේ ද්වේෂ පදනමින්. ඒ ද්වේෂ පදනම ඥානයෙන් යටපත් කරන්න පුළුවන් නම්, ඒ කියන්නේ දූනගන්න පුළුවන් නම්, මේ අරමුණෙහි හිත පවතිද්දි ඔන්න ද්වේෂයක් ආවා ඔන්න සෝකයක් ආවා ඔන්න පරිදේවයක් ආවා කියල එනකොටම, ඒ ද්වේෂ පදනමට ඉන්න බැරුව යනව. ඒක හුදු විපස්සනාව නිසා, දැකීම නිසා, ඇත්ත ඇති වශයෙන් දැකීම නිසා **පාපං පාපකතො පස්සථ**. මේ තමයි පළවෙනි පියවර.

මෙන්න මේ තියෙද්දි ඒක දිහා බලල ඒක පේන්න දිගටම එන්න හැරල, ඒකට මුහුණ දෙන්න පටන් අරගත්තොත් ද්වේෂයට ඉන්න බැරුව යනව. ඒක එහෙම්ම හැරිල යනව. එතකොට ඒක ධම්මානුපස්සනාවක් වෙනවා. මේක තමයි ඇත්තටම කියනව නම් විපස්සනාවේ තිරිහන් අවස්ථාව. ඉලන්දරි යුගය. ඊට ඉස්සෙල්ලා තියන තරුණ අවස්ථාවල ඒ වේදනාව ජයගන්නව, විතක්ක ජයගන්නව. එච්චා ධම්මානුපස්සනාවට පුහුණුවක් තමයි. ඒ නිසා අනෙකුත් ආගම්වල ඇත්තන්ටත් හුඟාක් දුරට ඒවා එන්න පුළුවන් බව පර්යේෂණවලින් ඔප්පු වෙලා තියනව. නමුත් ඒවා එනකොටම ඒගොල්ලෝ කවදාකවත් මේ වගේ දේකට මුහුණ දීලා බැලීමේ හැකියාවක් නැති නිසා ඒක සර්ව බලධාරි දෙවියන් වහන්සේ කියල හිතල වැඩේ නතර කරනව. සර්වඥයන් වහන්සේ කියල තියනව දූනුයි වැඩේ පටන්ගත්තේ. මෙන්න මේ එන ද්වේෂ පදනම දූනගන්න. ඒ නිසා ඒක අයින් කරන්න තරහින් මෙනෙහි කරන්නත්

එපා. නොඒවා කියල හිතන්නත් එපා. මට පැමිණේවා කියල බදගන්නත් එපා.

මෙයින් ඉතුරු වෙන එකම දේ උපේක්ෂාව විතරයි. හැප්පෙන්න හැප්පෙන්න අරමුණම පවතිද්දි වේදනා එනව, විතර්ක එනව, ධර්මතා එනව. කොයි එක ආවත් හුළං වදින්නෙ නැති තැනක පත්තු වෙන ඉටිපන්දම් දැල්ල වගේ හිත නොසැලී අරමුණම ආශ්‍රය කරමින් ඉන්නව නම්, අර සැම සියලු දේකම ඇත්තා වූ කුප්පන්න පුළුවන් ගතිය නැති වෙලා යනව. නැති වෙලා යන්න යන්න යන්න යෝගාවචරයාට පේනව නිකං ඉඳීමමයි, අක්‍රියත්වයමයි මේ වෙලාවේ ජයගන්න තියන ක්‍රමය. අරමුණේ සරණයි අරමුණේ පිහිටයි කියල ඒක දිහා බලා ඉන්නකොට ඉන්නකොට අරමුණ ගෙවෙනව. එහෙම ගෙවීගෙන යනකොට යනකොට අරමුණ විෂයෙහි උපේක්ෂාව පහළ වෙනව, වේදනාව විෂයෙහි උපේක්ෂාව පහළ වෙනව, විතක්ක විෂයෙහි උපේක්ෂාව පහළ වෙනව. සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස කියන දේවල් විෂයෙහිත් උපේක්ෂාව පහළ වෙනව.

ආන්න ඒ සංස්කාර පිළිබඳව පහළ වෙන්නා වූ උපේක්ෂාව තුළින් බලන කෙනාට පැහැදිලිවම පේනව මෙවැනි සාසනයක් පවතින්න නම්, දවසක ඥාතීන් අතහැරීමේ ප්‍රතිපත්තියක් ජීවිතයට හඳුන්වල දෙන්න වෙනව. නැත්නම් ඥාති ව්‍යසනවලින් අපට කවදාකවත් ගොඩ එන්න ලැබෙන්නේ නැහැ. ඒ වගේම වස්තු අතහැරීමේ ප්‍රතිපත්තියක් ආගමික වශයෙන් අපට ලෝකයට හඳුන්වල දෙන්න වෙනව. එහෙම නැත්නම් වස්තුව බදාගෙන ඉන්න ඉන්න ව්‍යසන වැඩි වෙනව. භෝග අතහැරීමේ ක්‍රමයක් අනිවාර්යයෙන්ම කියල දෙන්න වෙනව. සීල ව්‍රත දෘඩි ව්‍රත දෘඩි මත දෘෂ්ටි අතහැරීමේ දුරු කිරීමේ ක්‍රමයක් ප්‍රතිපත්තියක් වශයෙන් අවශ්‍ය වෙනව. ඒකට අපි කියනව අභිනිෂ්ක්‍රමණය කියල. ඥාතීන්ගෙන් වස්තුවෙන් භෝගයෙන් සීලයෙන් දෘෂ්ටියෙන් අභිනිෂ්ක්‍රමණය කරපු කෙනාට තේරෙනව උපේක්ෂාවට ගියාට පස්සේ ඒක බොහෝම ඥානවන්ත ක්‍රියාවක් කියල. එහෙම නැතුව ප්‍රශ්නවලින් පැනයාමේ බියගුලු ක්‍රියාවක් නෙවෙයි. ලෝකයෙන්

පැනයාමේ ක්‍රියාවකුත් නෙවෙයි. පුළුවන් නම් කරන්න කියන එකයි කියන්න තියෙන්නේ.

ගොඩ ඉඳලා පිහිනන්න පුළුවන් හෝ බැරි හෝ කියල සහතික පෙන්නනවට වඩා, පුළුවන් නම් කුඩා හෝ වේවා මහත් හෝ වේවා ඥාති පරිවට්ටයෙන් ගැලවෙන්න. පුළුවන් නම් කුඩා හෝ වේවා මහත් හෝ වේවා භෝග වස්තු පරිවට්ටයෙන් ගැලවෙන්න, පුළුවන් නම් තමා හිසේ තියාගෙන ආපු හණ මිටි, සීල ව්‍රත, දූඩි ව්‍රත අතහරින්න. පුළුවන් නම් දෘෂ්ටි අතහරින්න. එහෙම අතහැරියොත් ඔහුට ඊට පස්සේ සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස ඉපදීමේ හරය නැති වෙනව. පදනම නැති වෙනව. එහෙම නැත්නම් දෙවියන් වහන්සේට යාඥා කරල හෝ පැමිණිච්ච දුක්ඛ දෝමනස්සවලට අනුකම්පාවෙන් හෝ කරන්න බෑ. ඒ වෙලාවේදි යම් කිසි පිළියමක් කරන්න ඕනැ. මධ්‍යම ප්‍රතිපදාවේ ඉඳගෙන බෙහෙත් කරන්න ඕනැ. ශාන්ති කර්ම කරන්න ඕනැ.

නමුත් ඒ ශාන්ති කර්ම කරන්නෙ නැවැත නැවැතත් හෝද හෝද මඩේ දල ආයේ සෝක නැති කරමින් ගිහිල්ලා කාමභෝගී කරන්න නෙවෙයි. සෝකයේ ඉන්නකොට භාවනාව පටන්ගන්න බැරි නිසා. ඊට පස්සේ ඒක සමථය කළාට පස්සේ නැ ත ඒ සෝක උපදවන ඥාතීන් වඩන්න, වස්තුව වඩන්න, භෝග වඩන්න, ව්‍රත වඩන්න, දෘෂ්ටි වඩන්න යනව නම්, අන්න ඒ තත්ත්වය සලකල හිතල තමයි සර්වඥයන් වහන්සේ ධර්මය දේශනා කිරීම ප්‍රතික්ෂේප කළේ. ඒක නිසා ඒ වැඩ පිළිවෙළ දිහා බලනකොට අපිට හැම වෙලාවෙදීම අපි ගැන තක්සේරුවක් කරගන්න පුළුවන්. ධර්මය මධ්‍යම ප්‍රතිපදාවට මූල කර්මස්ථානයට ළං වෙන්න වෙන්න වෙන්න අපි මේ මහා ලොකුයි කියල හිතා ඉන්න ඥාති සම්බන්ධතාව නිකන්ම නිකම් පුස්සක්. **තුච්ඡතො, රිත්තතො, පරතො, අනත්තතො** ආදී වශයෙන් නිකං කෝම්බයක්, හිස් දෙයක් බව වැටහෙනව. අපි මේ බලන්න හදන පරමාර්ථ ධර්මයත් එක්ක බලනකොට ඥාතීන්ගෙන් අපට ලබාගන්න පුළුවන් සරණ තුච්ඡයි රිත්තයි අනත්තයි. අනුන්ගේ දෙයක්. ඒ වාගේම අපට ව්‍යසනයකදි වස්තුවකින් සිද්ද වෙන අර්ථය ගැන කල්පනා කරල බැලුවොත් ඒක බොහොම අසරණයි. ඒක නිකන්ම නිකන් කෝම්බය විතරයි.

අනත්ත ලක්ෂණය පෙන්වන ලකුණු හතරම පහම වස්තු විෂයෙහි තියනව, භෝග විෂයෙහි තියනව, සීල ව්‍රත විෂයෙහි තියනව, දෘෂ්ටි විෂයෙහි තියනව.

නමුත් මේ ඥතීන් වස්තු භෝග සීල දෘෂ්ටි පිළිබඳව මහා භාරතයෙහි සඳහන් කරල තියනව, නම්බුවෙන් ජීවත් වෙන මිනිහට මොනවටද ආයේ නම්බු කරන්නේ මට හොඳ ඥති ඉන්නව කියල, මට හොඳ වස්තුව තියනව කියල, මට භෝග සම්පත්ති තියනවයි කියල, මට මේ ව්‍රත තියනවයි කියල, මට මේ දෘෂ්ටි තියනවයි කියල. ඒකට නම්බුව අතහරින එක මරණයට වඩා අමාරුයි කියල තියනවා. මරණය පිළිගත්තත් ඒ මනුස්සය අර දැඩිව ගත්ත නම්බුව අතහරින්න කැමති නැහැ. එච්චා එකක්වත් තමන්ගේ නෙවෙයි. ඒවාට හේත්තු වෙන්න වෙන්න කම්පන චංචල නෙ වැඩි වෙන්නෙ. ඒ නිසා සර්වඥයන් වහන්සේ දේශනා කළා මහා කාලකාරාම සූත්‍රයේදි, ඔය සියලු දේවල් එකක්වත් මම නොදන්නව නෙවෙයි. මේ බණ අහන බණ කියන මේ පිරිස්වල ඉන්න තථාගත භාවයකට පත් වෙච්ච නැති සෑම සියලුදෙනාම හිතන පතන ධර්ම සියල්ලම මම දන්නව. වෙනස තියෙන්නේ ඔයගොල්ලෝ ඒකට හේත්තු වෙලා ඉන්නව. මම ඒකට හේත්තු වෙලා නැහැ. මේක කියනකොට මහ පොළොව හෙල්ලුම් කෑවයි කියනව තුන්වතාවක්. ඒකයි සර්වඥ කියල කියන්නේ.

මේ නිසා ඥතීන් මරන්න හදනවක්වත් ප්‍රතික්ෂේප කරන්න හදනවක්වත් නෙවෙයි. ඥතීන් ඥතීන්ගේ මට්ටමට තියන්න. ඒක පිළිබඳ මඤ්ඤනා කරන්න එපා. භෝග භෝග මට්ටමේ තියන්න. ඒක පිළිබඳව මමය මාගේය කියල මඤ්ඤනා කරන්න එපා. වස්තුව වස්තුව වශයෙන් තියන්න. මතවාද නැත්නම් ව්‍රත ඒ මට්ටමින් තියන්න. දෘෂ්ටි දෘෂ්ටි මට්ටමින් තියන්න. මෙච්චට කරන්න පුළුවන් වෙන්නේ ව්‍යසන ඇති කිරීම පමණයි. සෝක ඇති කිරීම පමණයි. නමුත් අභාග්‍යයකට වගේ මේවා නැතුව ජීවත් වෙන්නත් බැහැ. පෘථග්ජනයි කියල කියන්නේ මේ පහේ එකතුවක් තමයි. ඒ නිසා අපි ආසන්න වශයෙන් පැහැදිලිවම දැනගන්න ඕනැ **පාපං පාපකතො පස්සථ**. මේ ධර්මතා ධර්මතා වශයෙන් දැකගෙන, ඒ

පාපයෙන් මිදීමට ඒ පාපය පිළිබඳව නිර්වින්දනය කිරීමට විමුක්තිය ලබාගැනීමට තමයි අපි නිතරම කල්පනා කරන්න ඕනැ.

මේ කල්පනාවට තමයි යෝනිසෝමනසිකාරය කියන්නේ. යෝනිසෝමනසිකාරය ඇති කිරීම තමයි ධම්මානුපස්සනාවෙදි අත්‍යවශ්‍ය. ඒ අත්‍යවශ්‍ය භාවය සිද්ධ වෙන්නේ සූතමය වශයෙන් අහල මේකේ තියන අමුත්ත, මේකේ තියන අරුැම භාවය, මේකේ තියන විශේෂණය තේරුැම්ගන්න ඕනැ. ඊට පස්සෙ තමන් දන්න ඉතිහාසය භූගෝලයත් එක්ක තර්කත් එක්ක ගළපල චින්තාමය වශයෙන් කල්පනා කරල බලනව. ඔය කිච්චට ඔහොම ඥතීන් අතහැරල පුළුවන් වෙයිද? හදිස්සියේවත් ණය තුරහක් ගන්න කවුද ඉන්නේ? වස්තුව අතහැරල කොහොමද විශ්‍රාම යනකොට? පොතේ මොනවක්වත් තැන්පත් කරල තිබුණෙ නැත්නම් මොකෙන්ද ගන්නේ? භෝග අතහැරල කොහොමද? ඒ වගේම අපි ගෙනාපු මතිමතාන්තර අතහැරල කොහොමද? දෘෂ්ටි අතහැරල කොහොමද? කියල යම් තාක් අපිට පෘථග්ජන ඥාන තියනකල් අපි කරන්නේ මේවා බදගෙන ඉන්න එක තමයි. හීනෙනුත් බදගෙන ඉන්නව, හැබැහිනුත් බදගෙන ඉන්නව, දවලුත් බදගෙන ඉන්නව, රෑත් බදගෙන ඉන්නව.

ඒ නිසා අපට සිද්ධ වෙනව මේ **පාපං පාපකතො දිස්වා** පාපය පාපය වශයෙන් දැනගෙන, මේ පිළිබඳව නිර්වින්දනයක් පහළ කරන්න. ඒක චින්තාමය මට්ටමින් සමහරුැන්ට සිද්ධ වෙනව. අවසානයේ ඒක සිද්ධ වෙන්නේ අරමුණට හිත දනව. අරමුණ පවතිද්දි වේදනාව හසුරුැවනව. අරමුණ පවතිද්දි විතක්ක හසුරුැවනව. අරමුණ පවතිද්දි ධර්මතා හසුරුැවනකොට තේරෙනව මේක ඒකාන්තයෙන් මේ ජීවිතයේදි කරගන්න පුළුවන්. ඒ නිසයි සතිපට්ඨානයේ අවසානයේ සඳහන් කරන්නේ අවුරුදු 7 ක් මේ විදියට දැගලුවොත් මේක පිළිබඳව සහතිකයක් ගන්න පුළුවන් කියල. ඒ නිසා සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස උපායාස කියන ධර්ම සාමූහික වශයෙන් අපිට මේ විදිහට පෙන්වන්න පුළුවන්. ඒක පිළිබඳව දීඝ නිකායේ සඳහන් වන සතිපට්ඨාන සූත්‍රයේ එකට එකට එකට එකට වෙනස් අර්ථකථන දෙනව.

අද ධර්ම සාකච්ඡාවේ ධර්ම දේශනාවේ ඉදිරිපත් කරගත්තේ මේවයේ පවතින පොදු කරුණු ටිකයි. මං හිතනව කාටත් මේව පිළිබඳව අත්දැකීම් තියනව කියල. මූලධර්ම පිළිබඳව පිරිසිදු ඥනය අවශ්‍ය නම් පොත් පත්වල තියන දේත් එකතු කරගත්තාම මෙතුවාක් කල් බලපු තාලෙට වඩා වෙනස් ක්‍රමයකට සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස දිහා බලල ජීවිතේ සතුටින් මුහුණ දෙන, සෝකයට සතුටින් මුහුණ දෙන පිරිසක් බවට පත් වීමෙන්, සතිපට්ඨානයේ මුලින්ම සඳහන් කරන්නා වූ හරි ගියාම ගාස්තුව ගෙවීමේ ක්‍රමයට සඳහන් කරන ආනිසංස පිළිබඳව වෙනදට වඩා ලොකු බලාපොරොත්තුවක් ඇති කරගන්න පුළුවන් නම්, ඒකෙන් අදහස් වෙනව බණ ටික ඇහිල තියනව; බණ ටික සාකච්ඡා වෙලා තියනව; ඒකට සුදුසු අත්දැකීමක් තමන් තමන් තුළ තියනව.

ඒ නිසා මේ පැය තුළ යම් තාක් මූලධර්ම කරුණු ඉදිරිපත් වුණා නම් ඒ කරුණුත් තමතමන්ගේ අත්දැකීමුත් එකතු කරගෙන, සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස පිළිබඳව ඒවා ඒවා හැටියට දකගැනීමටත් ඒවායෙන් නිර්වින්දනය විමුක්තිය විරාගය ඇති කරගැනීම පිණිස කුසල ඡන්දයක් පහළ වුණා නම් ඒකම මේ පැයේදී ඉෂ්ට සිද්ධ වුණා වෙනව. ඒ දේ පිළිබඳව සියලුදෙනාගේම ශ්‍රද්ධාව වීරිය සති සමාධි ප්‍රඥව දියුණු වේවා, වැඩේවා කියන කරුණාවෙන් මෛත්‍රියෙන් දේශනාව මෙතනින් සමාප්ත කරනව.

සියලුදෙනාටම සැනසීම ලැබේවා!

# 68 | අප්‍රිය සම්ප්‍රයෝග දුක

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**කතමො ච භික්ඛවෙ අප්පියෙහි සම්පයොගො දුක්ඛොඃ ඉධ යස්ස තෙ හොන්ති අනිට්ඨා අකන්තා අමනාපා රූපා සද්දා ගන්ධා රසා ඵොට්ඨබ්බා ධම්මා, යෙ වා පනස්ස තෙ හොන්ති අනත්ථකාමා අහිතකාමා අඵාසුකකාමා අයොගක්ඛෙමකාමා, යා තෙහි සද්ධිං සංගති සමාගමො සමොධානං මිස්සීභාවො, අයං වුච්චති භික්ඛවෙ අප්පියෙහි සම්පයොගො දුක්ඛො තී'ති**

ගෞරවනීය මහා සංඝරත්නයෙන් අවසරයි. යෝගාවචර උපාසක මහත්වරුන් එක්ක මහා සතිපට්ඨාන සූත්‍රය ඉදිරිපත් කරගෙන පවත්වාගෙන යන ධර්ම දේශනා මාලාවේ අපි අද ඉදිරිපත් කරගන්න බලාපොරොත්තු වෙන්නේ දුක්ඛ සත්‍යයට අයිති එක කොටසක්. දුක්ඛ සත්‍යයට විස්තර විභාගයක්.

මේ තාක් කල් ජාති, ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස කියන ශෝකය, දුක පිළිබඳව යම් ලක්ෂණ සමහරක් විස්තරයට ගත්තා. මේක සාමාන්‍යයෙන් ධම්මචක්කප්පවත්වන සූත්‍රය ආදී තැන්වල පෙන්නල දීල තියෙනවා. ඒකෙම දුක පිළිබඳව කරන තවත් විස්තරයක් තමයි **අප්පියෙහි සම්පයොගො දුක්ඛො පියෙහි විප්පයොගො දුක්ඛො** කියන එක. අපි

සාමාන්‍යයෙන් විමසල ගත්තොත් අප්‍රිය දේවල් සහ පුද්ගලයින් හමු වීමෙන් එකට සම්ප්‍රයෝග වීමෙන් ඇති දුක සහ **පියෙහි විප්පයොගො දුක්ඛො** කියන ප්‍රිය වස්තුවලින් සහ පුද්ගලයින්ගෙන් වෙන් වීම සම්බන්ධ කරගෙන ඇති දුක. අප්‍රිය සම්ප්‍රයෝගයත් ප්‍රිය විප්‍රයෝගයත් කියන මේ දෙක නිසා තමයි කලින් සඳහන් කරපු ශෝක, පරිදේව, දුක්ඛ දෝමනස්ස, උපායාස කියන ආකාරයට කයින් වචනයෙන් දුක පිළිබිඹු වෙන්නෙ.

ශෝකය ගැන එද කථා කළා. **ආදෙවො පරිදෙවො ආදෙවනා පරිදෙවනා අදෙවිතත්තං පරිදෙවිතත්තං** කියල විප්‍රයෝගයක් වෙච්චහම ඒ ඒ ඇත්තන්ගේ නම් ගොත් කියකියා අඬනවා. ඇඬිය යුතු දේවල් බවට කල්පනා කරනවා. එතකොට පරිදේවයක්. ඊගාවට ශෝකයක් එනකොට **කායිකං දුක්ඛං කායිකං අසාතං.** ඒ විදියට කය වශයෙන් දැනෙනවා ලොකු දහ පරිළාහ. නොවිඳිය හැකි වේදනා මතු වෙනවා. ඊගාවට චෛතසිකව මතු වෙච්චහම **දොමනස්සං. චෙතසිකං දුක්ඛං චෙතසිකං අසාතං.** චෛතසික වශයෙන් මනසට ඇති වෙන්නා වූ දෙම්නස. ඊගාවට උපායාසය කියල කියන්නේ **ආයාසො උපායාසො ආයාසිතත්තං උපායාසිතත්තං** ආයාසකර තත්ත්වයක් ඇති වෙනවා. ඉඳුම් හිටුම් පහසුකම් නැති ස්වභාවයක්. ඒක හාත්පසින් උපායාස බවට පත් වෙනවා. උපායාස කළ යුතුයි. මේ වෙලාවට නාඬා ඉන්න එක හොඳ නෑ. එහෙම දෙයක් වෙච්චහම ඇඬිය යුතුයි ද්වේෂ සහගත විය යුතුයි කියනවා වගේ සමාජ ධර්මයක් තියෙනවා. මේ දෙකට හුගක් වෙලාවට හේතු වෙන්නේ මේ කියන්නා වූ අප්‍රියයන් හා එක් වීම හා ප්‍රියයන්ගෙන් වෙන් වීම කියන ධර්මතා දෙක. ඒකෙදි අප්‍රියයන්ගෙන් වෙන් වීම කියන කාරණාව තමයි ඉස්සර කරලා පෙන්නන්නෙ.

ඒකට හේතුවක් තියෙනවා. අනිකුත් ආගම්වල දක්වන දර්ශනයට වඩා සර්වඥයන් වහන්සේ **දුක්ඛෙ ලොකො පතිට්ඨිතො** කියලා මුළු ලෝකයම පිහිටලා තියෙන්නේ දුකකයි කියලා පැහැදිලි ප්‍රකාශනයක් කරල තියෙනවා. ඒ කියන්නේ මම මැව්වයි කියන එකක් බුදුරජාණන් වහන්සේ භාරගන්නේ නැහැ. මේ දුක මැව්වේ

මමය, ඒක නිසා මේක හොඳට මවලා තියෙනවයි කියන කථාවක්, දේව නිර්මාණවාදයක්, ඊශ්වර නිර්මාණවාදයක් සර්වබලධාරිත්වයක් සර්වඥයන් වහන්සේ බාරගන්නේ නැහැ. සර්වඥයන් වහන්සේ දක්වන්නේ ඒකාන්තයෙන්ම දුක ලෝකය යන දෙක එකක් බව. දුක කියන්නේ ලෝකයක්, ලෝකය කියන්නේ දුකක් බව හොඳට අවබෝධ කිරීමට තරම් ලෝකෙම ඉඳගෙන ලෝකය අවබෝධ කරපු තත්ත්වයට තමයි ලෝකවිදූ තත්ත්වයට, සර්වඥ තත්ත්වයට පත් වුණා කියන්නේ. ඒක නිසා මේ ඇත්තා වූ නරක පැත්ත ආදීනව පැත්ත ඉස්සර කරන්න නොපැකිළ ඉදිරිපත් වෙලා තියෙනවා. ඒක ලොකු විප්ලවකාරී කටයුත්තක්. සර්වඥයන් වහන්සේ ආගමික ශාස්තෘවරයන් වහන්සේ නමක් විදියට කරපු දෙයක්.

ඒ නිසා මංගල සූත්‍රය පටන්ගන්නකොට **අසෙවනාච බාලානං** කියලා පටන්ගත්තේ ආශ්‍රය නොකළ යුතු බාලයන් දුරු කිරීම පණ්ඩිත ආශ්‍රයට වඩා වටිනව. ඉක්මන් කරන්න ඕනැ ඒකටයි. ඒ මොකද, හුඟක් හතිකොන ගැවිලා සම්බන්ධ වෙලා තියෙන්නේ ඒ තාලෙන්. ඉතින් ඒ ඇත්තො හදල කරල ගන්නව වගේ නෙවෙයි, පුළුවන් තරම් ඉස්සෙල්ලා ඒකෙන් වෙන් වෙලා පණ්ඩිත ආශ්‍රයෙන් පස්සේ තමයි අපිට යම් කිසි විදියක දිරිමත් පිරිසක් වීමට පුළුවන් වෙන්නේ. ඒ වාගේම තමයි ලෝකය ගත්තම මේක අප්‍රිය සම්ප්‍රයෝගයක්. පුනරුත්පත්තිය, එහෙම නැත්නම් අන්තරා භවයේ කථාවක් හෝ වේවා අනිවාර්යයෙන් සංසාරෙ කැරකෙන තාක් කල් අප්‍රිය සම්ප්‍රයෝගයක්ම තමයි ප්‍රකට වෙලා තියෙන්නේ.

ඒ නිසාම තමයි **අතීතානුධාවනං චිත්තං වික්ඛොපානුපතිතං** කියලා ඔය **වොධාන** ධර්ම පරිපන්ථ ධර්ම ගැන කථා කරනකොට සඳහන් කරනකොට ඕනැම කෙනෙක් අතීතය සම්මර්ශනය කරල බැලුවොත් වික්ෂෝපයමයි. ඉල්ලන එකම තමයි වැඩේ. අලුත් කරන එකම තමයි වැඩේ. හොඳ එක හොයන එකම තමයි වැඩේ. සැප හොයන එකම තමයි වැඩේ. නමුත් කවමදක්වත් ඒ සැප, ඒ ඉල්ලන දේ නොලැබීම නිසා මෙතෙක් ගත්ත ප්‍රයත්නත් ලැබිච්ච ප්‍රතිඵලත් පොදු එකතුව වික්ෂෝපයක්. අන්න ඒ වික්ෂෝපය තමයි

ඉස්සෙල්ලාම අප්‍රිය සම්ප්‍රයෝගය මුලට තැබීමෙන් විස්තර කරල තියෙන්නේ. ඒකෙදිත් මේ අප්‍රිය සම්ප්‍රයෝගය සාමාන්‍ය අන්ධ පෘථග්ජන පුද්ගලයගේ අප්‍රිය සම්ප්‍රයෝගය, කල්‍යාණ පෘථග්ජනයගේ නැත්නම් සේඛ පුද්ගලයකුගේ, නැත්නම් අරහත්වය අවබෝධ කළා වූ අරහත් උත්තමයන් වහන්සේ නමකගේ, සර්වඥයන් වහන්සේගේ විදියට අප්‍රිය අමනාප වස්තු පිළිබඳව ලැයිස්තුව වෙනස් වෙනවා.

නමුත් සතිපට්ඨාන සූත්‍රයෙන් දීල තියෙන්නා වූ මේ විග්‍රහය ඒ සියල්ලටම හරියන කෝකටත් තෛලයක් විදියට ගොඩනගල තියෙනවා. කොහොමද, මොකක්ද මහණෙනි අප්‍රියයන් හා එක් වීමේ දුක කියලා කියන්නේ. එතකොට සර්වඥයන් වහන්සේ කථා කරන්නේ **ඉධ යස්ස තෙ හොන්ති අනිට්ඨා අකන්තා අමනාපා.** අනිට්ඨ වූ, අසාත වූ, අමනාප වූ කියන වචන තුනයි ගන්නේ. තමන්ට ඉෂ්ටකාන්ත, මනාප, තමන් හිතු පැතු ආකාර සිද්ධ වෙන, ඇහැට කනට කාන්තිමත් වූ මනාප වූ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම; මේ කියන්නා වූ සයවස්තුව තමයි අප්‍රිය සම්ප්‍රයෝගය සඳහා මූල හේතුව වෙලා තියෙන්නේ. වෙන විදියකට කියනව නම් ඉෂ්ට, කාන්ත, මනාප කියන, ලෝභ, තණ්හා, මාන, දෘෂ්ටි ඇති කිරීමට හේතු වෙන්නා වූ ලෝභ චෛතසිකයෙ නැති භාවය, තමන්ට බලාපොරොත්තු වෙච්ච ආකාරයෙන් බලාපොරොත්තු වෙච්ච ප්‍රිය මනාප භාවය නැතිකම තමයි අනිට්ඨ, අකන්ත, අමනාප කියල පෙන්නලා දීල තියෙන්නේ.

ඒ නිසා අපි ශෝක පරිදේව, දුක්ඛ දෝමනස්ස කියන මූලධර්ම ටික ඉදිරිපත් කරන වෙලාවෙත් කථා කරගත්තා ඊගාවට දක්වන සමුදය සත්‍යයට මේකෙන් මුල පාදනව. නැත්නම් සමුදය සත්‍යයෙ දීල තියෙන කාරණා මේකෙන් ආරක්ෂා කරනවා. හැම දුකකටම හේතුව තණ්හාව. නමුත් අප්‍රිය සම්ප්‍රයෝග දුක එනකොට තියෙන්නේ ද්වේෂයක්. මෙතන පෙන්නන්නේ අනිට්ඨ, අකන්ත, අසාත. ඒ මිසක් ඉෂ්ට, කාන්ත, මනාප නෙමෙයි. ඒ නිසා ඉෂ්ට, කාන්ත, මනාප නැති භාවය තමයි මේකෙන් කියන්නෙ. ඒ කියන්නේ මේක හොඳටම පේනවා අතීතයේ ලැබුවා වූ හෝ වේවා අනාගතයේ ලබන්න බලාපොරොත්තු වෙන්නා වූ හෝ වේවා

ඉෂ්ට, කාන්ත, මනාප රූපයක්, ශබ්දයක්, ගන්ධයක්, රසයක්, ස්පර්ශයක් ධර්ම කොට්ඨාශයක් නොලැබී යාම නිසත් ඒ වෙනුවට අනිට්ඨ, අකන්ත, අමනාප දෙයක් ඉදිරිපත් වීමත් කියන මේ කාරණා දෙක තමයි අප්‍රිය සම්ප්‍රයෝගයට හේතු වෙන්නේ.

ඒ නිසා මෙතන අප්‍රිය සම්ප්‍රයෝගයක් වෙන්න චෛතසික තත්ත්ව ගැන යෝගාවචර පැත්තෙන් බලනකොට සතිපට්ඨාන පැත්තෙන් බලනකොට විස්තර රාශි ගොඩක් ගන්න පුළුවන්. ඒ ගන්න පුළුවන් භාවය ඒ භාවනාවට, විශේෂයෙන්ම විදර්ශනා භාවනාවට අවශ්‍ය කරන්නා වූ අංග ලක්ෂණ දහය සලකනකොට මුදු හැරිය යුතු කපා හැරිය යුතු බාධක ධර්ම හය තේරුම්ගැනීමට මේකෙන් මේ සමාජ ධර්මයක් විස්තර කළාට හොඳට ගැඹුරු පැත්තෙන් පරමාර්ථ පැත්තෙන් හේතුවක් සලසනවා. යම් වෙලාවක අනිට්ඨ, අකන්ත, අමනාප තත්ත්වයක් වෙන්න හිත ඒකාන්තයෙන්ම අතීත අනාගත දෙක සම්මර්ශනය කරන්න ඕනැ. වර්තමානයේ ඇත්තා වූ දේවල් ඇති හැටියෙන් පිළිගන්නව නම් ඒකේ ගැළපීමක්, සංසන්දනයක්, හෙට්ටු කිරිල්ලක් නෑ. මේ කියන අනිෂ්ට වෙන්න, අකාන්ත වෙන්න, අමනාප වෙන්න නම්, වර්තමානයේ ලැබිලා තියෙන එකට වඩා ඉෂ්ට වූ, කාන්ත වූ, මනාප වූ දෙයක් ගැන එක්කෝ අතීත වශයෙන් අත්දැකල තියෙන්න ඕනෑ. නැත්නම් අනාගත වශයෙන් සැලසුම් කරල තියෙන්න ඕනෑ.

ඒ නිසා මේ සංසන්දනය, නැත්නම් හිතේ මනස් විකාර, දවල් හීන මැවීම, හිත මුදුහැරීම, හිත පිට යෑම අනිවාර්යයෙන්ම සිද්ධ වෙන්ට ඕනෑ මේ කියන අප්‍රිය සම්ප්‍රයෝග දුක හිතට වදින්න. ඒ නිසා යම් වෙලාවක හිත වර්තමානය ආශ්‍රය කරනවා නම්, ඒ ආශ්‍රය කරන ධර්මය මත යෝනිසෝමනසිකාරය සතිය තියෙනවා නම්, ඇති දේ ඇති හැටියට පිළිගැනීම නිසා ඔය කියන්නා වූ සංසන්දනය වෙන්නේ නැහැ. ඒ නිසා ඒ පුද්ගලයා ඒ වස්තුවෙහි ඇත්තා වූ ස්වාභාවික ලක්ෂණ වන අනිත්‍ය, දුක්ඛ, අනාත්ම කියන පැත්තට යනවා හැර මේක නොලැබිච්ච දෙයක් හෝ ලැබෙන්න තියෙන දෙයක් එක්ක සංසන්දය කරලා මේ ලෝක ධර්මවලට

පත් වෙලා අනිට්ඨ, අකාන්ත, අමනාප කියන ද්වේෂ හිත පහළ වෙන්න ඉඩක් නෑ.

දෙක තමයි වර්තමානයේ ඇති වස්තුව විෂයෙහි විදර්ශනා වශයෙන් නිමග්න වෙනවා වෙනුවට ඒ විෂයෙහි විනිශ්චය කිරීමේ ශක්තිය, එහෙම නැත්නම් සංසන්දනය කිරීම හොඳ නරක වශයෙන්, තණ්හා දෘෂ්ටි මාන වශයෙන්, ප්‍රපංච වශයෙන් සංසන්දය කිරීමත් දීර්ඝ වශයෙන් සිද්ධ වෙන්න ඕනෑ, කෙනෙක් යම් කිසි වස්තුවක් අප්‍රිය අමනාප බවට පත් කරන්න; අනිට්ඨ, අකාන්ත, අමනාප කියන මේ තත්ත්වයට පත් වෙන්න. ඒ නිසා හිත අඩු ගානේ රෝග දෙකකින් ආසාදනය වෙන්න ඕනැ දුකක් සෝමනස්සයත් උපායාසයටත් පත් වෙන්න නම්. ඒ නිසා සමථ භාවනා විපස්සනා දෙකටම පටිසම්භිද මාර්ගයේ දක්වනවා පරිපන්ථ ධර්ම හයකට වැටීම නිසා තමයි අපේ සිත ඒකාග්‍ර වෙන්නේ නැත්තේ. **අතීතානුධාවනං චිත්තං වික්ඛෙපානුපතිතං** යම් අවස්ථාවක හිත අතීතයට යනවා නම් වර්තමානයේ අරමුණ අතහැරලා වර්තමානයේ ඉදිරිපත් කරගත්ත කර්මස්ථානය තැන අමතක කරල ඒකාන්තයෙන්ම පශ්චාත්තාපයකට පත් වෙනවා. **අතීතානුධාවනං චිත්තං වික්ඛෙපානුපතිතං සමාධිස්ස පරිපන්ථො**

කරුණු 3 ක් යෝගාවචරයාට මේකෙන් ඉදිරිපත් කරගන්න පුළුවන් භාවනාවෙන් කැඩිච්ච බවට, මම හීනයක් දකිමින් ඉන්න බවට, මම හොල්මන් වෙලා ඉන්න බවට, මම වර්තමානේ නැති බවට. ඒ කරුණු තුන තමයි, අතීතයට ගිය බව, වික්ෂෝපයක් ඇති බව, සමාධිය නැති බව.

ඒක නිසා හිත පිට යැමක් උනා නම් වික්ෂෝපය දිහාවට, ඒ වෙනකොට එක්කො ඒ භාවනාවේ නොවෙයි හිත තියෙන්නේ; වෙහෙසක, ශෝක තත්ත්වයක තියෙන්නේ කියලා ඒ හැඟීම දැනගැනීමම හිත නැවත වර්තමානයට ගෙන ඒමට උදව් වෙනවා. එහෙම නැත්නම් හිතන්න පුළුවන් මේ වික්ෂෝපයට හේතු උනේ හිත වර්තමානේ නොවෙයි අතීතෙට ගිහිල්ලා හිතිවිලි දිගේ ගිහිල්ලා. ඒ බව දැනගැනීම සිතුවිල්ලක් බව වටහාගැනීමටත් භාවනා

කරන බවටත් සාක්ෂියක් කරගන්නවා. එහෙම නැත්නම් හිතන්න පුළුවන්, වැඩේ කොච්චර කෙරුවත් මේ විදියට හිටියට සමාධියක් නම් හිටින්නෙම නැහැ. සමාධියක් එන්න වර්තමානෙ මූල කර්මස්ථානයට මුහුණට මුහුණ ලා අරමුණු වෙන්න ඕනැ. ඒ නිසා මේක සමාධියට බාධායි. ඔන්න ඔය කාරණා තුනම යෝගාවචරයාට බුදුරජාණන් වහන්සේ දීලා තියෙන උපමාන තුනක් අප්‍රිය අරමුණක් එකතු වෙච්චාම.

එහෙම නැත්නම් **අනාගතපටිකංඛනං චිත්තං විකම්පිතං** සිත අනාගතයට දිව්වා නම්, අපි හැම කෙනාම කැමතියි වෙච්ච මෝඩකම් අමතක කරලා මත්තට එහෙම නොවෙන්නට මේ විදියට සැලසුම් කරන්න ඕනෑ, මේ විදියට ව්‍යවස්ථා හදන්න ඕනෑ, මේ විදියට සාකච්ඡා කරන්න ඕනෑ කියල අලුත් නවමු භාවයකින් හිත කල්පනාවට වැටෙනවා. ඒ වැටෙනකොටත් වර්තමාන අරමුණේ නෑ. හිත විකම්පිත භාවයකට උණුසුම් භාවයකට සැලසුම් කරන භාවයකට පත් වෙනවා. ඒකත් **සමාධිස්ස පරිපන්ථො** එතකොටත් හුඟක් කාරණා කියනවා. අනාගතේ කෙරෙහි හිත විහිදිච්ච බව, මේ වැඩේ සමාධියට විරුද්ධ බව, මේ වෙනකොට හිත කම්පන තත්ත්වයකට අළු ගොඩකට ගලක් ගැහුව වගේ චංචල කම්පන තත්ත්වයකට පත් වෙච්ච බව. ඒකත් යෝගාවචරයාට පරිපන්ථ ධර්මයක්. හුඟක් කල් යනවා මේක තේරුම් අරගන්න. ඉස්සෙල්ල කරන්නේ ඒ වගේ තත්ත්වයක් එනකොට, අනාගතය කෙරෙහි විශේෂයෙන්ම හිත දුවනකොට ඒක මකන්න උත්සාහ කරනවා. ඒක නැති කරන්න උත්සාහ කරනවා. එක එක චෝදනා කරනවා. භාවනා කරන්න බැරි බාධාවක් විදියට පෙන්නනවා. නමුත් අවසානයෙ මේ කාරණා තුනෙන් එකකින් මේක වටහාගන්න ඕනෑ සිත විකම්පිත වෙලා තියෙද්දිම, හිත අනාගතය සැලසුම් කරද්දීම, මගේ හිත සමාධියක නෑ කියලා පවතිද්දීම සතියෙන් මේක අල්ලනවා.

ඕන්න මේකයි බුදුරජාණන් වහන්සේ ලෝකෙට මනුස්ස හිතේ මෙතෙක් එළි කරගත්තේ නැති කොටසක් මතු කර දීමක් වශයෙන් බුද්ධ කෘත්‍යය කළේ. ඒක නිසා යම් අවස්ථාවක

යෝගාවචරයා අතීතයට දුවල තියෙන වෙලාවෙදි අතීතයට දුවලා තියෙන බව දන්නේ නැතුව සෝක කරමින් දිගටම ඉන්නවා නම්, ඒ පුද්ගලයා ඒකාන්ත නියතගතිකව කවදාවත් ගොඩ එන්න බැයි කියලා හිතන ජාතියේ, අනුන්ගේ පිළිසරණ පතන බැගෑ දීන හීන තුච්ඡ තත්ත්වයකට පත් වෙනවා. ඒ මොකද, ඔවුන් හිතන්නේ අතීතයට ගිහිල්ලා හිටියම කොහොමද වර්තමානයේ හිත පිහිටුවන්නේ. අතීතයට ගිහිල්ලා හිත. ඒ නිසා මට කරන්න බෑ. අනාගතයට ගිහිල්ලා විකම්පිත හිත් ඇති කරගෙන තියෙනවා. ඉතින් මට කරන්න බෑ. මේ කියන විදියට අනිට්ඨ අකාන්ත අමනාප වස්තුවක් හම්බ වෙලා. අයියෝ මේක හම්බ වෙච්ච නිසා නේ මේ ඔක්කොම කරදරේ. මට හෙට, නැත්නම් ඊගාව වතාවේ, ලබන අවුරුද්දේ මේක මෙහෙම නොවෙන විදියට මං කරන්න ඕනැ. කරනකොට මෙහෙමයි මම කරන්නේ, මෙහෙමයි කරන්නෙ කියලා අර මුරුංග ගහයට බුදියගත්ත මනුස්සයා වගේ දිගට දිගට කල්පනාව යනකොට බුදුහාමුදුරුවෝ හෝ නැත්නම් වෙන හාමුදුරු කෙනෙක් හෝ කර්මස්ථානාචාර්යවරයෙක් කියනවා මේ වෙලාවේ තමන් සතියෙන් නොවන බව වටහාගන්න.

එතකොට ඒ පුද්ගලයා කියන්න පුළුවන්, කොහොමද වටහාගන්නේ? මම දන් සතියෙ නෙවෙයි නෙ ඉන්නේ. ඒක නිසා මට මේක කවුද මතක් කරලා දෙන්නේ සතියෙන් ඉන්න ඕනැ කියලා. මම ඒකාන්ත නියත වශයෙන්ම අතීතය කෙරෙහි විසිරී ගිය හිතක් ඇත්තෙක්. ඒ නිසා මම ගොඩ ගන්න බැරි තත්ත්වයක ඉන්නවා කියන එක. මේක තමයි මිථ්‍යා දෘෂ්ටිය. සර්වඥයන් වහන්සේ කියනවා ඔන්න ඔය වෙලාවෙත් සතිය පිහිටුවන්න පුළුවන්. අතීතයට ගිහිල්ලා දඟලන වෙලාවෙත් සතිය පිහිටුවන්න පුළුවන්. සතියෙ තියෙන්නේ අප්‍රිය දේවල් සමග අමනාප වීම හෝ ප්‍රිය දේවල්වලට බැඳීම කියන මේ දෙකටම සම භාවයක්. ඒ නිසා සර්වඥ ශාසනේ විසඳන සමහර දර්ශනික ප්‍රශ්න සම්බන්ධයෙන් බලනකොට පුදුමාකාර විප්ලවකාරී අදහස් ඉදිරිපත් කරනවා - සිත අතීතයේ ඉන්න බව දැනගන්න කියනවා වර්තමාන වශයෙන්. අනාගතේ ඉන්න බව දැනගන්න කියනවා වර්තමාන වශයෙන්. ඒක

පුළුවන්. දේව නිර්මාණවාදීන් කිව්වේ මේකෙ ඔහේලට කරන්න දෙයක් නෑ. උඹලට මේකෙ කිසිම ස්වච්ඡන්දතාවක් නෑ. දෙවියන් වහන්සේ තීන්දු කරල තියෙන්නේ. ඒ නිසා යම් වෙලාවක දෙවියන් වහන්සේ සතුටු කරපල්ලා. එතකොට ස්වර්ගයේ. දෙවියන් වහන්සේට විරුද්ධව ගියා නම් සදාකාලික අපායෙ. මේකට කිව්වේ නියතිවාදී කියලා. නිර්මාණවාදී කියලා.

එතකොට කොහොමද එහෙම නම් සර්වඥයන් වහන්සේ ඉදිරිපත් කරපු ආකාරයකට ප්‍රතිපත්තියක පිහිටලා ක්‍රමක්‍රමයෙන් ක්‍රමක්‍රමයෙන් මේ මිථ්‍යා දෘෂ්ටිය අල්ලලා දලා, දුක්ඛ දෝමනස්ස ගලවල දලා, සතිපට්ඨානය වඩන්න ගිහිල්ලා ශෝක දෝමනස්ස දුරු කරන්නේ කොහොමද? දුරු කරන්න බැහැ. මොකද, ඒක දෙවියන් වහන්සේගෙ කැමැත්ත මත තියෙන්නේ. උඹලට කරන්න දෙයක් නෑ. මේක තමයි අතනදිත් කියන්නේ. අතීතයට ගිය හිත ආවොත් නම් ගොඩ ගන්න බැහැ. හිත අතීතෙ ඇලිල. අනාගතයට ගිය හිතක් ගොඩ ගන්න බැහැ. අනාගතේ ඇලිල - මෙහෙම හිතන්නෙ පරාජිත සිතක්. මේ ශාක්‍ය සිංහ සිතක් නෙවේ. නමුත් සර්වඥයන් වහන්සේ කියන්නෙ අතීතයට ගියාට පස්සේ අතීතෙ ඉන්න බව දැනගන්න පුළුවන්. අනාගතයට යනව නම් අනාගතයට යන බව දැනගන්න පුළුවන්. අනාගතයට ගිය බව ඒ බව වශයෙන් හෝ දැනගන්න පුළුවන්. හිත විකම්පිත වශයෙන් හෝ දැනගන්න පුළුවන්. සමාධිය නෑ කියලා හෝ දැනගන්න පුළුවන්. බටහිර ඇත්තෝ කල්පනා කරලා කරලා කියල තියෙනවා, මේ මුළු ලෝකෙම මනුස්සයට ස්වච්ඡන්දතාවක්, තමන්ගේ මනාපෙ ප්‍රතිපත්ති පිරීමක් කරන්න බැරි නම් කවදාවත් ගැලවීමක් නැහැ. එහෙනම් ඒකාන්තයෙන්ම පිළිගන්න වෙනවා මේක දේව වාදයේ දෙවියන්ගේ කැමැත්ත කියලා.

නමුත් දර්ශනිකව කියලා තියෙනවා යම් කිසි කෙනෙක් දන්නවා නම් මම ඒකාන්තයෙන්ම බැඳිලා ඉන්නවයි කියලා, ඒ දැනගැනීමම විමුක්තියක්. මම කාටවත් ගලවන්න බැරි තාලෙට බැඳිල ඉන්නවයි කියල දන්නවා නම් ඒ දැනගන්න පුළුවන්කමමයි විමුක්තිය. ඒක ඒ පුද්ගලයාගේ අභිවෘද්ධිය පිණිස පිහිටනව.

සර්වඥයන් වහන්සේත් ඔන්න ඕක තමයි දකින්න කිව්වෙ. කොච්චර කෙලෙස් ගොඩක හිටියත් කමක් නෑ. කොච්චර අතීතයත් එක්ක කලවම් වෙලා හිටියත් කමක් නෑ. අනාගතේ කම්පනය වෙලා හිටියත් කමක් නෑ. ඒ බව දැනගැනීමේ ශක්තිය ඒකාන්තයෙන්ම සම්‍යක් දෘෂ්ටික මනුස්සයට පමණක්ම මේ තිස්තුන්භවයේ තියනවා. ආන්න ඕක සමාදන් වෙන්න යෑම තමයි **බුද්ධං සරණං ගච්ඡාමි** කියන එක. හොඳ අර්ථයක් එතන තියෙන්නේ. **ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි** කියන්නේ මෙන්න මේ ක්ෂණය මගෙන් ගැලවී නොයේවා. **ඛණො වො මා උපච්චගා.** මේ ඕනෑම දේක පටලැවිල කරකැවිල තියන හිත අකන්ත අමනාප තත්ත්වයකට පත් වෙලා තියෙනවා කියලා දැනගන්න පුළුවන් ශක්තිය නම් තියෙන්නේ ඒකාන්තයෙන්ම වර්තමානයෙමයි. ඒකාන්තයෙන්ම ඒ සිත සමාධියට ගෙන්නල අතහරිනවමයි. ඒකාන්තයෙන්ම සිත ඒකට අරමුණු වෙච්ච අරමුණ විනිවිදිනවමයි. මේ දෙක අතර තියෙන්නේ බොහෝම සුළු වෙනසක්. භාවනා කරන යෝගාවචරයෙකුට නම් හොඳටෝම තේරෙනවා වෙලාවක අතීතයට ගිහිල්ලා මේ අනිට්ඨ අකන්ත අමනාප වස්තුවක් අල්ලගෙන එහි ගැලීගෙන අඬා වැටීගෙන පැරදීගෙන හිත පවතිනවා. ඒ චිත්තක්ෂණයෙම යෝගාවචරයාට මතක් උනොත්, සිහිය එළඹුණොත්, එළඹ සිටි සිහියට පත් උනොත් ඔන්න මම දැන් අතීතයක් ආවර්ජනය කරන්නේ කියලා වහාම හිත වර්තමානෙට ගේනවා. වර්තමානෙට එනවා. සතිය පිහිටුවනවා. එළඹ හිටිනවා.

ඔය දෙක අතරෙ එකම චිත්තක්ෂණයයි තියෙන්නේ. ඒ චිත්තක්ෂණය සම්පූර්ණ සංසාරයයි නිවනයි දෙක අතර වෙන් කරනසුලුයි. ඒකට කියනවා තදංග නිබ්බුත කියලා. ඒකට සමුච්ඡේද නිර්වාණය කියලා කියන්නෙ නැහැ. තදංග නිර්වාණය කියලා කියනවා. ඒ චිත්තක්ෂණයේ කාරණාව දැනගත්ත පමණින් ඒ හිත නිවනකට පත් වෙනවා. නිදහසකට පත් වෙනවා. මම බැඳිලා ඉන්නවා කියල දැනගැනීමමයි නිදහසට තියෙන එකම දෙරටුව. ඉතින් යම් කිසි කෙනෙක් කියනව නම් බැඳිලා හිටියත් කමක්

නැහැ ඒක දැනගන්න එකයි හොඳ නැත්තෙ කියලා, ඒක මහ භයානක ප්‍රකාශයක්. අනිවාර්යයෙන්ම ලෙඩක් තියෙනවා නම් ලෙඩේ දැනගන්න ඕනැ. අනිවාර්යයෙන්ම පෙළෙන කෙනා පෙළීමට හේතු කාරණා දැනගන්න ඕනැ. ඒකමයි නිදහසට කාරණාව. ඒ නිසා අනිට්ඨ අකන්ත අමනාප කියන දේ ද්වේෂ මූලිකයි. ද්වේෂ මූලයට හේතු වෙලා තියෙන්නේ රාගයමයි. ආන්න ඒක ඒ පුද්ගලයා දන්නවා නම් ඒක දැනගන්නා ආකාර හයක් තියෙනවා. මේක රූප මාර්ගයෙන් දැනගන්නව. ශබ්ද මාර්ගයෙන් දැනගන්නව. ගන්ධ මාර්ගයෙන් දැනගන්නවා. රස, පොට්ඨබ්බ, ධම්ම කියන මේ හයමාර්ගයෙන් දැනගන්නව. ඊට පස්සේ විකාශනය වෙනව මේ විස්තරේ සර්වඥයන් වහන්සේගේ.

අන්න ඒ විදියට එන්නා වූ ධර්ම ඔහුගේ අනත්ථකාමය, අහිතකාමය, අඵාසුකකාමය පිණිස අයෝගක්ෂේමය පිණිස පිහිටනවා. අනිට්ඨ අමනාප අකන්ත රූපයක් හෝ ශබ්දයක් හෝ ගන්ධයක් හෝ රසයක් හෝ ස්පර්ශයක් ධර්මතාවක් මතු වෙලා. දැන් යෝගාවචරයා ගැටෙනවා. ඒකත් එක්ක ගැටුණම මේ ඕනැ නැති එකක් එක්ක මුලිච්චි උනා, උදේ පාන්දරම අසුභ දර්ශනයක්, අමංගල, දුමංගල දෙයක් දැක්කය කියලා අමනාපය පිණිස හිටිනව. ඒ හිතුවටත් මදි. ඒකේ ඒකාන්තයෙන්ම ඇත්තටම ඔහුගේ අහිතකාමයට, කාමයේ නොවෙන අනර්ථකාමය පිණිස බාධා ධර්මයක් වශයෙන්, ඒ වාගෙම අඵාසුකකාමයට ඒ වාගේම අයොගක්ඛෙමයට, නොමගට යොමු කරවනවා නම්, මේකත් ඒ වාගේම කාරණාවක් තමයි. යම් කිසි මංගල සුමංගල අවමංගල, නරක හොඳ භාවනා නොකරන පෘථග්ජන පුද්ගලයො බලන්නේ එක තාලෙකට. ධර්මය අහපු ධර්මයෙ යෙදෙන ශීල, සමාධි, ප්‍රඥා පුරන ඇත්තෝ බලන්නෙ තව තාලෙකට. සෝවාන් ඇත්තා බලන්නේ එක තාලෙකට. රහතන් වහන්සෙ බලන්නෙ තව තාලෙකට.

ඒ නිසා අපිට ඉස්සරහට හම්බ වෙලා තියෙන්නේ මනාප දෙයක්ද අමනාප දෙයක්ද හිතකාමී දෙයක්ද අහිතකාමී දෙයක්ද කියන එක මත දේශපාලන පක්ෂ රටවල් ආගම් පුදුමාකාර විදියට

බෙදිල තියෙනවා. ඒක නිසා යෝගාවචරයා හැම වෙලාවෙම කල්පනා කරන්න ඕනැ ඊයේ ඒක අහිත පිණිස හිතුවට අනර්ථය පිණිස හිතුවට අයෝගක්ෂේමය, එහෙම නැත්නම් නොමගට යොමු කරනවය කියල හිතුවට ඒක ගැන විවෘත මනසකින් ඒක දිහා බලන්න නම් මේ එළඹ සිටි සතිය අත්‍යවශ්‍යයි. නැත්නම් අපි හැමදම හොඳ දේ උනත් නරකයි කියල තීන්දු කරගෙන ප්‍රතික්ෂේප කරන්න ඉඩ තියෙනවා. ඒවට අපි කියනවා මති කියලා. සංඥුවක් ගත්තොත් වැරදියට, ඒ සංඥුව දිගටෝම යනවා සහ සංඥු විපල්ලාස වෙනවා. චිත්ත විපල්ලාස බවට පත් වෙනවා. දිට්ඨි විපල්ලාස බවට පත් වෙනවා.

ඒක නිසා බුදුරජාණන් වහන්සේගේ රූපය කොච්චර හොඳ දෙයක් වුණත් මිථ්‍යා දෘෂ්ටික මනුස්සයෙකුට අනිට්ඨ අකන්ත අමනාපයි. ඒ වුණාට බෞද්ධයාට ඒක රූප ඉෂ්ට කාන්ත මනාප රූපයක්. ඒක ඒ තරම්ම ඉෂ්ට කාන්ත මනාප වෙන තරමටම අබෞද්ධයාට මිථ්‍යා දෘෂ්ටිකයාට අනිට්ඨ වෙනවා. අකාන්ත වෙනවා. අමනාප වෙනවා. ඒ ඇත්තො හිතනවා මේක අනත්ත සංහිතාව පිණිස හිටීවි. අහිත පිණිස හිටීවි. අහිතකාමය පිණිස හිටීවි. යෝගක්ෂයමයට බාධා කරනවා සර්වඥයන් වහන්සේව දැකලා. හින්දු ආගමේ, ඉන්දියාවට ගියාම ඒ ඇත්තො පැහැදිලිවම එක පැත්තකින් පිළිඅරගන්නව බුදුරජාණන් වහන්සේ විෂ්ණුගෙ එක අවතාරයක්. ඒ නිසා ඉතාමත් බලවත් දේවතාවෙක් විදියට සලකනවා. නමුත් කියනවා මූණ දිහා බලන්න එපා. මූණ බැලුවොත් වශියකට අහු වෙනවා. එතකොට සංසාරෙ සැප විඳීම දෙවියන් වහන්සේ මවපු ලෝකය පිළිබඳ කලකිරීමක් ඇති වෙන්න පුළුවන්. ඒ නිසා වන්දනා කළාට කමක් නෑ හය පක්ෂ ඇතුව. නමුත් කවදාක්වත් මුහුණ දිහා බලන්න එපැයි කියනවා.

මං හිතනවා අද අපේ පාරමිතා පුරන විශාල බෞද්ධ ජනතාවක් ඉන්නවා, ඔය ටිකම කරාවි මෛත්‍රී බුදු හාමුදුරුවන්ට ඉස්සරහට. හම්බ වේවි. කථාත් කරයි. කථාත් කෙරුවට හිතාවි අපේ වැඩ පිළිවෙළට බාධා කරන ධර්මයක් මේ කථා කරන්නේ කියලා මෛත්‍රී බුදුහාමුදුරුවන්ට සමුදීලා පිටත් වෙන්න ඉඩ තියෙනවා.

දකින්න පුළුවන් ඒක අහිත අමනාප අකන්ත ස්වරූපයෙන් දකින්න ඉඩ තියෙනවා. ඒ නිසා ඉතාමත්ම පරිස්සම් වෙන්න ඕනැ කොහොමද මේ පුද්ගලයෙක් හිත කාම යෝගක්ෂයම බව තේරුම්ගන්නේ කියලා. දැන් මේ ලස්සනට මෙච්චර ගෞතම බුද්ධ ශාසනේ තියෙද්දී බර ගානක් බුද්ධ ශාසනය මැරිච්ච බවට ප්‍රකාශන කරනවා. ප්‍රයෝජන ගන්න බැරි බවට ප්‍රකාශ කරමින් මතු බුද්ධ ශාසනය සඳහා පහුරු බඳිනවා. මේකෙ දකිනව මොකක්දෝ පුස්කාපු ස්වරූපයක්. මොකක්දෝ දකිනව පහු වෙච්ච පරණ වෙච්ච ස්වරූපයක්. දැකලා කොච්චරදෝ ධර්ම කාරණා ඉදිරිපත් කරමින් මේක අනත්ථකාමයක් අහිතකාමයක් කථා කරන්න පටන් අරන් තියෙනවා. ඔය කියන දේවල් කරන්න බෑ නෙ. කරන්න පුළුවන් වන්නෙ මොනවද? කබරගොයා තලගොයා කරගෙන කන්න ක්‍රමය තමයි හොයන්නේ.

ඉතින් මේ පුරුද්ද තදට ගියොත් මත්තට පහළ වෙන්නා වූ මෛත්‍රී බුදුරජාණන් වහන්සේත් උන්වහන්සේගේ ශාසනයත් දැක්කා වුණත් මේගොල්ලෝ ඒක ප්‍රතිසංස්කරණය කරන්න උත්සාහ කරාවි. "ඕක ටිකක් හදල ගන්න ඕනැ. ප්‍රගතිශීලී නෑ මේ බුද්ධ ශාසනය. ලෝක වර්ධනය කරන පිණිස පිහිටන්නෙ නෑ. ඒ නිසා මේක ලෝක වර්ධනයට හරවගන්නට ඕනැ" කියලා යන්න හදනවා මේ කියන්නා වූ අනත්ථකාම, අහිතකාම අඵාසුකකාම අයෝගක්ෂේම කියන තැනට. මේකට කිට්ටුවෙන් යන නිදර්ශනයක්, උපමාවකට නිදර්ශන සපයනවා චංකි සූත්‍රයේ. ලොකු ස්වාමීන් වහන්සේ ගොඩක් වෙලාවට ධර්ම දේශනා කරල තියෙනවා. චංකි කියන බ්‍රාහ්මණයා ඕපසාදක කියන ගමේ ප්‍රධාන බමුණෙක්. 500 විතර එයාටම ත්‍රිවේද පාරගූ බමුණොම ගෝලයො ඉඳල තියෙනවා. කෙස් පැහිච්ච හොඳ තලතුනා යහපත් මනුස්සයෙක්. ඒ කිට්ටුව ගමකට වනාන්තරේකට සර්වඥයන් වහන්සේ වැඩියට පස්සේ ඒ බමුණු ගමේ හිටපු බර ගානක් පිරිස ගිහිල්ලා තියෙනවා බුදුරජාණන් වහන්සේට සුවඳ දුම්, මල් අරගෙන වන්දනා කරන්න. ඒ යනකොට මේ බමුණා තමන්ගේ උඩුමහලෙ ඉඳල බලාගෙන ඉන්නවා. මිනිස්සුන්ගෙන් ඇහුව මොකද මේ කියල. කට්ටිය

කියනවා ශ්‍රමණ භවත් සර්වඥයන් වහන්සේ අප කෙරේ අනුකම්පාවෙන් අසල වනේට වැඩල තියෙනවා. අපි යනවා.

මේ ප්‍රධාන බමුණා හොයල බලනකොට මේ ගැන, ශ්‍රමණ භවත් භාග්‍යවතුන් වහන්සෙ පොඩි කෙනෙක් නොවේ. ඉතාමත්ම ඉතිපිසො භගවා අරහං සම්මා සම්බුද්ධ කියන බොහොම ගුණවන්ත කෙනෙක්. ඊට පස්සේ බමුණාම ප්‍රකාශයක් කරනවා, මම යනවා අසවල් වෙලාවට සර්වඥයන් වහන්සේ හමු වෙන්න. කැමති කෙනෙක් ඉන්නවා නම් අපිත් එක්ක යන්න එන්න කියල. ඉක්මනින් අර හිටපු බ්‍රාහ්මණ පන්සියයම ඇවිල්ල කියනවා කවදාවත් මේ වැඩේ නම් කරන්න එපා. කෙරුවොත් එහෙම බමුණන් විසින් ගෙන යන සම්පූර්ණ වැඩ පිළිවෙළ වැටෙනවා. ඔබ තමයි අපේ ප්‍රධාන නායකයා. ඔබ තලතුනා. ඔබ කෙස් පැහිලා තියෙන කෙනෙක්. පන්සියයක් සෙනග ඉන්නව. ශ්‍රමණ භවත් ගෞතම කියල කියන්නේ බොහොම තරුණ කෙනෙක්. මේ ළඟදි අලුත් ධර්මයක් කියන කෙනෙක්. ඔබ ගිහිල්ලා ඔහු ඉදිරියට ගියොත් කවදාවත් අපිට මත්තට අපේ බමුණු මත ඉදිරිපත් කරගන්න හම්බ වෙන්නේ නැහැ. මේක කරන්න එපැයි කියලා කියනවා.

ඉතින් එතෙනදි බොහොම ලස්සන සාකච්ඡාවක් යනවා. ඒ බමුණා අර පන්සියයටම ඒත්තු ගන්නනවා පුන්චි කරල සලකන්න එපා, ශ්‍රමණ භවත් ගෞතමයන් කියල කියන්නේ බොහෝම වැදගත් කෙනෙක් කියලා. කොහොම හරි චංකි බ්‍රාහ්මණය දිනනවා. අර පන්සියයම එක්ක යනව සර්වඥයන් වහන්සේ ඉදිරියට. බුදුරජාණන් වහන්සේත් ඒ කට්ටියට බොහෝම අමුත්තන් විදියට සැලකුවා. චංකි බ්‍රාහ්මණයා ප්‍රධාන කර සාකච්ඡාවක් කරද්දි ඒ පන්සියයටම බාලම තරුණයෙක් හිටියා කාපටික කියලා. ත්‍රිවේද පාරගූ බොහෝම දක්ෂයා. කල්පනා ඥාන අන්තිම හොඳයි. සූත්‍රය ඉවර වෙනකොට තේරෙයි ඇයි මෙහෙම කියන්නේ කියලා. මේ පුද්ගලයා කරන්නෙ සර්වඥයන් වහන්සේ සහ චංකි බ්‍රාහ්මණයා කථා කරන අතරමැදට අතුරු කථාවක් දානවා. නැත්නම් ප්‍රශ්නයක් අහනවා. සර්වඥයන් වහන්සේ කියනවා කාපටිකයෝ උඹ තත්ත්වෙ

දැනගෙන කථා කරපන්. වැඩිහිටියො කථා කරනකොට අතුරු කථා දන්න එපා කියලා.

එතකොට චංකි බ්‍රාහ්මණයා සෑහෙන අපහසුතාවකට පත් වෙනවා. ස්වාමීන් වහන්ස අවසරයි, මේ කාපටික බාල උනාට එහෙම කථා කරන්න එපා. අපි ළඟ ඉන්න බලාපොරොත්තු තැබිය හැකි ඉතාමත්ම හොඳ අංකුරයක්. හොඳට වැඩ දන්නවා. බොහෝම කල්‍යාණ වාග් ඇති කෙනෙක්. ඒ නිසා මේ එහෙම නරක කෙනෙක් නෙමෙයි කියලා. එතකොට සර්වඥයන් වහන්සේ අධිෂ්ඨාන කරනවා මේ මනුස්සයට අවස්ථාවක් දෙන්න ඕනැ. නමුත් වැඩිහිටියො ඉවර වෙනකල් ඉන්න ඕනැ. එතකොට කාපටික බ්‍රාහ්මණයා කල්පනා කරනවා කොයි වෙලාවක හරි සර්වඥයන් වහන්සේ මට ඉඟි කරන්නේ නැතැයි. මං එතකොට අහන්නං ප්‍රශ්නෙ කියලා.

ඒගොල්ලො සාකච්ඡාව ඉවර වෙනකොට සර්වඥයන් වහන්සේ කෙළින්ම කාපටික තරුණයගෙ ඇස් දෙක දිහා බලනකොට ඒ තරුණයා හිතනවා දැන් මට තමයි කථා කරන්න අවස්ථාව. ඊට පස්සේ ඒ බ්‍රාහ්මණයා කියනවා, ස්වාමීන් වහන්ස අපි ඉතාමත්ම ගෞරවයෙන් පිරිසිදුවට මේ බ්‍රාහ්මණ ධර්ම ආරක්ෂා කරනවා. සත්‍යය දැකගැනීම පිණිසමයි මේ කටයුතු කරන්නේ. ඒක පිළිබඳව ඔබවහන්සේගේ මතය මොකක්ද? සර්වඥයන් වහන්සේ කියනවා "බ්‍රහ්මණය, ඔබලා පන්සීයක්දෙනා මේ ඉන්නෙ හොඳට දක්ෂ මේකෙ කෙළපැමිණි ඇත්තො නෙ. මේ එක්කෙනෙක්වත් ඉන්නවද ඒ කියන සත්‍ය තත්ත්වය දැක්කා දන්නවා, සාක්ෂාත් කළායි කියල කියන්න පුළුවන් අය?" නෑ කවුරුත් නෑ. මේ අහගෙන යන මනුස්සයා දැක්කෙත් නෑ.

සර්වඥයන් වහන්සේ කියනවා "ඒ නිසා ඔබල ඔය කථා කරන දේ කවදාවත් ප්‍රත්‍යක්ෂ කරන්න පුළුවන් ධර්මයක් නොවෙයි. අන්ධ පරම්පරාවක්" වැදගත් බමුණෝ විශාල රාශියක් ඉන්නකොට සර්වඥයන් වහන්සේ හරියට මහ මුහුදට යගදවෙන් දමල ගහල මුහුද දෙබෑ කළා වගේ ප්‍රකාශනයක් කළේ. නමුත් කාපටික

බ්‍රාහ්මණයා කිසි සේත්ම විරුද්ධ වාද ප්‍රකාශ කරන්නේ නැහැ. එයා අහනවා "ස්වාමීන් වහන්ස, අපි මේ ඉතාමත්ම ශ්‍රද්ධාවෙන් නේ මේවා අදහන්නේ" කියලා. ඇත්තටම කියනවා නම්, අන්‍ය ආගම් කට්ටියගෙ ශ්‍රද්ධාව මේ වගේ ඥානය ඉස්සර කරගෙන යන බුද්ධ ශාසනයෙ වගේ ඇත්තන්ට ආදර්ශ කරන්න පුළුවන් තරමට ජීවිත පරිත්‍යාගයෙන් ශ්‍රද්ධාවෙන් කරන්නේ.

කාපටික අහනවා "අපි මේ ශ්‍රද්ධාවෙන් කරල සත්‍යක්ෂණය කරන්න බැරි නම් සාක්ෂාත් කරගන්න බැරි නම් ඔබවහන්සේ මොකක්ද කියන්නේ?" එතකොට සර්වඥයන් වහන්සේ කියනවා කාපටික දූනගනින්, මේ ලෝකෙ ඔය වාගේ ධර්මතා 5 ක් තියෙනවා. අපි හිතනවා ඒවා අත්ථකාමී හිතකාමී ඵාසුකකාමී යෝගක්ෂෙම ඒවා කියලා. අපි හිතනවා ඒක ඒකාන්තයෙන්ම අර්ථය අපට සලසයි. ඊගාවට හිත සුව වෙයි. පහසුවක් වෙයි. ඒකාන්තයෙන්ම අපි නිසි මගට යොමු කරයි කියලා. මොනවද ඒ? ඒවා නම් **සද්ධා, රුචි, අනුස්සව, ආකාරපරිවිතක්ක, දිට්ඨිනිජ්ඣානක්ඛන්ති**. ඒ නිසා අපි ශ්‍රද්ධාවක් පිහිටුවනව ඒ අපි ගත්ත දේට. නමුත් සර්වඥයන් වහන්සේ කියනවා ඔය පහේම පුස්සක් තියෙනවා. ඔය පහේම හිලක් තියෙනවා. ඔය පහේම අඩුපාඩුවක් තියෙනවා. මොකක්ද? උඹ ශ්‍රද්ධාවෙන් බාරගත්ත කොටසේ සත්‍යය නොතිබෙන්න පුළුවන්. ඔබ ශ්‍රද්ධාවට ගැළපෙන්නේ නැහැයි කියලා බැහැර කළ දෙයෙහි සත්‍යය තියෙන්න පුළුවන්. ඒක නිසා **දිට්ඨෙවධම්මෙ ද්විධා විපාකා** ඔබ ඔය ශ්‍රද්ධාවෙන් බාරගත්තට මේ වර්තමාන වශයෙන්ම ප්‍රත්‍යක්ෂ කරන්න පුළුවන් අත්දකින්න පුළුවන් විදියට බාරගත්ත දේ තුළ සත්‍යය නොතිබෙන්න පුළුවන්. ප්‍රතික්ෂේප කළ දේ තුළ සත්‍යය තියෙන්න පුළුවන්.

මේ විදිහට ඉස්සෙල්ලම කාපටික බ්‍රහ්මණයා ඉදිරිපත් කරන්නෙ ශ්‍රද්ධාව. ඊට පස්සේ බමුණා ඉදිරිපත් කරනවා රුචිය. සර්වඥයන් වහන්සේ කියනවා ශ්‍රද්ධාව ගත්තත් රුචිය ගත්තත් අනුස්සවය ගත්තත් ආකාර පරිවිතක්ක ගත්තත් දිට්ඨි නිජ්ඣානක්ඛන්ති යන කොයි එක ගත්තත් ඔය අඩුපාඩුව

තියෙනවා. ඒක නිසා අප්‍රිය සම්ප්‍රයෝගය සම්බන්ධය සඳහන් කරලා තියෙන අනත්ථකාම, අහිතකාම, අඵාසුකකාම, අයොගක්ඛෙමකාම කියන මේ කරුණු හතර අපි දන්නවයි කියලා අපි හිතනවා. අපි හිතනවා අර්ථය මේකයි කියා තේරෙනවා කියල. අපි හිතනවා අපිට හිත මේකයි කියා තේරෙනවා කියලා. අපි හිතනවා අනර්ථය මේකයි, අපේ නිසි මග මේකයි කියලා. ඒකයි අපි මෙච්චර ශ්‍රද්ධාවෙන් මේකේ යෙදෙන්නේ. ඒකයි අපි මේ බොහොම රුචියෙන් මේක කරන්නේ. ඒකයි මේකට අදාළ දේවල් අපි නැවත නැවත අහන්නේ. ඒකයි මේක අපි නැවත නැවතත් ඒ තාලෙට තර්ක පරිවිතර්ක කරන්නේ. ඒකයි අපි දිට්ඨි නිජ්ඣානක්ඛන්ති වශයෙන් මේකට බැසගන්නේ. නමුත් මේ තුළ සත්‍යය නොතිබෙන්න ඉඩ තියෙනවා. අපි හොඳ නෑ විරුද්ධයි කියලා බැහැර කරපු දේ මත සත්‍යය තිබෙන්න ඉඩ තියෙනවා. මේ නිසා මහ විශාල ප්‍රශ්නයකට පත් වෙනවා. මුළු ලෝකයෙම සෑම ආගමකටම මේ කරුණු පහෙන් තර්කයක් තර්ජනයක් ඉදිරිපත් කළාම කිසිම කෙනෙකුට උත්තර දෙන්න බැහැ.

ඊට පස්සේ කාපටික බ්‍රහ්මණය සර්වඥයන්ගේ කරුණු දැක්වීමට එකඟ වෙලා හොඳයි ස්වාමීන් වහන්ස, එහෙම නම් ඔබවහන්සේ කොහොමද සත්‍යෙක්ෂණයට පාර කියන්නේ. එතකොට උන්වහන්සේ ආයිත් සැරයක් ශ්‍රද්ධාව තමයි ගන්නෙ.

**සද්ධාජාතො උපසංකමති, උපසංකමන්තො පයිරුපාසති, පයිරුපාසන්තො සොතං ඔදහිති, ඔහිතසොතො ධම්මං සුණාති** කියලා අර කරුණු පහම අරගෙන කියනවා ඕක චක්‍ර කරකවන්න, ශ්‍රද්ධාවෙන් පටන්ගන්න. ආසාවෙන් කරන්න. මේක නැවත නැවතත් අනුශ්‍රවණය කරන්න. ඒකට අදාළ දේවල් අහන්න. හොඳට සුතමය ඥනය වඩන්න. ඒකට අනුව තර්ක කරන්න. ඒකට බැසගන්න. බැසගත්තට පස්සේ ආයිත් සැරයක් ඒක තුළ සත්‍යය නැත්නම් නැවත නැවත මේ චක්‍රය දිගින් දිගට කරකවන්න. මේ පහෙන් බැහැරවමත් නොවෙයි. මේ තනි එකකිනුත් නොවෙයි. ඉතාමත්ම ලස්සනට පෙන්නල දීලා තියෙනවා, මෙන්න මේක තමයි අපි කියන්නේ අනුපූර්ව ප්‍රතිපදාව කියල.

ඒක නිසා අපි ප්‍රධාන වශයෙන් දක්ක පමණට යමක් අප්‍රිය සම්ප්‍රයෝගයක් කියලා ඒ සැණින් බැහැර කළොත් හරි නෑ. අපි සාමාන්‍යයෙන් දකිනවා විනය පැත්තෙන් හෝ භාවනා පැත්තෙන් බලනකොට, ධූතාංගධාරී හෝ උග්‍ර තපස් රකින ඇත්තෝ සාමාන්‍ය කාම ලෝකයත් එක්ක බලනකොට ඒක මහ වදයක්, ඉල්ලගෙන කරදර විඳීමක් වාගේ කියලා. ඒ නිසා ඒ ඇත්තෝ අප්‍රිය අමනාප කරන්න පුළුවන්. නමුත් ඒ අප්‍රිය අමනාප වශයෙන් ඒක බැහැර කරන පුද්ගලයාට අනිවාර්යයෙන්ම සමහර වෙලාවට ධූතාංග අවශ්‍ය වෙන්න ඉඩ තියෙනවා ඔහුගේ විමුක්තිය පිණිස. ඒ නිසා ඔහුට ඒ අදහස අහිත පිණිස හිටිනවා. අනර්ථය පිණිස හිටිනවා. අපහසුව පිණිස හිටිනවා. පාරෙන් බැහැර ලනවා කියලා බැහැර කළාට සමහර වෙලාවට ඒකම තමන්ට හේතු වෙන්න ඉඩ තියෙනවා.

අපේ සාමාන්‍ය ගමේ කථාවක් තියෙනවා පුබ්බඩ මනුස්සයෝ කම්මැලියා දවස තිස්සෙම කිසිම රස්සාවක් කරන්නේ නැහැ. ගෙදර එනවා. ගෑනු මනුස්සයා මොනව හරි උයල දේවි කියලා හිතාගෙන. නමුත් ඒ මනුස්සයා මොනව කරන්නද. ඒ මනුස්සයගෙ පිරිමියා හම්බ කරන්නෙ නැති නිසා මොනව හරි තියෙන දෙයක් අලාවක් නියඹලාවක් හදල තියෙනවා මිසක්ක කන්න දෙයක් උයාගන්න විදියක් නැහැ. ඉතින් එක දවසත් ඒ මනුස්සයා හැන්දෑවේ හොඳට මහන්සි වෙලා ගෙදර එනවා. ගෙදරින් හොඳට කන්න තියෙයි කියලා. ඉතින් අර ගෑනු මනුස්සයට කරන්න දෙයක් නැහැ. ඒ මනුස්සයා හාල් ටිකක් තියෙනවා නම් තම්බනවා. වෙල් අල කොල ටිකක් ගෙනැල්ලා ඒක වතුරෙන් තම්බලා තෙල් ඩිංගිත්තක් දලා තියනවා.

ඉතින් පිරිමි මනුස්සයා බොහොම බඩගින්නෙන් ඇවිල්ලා කන්න ගියාම අර අල කොළ නියඹලාව බැදුම දැක්කම හරියට කේන්ති යනවා. කේන්ති අරගෙන නොදකින් කියලා හොඳටම නරක වචනයෙන් අර මනුස්සයට බැනල, අර අල කොළ නියඹලාව දමා ගහනවා කටු මැටි බිත්තියට. බිත්තියෙ හිටිනවා ඒක ආප්පෙ වගේ. ඊට පස්සේ මේ මනුස්සය වතුර ටිකක්

තියාගෙන ලුණු ටිකක් ඉහාගෙන අර බත් ටික කාගෙන යනකොට හිතෙනවා පොඩ්ඩක් හරි මේකට මිරිසක් මොනව හරි රහක් තියෙනවා නම්. ඉතින් පස්සේ බැගෑ වෙලා කියනවා අර මනුස්සයට මොනවත් නැද්ද ඇත්තටම මේකට එකතු කරගන්න. ඊට පස්සේ කියනවා අල කොළ තමයි තියෙන්නේ කියලා. එහෙනම් ටිකක් ගන්නකො කියලා. ඉතින් කියනවා තියෙන ටික තමයි බෙදල තිබ්බෙ කියලා. එහෙනම් අර විසි කරපු ටික කටු මැටි බිත්තියෙන් ගන්න කියලා ඒක අරගෙන බත් ටික කනවා. ඒ නිසා අර විසි කරපු අල කොළ නියඟලාවත් පහු වෙනකොට පහු වෙනකොට අවශ්‍ය වෙනවා.

ඒක නිසා අපි ඒකාන්ත වශයෙන්ම අනිෂ්ටයි, අකන්තයි, අමනාපයි අයොගක්ඛෙමයි කියලා ප්‍රතික්ෂේප කරන්න යාම කවදාවත් බුදුරජාණන් වහන්සේ ඒකාන්ත වශයෙන් දේශනා කරන්නේ නැහැ. නමුත් මෙතැන කියන්නේ එවැනි දේවල් නිසයි අද ලෝකයා මෙච්චරදෝ කොච්චරදෝ මේ ශෝක පරිදේව දුක්ඛ දෝමනස්ස උපායාස කරන්නේ. දුක්ඛ සත්‍යය වශයෙන් අපිට ප්‍රධාන වෙලා තියෙන්නේ ඔන්න ඔය විදියට අප අනිට්ඨයි අකන්තයි අමනාපයි කියලා හිතාගන්න දේවල්. ඒක නිසා මේ විශාල චක්‍රයක නැවත නැවතත් අපි සංසාරේ උපදින්නේ ඒකාන්තයෙන්ම මේ අනිට්ඨ, අමනාප, අකන්ත දේවල් නිසා තමයි. අහිතකාම අනත්ථකාම අඵාසුකකාම අයොගක්ඛෙම දේවල්වල තමයි.

ඒ නිසා මේකෙන් ගැලවීම සඳහා නම් කවදාවත් මේකට තරහ වෙලත් බැහැ. මේක ප්‍රාර්ථනා කරලත් බෑ. එකම උපක්‍රමයයි තියෙන්නේ - මෙය පිළිබඳව සතිමත් වීම. සතියෙදි කරන්නෙ කවදාකවත් පූර්ව නිගමනයකට යන්නේ නැහැ හොඳයි වශයෙන් හෝ නරකයි වශයෙන් හෝ. ඒක එළඹිච්ච වෙලාවෙදි ඒ දේ වශයෙන් දකගන්න උත්සාහ කරනවා. ඒ නිසා සතිපට්ඨාන සූත්‍රය අනිකුත් සූත්‍ර අතර විශාල තැනකට අපිව පත් කරනවා. භාවනා කරන්න පටන්ගන්නකොට නම් ඒකාන්තයෙන්ම, විශේෂයෙන් සමථ භාවනාවෙදි සඳහන් කරනවා, මේ අනිට්ඨ අකන්ත අමනාප දේවල් පුළුවන් තරම් අඩු තැනකින් පටන්ගන්න කියලා. නැත්නම් සප්පාය,

හිත ප්‍රියමනාප තැනකින් පටන්ගන්න කියලා. නමුත් අපිට කවදාක්වත් ඒ දේවල් ඇස්පනාපිට දවල් එළියෙ දැක දැක දැන දැන ඒ පිළිබඳව ප්‍රත්‍යක්ෂ කිරීමකින් තොරව කවදාක්වත් සත්‍යක්ෂණයක් කරන්න බැහැ. ඒ නිසා භාවනා මාර්ගයේ දිගින් දිගට යනකොට අනිවාර්යයෙන්ම අපිට මේ අනිට්ඨ, අකන්ත, අමනාප දේවල් මුණ ගැහෙනවමයි.

ඒක පිළිබඳව සත්තිස් බෝධිපාක්ෂික ධර්ම සඳහන් කරනකොට යම්කිසි විදියකින් ඉඟියක් සපයනවා. එක තැනක සතිය කියන වචනෙම හත්අටපොළක සඳහන් වෙනව නෙ බෝධිපාක්ෂික ධර්මවල. එක තැනක සඳහන් වෙනවා සති බලය. ආයෙ සඳහන් වෙනවා සති ඉන්ද්‍රිය වශයෙන්. සතර සතිපට්ඨානය කියනකොට සතිය හතරකට කඩල පෙන්වනවා. ඊගාවට වීර්ය සම්බන්ධව. ඍද්ධිපාද සම්බන්ධව. ඊගාවට සති බලය සඳහා. සති බලය කියලා පටිසම්භිදා මාර්ගයේ සඳහන් කරන්නේ **පමාදෙ අකම්පියට්ඨෙන සතිබලං.**[4] අපි යම් තැනක ප්‍රමාදයට වැටෙනවා. අප්‍රමාදය නෙ සතිය කියන්නෙ. සතිය පිහිටුවන්න කොච්චරදෝ උත්සාහ කරද්දි ප්‍රමාදයට වැටෙනවා. ප්‍රමාදයට වැටෙන්නේ මොකක්ද? අපිට මේ විදියට අප්‍රිය අමනාප අකාන්ත දෙයක් මුණගැහෙනවා. මුණගැහුණම කේන්ති යනවා. හිත පිට යනවා. එතකොට අපි ප්‍රමාදයට වැටුණ කියලා සැලෙනවා. මේ සැලීම සතිය පිළිබඳව පරිචයක් නැති කෙනාගේ වැඩේ. **පමාදෙ අකම්පියට්ඨෙන සතිබලං** කියලා කියන්නේ; එහෙම ප්‍රමාදයට වැටුණයි කියලා නොසැලී ඉන්න පුළුවන් ගතියක් තියනවා. මගේ දැන් සතිය කැඩුණා. කැඩුණා, එච්චරයි. ඒක පිළිබඳ ආයිත් සැලීමක් නැහැ. පශ්චත්තාපයක් වෙන්නෙ නැත්නම් ඒකට කියනවා සති බලය කියල.

ශ්‍රද්ධා බලය කියලා කියන්නේ **අස්සද්ධියෙ අකම්පියට්ඨෙන සද්ධාබලං.** ශ්‍රද්ධාව කැඩෙන හිත නරක් වෙන මොනවහරි දෙයක් හොඳටෝම සිද්ධ වෙනවා. භාවනා නොකරපු කෙනා ඒ පිළිබඳව

---

[4] පටිසම්භිදා මාර්ගය, මහා වග්ගය, ඤාණ කථා, සුතමය ඤාණං

විශේෂ පශ්චාත්තාපයකට පත් වෙනවා. නමුත් ශ්‍රද්ධා බලය තියෙන එක්කෙනා දන්නව ශ්‍රද්ධාව කියන එක කැඩිකැඩී යන දෙයක්. ඒ නිසා අප්‍රිය, අමනාප, අකන්ත දේවල් සිද්ධ වෙනවා. ඒ දේවල් වුණාට සැලෙන එක අකුසලයක්. නොසැලී ඉදිරියට යන්න පුළුවන් නම් ඒකට කියනවා ශ්‍රද්ධා බලය කියලා. ඒ නිසා ඒ පුද්ගලයා පූර්ණ සප්පාය තැනින් පටන්ගත්තට ක්‍රමක්‍රමයෙන් භාවනාව වැඩෙනකොට, ශ්‍රද්ධා සති විරිය සමාධි ප්‍රඥා වැඩෙනකොට කම්පන චංචලවලට ආවත් ඒකෙන් කම්පාවට පත් වෙන්නෙ නැහැ. ඒක කැඩෙනවා. ඒකෙ හැටි එහෙමයි. මම මත්තට හදගන්නට ඕනැ කියලා අකම්පිත බලය ඇති කරගන්න පුළුවන් නම් ඒක තමයි පංච බලය කියන්නෙ.

ඒ නිසා එකක් පේනවා : සතිය වැඩෙන්න නම් සතිය කැඩෙන්න ඕනැ. අඛණ්ඩව හැදෙනවයි කියලා දෙයක් සතියෙ නෑ. ඒකාන්තයෙන්ම සතිය වඩාගෙන යනකොට, කරගෙන යනකොට කැඩෙනවා, වැටෙනවා. කැඩෙනකොට වැටෙනකොට නොසැලී ඉන්න පුළුවන් ගතිය නිසා තමයි සතිය තවතවත් තදබලව තහවුරු වෙන්නේ. විපස්සනා චිත්ත වීථියක් ගත්තම ඉස්සෙල්ලා අපි මෙනෙහි කරමින් සීඝ්‍රයෙන් මෙනෙහි කරමින් මූල කර්මස්ථානයේ සතිය පිහිටුවනවා. ඒ මූල කර්මස්ථානයේ සතිය පිහිටුවන්න උත්සාහ කරනකොට සමහර පර්යංකවල වරදිනවා. සමහර පර්යංකවල ටික වේලාවකින් මූල කර්මස්ථානයට මුහුණ දීගෙනම මුහුණ දීගෙනම ඉන්නවා. එතකොට ඔන්න ඉෂ්ට කාන්ත මනාප තත්ත්වයකට පත් වෙනවා. ඒ තත්ත්වය හොඳට අරමුණ පිරිමදිමින් ආසන්න උත්සන්න කරමින් ගියාට පස්සේ මේ මෙනෙහි කරන හිතයි අර අරමුණයි දෙක එකට එකතු වෙච්චහම ඉබේම යෝගාවචරයා සැක කරනවා මේ මොකද උනේ මට සතිය කැඩිලද දන්? දන් අරමුණේ අර විදියට තිබුණු සටහන් ආකාර දකගන්න බැහැ. අරමුණේ අමුතුම ස්වරූපයක් පේන්නේ. ඒ වාගේම සමාධියත් දන් තියෙනවාද නැද්ද කියන විදියටත් මෙතන සතිමත් සමාධිමත් පුද්ගලයෙකුත් නැහැ. සංසිද්ධියට තමන් සම්පූර්ණයෙන් බැහැගන්නකොට හුගදෙනෙක් ඒක කමටහන ශුද්ධ කරනකොට

කියන්නෙත් නැහැ. අන්ද මන්ද වෙනව. එතකොට පේන්නේ මේ බොහෝම සතියෙන් එතෙන්ට එනකන් ගියා. දැන් සතිය කැඩුණාදෝ කියල සැක හිතනවා. මොකද, අරමුණේ අර ඉස්සර විදියට වාගේ ගොරෝසුවට සටහන් ආකාර පේන්නෙ නෑ. නමුත් අරමුණේම ඉන්නවාදෝ කියන සැකයකුත් තියෙනවා. සමාධිය කැඩුණා. මොකද හේතුව? ඒක ඉස්සෙල්ලා වාගේ කියන්න බැහැ විස්තරේ. නමුත් තමන්ටම පෙනුණා භාවනාවෙන් ලොකු පිටපොට යාමකුත් නැහැ.

දැන් මේ වෙලාවේ හුළඟක් වදින්නෙ නැති තැනක පත්තු වෙන පහන් දැල්ලක් වාගෙ අකම්පිත භාවයෙන් ඉන්න පුළුවන් නම්, ඒ යෝගාවචරයාගේ තිබෙන තැන්පත්කම මත නැවතත් අරමුණ ශාන්තව සුන්දරව බොහෝම සුඛුමව වැටහෙන්න පටන්ගන්නවා. මෙතන කම්පා වෙලා මේ භාවනා ක්‍රමය හරි නැහැ, මේ ගුරුවරයා හොඳ නැහැ, මේ ස්ථානය හොඳ නැහැ, මට මේ හොඳට තිබුණ සමාධිය සතිය දැන් මගෙන් කැඩුණා. මෙතෙන්ට ඇවිල්ලා උනේ මට මේ හානියක්ය කියල කේන්තියෙන් ප්‍රයත්නය බහා තැබුවහොත් දිගින් දිගටම දිගින් දිගටම අවුලෙන් අවුලට පත් වෙනවා. ඒ නිසා සතිය කරගෙන යනකොට සතිය විසින්ම සතිය කලකොල භාවයට පත් කරනවා. පත් කරලා බලනවා මේ යෝගාවචරයා මේකට දක්වන ප්‍රතිචාරය මොකක්ද කියලා. ආන්න ඒ ප්‍රතිචාරයේදී යෝගාවචරයා සති බලයක් වශයෙන් මේ ප්‍රමාදයට වැටුණා තමයි, නමුත් කම්පා වෙන්න නරකයි, මං කරබගෙන හිටින්න ඕනෑ කියලා මාර්ගය ගැන විශ්වාසයෙන් හිටියොත් නැවතත් ආන්න අරමුණ පේන්න පටන්ගන්නවා. එතකොට පේන්නේ බොහොමත්ම පරමාර්ථ ධර්මවලට බරව ස්වභාව ලක්ෂණයි.

එතෙනදිත් අභියෝගයක් එනවා. ඒ මොකද, අර යාන්තමට සූක්ෂ්මව අරමුණ පෙනෙද්දි තමන්ට හොඳටෝම වැටහෙන ශබ්දත් ඇහෙනවා. වේදනාත් දැනෙනවා. සිතුවිලිත් එනවා. එතකොටත් ආයෙ සැකයක් මතු වෙනවා, ඉස්සෙල්ලා අරමුණේ ඉන්නකොට අරමුණයි සිතයි විතරයි. දැන් අරමුණත් තියෙනවා. ඒක අප්‍රකටයි.

එහෙම නැත්නම් ප්‍රණීත නෑ. වෙන අරමුණු ඇවිල්ල ඒකත් එක්ක සම සමව කරට කර තියනවා. එතෙනදිත් යෝගාවචරයා සමහර විටක කලබල හිතකින් බාහිරින් එන ගොරෝසු දේවල් පිටිපස්සේ ගියෝතින් හෝ මගේ සතිය කැඩිලා, දැන් මට ඉස්සර වාගෙ නොවෙයි එක අරමුණක් තියාගන්න බැහැ, කියලා භාවනාව බහා තැබුවහොත් හෝ ආයේ මුලට යන්න වෙනවා. මුල ඉඳලම ශුද්ධ කරගෙන එන්න වෙනවා කැඩුණ නිසා. නමුත් ඒ වෙනුවට කළ යුත්තේ අනිකුත් අරමුණු තිබියදීම මූල කර්මස්ථානය දැන් තියෙනවා, මට මූල කර්මස්ථානයේ සරණයි, මට මූල කර්මස්ථානයේ පිහිටයි කියලා ඒ මූල කර්මස්ථානයේම පවත්වාගෙන යනව නම්, දිය යටින් ගින්දර ගෙනියන්නකු සේ, විශාල ආලිංගන නැටුමක් අතරමැදින් පිරිච්ච තෙල් කළයක්, පැන් කළයක් කඳුළක්වත් හලන්නේ නැතුව උසුලාගෙන ගෙනියන පුද්ගලයෙක් වාගේ, අර ඔක්කොම වියවුල් අතරමැද කම්පන චංචල විෂම දේවල් මැද සතිය පවත්වන්න පුළුවන් ගතියක් තියෙනවා මේ මූල කර්මස්ථානයේ.

යෝගාවරයෙකුට භාවනාව කියලා දීමේදී ඉතාමත්ම අපහසුම තැන තමයි මේක. ඒ මොකද, යෝගාවචරයා හිතන්නේ මෙතනදි අත්‍ථකාම හිතකාම ඵාසුකකාම යොගක්‍ඛෙමකාම කියලා හිතන්න නම් අරමුණ විතරක්ම තියෙන්න ඕනෑ. සද්ද මොනවක්වත් එන්න බෑ. කය කොහොමටවත් දැනෙන්න බෑ. සිතිවිලි කොහොමටත් නැවිත් ඉන්න ඕනැ. නීවරණ ධර්ම කොහොමටත් බෑ. අරමුණත් එක්ක විතරක් යන්න හම්බ වෙන්න ඕනැ හරියට රජ කෙනෙකුට පාර ඇරිය වගේ කියලා. එහෙම දෙයක් බලාපොරොත්තු වෙනව නම් කවමදාකවත් විපස්සනා ප්‍රගතියක් වෙන්න බෑ. විපස්සනා ප්‍රගතිය නම් හැම වෙලාවෙම බාධා මතු වෙනවා. තිබුණට වඩා ශබ්ද බාධා මතු වීම කොහොමද නිරූපණය වෙන්නේ? සමහරු මේ වෙලාවෙදි කියනවා මට දිව්‍යමය කටහඬවල් ඇහෙනවා. මට දිව්‍යමය පණිවිඩ ගේන රූප පේනවා. අහසෙ පා වෙන්නා සේ මට දැනෙනවා. ඒ වගේම පුදුමාකාර සුවඳ මට වැටහෙනවා. සත්‍යමයි. ඒවා බොරු එහෙම නම් නෙමෙයි.

කොහොමත් ගුරුවරයාට ඒත්තු ගන්වන්න බැරි උනාට මම නං අත්දකින්නෙ ඒකාන්ත ප්‍රත්‍යක්ෂයක්. ඒ තරමටම තමන්ට ශබ්ද, ගන්ධ, රූප, රස, ස්පර්ශ පේන්න පටන්ගන්නවා. ඒවා ඔක්කොම භාවනා නොකරන භාගෙට භාවනා කරන ඇත්තන්ට මැජික් වාගේ තමයි.

ඒ නිසා මෙතනදි යෝගාවචරයා ගලවගන්න නම්, මතක් කරලා දෙන්න වෙනවා මේ අපි භාවනා කරන්නේ මහණ වෙන්නේ ආරණ්‍යගත වෙන්නේ ලාමක පෙළහර පෑමකට ඍද්ධි ප්‍රාතිහාර්යයකට නොවෙයි, නිවනටමයි. ඒ වාගේ ලාමක අදහසක් තියෙනවා නම්, ඒ වාගේ ලාමක පරමාර්ථයකට නම් යන්නෙ, අනිවාර්යයෙන්ම මේ පුද්ගලයා එතෙනදි මාරයා දෙන පාශයට අහු වෙනවා. නැවත නැවතත් කල්පනා කරන්න ඕනැ මගේ අර්ථය පවතින්නේ, හිත පවතින්නේ, පහසුව පවතින්නේ යොගක්ඛෙමය පවතින්නේ අප්‍රිය උනත් අමනාප උනත් පුංචි උනත් මූල කර්මස්ථානයෙමයි. මේක මතක් කරල දෙනකල්ම යෝගාවචර ගුරුවරයාගේ වැඩ කර්මස්ථානාචාර්යවරයාගේ යුතුකම් තාමත් තියෙනවා. මේ යෝගාවචරයාට තාම තනියෙන් භාවනාවක් කරගන්න බෑ.

යම් අවස්ථාවක යෝගාවචරයාට වැටහෙනවා නම් හැම පර්යංකයකදීම මම මේක අත්දකින්න ඕනැ, ඒ අත්දූකල ඒ අවුල්පාස මැද පුළුවන්කම තියෙන නිසා මූල කර්මස්ථානයේම හිත සංසිඳවන්න ඕනැ. දිය යටින් ගින්දර ගෙනියන්නකු සේ, ආලිංගන නෘත්‍ය නටන තැනක ඉතාමත් ගෞරවයෙන් හික්මීමකින් යුක්තව තමන් හිසින් ගෙනියන ඒ කළය බිම දගන්නේ නැතුව කඳුළක්වත් හලන්නේ නැතුව යන කෙනෙක් වාගේ අරමුණේම පවත්වන්න පුළුවන් ගතිය තුළ තමයි, මූලික වශයෙන් යෝගාවචරයා සෝක පරිදේව, දුක්ඛ, දෝමනස්ස දේවල් ඉක්මවන අෂ්ට ලෝක ධර්මයේ කම්පා නොවෙන සතිපට්ඨානය මෙලොව වශයෙන් සාක්ෂාත් කරගන්න පුළුවන් ආනිශංස භුක්ති විඳින්නෙ. කවමදක්වත් මේක අම්මට තාත්තට කිව්වොත් නම් අගේ කරන්නේ නැහැ. භෞතික ලෝක ධර්ම උගන්වන ගුරුවරුන්ට මේකේ

වටිනාකම තේරෙන්නෙත් නැහැ. හරියටම තේරෙන්නේ මේ ජීවිතය දුකකයි පිහිටල තියන්නේ, මේ දුක මැදින් යන ගමනක් නම් තියෙන්නෙ ඒකාන්තයෙන් මධ්‍යම ප්‍රතිපදාවෙමයි.

මධ්‍යම ප්‍රතිපදාව ඒකාන්තයෙන් වැටිලා තියෙන්නෙ උපේක්ෂාවටයි. ඒ අතරමැද හම්බ වෙන හැම සංස්කාරයක්ම එසේ උපේක්ෂා කරන්න ඕනැ. මෙන්න මේ අවස්ථාවේදී තමයි සතිය සුපටිත්ඨිත සතියක් බවට පත් වෙන්නේ. නොසැලෙන සතියක්, අඛණ්ඩ සතියක්. ඒකාන්තයෙන්ම තැනකට යොමු කරවන සතියක් බවට පත් වෙන්නෙ මෙන්න මේ බාධක ධර්ම හොඳට මතු වෙනකොටයි. මේ වෙලාවෙ තමයි විපස්සනා යෝගාවචරයාගේ කොඳු ඇට පෙළ හයි වෙන වෙලාව. ආන්න ඒ හයි වෙන වෙලාවෙදි ඒ පුද්ගලයා විවේක ගන්නයි, ඉඳ ඉඳ දුවන්නයි ගත්තොත් බෝදිලිමො වගේ, එහෙම නැත්නම් ඉබ්බයි හාවයිගේ සටන වගෙ ටිකක් බුදියන් ඉඳලම මම එන්නම් කියන්නයි, විවේක ගන්නයි පටන් අරගත්තොත් ඒකට කියන්න පුළුවන් ලැබුණා වූ වටිනා චිත්තක්ෂණය මගඇරලා විනාශ තත්ත්වයකට පත් වුණයි කියලා. මේ වෙලාවෙදි මේක තද විනාශයකට හේතු වෙන්න ඉඩ තියෙනවා. ඉතාමත්ම තද චිත්ත වික්ෂෝපයට හේතු වෙනවා. ලොකු විවේකයක් තියෙන තැනකට යන ගමනක්. නමුත් වැරදි කෙනා අතට කඩුව දුන්නොත් ඒ කරපු සටනින් ඇති වැඩක් නෑ.

ඒක නිසා මෙතැනදි ගත්තොත් ඒ වගේ විපස්සනා චිත්ත වීථියක භංග ඥාන, භයතුපට්ඨාන, ආදීනව වාගේ ඥාන පහළ වෙන වෙලාවක ඒ මොනවක්වත් නිසා කලබල නොවී හැම දෙයක්ම මෙනෙහි කරමින් ගත්ත මූල කර්මස්ථානයේම සතිය පැවතීම සඳහා කටයුතු කරගෙන යනකොට ඒ සතිපට්ඨානය සඳහන් කරන **අප්පියෙහි සම්පයොගො දුක්ඛො** කියන එකට වෙනමම අර්ථයක් ඇති වෙනවා. මොකද, ඒ වෙලාවේදී ලෝකයා ප්‍රියයි මනාපයි කියන දේවල් නෙමෙයි භාවනාවට ප්‍රිය මනාප අත්‍ථකාම, හිතකාම, ඵාසුකකාම, යොගක්ඛෙමකාම කියල කියන්නේ. ඒකත් ආයී ව්‍යවහාරයෙන් තෝරාගන්න ඕනැ. ඒක මිනිස්සුත් එක්ක සාකච්ඡා කරල, කඩවල් ගානේ තැන් තැන්වල ගිහිල්ලා එක එක්කෙනාත්

එක්ක තමන්ගේ කමටහන භාවනා තොරතුරු කථා කරලා බැහැ. එහෙම කථා කළොත් ඒ ඇත්තෝ ඒකාන්තයෙන්ම කියනවා ඔන්න ඕක තමයි කියන්නේ භාවනා කරපුවම පිස්සු හැදෙනවා කියලා. දැන් උඹ මොළේ පරීක්ෂා කරගනින්. මොකක්දෝ අමාරුවක් හැදිල තියෙන්නේ කියලා අර මනුස්සයට පිස්සු ඇද්දලනවා.

ඒක නිසා කවදාවත් නරකයි ඒ වාගේ කෙනෙක්ගෙන් ගිහිල්ලා මේ ගැන අහන්න. භාවනා නොකරන, නැත්නම් පුරුද්දට, මෝස්තරේට එහෙම නැත්නම් ඍද්ධි ප්‍රාතිහාර්ය සඳහා භාවනා කරන අය එක්ක කථා නොකරන එක හොඳයි. මොකද, මේ කථා කරන්නේ විශේෂ අවස්ථාවක් ගැන. මේ යන්න හදන්නෙ පරමාර්ථ ධර්ම පැත්තට. ලෝකෝත්තර පැත්තට යන හදන අවස්ථාවේදී හම්බ වෙන අත්‍ථකාම, හිතකාම, ඵාසුකකාමයි. මෙන්න මේ තත්ත්වය යටතේදී යම් කිසි කෙනෙක් තවමත් අනත්ථකාම අඵාසුකකාම අයොගක්ඛෙමකාම කියන ධර්මත් එක්ක සංගමයක් සමාගමයක් **නිස්සිත** භාවයක් කලවමක් ඇති වෙනවා නම් ඒක තමයි සර්වඥයන් වහන්සේ සඳහන් කරන්නේ අප්‍රිය සම්ප්‍රයෝගය දුකක් කියල. මේ තත්ත්වය දුටු පළවෙනිම කල්‍යාණ මිත්‍රයා මේක දැකලා එදා අඤ්ඤා කොණ්ඩඤ්ඤ ස්වාමීන් වහන්සේට ධම්මචක්කපවත්වන සූත්‍රයේ දේශනා කළේ ඉපදෙන තාක් කල් සංස්කාර දුකමයි. මොනම දේක හරි පැටලුණොත් එතකොට ඒකට කියන්නෙ අප්‍රිය සම්ප්‍රයෝගයක්.

මේ නිසා එකම සංස්කාරයක් ගන්න. ඒ සංස්කාරය සම්පූර්ණයෙන්ම ගෙවා දැමීම පිණිස කටයුතු කරනවා නම් අන්න යෝග භාවනාවක් කියලා කියනවා. එන එන අරමුණුත් එක්ක හැප්පෙන්න හෝ ගත්ත අරමුණ අතාරින්න පටන් අරගත්තොත් ඒ පුද්ගලයා හෝද හෝද මඩේ දනවා. නැත්නම් හැම තැනම ළිං කපන්න හදන මෝඩ ළිං කණින්නෙක් බවට පත් වෙනවා. ඒ නිසා අද භාවනා ක්‍රම රාශියක් තියෙනවා. අද භාවනා ගුරුවරු ඉන්නවා. අද භාවනා මධ්‍යස්ථාන ගොඩක් තියෙනවා. ඒ නිසා අනත්‍ථකාම, අහිතකාම, අඵාසුකකාම, අයොගක්ඛෙමකාම කියන වචනෙ දන්නේ නැති නිසා යෝගාවචරයෝ ඉතාමත්ම වල්මත්

වෙච්ච තත්ත්වයකට පත් වෙලා තියෙනවා විපස්සනා කරන, සම්‍යක් දෘෂ්ටිකයි කියාගන්නා යෝගාවචරයො. හැබයි මේකට පත් නොවී රහත් වෙච්ච බුදු වෙච්ච කෙනෙක් ඇත්තෙත් නැහැ. හැම කෙනාම මෙතෙන්දි කොහොමහරි පොඩි පටැලවිල්ලක පටලැවෙනවා.

මේකෙ හොඳ පැත්තකුත් තියෙනවා බණ ඉවර කරන්න කලින් මතක් කරන්න. හොඳට මේකෙදි කැලේ කොලේ ඇවිදලා වල්මත් වෙලා නන්නත්තාර වෙලා කාපු මනුස්සයාට ඕනැම කෙනෙකුට උදව් කරන්න පුළුවන්. දන්නවා මෙතෙන්ට ගියාට පස්සේ හැම කෙනාම තමන්ගේ පුළුවන්කාරකමට දැනුමට මාන්නෙට කරන්න තියෙන තකතිරුකම්, කරන්න තියෙන වැරදි වැඩ, කරන්න තියෙන නන්නත්තාරකම් වෙනවා කියල. ඒ උනාට ඔහු නැවත දවසක භාවනා කරන්න පටන්ගත්තම ආයෙත් හොඳ පාරට යන්න තියෙන අවස්ථාවක් තියෙනවා. ඒ නිසා ලෝකයා කියලා කියන්නේ, තමන්ගේම අහිත පිණිස අනර්ථය පිණිස තමන්ගේම ඥනය පාවිච්චි කරන සත්තු ජාතියක්. ඉතින් ඒ මනුස්සයාට ඒ ඥන පැත්තකට දාලා ඔය පුළුවන්කාරකම් පැත්තකට දාලා සර්වඥයන් වහන්සේගේ ක්‍රමයට බහින්න කිව්වට කොන්ද පණ හයිය තියෙනකල් කරන්න පුළුවන් තරම් ඒ වගේ වරදින එක හැටියක්.

මේක සර්වඥයන් වහන්සේ පූර්ණව පිළිඅරගෙන තියෙනවා මනුස්ස ප්‍රජාව ගැන. එහෙම තියෙද්දිත්, කොච්චරවත් ඒ වාගේ වැරදි කරන එක පෘථග්ජන ගතිය. හරි පාරට වැටුණොත් එක චිත්තක්ෂණයයි. අකාලිකවම ප්‍රතිඵල දෙන බවට සර්වඥයන් වහන්සේ සාක්ෂි වෙනවා. ඒ නිසා අප්‍රිය අමනාපය කියන එක පුද්ගලයාගේ ප්‍රගතිය මනින, පුද්ගලයා නිසි මගට දන හොඳ ලස්සන විචිත්‍ර ධර්මයක්. ඒ විචිත්‍ර ධර්මය කොච්චර විචිත්‍රද, ඒ හා සමානම ශක්තිවන්ත භාවයක් සතියෙ පවතිනවා. ඔය කොච්චර අප්‍රිය අමනාපයෙන් ඇලිලා තැළිලා පීඩා බවට පත් උනත් එක චිතක්ෂණයකින්ම සතිය පිහිටුවන්න පුළුවන්. පිහිටවපු ක්ෂණයේම ප්‍රතිඵල දෙනවා. ඒ නිසයි භය නැතිව මේ ධර්මයට අකාලිකයි

කියලා කියන්න පුළුවන් වෙන්නෙ. හරි තැනට ආවොත් ආයෙ කිසිම කෙනෙකුට ආයෙ පගාවල් දෙන්න ඕනෑ නැහැ. කිසි කෙනෙකුට සන්තෝෂමක් දෙන්න ඕනෑකමක් නැහැ. සතිය පිහිටවපු ගමන් හුඟක් වෙලාවට ගැඹුරු සතියකින් ගැඹුරු සන්තෝෂයක් ඇති වෙන්නේ ගැඹුරු වැරැද්දක් කරපු කෙනකුට. බරපතළ වැරැද්දක් කරපු කෙනාට හරිගස්සගත්ත ගමන් ලොකු සතුටක් ඇති වෙනවා. හරියට පටාචාරාවට සිද්ද වුණා වගේ, අංගුලිමාලට සිද්ධ උනා වාගේ වහාම තේරෙනවා. මොකද, ඒ තරම් අගාධයක ඉඳලා ඒ තරම් ආලෝකයකට පත් කරන්න පුළුවන් ශක්තියක් සතියෙ තියෙනවා.

ඒක නිසා ලෝක ධර්මයක් වශයෙන් අප්‍රියයන් හා එක් වීම කියන එක යෝගාවචරයගෙ ජීවිතේ යෝගාවචරකම අලුත්වැඩියා කරන, විචිත්‍ර භාවයකට පත් කරන ධර්මයක්. ඒ නිසා බුදුරජාණන් වහන්සේ කලින්ම කිව්වා සතිපට්ඨානයේදී, සතිය කියන යන්තරේ සතිය කියන මන්තරේ සතිය කියන අමුතුම ඉන්ද්‍රජාලය නිතරෝම අතේ තියාගන්න කියල. අතේ තියාගත්තයි කියලා අප්‍රිය අමනාප ඇත්තෝ හමු වීම අඩු වෙන්නේ නෑ. හමු වෙනවාමයි. සර්වඥයන් වහන්සේ සර්වඥතා ඥානයට පත් උනාට පස්සෙත් උන්වහන්සේ කිව්වා මම කවදවත් ලෝකය එක්ක ගැටෙන්න යන්නේ නැහැ, ඒත් හැමදම ලෝකය මාත් එක්ක ගැටෙනවා. ඉතින් එහෙම නම් පෘථග්ජන කෙනෙක්, දකින දකින දේ අනන, දකින දකින දේ වියවුල් කරන ඇත්තන්, ගැන කථා කරන්න දෙයක් නෑ. අපි තේරුම් අරගන්න ඕනැ මේ ගැටීම තමයි, ලෝකයේ තියෙන හොඳයි, ලෝකයේ තියෙන නරකයි.

අන්න ඒ වෙලාවේදී සතියෙන් යුක්තව එන දේ අපක්ෂපාතව, කිසිම පූර්ව නිගමනයකින් තොරව, හොඳ වේවා නරක වේවා මට තියෙන්නේ ඇත්ත ඇති හැටියෙ දැකගන්නයි. මොනම විදියකට හෝ තීන්දුවකට එළඹුණොත් ඒකට චේතනා පහළ වෙනවා. ඒක කර්ම බවට පත් වෙනවා. මට ඒකට ගෙවන්න වෙනවා. මොනම දෙයක් වුණත් මම ළඟට ආවත් මම ඒ පිළිබඳව සතිය පිහිටුවොත් එන එක්කෙනත් පිරිසිදු භාවයට පත් වෙනවා.

මමත් පිරිසිදු භාවයට පත් වෙනවා. ලෝකයට ලොකු ආදර්ශයක් වෙනවා. ඒ නිසා අප්‍රිය දේවල් දැකලා අප්‍රිය විදියට ප්‍රතිචාර දක්වන්න යෑම අසතියේ ගතියක්. යම් අවස්ථාවක තමන්ට ඕනෑ නම් ඒ වාගේ එන්නා වූ නරක සිතිවිලි රාශි රාශි එනකොට කපන්ඩ, සර්වඥයන් වහන්සේ දේශනා කරල තියෙනවා ආනාපානසතිය වඩන්න කියල. **ආනාපානසසති භාවෙතබබා විතකකුපචෙඡදයා'ති** කියල.

දෘෂ්ටිවලට බරව, චිත්ත විපල්ලාසවලට බරව, සංඥා විපල්ලාස වලට බරව අනන්ත ප්‍රපංච ගලනවා. අරමුණක් එනවත් එක්ක මේ රාශි පොදි බැඳගෙන එනවා. ඒ එන ප්‍රපංච රාශි, ප්‍රපංච ගැම්ම, ප්‍රපංච ජවන, ප්‍රපංච වීථි කඩන්න නම් නිතරෝම හිත ආනාපානයට දන්න කියනවා. එතකොට **උපචෙඡද** වෙනවා මේ විතක්ක. ඒ නිසා අපි හිතන්න ඕනෑ මෙක ඉස්සරහට යනකොට යනකොට අඩු වෙන්නේ, එන විතක්ක අඩු වීම නිසාවත් ලෝකේ නිවන් දකින නිසාවත් අපට වෙන පහසුවක් නිසාවත් නොවෙයි. අපි ලෝකය දිහා බලන දර්ශනය එන්ට එන්ට ආස්තික වෙනවා. තේරුම් අරගන්නවා මේකෙ තියෙන තාක් කල් තියෙන්නේ ශබ්ද, රූප, ගන්ධ, රස, ස්පර්ශ, වද දෙන දේවල්. **සංඛිතෙතන පඤචුපාදනකඛනධා දුකඛා** කියලා සඳහන් කරනවා.

තවත් තැනෙක සඳහන් කරනවා මහණෙනි, කවදාක්වත් දැකපු නැති, දකින්න වෙන්නේ නැති, දකින්න වේවි කියලා හිතෙන්නේ නැති රූපෙකින් කවදාක්වත් දුකක් එන්නේ නෑ. අපට මේ වද දීලා තියෙන්නේ දැකපු රූප ටිකමයි. වද දෙන්නෙත් දැකපු රූප ටිකමයි. ඒ නිසා අන්ධ වෙන එක හොඳයි කියලා හිතෙන්න පුළුවන් එහෙම නම්. නමුත් එහෙම එකක් නෙවෙයි මේකෙ සඳහන් කරන්නෙ. අපි යම් තාක් හොඳ දේවල් දැක්කා රූප දැක්කා කියලා හිතුව නම්, යම් කිසි දෙයක් බදගෙන තියෙන්නෙ දුකක් බව තේරුම්ගන්න. මතුවටත් අපි නොදැකපු රූප දකින්න හදනව නම් අදහස් කරගන්න ඕනෑ නොදැක්ක දුකක් නොවිඳිනා ලද දුකක් බදගන්න හදන බවට. ඒ නිසා දකින දකින රූපයෙ වර්තමාන චිත්තය ඇති කරගත්තා නම්, සතිය ඇති කරගත්තා නම්, ඒකේ

කිසිම ප්‍රිය ගතියක්, අප්‍රිය ගතියක්, අමනාප ගතියක්, අහිත ගතියක් මොනවක්වත් නැතුව ඇති හැටිය දැනගන්නට පුළුවන්.

ඒ නිසා සතිපට්ඨාන සූත්‍රයේ එච්චර විස්තරයක් නැති වුණාට සූත්‍ර දේශනාවල තැන් තැන්වල සඳහන් වන කොටස් අරගත්තම මේ කියන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ පිළිබඳව අනිට්ඨ අකන්ත අමනාප ගතියත් අත්ථකාම, හිතකාම මේ වචන දිගේ විස්තර කරගෙන යනකොට යෝගාවචරයා ඉන්නේ පුදුමාකාර පිරිසිදු වෙන ධර්මතාවක. ඒක විඳින තාක් කල් දක්ෂ වෙන තාක් කල් ඉස්සරහට යන තාක් කල් හරි වෙහෙසක් දැනෙනවා. නමුත් ඒ වෙහෙස විඳින්නේ නැතුව කරන්න විදියක් නෑ. ඒක නිසා බුදුරජාණන් වහන්සේ නම්බු නාමයක් දීල තියෙනවා මේකට ආර්ය පර්යේෂණය කියලා. ඒක රසයක් විදියට දකින්න නම්, ආර්ය ව්‍යවහාරය අනුව සාකච්ඡා කරන්න ඕනැ.

ලෝක ව්‍යවහාරයෙන් සාකච්ඡා කළා නම් අපි මේ කරපු ධර්ම කතා මොනවත් මට තේරෙන්නේ නෑ කියලා කියන්න පුළුවන්. නමුත් මම හිතනවා මේ පිරිසට යම් යම් ප්‍රමාණවලින් තමතමන්ගේ තත්ත්වය තේරුණාය කියලා. තේරේවා කියන අදහසින් තමයි මම මේ ගොඩක් අදහස් ඉදිරිපත් කළේ.

එහෙම නැත්නම් තේරුම්ගැනීම පිළිබඳව මේ අත්දැකීම් සහ තම තමන්ගේ අත්දැකීම් සහ මේ ධර්ම කොට්ඨාශ හේතු වේවා, වාසනා වේවා! ඒ අනුව සියලුදෙනාටම ප්‍රියමනාප, අප්‍රියමනාප සියල්ල විෂයේ හොඳ සතිපට්ඨානයකට මේ ධර්ම හේතු වාසනා වේවා කියන ප්‍රාර්ථනාවත් එක්ක අදට නියමිත ධර්ම කොට්ඨාශ මෙයින් සමාප්ත කරනවා.

# 69 | ප්‍රිය විප්‍රයෝග දුක

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**කතමො ච භික්ඛවෙ පියෙහි විප්පයොගො දුක්ඛො? ඉධ යස්ස තෙ හොන්ති ඉට්ඨා කන්තා මනාපා රූපා සද්ද ගන්ධා රසා ඵොට්ඨබ්බා ධම්මා, යෙ වා පනස්ස තෙ හොන්ති අත්ථකාමා හිතකාමා ඵාසුකකාමා යොගක්ඛෙමකාමා මාතා වා පිතා වා භාතා වා භගිනී වා ජෙට්ඨා වා කනිට්ඨා වා මිත්තා වා අමච්චා වා ඤාතිසාලොහිතා වා, යා තෙහි සද්ධිං අසඞ්ගති අසමාගමො අසමොධානං අමිස්සීභාවො, අයං වුච්චති භික්ඛවෙ පියෙහි විප්පයොගො දුක්ඛොතී'ති.**

ගෞරවනීය මහා සංඝරත්නයෙන් අවසරයි, අපි මේ නේවාසික යෝගාවචර උපාසක මහත්වරුත් සම්බන්ධ කරගෙන සතියක් පාසා පවත්වාගෙන යනු ලබන සතිපට්ඨාන සූත්‍ර ධර්ම දේශනා මාලාවේ අද අපි එළඹිලා තියෙන්නේ හැටනමවෙනි අවස්ථාවට.

සතිපට්ඨාන සූත්‍රයේ මේ වෙනකොට සතර සතිපට්ඨාන ගැනම කථා කරලා තියෙනවා. දැනට අපි වැඩියෙන්ම විස්තර කරගෙන යන්නේ ධම්මානුපස්සනාවයි. හතරවෙනි අනුපස්සනාවයි. එහි ඇත්තා වූ සච්චපබ්බයේ **දුක්ඛසච්ච** දුක්ඛ සත්‍යය සම්බන්ධ කොටස් තමයි පසු ගිය සති කිහිපයම අපි මාතෘකාව වශයෙන් ඉදිරිපත් කරගත්තේ. ගිය වතාවේ අපි **අප්පියෙහි සම්පයොගය** ඉදිරිපත් කරගත්තා. අද **පියෙහි විප්පයොගය** ඉදිරිපත් කරගන්න බලාපොරොත්තු වෙනවා. ඒ **අප්පියෙහි සම්පයොගය** ගැන කතා කරපු, දේශනා කරපු ඒ පාඨයේදී අපි අද මේ ඉදිරිපත් කරගත්ත

පාඨයෙහි පවතින්නා වූ මුල් කොටස අප්‍රිය සම්ප්‍රයෝගයට ගැළපෙන ආකාරයට ඒ විදිහටම **අනිට්ඨා, අකන්තා, අමනාපා** අනිෂ්ට වූ අකාන්තිමත් වූ අමනාප එළවන සුලු වූ ඒ අනර්ථකාම, අහිතකාම, අයොගක්ෂෙමකාම කියන අනර්ථය පිණිස, අහිත පිණිස, වැරදි මගට යොමු කරවන්නා වූ ශබ්ද රූප ගන්ධ රස ස්පර්ශ පොට්ඨබ්බ ධම්ම කියන කොටස් සමග එකතු වීමයි, අප්‍රිය සම්ප්‍රයෝගය නරක දේවල් සමග මිශ්‍ර වීම වශයෙන් දැක්වූවේ.

ඊට සාපේක්ෂකව අද ප්‍රිය විප්‍රයෝගයටත් ඒ වාගේම සඳහන් කරනවා, මොකක්ද ප්‍රිය විප්‍රයෝගය කියලා කියන්නේ? ප්‍රියයන්ගෙන් වෙන් වීම කියලා කියන්නේ යම් කිසි කෙනෙකුට ඒ විදිහට ඉෂ්ට වූ කාන්ත වූ මනාප වූ තමන් ප්‍රාර්ථනා කරන වූ සිත් ගන්නාසුලු වූ මනාප වූ යම් ශබ්දයක් රූපයක් ගන්ධයක් රසයක් ස්පර්ශයක් ධර්මයක් වෙනවා නම්, ඒක ඒ පුද්ගලයාගේ අත්ථකාමය - අභිවෘද්ධිය, හිතකාමය - මනාපය, යොගක්ඛෙමකාම - සුමගට යොමු කරන බවක් ඇති වෙනවා නම්, ඒ වාගේම **මාතා වා පිතා වා භාතා වා භගිනී වා ජෙට්ඨා වා කනිට්ඨා වා මිත්තා වා අමච්චා වා ඤාතිසාලොහිතා වා** කියලා සම්පූර්ණ ප්‍රඥප්ති කාරණා ටිකකුත් අර කලින් අප්‍රිය සම්ප්‍රයෝගයට වෙනස්ව ප්‍රිය විප්‍රයෝගයේදී දක්වනවා. හිතකාම වූ තමන්ට මනාප වූ තමන් සුමඟට යොමු කරන්නා වූ යම් වූ මවක්, පියෙක්, වැඩිමහල් හෝ වේවා බාල හෝ වේවා සහෝදරයෙක් සහෝදරියක්, මිත්‍රයෙක් හෝ වේවා, අමාත්‍යයෙක් හෝ වේවා, සලෝහිත ඥාතියෙක් හෝ වේවා අන්න ඒ කෙනෙක් එක්ක තියෙන අසංගතිය අසංවාසය අමිශ්‍රී භාවය තමයි මෙතන ප්‍රිය විප්‍රයෝගයට දක්වන්නෙ.

ඒ නිසා අප්‍රිය සම්ප්‍රයෝගය සහ ප්‍රිය විප්‍රයෝගය කියන දෙකටම රූප ශබ්ද ගන්ධ රස ස්පර්ශ තමයි පරමාර්ථයට කිට්ටු කරලා දක්වන්නේ. විශේෂයෙන්ම ප්‍රිය විප්‍රයෝගය සම්බන්ධව සම්මුතියෙන් ඥාතිත්වය ගෙන හැර දක්වලා තියෙනවා. මේක ඉතින් බොහෝමත්ම ඕළාරිකව කාට හරි හොඳට වටහාගන්න පුළුවන්. විශේෂයෙන්ම පැවිදි ඇත්තන්ටත් වඩා ගෘහ ආශ්‍රිතව අඹුදරුවන් රකිමින් ගත කරන ඇත්තන්ට මේක හොඳටම හිත් වදිනවා. ඒ වගේම පහසුවෙන් තේරුම් අරගන්න පුළුවන්. ඒ මොකද අපිට හිත එළවන, මනාපය එළවන, අපි

සුමගට යොමු කරවන දෙමව්පියෝ, බාල මහලු වේවා සහෝදර සහෝදරියෝ, මිත්‍ර අමාත්‍යවරු ඥාති සලෝහිත කියන දේවල් අත්‍යවශ්‍ය පවුල් බන්ධනයට හෝ සමිති සමාගම් බන්ධනයට හෝ අත්‍යවශ්‍ය කාරණා.

අනික් පැත්තෙන් මේක මේ විදිහට ප්‍රිය විප්‍රයෝගය වෙන්ඩ දක්වන්ට සාක්ෂියක් වශයෙන් පෙන්වන්න පුළුවන්, සර්වඥයන් වහන්සේගේ දේශනාවෙම සඳහන් වනවා, අපි පෙර කළ පිනක විපාක වාරයක් ආවොත්, ඉස්සර ආත්මයක කළ, පෙර කළා වූ හොඳ කුසල කර්මයක විපාක වාරයක් ආවොත් ඒ විපාකය බුක්ති විඳින වෙලාවේදී අපට වැටහෙනවා කියලා තියනවා අපේ හිතකාම, ප්‍රියකාම, මනාප වූ සුමගට යොමු කරවන්නා වූ නෑයන් පිරිසක් මැද ඉන්නා සේ. අම්මා තාත්තා ළඟට ආවා වගේ, සහෝදර සහෝදරියන් ළඟට ආවා වගේ, මිත්‍ර අමාත්‍යවරු සලෝහිත ඥාතීන් අතරට මැදි වුණා වගේ බොහෝම ඥාතිත්වයක් දැනෙන බවක්. ඒ නිසා යම් තැනකට අපි ගියහම අපිට හුරුපුරුදු ගතියක් එතන බොහෝමත්ම ප්‍රියමනාප භාවයක් අපට ඇති වෙනවා නම් අපිට හිතාගන්ට පුළුවන් පෙර කළ පිනක විපාකයක් කියල. ඒ විපාක වශයෙන් අපිට දකින අහන ඕනෑම කෙනෙක් ස්ථාන, ඍතුව, ආහාරය බොහෝම හොඳයි ප්‍රියයි, මනාපයි.

ඒ නිසා අපිට යම් තැනක බ්‍රහ්මචරිය සඳහා හෝ පැවිදි ජීවිතය සඳහා ගියාම මේක තදින්ම බලපානවා. අපි බලාපොරොත්තු වෙනවා ඔක්කෝම අතර සාමය, ඔක්කෝම අතර සමගිය, එකිනෙකා කෙරෙහි ප්‍රිය ඇහෙන් බලන ගතිය තියෙනවා නම් අපිට හිතාගන්ඩ පුළුවන් ඒ පිරිස ගිය ආත්මේ හොඳට පින් කරපු පිරිසක්. මේ ආත්මයේ ඒ කුසල විපාක වාර වශයෙන් දකින අහන සෑම කෙනෙක්ම දකින්නෙ ඥාති සලෝහිත වගේ. සහලේ නෑයන් වාගේ. එකම ලේ ඇති ඥාති පරම්පරාවක් වාගේ. ආන්න ඒ තරමටම කරන කියන ඕනෑ දුෂ්කර කටයුත්තක් හඳ බෙදාගෙන ඉදිරියට යාගන්ඩ පුළුවන් ගතියක් මේ කියන ඥාතිත්වයේ තියෙනවා නම්, ඉෂ්ට වූ කාන්ත වූ මනාප වූ රූප ශබ්ද ගන්ධ රස ස්පර්ශ විෂයෙහි ධර්ම විෂයෙහි තියෙනවා නම්, අන්න එයින් වෙන් වීම ඒ හා සමානම බොහෝම චිත්ත පීඩා ගෙන දෙන පපුවට දරාගන්න බැරි තත්ත්වයකට පත් කරන ගතියක් තියෙනවා.

ඒ තත්ත්වය දුක්ඛ සත්‍යය වශයෙන් හාත්පසින් අවබෝධ කට යුත්තක් කියන එකයි මෙතන මේ ධර්මයට නැඹුරු කරලා සතර සතිපට්ඨානයට නංවලා පෙන්වන්නෙ. එහෙම නැතිව මේක පිළිබඳව අල්ලාප සල්ලාප කතාවක්වත් මේක හඳුන්වාදීමක්වත් නෙමෙයි. මේක හොඳටෝම දන්න කාරණාවක්. නමුත් මේ තුළ දුක්ඛ සත්‍යය ගැබ් වෙලා තියෙන හැටිත් ඒ දුක්ඛ සත්‍යය ආර්ය සත්‍යයක් බවට පත් කිරීමට භාවනාවක් බවට පත් කිරීමට එදිනෙදා දෙවේලේ අපිට ජීවිතයට හමු වෙන මේ සංසිද්ධිය හරවාගැනීමක් තමයි යෝගාවචරයන් වශයෙන්, සතිපට්ඨාන ධර්මයට නැඹුරු පිරිසක් වශයෙන් අපි බැලිය යුතු දෘෂ්ටි කෝණය වෙන්නෙ. කොහොම නමුත් අර කලින්ම සඳහන් කළ විදිහට අම්මා, තාත්තා, නංගී, මල්ලී කියන මේ වචන සම්බන්ධ වෙනකොට හොඳටම සිත් වදිනවා. හොඳට තේරෙනවා මේක.

කොහොම නමුත් එහි තියෙන්නා වූ ගොරතරය දුක්ඛ ස්වරූපය තමයි අවබෝධ කළ යුත්තේ. ප්‍රිය මනාප භාවය වැඩි වෙන්ට වැඩි වෙන්ට වෙන් වීමෙන් ඇති වෙන්නා වූ දුක වැඩියි. ඒ නිසා මේ ප්‍රිය මනාප භාවය තුළ දුක දුක වඩන ස්වභාවයක් තියෙනවා. ඒ ප්‍රිය මනාප භාවය නම් ලෞකික ධර්මයක් විදිහට හැම කෙනාටම ප්‍රියයි. නමුත් ඒකාන්තයෙන්ම මේ විදිහට ධර්මානුකූලව සම්මර්ශනය නොකළත් අනිවාර්යයෙන්ම මේ කියන දෙයින් වෙන් වෙන්ට වෙනවා වෙනවාමයි, ඒක සත්‍යයක්. ප්‍රිය විප්‍රයෝග දුක්ඛය සම්පූර්ණයෙන්ම වෙන දෙයක්. විශේෂයෙන්ම සම්පූර්ණ වෙන්නෙ තමන් මැරෙන වෙලාවට. ඊට ඉස්සර වෙලා ටික ටික දෙනවා. අම්මා මැරෙනවා, තාත්තා මැරෙනවා, නංගී මල්ලී මැරෙනවා, වැඩිමහල් සහෝදර සහෝදරියෝ මැරෙනවා. මිත්‍රයෝ අමාත්‍යවරු සහලේ නෑයෝ කොච්චරදෝ මැරෙනවා. මැරෙනකොට අපෙන් කොටසකුත් මැරෙනවා. අපේ ඒ ප්‍රිය මනාප කොටසක් මැරෙනවා. මැරිලා මැරිලා මැරිලා මැරිලා අන්තිමට දීර්ඝායුෂ නම් මේ සියල්ලම ටික ටික ටික ටික විඳින්න වෙලා අවසානේ තමන් මැරෙන මොහොත එනකොට මරණ දුක මේ පිය විප්පයෝග දුකේ පෙට්ටිය පියනෙන් වැහුවා වගේ අංග සම්පූර්ණ වෙනවා.

මේක අමතක කරලා, නැත්නම් මේ සංසිද්ධියේ ප්‍රියයන් හා එක් වීමේ පැත්ත පමණක් තියාගෙන ප්‍රියයන්ගෙන් වෙන් වීම නැති කිරීමටයි අද තාක්ෂණය යෙදිලා තියෙන්නේ. අද මේ කියන්නා වූ ශිල්ප ශාස්ත්‍ර යෙදිලා තියෙන්නේ. නමුත් ඒ කවමදකවත් නොවැළැක්විය හැකි විදිහට ඒ සෑම තාක්ෂණයක්මත් සෑම ශිල්පයක්මත් සෑම විෂයක්මත් පියවිප්පයෝග දුකෙන් තමයි කෙළවර වෙන්නෙ. ඒ නිසා යම්ම බලාපොරොත්තුවක් අපි තිබ්බා නම් ඒ තාක් බලාපොරොත්තු කඩ වීම සිද්ධ වෙනවා. ඒ නිසා අම්හිරි වුණත් ඇඹුල් රසට ආවත් පැඟිරි රස ආවත් අපේ එකම බලාපොරොත්තුව විය යුත්තෙ බලාපොරොත්තු කඩ වීමමයි. එතකොට පේන්නේ ඒක මහ අපිස්, දුමංගල අභද්‍ර කථාවක් වාගේ.

මෙතන තමයි මේ ධර්මය බහු ජනතාවට ප්‍රිය වෙයිද එහෙම නැත්තම් යෝග කර්මයේ යෙදී සිටින යෝග පිරිසකට පමණක් ප්‍රිය වෙයිද කියන විදිහට මේ ජනප්‍රිය ධර්ම, නැත්නම් ජනප්‍රිය ආගම් පැත්තට යන කොටස සහ ධර්මය කොටසට යන කොටස වශයෙන් ලොකු පිරිසිදුවක් මෙතන ලබන්ට ඕනෑ. ඕක තමයි දුක්ඛ සත්‍යයක් බවට, දුක්ඛය ප්‍රිය විප්‍රයෝග දුක්ඛය දුක්ඛ සත්‍යයක් බවට පත් කරන කඩඉම. ඒක පතින තැන. යම් තාක් අපිට ප්‍රිය භාවයක්, ඉෂ්ට කාන්ත භාවයක්, මනාපයක් තියෙනවා නම් ඒ හා සමාන දුකක් ඇති වෙනවා. ඒක ධර්මයේ පනවන දෙයක්වත් අපිට විතරක් වෙච්ච දෙයක්වත් නෙමෙයි. ඒක ඒකාන්ත සත්‍යයක්. මරණයෙන් සියල්ල හමාරයි. අවුරුදු සීයක් ජීවත් වෙච්ච කෙනෙක් උනත් අපේ හම්බ කරලා තියෙන ප්‍රියමනාප මොනම දෙයක් තිබුණත් මොනම වටිනාකමක්වත් නැතිව යනවා මරණ චිත්තක්ෂණයෙදි. විශාල හඳුන් කැලයකට ගිනි තියලා ඉතුරු වෙච්ච අඟුරු ටික වගේ මොනවක්වත් නැති තැනට පත් වෙනවා.

බුදුරජාණන් වහන්සේගේ පණිවිඩය ඒ බව දැනගෙන, ඒක පරම සත්‍යයක් බව දැනගෙන ඒක නිතර මෙනෙහි කරන්න කියන එකයි. ප්‍රිය සම්ප්‍රයෝගයක් තියෙනවා නම් අනිවාර්යයෙන්ම විප්‍රයෝගයෙන් හමාරයි. **හා යොගා විප්පයොගන්තා** කියලා මරණානුස්සති භාවනාවේ සඳහන් වෙනවා. සෑම සංයෝගයක්ම ජීවිතේ තියෙන විප්‍රයෝගයෙන් කෙළවර වෙනවා. සෑම

බලාපොරොත්තුවක්ම බලාපොරොත්තු සුන් වීමකින් කෙළවර වෙනවා. තාමත් කාම තණ්හා භව තණ්හා කියන දෙකේ ඉන්නවා නම් හිතාගෙන ඉඳීවි, නෑ මගේ අසවල් එක නම් දැන් ඉෂ්ට වෙලා තියෙනවා, හරි ගිහිල්ලා තියෙනවා කියලා. නමුත් ඒක බොරු මායාවක්. ඒක අවිද්‍යාවක්. ඒක අවස්ථානුකූල කෙටි රසයක් පමණයි. ඒ මොකද, යම් තාක් දුරට ප්‍රියයන්ගෙන් වෙන් වීම ඒකාන්තයි, සත්‍යයි වාගෙම තවත් සත්‍යයක් තියනවා.

ඒ තමයි **තත්‍ර තත්‍රාභිනන්දිනී** කියන සර්වඥයන් වහන්සේ පෙන්වන තණ්හාවේ ස්වභාවය. ඒ ඒ තැන ඇලෙන ගතියක් තියෙනවා තණ්හාවේ. ධම්මචක්කප්පවත්තන සූත්‍රයේ කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා විස්තර කරනකොට කියන්නේ **තත්‍ර තත්‍රාභිනන්දිනී**. ගොම කුරුමිණියා ඒ උගෙ භවයට හරී කැමතියි. අපිට නම් පේන්නේ මේ වල් සතෙක් කාලා හෙළපු වසුරු පිඬක් ලොකු වස්තුවක් විදිහට අරගෙන ඔළුව බිම තියාගෙන පස්ස පැත්ත උඩ තියාගෙන අරගෙන යන මේ ගොම කුරුමිණි ජීවිතය මොන තරම් දුකක්ද මොන තරම් ජරාවක්ද කියලා. නමුත් ගොම කුරුමිණියා ගොම කුරුමිණි ජීවිතයට කැමතියි. අපාගත සත්ත්වයා අපාගත සත්ත්ව භාවයට කැමතියි. කැරපොත්තා කැරපොත්තගේ ජීවිතයට කැමතියි. කොරා කොරාගේ ජීවිතයට කැමතියි. අන්ධයා අන්ධයාගේ ජීවිතයට කැමතියි. ඒකයි ඌ මැරෙන්න කැමති නැත්තෙ. මේකත් ප්‍රියයන් හා එක් වීම වගේම පරම සත්‍යයක්. මොන කුණු කන්දලේ හරි කමක් නෑ, අල්ලගත්ත දේ අහු වෙච්ච දේ බදගත්තා. **තත්‍ර තත්‍රාභිනන්දිනී**. අන්න ඔය දෙක මැද, ප්‍රිය දේවලින් වෙන් වෙන්ට වෙනවා. ප්‍රිය හෝ වේවා අප්‍රිය හෝ වේවා ඉෂ්ට හෝ වේවා කාන්ත හෝ වේවා මනාප හෝ වේවා අහු වෙච්ච දේ බදගන්නවා.

මෙන්න මේක තථ ස්වරූපය. තත්‍ර තත්‍ර කියලා කියන්නෙ එතන එතන ඇලෙනවයි කියන එක. ඒක නිසා අපේ මනස අපේ කල්පනා ක්ෂේත්‍රය සම්පූර්ණ ඉදිරිපත් වෙච්චි දෙයින් කොටු වෙලා තියෙනවා. නමුත් මීට බාහිරව කොච්චරදෝ හොඳ දේවල් තියෙනවා. නමුත් අපිට කවදාකවත් අර ළිං මැඩියා ගෙම් මැඩියා ඒ ළිඳට ඒ ගෙට කොටු වෙලා ඒ දැනුමම විශාරද කරගෙන ජීවත් වෙනවා. ඌට ඒ ළිඳෙන් යන්න වීම ඒ ගෙයින් යන්න වීම බොහෝම දුකක්. කොච්චර

විසි කෙරුවත් ඒකා ගේ පැත්තට හැරිලා තමයි වැටෙන්නෙ. ඒ වාගේමයි පෘථග්ජන සත්ත්වයාත් කුණු කන්දලේක තමයි උපදින්නේ. මැරෙනකල්ම ඒ කුණු කන්දලේ බදගෙන ඉන්ට තමයි කැමති. කුණුකන්දලෙන් වෙන් වෙන්න වීම ප්‍රිය විප්‍රයෝගයක් විදිහටයි පෙනෙන්නේ. අසූචි එක්ක ජීවත් වෙන පණුවා ඒ අසූචියෙන් වෙන් කරපුවහම හරි දුකට පත් වෙනවා.

මේ තත්ත්ව දෙක ජීවිතයට ළං කරගත්තට පස්සේ ජීවිතයක තියෙන සෞන්දර්යය, සිලිලාරෙ, මේ මේ දේවල් ලබාගන්ට ඕනැයි කියන එකේ යම් විදිහක විවර්ණ වීමක් සිද්ධ වෙනවා. ඉතින් මේ නිසා සෞන්දර්ය ඇත්තො හරීම අකමැතියි ප්‍රිය විප්ප්‍රයෝගය දුක්ඛ සත්‍යයක් බව දැකගන්න. අපි දකින දකින දේ අල්ල බදගන්න ජාතියක්. තත්‍ර තත්‍රාභිනන්දනී කියන එක තේරුම් කරලා දෙන්න බොහොම අමාරුයි. ඒ ඇත්තො හිතනව අපි අල්ලලා තියෙන්නෙ හොඳ එකක්. ඒ නිසා මේ ඇල්ලීම හොඳයි. අනික් කට්ටියට අයිතිවාසිකමක් නෑ මට සත්‍යය අවබෝධ කරලා දෙන්ට හෝ වඩා හොඳක් අවබෝධ කරලා දෙන්ට. මොකද, මම ඉන්නෙ දැන් සතුටින්. මම ඉන්නේ මේ ලබාගත්ත දෙයින් වෙන් වෙන්ඩ නොවී අල්ලාගන්න තත්ත්වයක.

මෙන්න මෙවැනි තත්ත්වයකදී තමයි සර්වඥයන් වහන්සේට චතුරාර්ය සත්‍යය ලෝකයට දේශනා කරන්න වුණේ. මේ නිසා තමයි ලොකු පැකිළීමක් ඇති වුණේ සර්වඥතා ඥානයෙන් පස්සේ කොහොමද මනුෂ්‍යයාට මේක පහදලා දෙන්නේ කියලා. **තත්‍ර තත්‍රාභිනන්දනී**, මනුෂ්‍යයා විතරක් නෙමෙයි සතාත්. ඒ මනුෂ්‍යයාට තමයි මේක අර්ථයෙන් වටහාදෙන්න පුළුවන් වෙන්නේ. ඒත් අල්ලගත්ත දේ අල්ලගත්ත දේ වශයෙන් බදගෙන ඉන්න නිසා කොහොමද මේ බදගැනීම දුකක්, බදගත්ත සෑම දෙයකින්ම බලාපොරොත්තු සුන් වීමක් සිද්ධ වෙනවා කියන ධර්මය කියන්නෙ? වේරංජ බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ දැකලා කරපු චෝදනා ටික සියල්ලම කාම ලෝකෙ සත්ත්වයොත් බුදුහාමුදුරුවො කෙරෙහි කරනවා, බුදුරජාණන් වහන්සේ රසකාමයක් නැති ධර්මයක් දේශනා කරලා තියෙන්නෙ කියලා. කවදකවත් අභිවෘද්ධියක් වර්ධනයක් නැති ධර්මයක් මේකෙ තියෙන්නේ කියලා ප්‍රශ්න කරන්න පටන්ගන්නවා. ඇත්ත කතාව. නමුත් ඒක ප්‍රසිද්ධියේ කිව්වොත් බුද්ධාගමට වදියි

කියලා හුගදෙනෙක් හිතනවා. ඒක නිසා ඒගොල්ලත් හදනවා මේක තෙම්පරාදු කරලා කොහෝම හරි සිත්ගන්නාසුලු ආකාරයට බුද්ධ ධර්මය ආගම් තෙම්පරාදුවෙන් තෙලේ දලා කොහොමහරි අනිකුත් ආගම් එක්ක විකුණගන්ඩ. ඒක මං හිතන්නෙ නැහැ ආර්යයන් වහන්සේ නමකට හෝ බුදුරජාණන් වහන්සේ ඇතුළු යම් මනුෂ්‍ය සත්ත්ව හිතකාමී පුද්ගලයෙකුට කරන්න පුළුවන් දෙයක් කියලා.

ජාතක කතාවල මේක අපේ ලොකු ස්වාමීන් වහන්සේ හුගක් ප්‍රකාශ කරපු නිසා මං අවුස්සලා බැලුවා ටිකක්. අකිත්ති ජාතකය කියලා එකක් තියෙනවා. මේකෙ වටිනාකමක් තියෙන්නේ හින්දු ධර්මයේ ඍෂි පරම්පරා කීපයකට ඉස්සර වෙලා අකිත්ති පඬිවරයා කියලා කෙනෙක් හිටපු බව හින්දු සාහිත්‍යයේ තියෙනවා. බෞද්ධ සාහිත්‍යයේ මේක එනවා ජාතක කතාවක් විදිහට. අකිත්ති පඬිවරයා ඉඳලා තියෙන්නේ රාජකීය පරම්පරාවක. එහෙම ඉඳල සියල්ලම දන් දීලා, ගේදොර දන් දීලා වනයට ගිහිල්ලා කවුරුත් එන්නෙ නැති පළාතකට වෙලා කර ගහක් යට ජීවත් වෙලා තියෙනවා. උදේ වරුවේ කර කොළ මිටි දෙකක් විතර කඩලා, අව්වෙ ගලක් උඩ දලා තියලා දවල් මද්දහන වෙනකොට ඒක තැව්ගැහිච්චහම ඒක වළඳලා ජීවත් වෙනවා, කිසිම කෙනෙක්ගෙ ආශ්‍රයක් නැතිව තනිකරම කැලෑ ජීවිතේ. ඉතාමත්ම සතුටින් ගත කරනවා.

දවසක් ශක්‍ර දේවේන්ද්‍රයට පේනවා මෙච්චර ලෝකෙ මනුෂ්‍යයෝ ඉඩම් අල්ලගන්ඩ, රාජ සම්පත්ති ලබාගන්ඩ, ලැබූ දේ වර්ධනය කරගන්ඩ හදනකොට, මෙහෙම එක මනුෂ්‍යයෙක් සම්පූර්ණ සැප සම්පත් අතෑරලා කැලේට ගිහිල්ලා කර ගහක් ආශ්‍රය කරගෙන ජීවත් වෙනවා. ඉතින් හිතුවා මේ මිනිහා දන් කර ගහට බැඳිලයි තියෙන්නේ කියලා. ඒ නිසා ශක්‍ර දේවේන්ද්‍රයා දවසක හරියටම මද්දහන වෙලාවෙදි ගිහිල්ලා දුගියෙක් විදිහට පෙනී සිටියා අර කැලේ මැද්දෑවෙ තියෙන අසපුව ගාව. අකිත්ති පඬිවරයා මේ හිඟන්නා පුලන්නා දැකලා තමන්ට කෑමට හදලා තිබුණු කර කොළ ටික දුන්නා. ඉතින් අර පුලන්නා, හිඟන්නා කාලා බොහෝම සන්තෝෂ වෙලා ගියා. අනේ හුග කාලෙකින් කන්ඩ බොන්ඩ දෙයක් නැතිව හිටියේ ඔබතුමා බුදු වේවා කියලා ඉතින් ස්තුති කරලා ගියා.

ඊට පහුවෙනිදා මෙයා බලා හිටියා ආයෙත් සැරයක් කර කොළ ටිකක් කඩලා තපසයා වළඳයිද කියලා. නෑ. හැන්දෑවේ මොනවක්වත් වැළඳුවේ නෑ. උදේ වරුවේ හදගත්ත දේ දෙළහට ඉස්සර වෙලා බැරි වුණා. ඉතින් හිඟන්නාට දුන්නා, ඉවරයි. පස්සෙ දවසේ අර මනුෂ්‍යයා කරපු දේ, ගමන වැරදුණා නේ කියලා හරියටම ආයේ හරියටම දෙළහ වෙනකොට ආවා. එතකොට දෙවැනි දවසෙත් කඩලා වේළලා තිබුණ කර කොළ ටික අර හිඟන්නට දුන්නා. ඉතින් කීවා බොහෝම පින් සිද්ද වෙනවා මේ කැලේ පාර අමතක වෙලා නෙව මට තියෙන්නේ, යාගන්නට දන්නෙ නැති නිසා දවස් දෙකක් කරදර කරන්න සිද්ධ වුණා. ඔබතුමත් මේ විදිහේ යාන්තම් යැපෙන කෙනෙක් කියලා, ඉතින් මේ අකිත්ති පඬි බොහෝම නිශ්ශබ්දව අර දුක්ගැනවිල්ල අහලා යන්න ගියා. ශක්‍රයා ගිහිල්ලා පරීක්ෂා කළා, දෙවෙනි දවසේවත් හැන්දෑ වරුවේ කර කොළ ටිකක් කඩලා වේළලා මේ තාපසයා වළඳයිද කියලා. වැළඳුවෙ නෑ. බලන්න ඊට පස්සේ පරීක්ෂා කරන්ට ඕනෑ නිසා තුන්වෙනි දවසෙත් ආවා. එදත් අර සිද්ධියමයි වුණේ. ඉතින් මේ දුගියා ඉතාමත්ම ළෙන්ගතුව බැගෑව කිව්වා, කරන්ඩ දෙයක් නැතිකමට මම මේ වළඳන්නේ ඔබතුමාගේ දනේ. නෑ නෑ ඒකෙ ප්‍රශ්නයක් නෑ වළඳන්ඩෙයි කියලා ගියා.

වළඳලා ඉවර වුණාට පස්සේ ශක්‍ර දේවේන්ද්‍රයා තමන්ගෙ ස්වරූපයෙන් පෙනී සිටියා. ඇහුවා, තාපසය මෙච්චර ලෝකේ සැප සම්පත් තියෙද්දි ඔබගේ මෙම බ්‍රහ්මචරිය කුමක් සඳහාද කියල. තාපසයා සඳහන් කළා නැවත නැවත ඉපදීම ලොකු දුකක්, මේ ශරීරය විඳීම දුකක්, මේ මෝඩකමින් යුක්තව මැරෙන එක දුකක්. මට මේක නැති වේවායි කියලයි මම මේ කැලේට වෙලා කවුරුත් පේන්ඩ නැති තැනක බ්‍රහ්මචරිය රකින්නෙ. එතකොට ශක්‍ර දේවේන්ද්‍රයා පඬිවරය, ඔබගේ මේ සුභාෂිතය, මනුෂ්‍යයො මේ කොච්චරදෝ කාම වස්තු පිටිපස්සේ යද්දි ඔබ විසින් කරන ලද මේ දනයත් ඔබගේ සුභාෂිතයත් නිසා මම ඔබට වරයක් දෙනවා, ගන්න, කියලා කීවා. අකිත්ති පඬිවරයා කියනවා සත්ත්වයො සියලුදෙනාටම සියලු භූතයන්ට අධිපති වූ, සියලුදෙනාට වර දීමේ ශක්තිය ඇත්තා වූ ඔබ වරයක් දෙන්න කැමති නම් අනේ මට ස්ත්‍රී අඹු දරුවෝ වස්තු භෝග පරිභෝග හම්බ වෙලා එව්වා විනාශ වීම නිසා ඇති වෙන්නා වූ දුකට හේතු

වෙන්නා වූ ලෝභය නැතිව මට උපදින්න ලැබේවා! කියලා මම වරයක් ඉල්ලනවා.

ශක්‍ර දේවේන්ද්‍රයා සඳහන් කළා ඒ වචනෙත් අර කලින් වචනෙ වගේ බොහෝම වටිනවා. සාමාන්‍යයෙන් මනුෂ්‍යයන්ගෙන් හම්බ වෙන්නෙ නැති වචනයක්. මිනිස්සු ඉල්ලන්නේ ප්‍රිය මනාප වස්තු. ඔබ කියන්නෙ මොකක්ද? ප්‍රිය මනාප වස්තු උපදින්නේ ලෝභය නිසයි. මේ උපදින සෑම ප්‍රියකින් මට වෙන් වෙන්ට වෙනවා. ඒ නිසා මට ලෝභය නූපදීවා! කියලා ඉල්ලනවා. මේකත් ඇත්තටම සුභාෂිතයක්. ඒ නිසා මම ඔබට තව වරයක් දෙනවා. එතකොට අකිත්තිතුමා කියනවා ශක්‍ර දේවේන්ද්‍රයෝ, ඔබ සියල්ලටම අධිපතිකම් කරන්ඩ පුළුවන් බලයක් ශක්තියක් තියෙනවා නම්, අනේ දූසිදස්සෝ රත්තරන් ඉඩම් කඩම් නිසා හරියට මනුෂ්‍යයෝ කෝප වෙනවා. කෝප වෙලා හිතෙන් පිරිහෙනවා. මේ සියල්ලටම හේතු වෙන්නෙ ද්වේෂය. අනේ මම ඒ ද්වේෂය නැතිව උපදීවා, මට උපදින්ට ලැබේවා කියන එකයි මගේ ඉල්ලීම.

එතකොට ශක්‍ර දේවේන්ද්‍රයා සඳහන් කරනවා තුන්වෙනි වශයෙනුත් ඔබ කළ ප්‍රකාශය බොහොම සුභාෂිතයක්. ඒ නිසා කරුණාකරලා මම තවත් වරයක් දෙන්ඩ කැමතියි. එතෙන්දි පඬිවරයා කියකවා කවදාකවත් බාලයෙක්ගේ ඇසීමක් දැකීමක් ප්‍රිය සල්ලාපයක් රුචි භාවයක් මට නොවේවා! මේ මොකද ඔය තරම් බාලයො උඹට කරපු අවැඩ අමනාපය? නෑ නෑ උන්දලා කවදාකවත් මාව තැනකට යොමු කරන්නෙ නෑ. නොමගටමයි යොමු කරන්නෙ. ඒ විතරක් නෙමෙයි අනර්ථය කරනවා. කොච්චර හොඳට කතා කරලා හොඳ වචනයක් කීවත් රුස්සන්නෙ නෑ. ඒ නිසා සුභාෂිතයක් ඉවසන්නේ නෑ. කෝප ගන්නවා. මට එවැනි බාලයන්ගෙ ඇසුර නොවීම පිණිසයි මම මේ කැලේට වෙලා ගත කරන්නේ. මට එහෙමම ඉන්ඩ ලැබේවා! එච්චරයි මගෙ වරය.

මේක තමයි ඇත්තටම අපි එදාගත්ත **අප්පියෙහි සම්පයොගො දුක්ඛො** කියන එක කොච්චරක් නම් ජීවිත වශයෙන් අත්දැකලා තියෙනවද එයා ඉල්ලන වරය? ඒ වගේම වරයට හේතු දැක්වීමෙන් පේනවා ලෝකෙ ඉන්නා තාක් ඉන්නේ බාලයෝ. ඉන්නා තාක් තම

තමන්ගෙ දේවල්වලට ප්‍රිය මනාප ඇත්තො. අන්න එවැනි ඇත්තන් එක්ක ඉන්ඩ ගිහිල්ලා ඒ ඇත්තන්ට හොඳක් කීවත් ඒ ඇත්තන්ට පේන්නේ ඒක මහ කරදරයක් වාගේ. වෙහෙසකට ගන්නවා. මට එහෙම ඇසුරක් ඕනැ නෑ. සල්ලාපයක් ඕනැත් නෑ. අල්ලාප සල්ලාප දැකීමක් මොනවක්වත්ම එපා. ඒකයි වරය.

ඊට පස්සේ ශක්‍ර දේවෙන්ද්‍රයන් සඳහන් කරනවා හතරවෙනියට සඳහන් කරපු වචනෙත් අර මුලින් තුන වගේමයි බොහොම වටිනවා. ඒ නිසා මම තව වරයක් දෙනවා. අනේ එහෙනම් මට ධීරයන් වහන්සේලාගේ ඇසුර ලැබේවා! ධීරයන් වහන්සේලාගේ දැකීම, ඇහීම, ඇසුර මට රුචි වේවා. උඹට මොකක්ද ඔය ධීරයන් ඔය පණ්ඩිතයන් කරපු සේවය? නෑ ඒ ඇත්තො කරනවා නම් කරන්නේ සේවයක් විතරයි. ඒ ඇත්තෙකුට මොනවාහරි වචනයක් කීවත් කවදාකවත් කෝප ගන්නෙ නෑ. සුමගටමයි යොමු කරන්නෙ. ඒ නිසා මට ඒ ධීරයන්ගේ ඇසුර ලැබේවා කියලා දැන් වර පහක් සක්‍ර දේවේන්ද්‍රයා සඳහන් කරනවා, මේ එකින් එකට එකින් එකට අමුණපු මුතු මාලයක් වගේ ඉතාමත්ම වචන බොහෝම සුන්දරයි. ඥනාන්විතයි ඒ නිසා මම උඹට තව වරයක් දෙනවා.

එතෙන්දි ශක්‍ර දේවේන්න්ද්‍රයාටම ගහනවා. මොකක්ද මගෙ වරය, ඔබතුමා මට මීට පස්සේ මට දකින්න නොලැබේවා! ඊට පස්සෙ කියනවා දෙය්යනේ මේ මනුෂ්‍යයෝ කොච්චර කැමතිද සක්‍ර දේවේන්ද්‍රයා දකින්න කොච්චර ප්‍රියද කොච්චර බලවත්ද මනාපද ඇයි එහෙම කියන්නෙ. නෑ ඔබතුමා මයෙ ළඟ ඉන්නකොට මට අපහසුයි. සියලු සැපතින් පිරුණු ඔබතුමා ඉන්නකොට තවුස්දම් රැකීමෙහි පමා වෙනව. මීට පස්සෙ දැකීමක් නොලැබේවා කියලා එක තමයි ඔන්න අකිත්ති පඬිවරයා අන්තිමටම ඉල්ලන වරය.

ඉතින් මේවා අපේ ලොකු ස්වාමීන් වහන්සේ හොඳට කටපාඩම් කරගෙන හිටියා. උන්වහන්සේ කීප වතාවක් නැගිටගන්න බැරිව ඇඳේ උඩුබැල්ලට වාඩි වෙලා ඉන්න වෙලාවේදි කීපවතාවක් මේ අකිත්ති පඬි කියන සංස්කෘත වචනයත් අකිත්ති ජාතකය කියන දෙක අරන්, ඒකෙ තියෙන හින්දු මූලාශ්‍ර සහ අපේ ජාතක මූලාශ්‍රවල තියෙන මේ කතාව මට කියල දීල තියනව.

ඒ වෙලාවේ නම් අකිත්ති පඬිවරයා නිවන් දැකලා තිබුණේ නෑ. නමුත් නිවන් දකින වචනයක් මේකෙ තියෙන්නෙ. මේ වගේ ධර්මයක් දේශනා කළොත් බුද්ධාගමට මොනවා වෙයිද? මේ කියන කාරණා කතා කෙරුවොත් මොකද වෙන්නේ? අද තියෙන්නේ මුළු බුද්ධාගමම සුව එළවීමේ වැඩ පිළිවෙළක්. සුව කිරීමේ වැඩ පිළිවෙළක්. ස්ත්‍රීන්ට දරුවො නැති අයට දරුවො හම්බු වෙන්න, රක්ෂාවල් නැති ඇත්තන්ට රක්ෂාවල් හම්බු වෙන්න, ප්‍රිය මනාප දේවල් ලබාගන්ට. එව්වා බොහෝමත්ම ඉස්සර කරගෙන, එව්වා කරදෙන්නන් බවට සහතික කරමින් ඉදිරියට ගෙනියන බුද්ධාගමක් තියෙන්නෙ. මේක තමයි ඒ ඇත්තො කියන්නේ ආර්ථික අභිවෘද්ධිය කියලා. මේක තමයි මේ ඇත්තෝ කියන්නේ දේශපාලන නිදහස කියලා. ඒ ඇත්තො කියන්නේ සාමාජික වශයෙන් පවත්නා සමානාත්ම භාවය කියලා මේ පවතින ආගම තමයි පෙන්වන්නෙ.

නමුත් අකිත්ති පඬිවරයා දක්වන කාරණාවෙදි පේනවා ඒ තත්ත්ව සියල්ලම ලබලා අවසානේ තමන්ට තමන්ගෙ මනාපෙ ක්‍රියාත්මක කරන්ඩ ඕනැ නම් මොකක්ද එවැනි චරිතයක ගම්‍ය වන දේ? එතකොට මෙන්න මෙතෙන්ට එනවා. මේ ප්‍රිය විප්‍රයෝගයත් අප්‍රිය සම්ප්‍රයෝගයත් කියන දෙක අපිට දුපු නාස් ලණුවක් වාගෙ තමයි. රජ්ජුරුවො අපිට දඬුවම් කරන්ඩ වෙච්චහම, නීතිය අපිට දඬුවම් කරන්ඩ වෙච්චහම, අපේ හතුරෝ අපිට දඬුවම් කරන්ඩ වෙච්චහම මේ දෙකෙන් අල්ලලා තමයි එහාටයි මෙහාටයි අපිව හොල්ලන්නෙ. ඉතින් ඒ බව අපි දැනගෙන සිටීම අමනුෂ්‍ය වැඩක්වත් ජිගුප්සාජනක දෙයක්වත් ජාතිය බෝ කිරීමට අභිවෘද්ධියට විරුද්ධව යන වැඩක්වත් කියලා කවුරුහරි කියනවා නම්, ඒ ඇත්තා මේ පොල්ගහ කන්ඩද යන්නෙ කෙහෙල් ගහ කන්ඩද යන්නෙ කියන එක මැන කිරාගන්ට ඕනැ.

මේ විදිහට අප්‍රියයන් හා එකතු වීම සහ ප්‍රියයන්ගෙන් වෙන් වීම කියන එකේ ආදීනව දැක්කයි කියලා කවදාකවත් මේ ලෝකෙ තියෙන සුන්දරත්වයට ප්‍රතික්ෂේප වීමක් හෝ කාටහරි හොඳක් වේවා මට හොඳ වේවා කියන කල්පනාවෙන් පිට යෑමක් හෝ ඇතැයි කියලා හිතන්ට නරකයි. මෙතනදි කරන්නේ දුක, ඒකාන්තයෙන්ම පැමිණෙන මේ දුක, දුක්ඛ ආර්ය සත්‍යයක් බවට පත් කරගන්ඩ, ඒකට පූර්ව

නිගමනවලින් තොරව දුක දුක වශයෙන් බලනවා, බුදුහාමුදුරුවො පෙන්වපු තාලෙට. මේක එච්චර ලේසි වැඩක් නෙමෙයි - එච්චර නෙමෙයි කොහොමටවත් ලේසි වැඩක් නෙමෙයි. ඉතාමත්ම දුෂ්කර වැඩක්. කොච්චරද කියනවා නම් අපිට හතුරෙකුට හතුරුකම් කරන්ට ඕනැ නම්, මෙන්න මේ දෙකෙන් අල්ලලා හෙල්ලුවොත් ඒ හතුරා මරනවාට වැඩිය ලේසියෙන් මානසිකව මරන්ඩ පුළුවන්. ඒ ඇත්තා ප්‍රිය දේවල්වලින් වෙන් කෙරුවොත් අප්‍රිය දේවල් සමග මුසු කෙරුවොත් ඒක තමයි ඔහුට දෙන්න පුළුවන් රාජ දඬුවම. ඒක තමයි සිවිල් නීතියෙන් දෙන්ඩ පුළුවන් දඬුවම. සතුරෙකුට සතුරෙකු විසින් කරන්න පුළුවන් දඬුවම.

ඒ නිසා අපි තේරුම් අරගන්ට ඕනෑ මේ දෙකට, ප්‍රිය විප්‍රයෝගයට සහ අප්‍රිය සම්ප්‍රයෝගයට හේතු වෙලා තියෙන්නෙත් තෘෂ්ණාව. මේ තෘෂ්ණාව අපිට ක්‍රියාත්මක වෙන්නෙ **අජ්ඣත්ත බහිද්ධා** කියන මේ දෙක අතර පැලඉරක් සහිතවයි. මේක පිළිබඳව බුදුරජාණන් වහන්සේ පෙන්වලා දීලා තියෙන්නෙ **උච්ඡින්ද සිනෙහමත්තනො කුමුදං සාරදිකංව පාණිනා** උඹ යම් තාක් උඹේ සක්කාය දිට්ඨියට මමායනයට ආත්මයට සෙනෙහසක් දක්වනවා නම්, ප්‍රියයක් දක්වනවා නම් ඒ තරමටම ප්‍රියයන්ගෙන් වෙන් වීම දුකයි. ඒ මොකද. අනුන් අපිට ප්‍රිය වෙන්නෙ අපිට ඇති ප්‍රයෝජනය සඳහා පමණමයි. ඒකයි අපි මළමිනියක් ගාව ඉඳගෙන අඬන්නෙ. අඬන වචනවලට හොඳට ඇහුන්කම්දෙන්ට. උපායාස නැත්නම් දුක්ඛ, දෝමනස්ස, පරිදේව කියන වචනෙදි මොනවා කියකියාද අඬන්නෙ? මොනවා කියලද? ඉන්නකල් මට කරපු උදව් ටික සහ නැති වුණාට පස්සෙ මට වෙන පාඩු ටික කියකිය තමයි අඬන්නෙ.

මට මතක් වෙන්නේ කලින් මම ඉතාමත්ම බය පක්ෂව සිටි මගේ අප්පච්චි ඉතාමත්ම වෙහෙසට දුකට පත් වෙච්ච අවස්ථාවේ මට බොහෝමත්ම සමීප වෙන්න සිද්ධ වුණා. මට තේරුණා කොච්චර තදින් කොච්චර ඒ පීතෘත්වය ප්‍රකාශයට පත් කරගෙන සිටියත් ලෙඩ වුණාට පස්සේ ඉතාමත්ම දුක්ඛිත තත්ත්වයකට පත් වෙනවා. මං වගේ කෙනෙකුට අප්පච්චිට ලොකු උදව් කරන්න පුළුවන් වුණා නේ කියලා සිතේ ලොකු වෙනසක් ඇති වුණා. ලොකු ප්‍රිය මනාප භාවයක් ඇති වුණා. ඒ වාගේම මම

පැහැදිලිව ප්‍රකාශ කරනවා මම හොඳට පින් කරගත්තා. කවදකවත් මම හිතුවෙ නෑ ඔහුට මැරෙන්ඩ දෙන්න. මම හිතුවෙ කොහොම හරි අප්පච්චි පණ ගන්වයි කියලා. පුළුවන්. ඒ මොකද, උපස්ථාන කරන්ඩ කරන්ඩ නැගිටිනවා උන්දෑ.

අවසානේ හදිසියේ වගේ මිය පරලොව ගියහම මගේ සම්පූර්ණ ලෝකේ කඩාගෙන වැටුණා. කඩාගෙන වැටිලා මට මතකයි මිනිය ළඟදි කලන්තේ හැදිලා වැටිලා ඇඳුනුත් නැතිව දරදඬු වෙලා මම හිටියේ. යාළුවො ඇවිල්ලා මිත්‍රයො ඇවිල්ලා ඉතින් හරීයට කරපු උපස්ථානයත් දන්න නිසා මමත් හොඳයි කියලා මට බොහෝම උපස්ථාන කළා. ඊට පස්සෙ මාස හයක් විතර යනකල් මට මොනම දෙයක්වත්, කොටින්ම මේ ලෝකේ තියෙන හොඳ නරක දෙකේ වෙනස මට නැතුව ගියා. ඒ නිසා මට කවුරුත් එක්ක ආශ්‍රයක්වත් කෑමක්වත් බීමක්වත් අධ්‍යාපනයක්වත් මොනවක්වත් නැතිව නිකන් කරකවලා අතෑරියා වගේ. ඉතින් යාළුවො හුඟදෙනෙකුට සිතුණා මම ලොකු මානසික පීඩාවකට පත් වෙලා තියෙන්නෙ, සියල්ලගේම අනුකම්පාවට ලක් විය යුතුයි කියලා. මට ඒක හරිම වාතයක් කරදරයක් වුණා. හැම කෙනාම අනුකම්පා කරන්ඩ පටන්ගන්නවා මම දැකපුවාම. මට ඒක නිසා සම්පූර්ණම මේක නිකන් පිස්සන් කොටුවක් වාගේ, නැත්තම් මට තනිකරම පිස්සු වගේ එන්න පටන් ගන්නකොට දවසක් කීවා මේ අපේ ගමේ පන්සලට ඇවිල්ලා ඉන්නවා තාපසයෙක්, ඕනැ ප්‍රස්නයක් අහලා සාකච්ඡා කරන්න පුළුවන්, ගිහින් පොඩ්ඩක් කථා කරපන් කියලා. නැත්තම් මම බුද්ධාගම්කාරයෙක් වෙලා හිටියෙ නෑ ඒ කාලේ.

ඉතින් මේ තාපසයා ළගට ගිහිල්ලා ටික දවසක් කතා කරන කොට මේ මනුෂ්‍යයා ඔන්න ඔය කතාව මට කීවා අපි පිරිස වාඩි වෙලා ඉන්න වෙලාවේ. මළ ගෙවල්වල මනුෂ්‍යයො අඬනවා. අඬන්නෙ තමන්ට වෙච්චි පාඩුවෙ ප්‍රමාණයට තමයි කියනකොට මට හරියට තරහා ගියා. මමත් ඇඬුවේ අප්පච්චි නැති වෙච්ච පාඩුවටද කියලා. හොඳට කල්පනා කරලා බලනකොට කන රත් වෙන්න ගැහුවට මොකද ඇත්තක් තමයි කියලා තියෙන්නෙ. ඉතින් මට හිතුණා ඇත්තටම මේ වගේ මනුෂ්‍යයෙක් ඉස්සරහ මං වගේ අඬන මිනිහෙක්, මොන තරම් ළපටි ලාමක මොන තරම් බොළඳ වැඩක්ද

මං කරලා තියෙන්නෙ. පස්සේ හොඳට හොයලා බැලුවා බුදුරජාණන් වහන්සේත් මේ වගේ අදහස් කියලා තියෙනවද කියල. මට පෙනුණෙ ඉතාමත් අකාරුණික කිසිම කැක්කුමක් නැති කැවුත්තක් නැති වචන කියලා. හොඳට හොයලා බලනකොට බුදුරජාණන් වහන්සේත් ඒ වගේ දේවල් කොච්චරදෝ කියලා තියෙනවා. විශේෂයෙන් **ඛග්ගවිසාණ සූත්‍රය** වගේ තැන්වල පැහැදිලිවම සඳහන් කරලා තියෙනවා, උඹ අඬන්නෙ ඒ තරම් උඹට හිටිය නම් ප්‍රයෝජන තියෙන නිසා. වෙන මොකවත්ම නෙමෙයි කියලා.

මේක ඉතාම දරාගන්න බැරි අමිහිරි සත්‍යයක් බවට මට පත් වුණා. පස්සෙ මම නිතර මළ ගෙවල්වලට යන්න පටන්ගත්තා. ගිහිල්ලා බලාගන ඉන්නවා ඇත්තටම මට හැඟීමක් එනවද කියලා සමහර වෙලාවට හැගුම් එනවා. ඒ වාගේම අඬන මිනිස්සු දිහා බලාගන ඉන්නකොට ඒ මනුෂ්‍යයා අඬනකොට ඒ ඉරියව් දිහා බලනකොට පේන්න පටන්ගන්නවා මේක තමයි හතීකොන ගැවිලා තියෙන සත්‍යය. නැත්තම් ප්‍රවෘත්ති අහනකොට අපිට කියනවා 1000 ක් අහවල් රටේ මැරුණා, අහවල් රටේ තවත් මරණ සිද්ධ වෙනව කියල ඇහුවම, හා කියල කියනවා එච්චර තමයි. ඒක ඉතින් ආයේ එච්චර මහ දෙයක් නෑ. නමුත් අපේ ගෙදර කෙනෙක්ගේ නියපොත්තක් පොඩ්ඩක් කැඩුණත් දතක් වැටුණත් කෙස් ගහක් දුඹුරු පාට වුණත් මේකට කොච්චර නටනවද?

මේ නටන එකේ ප්‍රතිබිම්බය බුදුහාමුදුරුවො පෙන්නුවෙ උඹ යම් තාක් උඹේ ආත්මයට සෙනෙහස පානවද, ඒ තාක් කල් උඹ ඒකට යාදෙන ඒකට උරදෙන ඒකට කරදෙන ඔක්කොටම ඒ වාගෙම ප්‍රිය මනාප වෙනවා. ඒක නිසා උඹේ ආත්මයට ඇති සෙනෙහස දියට බැහැලා කුමුදු මලක් අතින් නෙළලා දන පුද්ගලයෙකු වගේ කපලා දපන්. එතකොට මේ ප්‍රිය විප්‍රයෝග දුකක් නෑ. අප්‍රිය සම්ප්‍රයෝගයකුත් නෑ. නමුත් අපි හිතන්නෙ කැකිල්ලේ රජ්ජුරුවන්ගේ තීන්දුව වගේ අපිට ප්‍රිය විප්‍රයෝගය දෙන්නෙ අනුන් කියලා. අප්‍රිය සම්ප්‍රයෝගය වෙන්නෙ අනුන්ගෙන්. බාහිර රූප ශබ්ද ගන්ධ රස ස්පර්ශ නිසයි එන්නේ. එහෙම නැත්නම් **මාතා, පිතා, භාතා, භගිනි, මිත්ත, අමච්ච, ඤාති සාලොහිත** නිසා දුක් වෙනවා කියලා. නමුත් ඉස්සෙල්ලාම පෙන්නුවා මේ කට්ටිය අපිට කාන්ත ප්‍රියමනාප වෙන්නෙ මොකද

අත්ථකාමය නිසා. අපිට අභිවෘද්ධිය සලසන නිසා, හිතකාම නිසා, අපේ මනාපයට ඒ ඇත්තො කැමති නිසා, **අත්ථකාම, හිතකාම, යොගක්ඛෙමකාම,** අපේ මනාප ගමන් පථයකට කට්ටිය උදව් කරන නිසා. ඒක නිසා කබරගොයා තලගොයා කරගැනීමක් මෙතන තියෙන්නේ කන්ඩ ඕනැ නිසා.

ඒකෙත් විහිළුව මේ ආත්මේ මේ වට වෙච්ච ටික තමයි අපිට ඉතාමත්ම ප්‍රිය මනාප. ගිය ආත්මෙත් ඔය වගේම තොගයක් අතහැරලා ඇවිල්ලා තියෙනවා. දැන් කොයි කොනේ ඉන්නවද කියලවත් දන්නෙ නැ. කවුද කියලවත් දන්නෙ නැ. ඒ මනුෂ්‍යයා ආවොත් දැන් ගහලා එලවන්ඩත් ඉඩ තියෙනවා. ඒ කරලා ඉවර වෙලා මේකෙන් මැරුණට පස්සේ ආයේ උපදින තැනක් කොහෙද, ඒකත් හයියෙන් බදගන්නවා. එතන අම්මයි එතන තාත්තයි එතන නංගියි එතන මල්ලියි එතන ඥාති සලෝහිතාවොයි තමයි මේක මට කරන්නෙ. මෙච්චරම චපලයි හිත. **ඵන්දනං චපලං චිත්තං** ඒකට මේ මනුෂ්‍යයා කියන සතා දෙන්ඩ හදන සමාජ හිතවාදී විග්‍රහය අර්ථකථනය විතර තකතිරු තවත් දෙයක් ඇත්තෙ නෑ කියලා කීව හැකි.

ඒකට තමයි බුදුරජාණන් වහන්සේ හිනා වෙන්නෙ. අපි කියනවා මිත්‍ර අමාත්‍යවරුන්ට දක්වන ප්‍රේමය එයින් පිට වන දුක කැක්කුමත් තිබිය යුත්තක්. ආගමික හැඟීමක්, ජාතික හැඟීමක් ආදී වශයෙන් ඒකට පුදුමාකාර විදිහේ අපි නිදහසට කාරණා ඉදිරිපත් කරනවා. විශාරද තාලයෙන් ඉදිරිපත් කරනවා. ඒ ඉදිරිපත් කරන දේවල් හොඳයි කියලත් කියනවා. නමුත් අකිත්ති පඬිවරයා ශක්‍ර දේවේන්ද්‍රයට කිව්වෙ මට කරන්න තියෙන ලොකුම වරය තමයි දැන් පලයන් මෙතනින් යන්ඩ. එන්ඩ එපා මීට පස්සේ. ආන්න ඒකෙන් තේරෙනවා මේ සෑම සියලුදෙනාම අඬා හෝගාගෙන අපි ළඟට එන්නෙ මොකක් හරි කන්ඩ තියෙන නිසා තමයි. අපිත් ඒ ඇත්තොත් එක්ක ප්‍රිය මනාපකම් පවත්වන්නෙ මොකක් හරි කන්ඩ තියෙන නිසා තමයි.

ඒ නිසා බුද්ධ දේශනාවේ සඳහන් වෙන්නෙ පැවිද්දන් සහ ගිහියන් අතර සම්බන්ධතාව, **මුත්තමුත්තක** වෙන්න ඕනැ. **ගාහගාහක, ගාහමුත්තක, මුත්තගාහක, මුත්තමුත්තක** කියලා හතරක් පෙන්වලා

තියෙනවා.[5] සමහර වෙලාවට පැවිද්ද විෂයෙහි ගිහියා ඉතාමත්ම ග්‍රාහී ස්වරූපයෙන් ඇලී බැඳී කටයුතු කරනවා. පැවිද්ද මුක්තක ස්වරූපයෙන් කටයුතු කරනවා. නෑයත් එකයි මට කොයි එක්කෙනත් එකයි කියලා. නමුත් අර ගිහියාගේ ඇත්තා වූ ග්‍රාහක ස්වරූපය නිසා සම්බන්ධය පවතිනවා. තව සමහර වෙලාවට ඒ ගිහි ඇත්තා, දයකයා කැමති නෑ එච්චර. නමුත් සංඝයා වහන්සේලා ඒ ගිහියා පිටිපස්සේ යනවා. මට අරක කරලා දෙන්න මේක කරලා දෙන්ඩෙයි කියලා කොච්චරදෝ පිටිපස්සේ යනවා. නමුත් ඒ ගිහි ඇත්තන්ගෙ එහෙම මනාපයක් නෑ. ඒ වුණත් අර කරදරේට කරනවා. එතකොටත් සම්බන්ධය පවතිනවා. ඒකට කියනවා **මුත්තගාහක.**

තව එකක් තියෙනවා **මුත්තමුත්තක.** ගිහියා ඇවිල්ලා තමන්ට කරගන්න තියෙන පින කරගන්නවා. යනවා. පැවිද්දටත් යම් කිසි පිණ්ඩපාත සේනාසන ගිලානපත්‍ය චීවර අවශ්‍යතාවක් තියෙනවා නම් හිඟමනේ යනවා. දෙන දේකින් යැපෙනවා. එච්චරයි. අන්න ඒක තමයි නියම ආදර්ශය, ප්‍රිය විප්‍රයෝග දුකක් ඇත්තෙත් නෑ. අප්‍රිය සම්ප්‍රයෝග දුකක් ඇත්තෙත් නෑ. අනිත් එක තමයි **ගාහගාහක.** ගිහියා පැවිද්දට බැඳිලා පැවිද්ද ගිහියට බැඳිලා. ඒ හාමුදුරුවො නැතිව කොහොම දෙයක්වත් කරන්න බෑ. ඒ හාමුදුරුවන්ටත් ඒගොල්ලො නැතිව කොහොමටක්වත් කරන්න බෑ. වෙනසකට තියෙන්නෙ කසාද බැඳලා නැති එක විතරයි. ඒක මහ විශාල කරදරයක්. ඒක තමයි අර ලොකු ස්වාමීන් වහන්සේ සඳහන් කරන්නෙ සප්පාය අසප්පාය කරුණුවලදී, අපිට සැප සුවය එලවන දේ සම්පූර්ණ අයිතිවාසිකමක් අපිට ලැබෙනවා පැවිද්දත් එක්ක. ඒ පැවිද්දත් තියාගෙන අපි ප්‍රිය විප්‍රයෝග දුකත් දනගෙන තවත් මෙච්චත් එක්ක පටලැවෙනවා නම් ඉතින් හිතාගන්න පුළුවන් මේ යෝග ජීවිතයෙ අපි මොන වගේ උපක්‍රමයක් සඳහාද පාවිච්චි කොරන්නෙ, කෙසෙල් ගහ කන්ඩද මේ යන්නෙ, පොල් ගහ කන්ඩද යන්නෙ කියලා බැලූ බැල්මට පේනවා.

ඇත්ත වශයෙන්ම මේ වචනවල මම කිසීම විදියකින් අදහස් කරන්නේ නෑ අනුන් මනින්ඩෙයි කියලා. මේකෙන් කරුණාකරලා තමන් මැනගන්න එකයි කරන්න ඕනෑ. එතකොටයි දුක හාත්පසින්

---

[5] මජ්ඣිමනිකාය, මූලපණ්ණාස අට්ඨකථා, රථවිනීතසුත්තවණ්ණනා,ගාහගාහකාදිවණ්ණනා.

දැකගත්තා **පරික්ඛෙයාං. පුබ්බෙ අනනුස්සුතෙසු ධම්මෙසු** පෙර නොවූ විරූ ආකාරයට අපි කෙරෙහි පැමිණෙන්නා වූ දුක හාත්පසින් දැකගන්ට නම් අපිට මේ කන්නාඩි දෙක අවශ්‍යයි. කොහොමද අපි අප්‍රියයන් හා එක් වීමෙන් දුක් වෙන්නෙ, ප්‍රියන්ගෙන් වෙන් වීමෙන් දුක් වෙන්නෙ කියන එක. මෙන්න මේකට අකිත්ති පණ්ඩිතයා වාගේ පඬිවරු අපිට කාරණාව ගෙනහැර පෙන්නුවාට අපණ්නක ජාතකය වගේ මුල් ජාතකයේදීම උන්වහන්සේ බෝසතාණන් වහන්සේ කෙනෙක් වශයෙන්ම පෙන්වලා දීලා තියෙනවා මේකට කටයුතු කළ යුත්තේ කොහොමද කියලා.

අපණ්ණක ජාතකයේ අපණ්ණක කියන වචනය විග්‍රහ කරන්ට හුඟදෙනෙක් පෙළඹෙන්නෙත් නෑ. ඒක විග්‍රහ කරන්න බැරි වචනයක් විදිහට පෙන්වලා තියෙනවා. අපිත් ගනිමු දැනට වාදයට තුඩු වෙලා නැති, පවතින පරිවර්තනය. ඒ කියන්නේ අවිරුද්ධ ප්‍රතිපත්තිය. සාමීචි ප්‍රතිපත්තිය. අපි කෙරෙහි ප්‍රිය විප්‍රයෝග දුකක් ආව නම් ඒ ප්‍රිය විප්‍රයෝග දුකට හේතු වෙන්නා වූ කාරණාවට ඉස්සරහට අපිට ක්‍රියාත්මක වෙන්නේ ඒක පිළිබඳව අපණ්ණකව, ඒක මට වේවා කියන තත්ත්වයකට අපි එළඹිලා වාසය කරනවා, නැත්නම් නොවේවා කියන තත්ත්වයකට වැටෙන්නෙ නෑ. එන දේකට ලෑස්ති වෙලා කටයුතු කරන එකයි අපණ්නක ජාතකයෙන් කියන්නෙ. තැනේ හැටියට ඇණේ ගහනවයි කියන එකයි කරන්න තියෙන්නෙ. ඒ දේ කරන්නට නම් අපි පැහැදිලිව දැනගන්ට ඕනෑ ඉතාමත්ම ප්‍රිය වස්තුවෙන් තමයි තදබල දුක්ඛ පීඩා ඇති වෙන්නෙ. පපුව පැලිලා මැරෙන තරමට දුක් වෙන්ඩ පුළුවන් වෙන්නෙ ඉතාමත් ප්‍රිය තැනකින්.

ඒ විතරක් නෙවෙයි, හතුරු දහම්වල සඳහන් කරලා තියෙනවා කාටහරි හතුරුකමක් කරන්ට ඕනෑ නම් පුළුවන් තරම් යාළු වෙන්න කියලා. ඒ නිසා අද ලෝකයේ පවතින්නා වූ දේශපාලන පලිගැනීම් මංපැහැරීම් දිහා බලනකොට හිනා වෙලා ළඟට එනවා නම් පුදුමාකාර ලෙස බය වෙන්ට ඕනෑ. මොකක් හරි ගුණ්ඩුවක් තමයි. මොකක් හරි පටලැවිල්ලක් තමයි. ඉතින් එහෙම ලෝකෙත් ඉඳගෙන උදේට දකින කොට සුභ උදෑසනක් වේවා, හැන්දෑවට දකිනකොට තව එහෙම ප්‍රිය මනාප විදිහට ආශීර්වාද නොකරගෙන හිටියොත් එතකොටත් අපිස් ජීවිතයක් ගත කරන්නෙ කියලා ඒත් චෝදනා එනවා ජීවිතයේදී.

එතකොට තමයි අකිත්ති පඬිවරයා වගේ කැලේට වදින්නෙ. ලුනු මිරිස් සඳහාවත් තපස් තෙල් සොයන්නවත් ආයේ එන්නේ නෑ ගමට. කර කොළ ගහක් හරි යටට වෙලා ඉඳගෙන ඒ ගහේ කොළ ටික කාලා ජීවත් වෙන්ට ඕනෑ කියලා කියන්නේ. ඒ තරම්ම මේ කරන සෑම උදව්වකින්ම අපි අහු වෙනවා. මේ අපි කතා කළේ **මාතා වා පිතා වා භගිනී වා භාතා වා** කියන මේ ඥාති ප්‍රිය භාවය. නැත්තම් පුද්ගල භේදයට පත් වුණාට පස්සෙ තත්ත්වය.

මේකමයි රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ ඉෂ්ට කාන්ත මනාප. ඒ නිසා බුදුරජාණන් වහන්සේ දේශනා කරලා තියෙනවා මහණෙනි උඹලගේ ඇහැ ගිනිගෙන තියෙන්නේ. ඇහැට පෙනෙන රූප ඔක්කෝම ගිනිගෙන තියෙන්නෙ. කන ගිනි ගෙන තියෙන්නෙ. කනට ඇහෙන ශබ්ද සේරම ගිනිගෙන තියෙන්නෙ. නාසය ගිනිගෙන තියෙන්නෙ. නාසයට එන ගඳ සුවඳ සියල්ලම ගිනිගෙන තියෙන්නෙ. දිව ගිනිගෙන තියෙන්නෙ. දිවට එන රස සියල්ල ගිනිගෙන තියෙන්නෙ. කය ගිනිගෙන තියෙන්නෙ. එන සෑම පහසක්ම ගිනිගෙන තියෙන්නෙ. හිත ගිනිගෙන තියෙන්නෙ. ධම්ම සියල්ලම ගිනිගෙන තියෙන්නෙ. ඉතින් අපි කියනවා නම් මේකෙදි ප්‍රිය රූප තියෙනවා, ප්‍රිය ශබ්ද තියෙනවා, ප්‍රිය ගඳ තියෙනවා, ප්‍රිය රස තියෙනවා, ප්‍රිය ස්පර්ශ තියෙනවා, ප්‍රිය ධර්ම තියෙනවායි කියලා පැහැදිලිවම එක පැත්තකට බර වෙලා අවිරුද්ධ ප්‍රතිපත්ති නෙමෙයි විරුද්ධ ප්‍රතිපත්තියට ගිහිල්ලා. මේ අවිරුද්ධ ප්‍රතිපත්තිය විතර ථෙරවාදය ඉතාම ඉහළින් සලකන, ඒ වගේම ථෙරවාදය රැකෙන්ඩ හේතු වෙච්චි ප්‍රධානම වෙන සාක්කියක් නැති තරම්.

අද මුළු බුද්ධාගමම ප්‍රතික්‍රියාවක් බවට පත් වෙලා තියෙනවා. කරන කරන දේට විරුද්ධව කටයුතු කරන්ඩ ලෑස්ති වෙනවා. එතකොට මේ ජාතක කතාවල පළවෙනි ජාතකයවත් හරියට තේරුම් අරගෙන නෑ. නොකිරීමෙන් විරුද්ධ නොවීමෙන් අවිරුද්ධ භාවයෙන් තමයි තපස්වරයා රැකෙන්නෙ. බෝසතාණන් වහන්සේ රැකෙන්නෙ. බුදුරජාණන් වහන්සේ රැකෙන්නෙ. ඒ වෙනුවට හැම දේටම ප්‍රතික්‍රියා කිරීමෙන් අපි රසකාමීව රසාස්වාදයට පෙළඹිලා හැම දේම විචක්ෂණව කරගෙන යන්ඩ ගියොත් අපි ඒකාන්තයෙන්ම ඒ ප්‍රිය මනාප කාන්ත රූප ශබ්ද ගන්ධ රස විෂයෙහි බැඳෙනවා. ඒ නිසා

එව්වා විෂයෙහි අපිට තියෙන්නෙ ඕනෑ, අන්ධයෙක් වාගේ බීරෙක් වාගේ කොන්ද පණ නැති කෙනෙක් වගේ දර්ශනයක්. එතකොට අපිට පුළුවන් වෙනවා ඒ ආනාපානසති භාවනාවට වගේ හිත යොදවපුවාම බොහෝ වෙලා භාවනාවේ ඉන්න. ඒකට එන්නා වූ ප්‍රිය තත්ත්ව, ඒකට එන්නා වූ අප්‍රිය තත්ත්ව විෂයෙහි අවිරුද්ධව ගත කරන්න පුළුවන්කම.

ඒක නිසා ආනාපානසති භාවනාව ගැන බුදුරජාණන් වහන්සේ දේශනා කරලා තියෙනවා **විතක්කුපච්ඡේදය** කියලා. ආනාපානසති භාවනා කරනකොට විතක්ක කපා හරින්න පුළුවන්. ආනාපානසතිය වැඩෙනකොට කාම විතක්ක, ව්‍යාපාද විතක්ක ආදී දේවල් කැපිලා යනවා. ඒකට අපි පූර්වකෘත්‍ය කරන්න වෙනවා. අපණ්ණක වෙන්න වෙනවා. හොඳ ප්‍රිය මනාප ශබ්ද හෝ අප්‍රිය අමනාප ශබ්දයක් ආපුවාම ඒ විෂයෙහි අවිරුද්ධව ගත කරන්න, කන් නැත්තකු සේ ගත කරන්න නම්, අපි ආනාපානයට ඒ තරම්ම ප්‍රිය කරන්න වෙනවා. අපි තේරුම්ගත යුතු වෙනවා ආනාපානය කරනවයි කියලා ශබ්ද නතර වෙන්නෙ නෑ කියල. අපි ශබ්ද අඩු තැනකට යනවා සප්පාය කරුණු සොයාගෙන. ගෝචර සප්පාය, ආවාස සප්පාය, පුද්ගල සප්පාය කියලා කියන්නෙ ඒකට. ඒකට ගියාට කවදකවත් ශබ්ද නැති ඒ වගෙ හරියට තෝරලා බේරලා දෙන්න පුළුවන් නම්, පුළුවන් පරිසරයක් තියෙනවා නම් මොකටද නිවනක්? එහෙම තැනක් මුහුද මැදත් නෑ, ගල් පර්වතවලත් නෑ, සාගරෙත් නෑ, ආකාසෙත් නෑ. අනිවාර්යයෙන්ම අපි කළ අකුසල කර්මවලට අනුව ඒ වෙලාවට රූප ශබ්ද ගන්ධ රස ස්පර්ශ වෙනවා.

මෙන්න මේකට අවිරුද්ධව ගත කරන එක තමයි ප්‍රිය විප්‍රයෝගයටත් අප්‍රිය සම්ප්‍රයෝගයටත් අපිට මේ ලෝකය වශයෙන් තදංග වශයෙන් එන දුෂ්කරතාව දුරු කිරීමට අවශ්‍ය කරන්නෙ. මේකට තමයි තපස කියන්නෙ. මනුෂ්‍යයා හැමදම ගත කරන්නේ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ ඒ මායිමේම පවත්වමින් අනුන් නිවන් දක්වන්න හදන, නැත්නම් ලෝකයා නිවන් දක්වන්න හදලා තමන්ගෙ එක පුංචක් එහා මෙහා වෙනකොට කිපෙන රොස් පරොස් කරන ජීවිතයක් නම්, එතකොට ඒ පුද්ගලයාට විතක්ක වැඩියි. භාවනාවකට හිත යන්නෙ නෑ. ඒ නිසා ආනාපානය හරියනවා නම්, වෙන විදිහකට

කියනවා නම්, ආනාපානයක ගත කරන එක චිත්තක්ෂණයක තියෙන සුන්දරත්වය, ඒකෙ තියෙන හොඳ පැත්ත කුසල් පැත්ත බලන්න නම් අපිට කියන්න පුළුවන් ප්‍රිය විප්‍රයෝගයක් හෝ අප්‍රිය සම්ප්‍රයෝගයක් නැති වෙන්න ඕනෑ ආනාපානයට හිත වැටෙන්න. අරමුණට මූණට මූණ දලා ඉන්න. නමුත් ඒ විෂයෙහි එහෙම ඉන්නකොට මොකද වෙන්නෙ? නීරස වෙනවා. නිදිමත වෙනවා. කම්මැලි වෙනවා. බය උපදිනවා. ඒ මොකද, අර පුරුද්දේ පැවතුණා වූ ඉෂ්ට, කාන්ත, මනාප භාව නෑ. අත්‍ථකාම, හිතකාම, ඵාසුකාම, යොගක්ඛෙමකාමය නැති වුණා වගේ කියලා හිතනවා.

ඒක නිසයි බුද්ධ දේශනාවේ සඳහන් කරන්නෙ යම් කිසි කෙනෙකුට භාවනාදී කටයුත්තක නිතිපතා යෙදෙන්ට අවශ්‍ය කරන ශ්‍රද්ධාව එන්නෙ දුකින්මයි. සංසාර දුකින්මයි. සංසාර දුක කියලා කියන්නෙ ප්‍රියයන්ගෙන් වෙන් වීම සහ අප්‍රියයන් හා එක් වීම. හුඟදෙනෙකුට මේක මතක නැති වෙනවා. මතක නැති වෙලා ආනාපානසතිය වාගේ මධ්‍යස්ථ අරමුණකට හිත වැටිච්චහම ඒක නීරසයි. ඒක හරි පාළුයි. ඒක බය එළවනසුලුයි. ඒක කියාගන්න බෑ. ඒකෙදි අසරණකමක් දැනෙනවා. ඒක ඉස්සරහත් තේරෙන්නෙ නෑ, අන්දමන්ද භාවයක් පේනවයි කියලා නැවතත් අර පළපුරුදු ප්‍රිය මනාප භාවවලට අප්‍රිය අමනාප බවෙන් දුරු වීම පිණිස සටන් කරන තැනට පෙළඹෙනවා.

ඒ නිසා ආනාපානසති භාවනාවෙදි බුද්ධ දේශනාවෙ සඳහන් කරනවා **නාහං භික්ඛවෙ මුට්ඨස්සතිස්ස අසම්පජානස්ස ආනාපානසතිභාවනං වදාමි.** එක දිගට සතිය පවත්වන්න බැරි, සම්පජඤ්ඤය නැති, නැත්නම් සිහි බුද්ධි කියන මේ දෙක නැති කෙනාට කවදාකවත් ආනාපානය දිගට යන්න බෑ. යන්න බැරි වෙන්නෙ මොකද, ප්‍රිය විප්‍රයෝගය හෝ අප්‍රිය සම්ප්‍රයෝගයක් එනකොට වහාම ඒකත් එක්ක හැප්පෙනවා ආනාපානය අතහැරලා. එහෙම නැතුව ඒ දෙකෙන් තොරව ආනාපානයම පවතිනවා නම්, මූල කර්මස්ථානයේම පාළු ගතියක් එපා වෙන ගතියක් කම්මැලි ගතියක් කරකවලා අතෑරියා වගේ ගතියක් අන්ද මන්ද ගතියක් එනවා. ඒ නිසා ඒ වෙලාවට ඔහුට අවශ්‍යයි මරණසතිය සිහිපත් කරගන්ඩ. සංසාරෙ පවතින්නා වූ වෙන වෙලාවට පවතින්නා වූ බය සිහිපත්

කරගන්න ඕනෑ. දැන් මේ යොගක්ෂෙමයකට යන්නෙ. ක්ෂේම භූමියකට යන්නෙ. ඒ යනකොට මාරයා විසින් හෝ නැත්නම් කාම තණ්හාව විසින් හෝ නැති වෙන්න තියෙන සැපක් ගැන කල්පනා කරලා හෝ මධ්‍යස්ථ උපේක්ෂක තත්ත්වය ප්‍රතික්ෂේප කරනවා. සැප දුක දෙක ඉල්ලනවා, අදුක්ඛමසුඛ මැද දේ ප්‍රතික්ෂේප වෙනවා.

මේ නිසා යෝග ජීවිතයෙදි අර මුලින්ම ගත්ත ප්‍රශ්නය නැවත මතු වෙනවා. ලෝකය ඉල්ලන ආකාරයට අපි ආස්වාදය කරමින් පිනවමින් ගත කරනවා නම් භාවනාව කියලා කියන්නේ ඒක නිකන් දියාරු කරන වැඩක් වෙනවා. නිර්වර්ණ කරන වැඩක් වෙනවා. ඒ නිසා යෝගාවචරයා නිරෝධය, විචිත්‍ර භාවය නැතිකම ප්‍රිය කරන්නෙක් බවට පත් කරන්න නම් මෙන්න මේ සාමාන්‍ය ලෝකයා ගණන්ගන්න ප්‍රිය විප්‍රයෝගය පැහැදිලිවම කල් ඇතිව හරි පැත්තෙන් දැකලා තියාගන්න ඕනෑ. ඒ නිසාම කියනවා භාවනා කරන්න සුදුසු තත්ත්වයක් විදිහට **අරඤ්ඤගතොවා රුක්ඛමූලගතොවා සුඤ්ඤාගාරගතොවා.** මේ තත්ත්වය දැනගෙන කල් ඇතිවම ඒවායින් වෙන් වෙලා ටික ටික ටික ටික පුරුදු කරන්න ඕනෑ.

ඒ නිසා අභිනිෂ්ක්‍රමණය ඉතාමත්ම වැදගත් දෙයක්. හුගක් ආගම්වල අභිනිෂ්ක්‍රමණය අවශ්‍ය නෑ කියලා කියනවා. අභිනිෂ්ක්‍රමණය අවශ්‍යයි කියලා කියන්නෙ, නැත්නම් පූර්ණ පැවිද්දක් අවශ්‍යයි කියලා කියන්නෙ ලෝකයේ ආගම්වලින් බොහෝම ටිකයි. ඒ මොකද, එවැනි ආගම් පැහැදිලිවම ප්‍රිය විප්‍රයෝග දුක, අප්‍රිය සම්ප්‍රයෝග දුක ඉක්මවන තත්ත්වයක් ගැන හිතලා තියෙනවා. අනිත් අනිත් ආගම්වල තියෙන හැටියට සංගණිකාවේ ඉඳගෙනම මාතා, පිතා, භාතා, භගිනි, මිත්ත, අමච්ච, ඤාති සාලොහිත තත්ත්වයක ඉඳගෙන රූප ශබ්ද ගන්ධ රස ස්පර්ශ වැඩි කරන්නයි දෙවියන් වහන්සේගේ මනාපය හෝ සර්ව බලධාරීන් වහන්සේගේ මනාපය ඉල්ලන්නේ. එතකොට ඒ ඇත්තන්ගෙන් ලැබෙන අනුග්‍රහයට තමයි ආශීර්වාදය කියලා කියන්නෙ. යාඥාවක ප්‍රතිඵලය කියලා කියන්නෙ.

බුදුරජාණන් වහන්සේ ඒ දෙවියන් වහන්සේත් අපේ අතටම දීලා තියෙනවා. යාඥාවත් අපේ අතටම දීලා තියෙනවා. යාඥාවේ ප්‍රතිඵලත් දීලා තියෙනවා. ඔක්කෝටම වැඩිය ඕගොල්ලන්ට ඕක

තේරුම්ගන්න පුළුවන් ඥානය තියෙනවායි කියන එක බුදුරජාණන් වහන්සේගේ ප්‍රසිද්ධ පිළිගැනීම. ඒක නිසා ඒ වගේ මේ ලෝකෙන් එහාත් නොහිතා මේ ලෝකේ කාම සංසිද්ධි ගැනම හිතන කෙනාට බුදුරජාණන් වහන්සේ පේන්නෙ මහ අමුතු තාලෙකට. උන්වහන්සේ කෙරෙහි ද්වේෂ කරන්නත් බෑ. නමුත් ඒ වාගේ ආවේගජනක හැඟීමකින් තමයි සර්වඥයන් වහන්සේ දිහා බලන්නෙ. සමහර විට යෝගාවචරයින්ටත් එහෙම වෙනවා. සමහර යෝගාවචරයින්ටත් භාවනා කරගෙන යනකොට ත්‍රිවිධ රත්නය කෙරෙහි පවා ද්වේෂ පහළ වෙනවා. ඒ මොකද, මේක ඇත්ත ඇති හැටියෙන් පෙන්වන නිසා.

ඒ නිසා අපි තේරුම් අරගන්ට ඕනෑ මේ වගේ දුක් ප්‍රිය විප්‍රයෝග හෝ අප්‍රිය සම්ප්‍රයෝග අනිවාර්යයි, මරණය කියන එක පවතින තාක් කල්. මේ බව පිළිඅරගෙන ඒක කලින් අත්හද බලලා හිත ඒක පිළිගන්න පුළුවන් තත්ත්වයකට පත් කිරීම තමයි සතිපට්ඨාන භාවනාවෙන් කරන්නෙ. එහෙම නැත්තම් හිත අෂ්ටලෝක ධර්ම විෂයෙහි පුහුණු කිරීමක් තමයි සතිපට්ඨාන භාවනාවෙන් කරන්නෙ. ඒ නිසා මෙවැනි ධර්ම දේශනා ධර්ම කොට්ඨාශ බොහෝදෙනාට ප්‍රිය නැති බව නම්, දුක්ඛ සත්‍යය පිළිබඳ දේශනා ප්‍රිය නැති බව නම් මුලින්ම තේරුම්ගන්න ඕනෑ. නමුත් ඒ දේ ඒ අප්‍රිය වුණත් අමනාප වුණත් අකාන්ත වුණත් ඒ දේ තේරුම්ගන්නෙ නැතිව නම් කවදාකවත් **සබ්බදුක්ඛං පරික්ඛෙය්‍යං** කියන එක කරන්න බෑ.

මේක හරියට කියනවා නම්, දිවට රස ජාති 6 ක් තියෙනවා. ඒකෙන් පැණි රස, ඇඹුල් රස, ලුණු රස, මිරිස් රස, මෙව්ව සාමාන්‍ය මනුෂ්‍යයෝ කලවං කරලා කොයි එකත් වගේ පාවිච්චි කරනවා. නමුත් පැඟිරි රසයි තිත්ත රසයි දෙක හුඟාක් වෙලාවට ලෙල්ල අයින් කරලා තමයි හුඟදෙනෙක් කන්න කැමති. ඒ කරලා ඉවර වෙලා රටින් ගෙනැල්ලා පාවිච්චි කරනවා - මේ කෙඳි ජාති නෑ කෙඳි නැති නිසා දිරවන්නේ නෑ. ඒක වෙනම රටින් ගෙන්වනවා. රට සුද්දා මොකද කරන්නෙ? විසි කරන ලෙල්ල එකතු කරලා ඒකෙ කෙඳි ටික ආයෙත් ගෙනැල්ලා වැඩි ගානට විකුණනවා. රිළවයි වඳුරයි කනකොට ලෙල්ල කාලා පටන්ගන්නෙ. ඒකට කවදාකවත් බඩේ කැක්කුම නෑ. කවදාකවත් නෑ. අනුරාධපුර පොළොන්නරුව පැත්තෙ දැන්වීමක් ගහලා තියෙනවා, දූනට හොයාගෙන තියෙනවායි කියලා වඳුරට කවමදාකවත් පිළිකා

රෝගයක් ඇවිල්ලා නෑ කියල. ඒ නිසා එයා ගැන අපි පරීක්ෂණ කරනවා. කරුණාකරලා මනුෂ්‍යයෝ කන කෑම නම් දෙන්න එපා ඌට. පර්යේෂණය අප්සට් යනවා කියලා. ඒත් වඳුරට තරම්වත් තේරුමක් නෑ මනුෂ්‍යයට. අර තමන් හදාගත්ත නරක දේවල් ඌට දීලා ඌටත් පිළිකාව හැදුවට පස්සෙ මනුෂ්‍යයා තවත් කලවං වෙනවයි කියලා ගහලා තියෙනවා බෝඩ් එකේ.

ඒ නිසා ආහාර ජීර්ණයට පැඟිරි රසයි තිත්ත රසයි අත්‍යවශ්‍යයි. ඒක නෙ හුඟක් බෙහෙත් තිත්ත. ඒක පුළුවන්. බෙහෙත් බොන්ඩ ඕනැ තරම් පුළුවන්. නමුත් ආහාරයේ පවතින තිත්ත පැඟිරි දේවල් වෙනමම ක්‍රියාත්මක වෙනවා, ඒක අයින් කරලා අර හොඳ හරිය විතරක් කන්න. කෑවට පස්සේ තමයි දියවැඩියාව කියලා අමුතුම රෝගයක් අද ඇවිල්ලා තියෙන්නෙ. ඒ වාගේම තමයි කවදාකවත් අපේ මුතුන් මිත්තන්ට ඔය තන්තු ආහාර අවශ්‍ය වුණේ නෑ. වෙනමම තන්තු ආහාර ඒ කාලේ තිබුණෙත් නෑ. ඒ අය ගත්ත ආහාරවල සහජයෙන්ම තන්තු අඩංගු වෙලා තිබුණා. දැන් ආහාරවලට වැඩියෙන් වියදම් කරන්න වෙලා තියෙනවා තන්තුවලට. මොකද, පොත්ත අයින් කරලා ලෙල්ල අයින් කරලා මැද හරිය විතරක් කන නිසා. ඉතින් ලෝකෙ තියෙන ඔක්කොම ප්‍රිය මනාප දෙයින් පටන් අරගෙන අප්‍රිය අමනාප තත්ත්වයකට ගිහිල්ලා තියෙනවා ලෝකය. ඒ වගේ තමයි මේ අනිවාර්යයෙන්ම දුක්ඛ සත්‍යය ඉදිරියෙන් තියලා තියෙන්නෙ. ඕනැම දෙඩම් ගෙඩියක් කටට ගත්ත ගමන් පැඟිරි රස තමයි එන්නෙ. තිත්ත රස තමයි එන්නෙ. ඒක අයින් කරලා වැළඳුවට පස්සේ මිහිරි බව නම් හැබෑව. ඒක හරියට චතුරාර්ය සත්‍යයෙන් දුක්ඛ සත්‍යය අයින් කරලා ඉතුරු ටික ගන්න හදනවා වගේ.

නමුත් බුදුරජාණන් වහන්සේ ඉස්සරහින්ම තියලා තියෙනවා චතුරාර්ය සත්‍යයේ දුක්ඛ සත්‍යය. ඒක හාත්පසින්ම ගෙඩිය පිටින්ම කාපල්ලා. එතකොට හොඳට ඒකේ ඒ රස වර්ග 6 සම බර වුණොත් පැහැදිලිවම බඩේ ජීර්ණ ප්‍රශ්නයක් එන්නෙ නෑ. ඒ වගේම තමයි මේකට සත්‍යය එකතු කරපුවාම, අර රස හයම තියෙන දෙයක් කටේ දාගෙන හුඟ වේලාවක් වැළඳුවොත් අන්තිමට සියලු රස කිරි රසට පත් වෙන්නා වගේ මේ සෑම දුකක්ම සෑම සැපක්ම ප්‍රියයක් අප්‍රියයක්ම සතියට අහු වෙච්චාම එක රසයි. වෙලා තියෙන්නෙ අරමුණු හොඳ ඒවා

එනකොට අපි ගොඩක් වෙලා පාවිච්චි කරනවා. හොඳ නැති ඒවා ආපුවාම උගුරට හොරා බෙහෙත් ගිලින්නා වාගේ සතියට යට කරන්නේ නැතිව වේගයෙන් යන්න හදනවා. ප්‍රිය අප්‍රිය භේදයකින් තොරව හෙමිහිට යෝගාවචර තත්ත්වයෙන් වැඩ කරමින්, එන සෑම දෙයටම සතිය යොදවනවා නම්, මොන තිත්ත රසයකින් පටන් අරගත්තත් ඕනෑම ආහාර වේලක් බොහෝ වේලා හපනකොට කිරි රසට පත් වෙන්නා වගේ, සෑම ධර්මයකම ඇත්තා වූ ඒ චතුරාර්ය සත්‍යයට නැඹුරු, සතියේ කෘත්‍යය වන ඒකරස කිරීම කරනව. එහෙම කෙරුවට පස්සෙ කර කොළ කන එක කරන්න පුළුවන්. එහෙම නැතිව මේ අපි වාගේ දැනට ඇබ්බැහියකට ලක් වෙලා අමුතුම ආහාර වේලකට පත් වෙච්ච මනුෂ්‍යට ඒක බණක් වෙලා තියෙනවා කොහොමද මේක කරන්නෙ කියලා. ඇත්තටම අපිට කරන්න යනවා නම් ගොඩක් කල් පුහුණු කරන්න වෙනවා. ඕනෑම ආහාරයක රසය ගන්න නම් ඒ ආහාර පූර්ණ ආහාරයක් වෙන්න ඕනෑ (wholesome food කියල කියනව) සියල්ල සම්පූර්ණ විය යුතුයි. බොහෝ වේලා වැළඳිය යුතුයි.

ඒ වගේම තමයි ලෝකයේ සැප දුක දෙකම හොඳට හිතට යාදෙන ධර්මයක් වෙනවා, සෑම දෙයම සතියට ලක් කළොත්. ඒ නිසා දුක දුකමයි. ඒ දුක දුකක් බව දැනගැනීම විතරමයි ලෝකයේ තියෙන එකම සැප. එකම සත්‍යය. ඒ නිසා දුකෙන් තොරව චතුරාර්ය සත්‍යයක් නෑ. දුකෙන් අදහස් කරන්නෙ නෑ දුකට ආදර සාදර වීමක්. නමුත් පැමිණෙන්නේ පෙර කළ කර්මානුරූපවයි. ඒ පැමිණෙන දේට සතියෙන් යුක්තව සම්පජඤ්ඤයෙන් යුක්තව මුහුණදෙනවා නම් අපිට ඒක දුකක් බව වැටහෙනවා. ඒ දුක දුකක් බව සිහියෙන් සතියෙන් වැටහීම විතර, වටහාගැනීම විතර, සැපක් ලෝකෙ ඇත්තෙ නෑ, ඒකයි පරම සම්පත්තිය. ඒ නිසා දුක කෙරේ දක්වන ආකල්පය විතරමයි, ආනිශංස වෙනස් කරන්නෙ. දුක නම් දුකමයි.

මේ නිසා දුක්ඛ ආර්ය සත්‍යයක් බවට ප්‍රිය විප්‍රයෝග දුක තේරුම්ගන්ට නම් අනිවාර්යයෙන්ම ප්‍රිය විප්‍රයෝග දුක පැමිණිය යුතුමයි, කිසාගෝතමියට වගේ. පටාචාරාවට වගේ. නමුත් ඒ කොච්චර ප්‍රිය විප්‍රයෝග දුක ආවත් සතිය පවත්වන්ට පුළුවන් බවට ඒ ස්ත්‍රී පරාණ දෙක සාක්කි සපයනවා. ඒ නිසා අපි බලාපොරොත්තු වෙන්ට

ඕනෑ දුක අපිට වවන්න දෙයක් නෑ. වැවෙන දේ. අපි ඒ පිළිබඳව දක්වන්නා වූ ආකල්පය සතියෙන් සම්පජඤ්ඤයෙන් යුක්තව පවත්වනවා නම් මේ සෑම දුකකින්ම නිවනට ළං වීමක් සිද්ධ කරනවා. මේකෙන් අපි ඈත් වෙන්න හදන තාක් කල්, මේක මගහරින්න හදන තාක් කල් සංසාරේ වැඩීමක් සිද්ධ වෙනවා.

ඒ නිසා මේ සඳහන් වෙන ආකාරයට **අයං වුච්චති භික්ඛවෙ අප්පියෙහි සම්පයොගො දුක්ඛො** කියන කාරණාව කාට කාටත් අඩු වැඩි ප්‍රමාණයෙන් ලැබෙනවා. ඒ ලැබෙන සෑම වෙලාවකම සති සම්පජඤ්ඤය ඉස්සර කරගෙන අපි කොහොමටක්වත් දූනට ඥතීන්ගෙන් සහ වස්තුවෙන් තාවකාලිකව හෝ ස්ථිර වශයෙන් වෙන් වෙන්ට තීන්දු කරගත්ත, වෙන් වෙච්ච පිරිසක්. ඒ නිසා අපිට මේක පිළිබදව බලන්න වෙනත් ඇත්තන්ට වඩා වැඩි හැකියාවක් තියෙනවා. ඒ වාගේම අපි දන්නවා දුක වැඩි වෙන්නේ අපේ ආත්ම සෙනෙහස වැඩි වෙනකොටයි. ආත්ම සෙනේහය තමයි සංසාරෙට බඳින අත්ත දුක ඇති කරන ප්‍රධානම දුක්ඛ සමුදය. අපිට ඒක පිළිබඳවත් යථා අවබෝධයක් තියෙනවා නම්, පැමිණෙන දුක් පැණි රහයි කියලා අපේ සිංහල කියමනේ විදිහට, එන සෑම විප්‍රයෝග දුකක් පිළිබඳව මේ **දුක්ඛං පරිඤ්ඤෙය්‍යං** කියන විදිහට හාත්පසින් දැකීම පිණිස හේතුවක් කාරණාවක් කරගන්න පුළුවන් නම්, අපිට පැහැදිලිවම තේරුම්ගන්න පුළුවන්, අපි අෂ්ටලෝක ධර්මයෙන් කම්පා වීමේ ප්‍රවණතාව එන්ට එන්ට අඩු වෙලා, අකම්පිත තත්ත්වයක්, අනික් දේවල් මත නොරැඳෙන තත්ත්වයක් ඇති වෙනවා. එයිනුත් ආත්ම සෙනෙහස අඩු කරන්ට ශ්‍රද්ධාව, විරිය, සති, සමාධි, ප්‍රඥව දියුණු කරගන්ට ලෝකයේ දෙන්නෙකුට විෂම භාවයක් නෑ. බොහෝම සමාන සැලකිල්ලක් තියෙන්නෙ.

ඒ අනුව අද ධර්ම දේශනාවේ සඳහන් වුණ කොටසුත් තම තමන්ගේ අත්දැකීමත් එකතු වෙලා, තමන්ට පැමිණෙන සෑම ප්‍රිය විප්‍රයෝගයක් හෝ වේවා අප්‍රිය සම්ප්‍රයෝගයක් හෝ වේවා එහිදී සතියෙන් සම්පජඤ්ඤයෙන් මුහුණදීමට තමන්ගෙ මූල කර්මස්ථානය ඒ අවස්ථාවෙදිත් මුදුන්පත් කරගෙන දුක්ඛ සත්‍යය අවබෝධ කරගැනීමට මේ ධර්ම දේශනාවත් හේතු වේවා කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව මෙතනින් සමාප්ත කරනවා.

# 70 | කැමති දේ නොලැබීමේ දුක

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**කතමඤ්ච භික්ඛවෙ යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං: ජාතිධම්මානං භික්ඛවෙ සත්තානං එවං ඉච්ඡා උප්පජ්ජති: අහො වත මයං න ජාතිධම්මා අස්සාම, න ච වත නො ජාති ආගච්ඡෙය්‍යා ති. න ඛො පනෙතං ඉච්ඡාය පත්තබ්බං, ඉදම්පි යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං තී'ති.**

පූජනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. අපි සතිපතා නිතිපතා මේ සතිපට්ඨාන මහා සූත්‍ර දේශනාව ඉදිරිපත් කරගෙන දිගට පවත්වාගෙන එන ධර්ම දේශනා මාලාවකටයි අදත් කාලය පැමිණීමෙන් සම්බන්ධ වෙන්නේ. අපි අංක වශයෙන් සඳහන් කරනවා නම් අද 70 වැනි ධර්ම දේශනා වාරයටයි මේ සපැමිණියේ.

මෙහිදී අපි හතරවෙනි සතිපට්ඨානෙ ධම්මානුපස්සනාවෙ දුක්ඛ සත්‍යයේ එක පුංචි කොටසකුයි ඉදිරිපත් කරගන්න හදන්නේ. මේ කොටසට ඉදිරිපත් වෙලා කරන ලද ධර්ම දේශනාවක්, ලියන ලේඛනයක් හෝ කිසිම වෙලාවක මම අහලා තිබුණෙ නැහැ. හුඟාක් සතිපට්ඨාන පොත්වල මේක සාමාන්‍ය දුක්ඛ සත්‍යයේ අනෙකුත් කාරණා අතර පුංචි ගිළිහිච්ච නොවැදගත් කාරණාවක්

විදියට ඉදිරිපත් කරලා තියෙනවා. නමුත් අද අපි පැයක පමණ කාලයක් **කතමඤ්ච භික්ඛවෙ යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං** කියන එක ඉදිරිපත් කරගෙන, ඒකට වෙන කවුරුවක්වත් නෙවෙයි සර්වඥයන් වහන්සේ විසින්ම සපයන අටුවාව, අට්ඨ කථාව ජාති ධර්මය සම්බන්ධ කරගෙනයි කථා කරන්න බලාපොරොත්තු වෙන්නේ.

මේකේ අපි ඉදිරිපත් කරගන්න යෙදිච්ච පාලි පාඨය අරගෙන බැලුවත් අපි ඒකේ බහින්න හදන තැනේ තියෙන ගැඹුර මකාගැනීම සඳහා මොන තරම් ක්‍රමිකව ප්‍රශ්නයට පිවිසෙන්න ඕනැද කියන එක තේරෙනවා. **කතමඤ්ච භික්ඛවෙ යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං** - මහණෙනි යමක් කැමති වෙනවාද එය නොලැබීම දුකක්, කියන එක කොහොමද වෙන්නේ? මොකක්ද මේ කියන්නේ? අපි මේ පාඨය වශයෙන් ගත්තොත් නම් මේ සාමාන්‍ය ව්‍යවහර ලෝකේ එච්චර තේරුම්ගන්න අමාරුවක් නැහැ. කැමති දේ නොලැබීමේ දුක. **යම්පිච්ඡං** = **යම්පි** + **ඉච්ඡං. ඉච්ඡති** කියලා කියන්නේ කැමති වෙනවායි කියන එක. **යම්පි ඉච්ඡං තං** - ඒ කැමති දේ **නලභති** - නොලැබෙන්නේ ද, **තං දුක්ඛං** - මේ ඉච්ඡා විඝාතය කියලා සඳහන් කරනවා, ඉච්ඡා භංගය කියලා මේකේ සඳහන් කරනවා. ඒක සාමාන්‍ය ලෝකයේ සෑම කෙනෙක් තුළම, තිරිසන්නු තුළ පවා හොඳට ආවේග දිහා බලාගෙන ඉන්නකොට දැකගන්න පුළුවන්. හුඟක්ම ජීවිතයක විචිත්‍ර පැත්ත තීක්ෂණ පැත්ත කට්ට කයිරාටික පැති ඔක්කොම මතු වෙන්නේ තමන් කැමති දේ නොලැබීම නිසා. ඒ කියන්නේ අසීමිත ආසාවක් තමයි මේ ජීවිතය කියලා කියන්නේ. ඒ නිසා මුළු ආර්ථික විද්‍යාවම ඔක තමයි. **යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං.** ඒ නිසා සීමිත වස්තු ප්‍රදේශයකින් අසීමිත ආසාවල් ඉෂ්ට කරගැනීම සඳහා යොදගන්නා සැලසුම් තමයි ජීවිතයේ විෂය වශයෙන් අපි හදුරන්නේ. ඔක විශේෂයෙන්ම ආර්ථික විද්‍යාවට යනකොට කළමනාකරණය කියලා පෙන්නලා දීලා තියෙනවා. ඒක නෙමෙයි මං අදහස් කළේ තේරුම්ගන්න අමාරුයි කියලා.

ඊට පහළින් සඳහන් කරනවා බුදුරජාණන් වහන්සේ මේකට නිදර්ශනයක්. බුදුරජාණන් වහන්සේ සඳහන් කරනවා සත්ත්වයාට මෙන්න මේ වාගෙ **එවං ඉච්ඡා උප්පජ්ජති.** මොකද්ද? **අහො වත මයං න ජාතිධම්මා අස්සාම.** අනේ මට ජාති ධර්මය නොවේවා කියලා කැමැත්තක් ඇති වෙනවා. **න ච වත නො ජාති ආගච්ඡෙය්‍යා ති.** අනේ මට මේ ජාතිය නොපැමිණේවා කියලා කැමැත්තක් ඇති වෙනවා කියනවා. මෙන්න මේකට අපි ඡන්දෙ ඇහුවොත් කීදෙනෙක් අත උස්සයිද දන්නෙ නැහැ ජාතිය එපා කියන තැනට. මේක බුදුහාමුදුරුවො විසින් අපට පටවපු දෙයක්ද පනවපු දෙයක්ද නැත්නම් ලෝක ජනතාවගෙන් ලෝක සත්ත්වයාගෙන් සීයකට ලක්ෂයකට කෝටියකට කීදෙනෙක් ජාතිය මට නොවේවා, මම ජාති ධර්මය නැත්තෙක් වෙම්වා, ජාතිය මට නොපැමිණේවා කියලා පතයිද කියන එක නම් තේරුම්කරලා දෙන්න අමාරුයි. විශේෂයෙන්ම මේ දෙදහස් පන්සිය හතළිස්හතක් ගියයි කියලා අපි ඇඟිලි ගණන් කරන බුද්ධ ශාසනයේ අද පවතින තත්ත්වය බලනකොට ජාතිය බෝ කිරීමට අද කොච්චර ආගමික කතා පතුරවනවද? ඒ වාගේම තවතවත් හොඳින් ජාතිය ලබමින් සංසාරෙ කකා යන්න සංසාරෙ කකා ඇවිදින්න, එහෙම නැත්නම් මේ කන කෑම තව හොඳින් කන්න මොන තරමට ආගම දඩමීමා කරගෙන, විශේෂයෙන්ම බුද්ධාගම වගේ එකක් දඩමීමා කරගත්තද කියලා බලනකොට මේ පළවෙනියෙන් සඳහන් කරපු **යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං** කියන එකයි ජාති ධර්මයයි කියන දෙක හරියටම හරස් වෙලා හිටින කාලෙකයි අපි මේ බණ කියන්නේ. බණ අහන්නේ.

ඒ නිසා මෙතන උත්තරේ කියලා දෙන්න තමයි සතිපට්ඨානෙ තියෙන්නේ, නමුත් 'ප්‍රශ්නය' තමයි 'ප්‍රශ්නයක්' වෙලා තියෙන්නේ. ඇත්තටම අපිට ජාතිය ජාති ධර්මය - **අහො වත මයං න ජාතිධම්මා අස්සාම** - අනේ අපි ජාතිය නැත්තෝ වෙම්වා කියන අදහස ඇත්තටම තියෙනවද. **න ච වත නො ජාති ආගච්ඡෙය්‍යා ති.** මට මේ ජාති දුක නොඒවා කියලා, මා කරා නොපැමිණේවා කියන මෙන්න මේ **ඉච්ඡාව** මේ කැමැත්ත

ඇත්තටම තියෙනවද කියන ප්‍රශ්නෙ ගත්තොත්, මේ පැගිරි ගතිය නිසා නුහුරු ගතිය නිසා වෙන්න ඇති මේක ධර්ම දේශනාවකට මාතෘකා කරගෙන නැත්තෙ. ඒ වාගෙම මේකට යම් ප්‍රමාණයකට සර්වඥයන් වහන්සේගේම තවත් උත්තරයක්, සර්වඥයන් වහන්සේගේම මීට සමාන්තර තවත් අදහසක් ඉදිරිපත් වෙනවා පළවෙනි උදන ගාථාවෙ.

**අනෙකජාති සංසාරං සන්ධාවිස්සං අනිබ්බිසං**
**ගහකාරකං ගවෙසන්තො දුක්ඛා ජාති පුනප්පුනං**

අනේක ජාතියක් සංසාරෙ මේ ඇවිද්දේ මේ ගේ තනන්නා, මේ දුක නැවත නැවත දෙන්නා හොයාගෙන. **ගහකාරකං ගවෙසන්තො දුක්ඛා ජාති පුනප්පුනං** මේ ජාතිය නැවත නැවත ඇති වීම දුකක්.

**ගහකාරක දිට්ඨො'සි පුන ගෙහං න කාහසි**
**සබ්බා තෙ ඵාසුකා භග්ගා ගහකූටං විසංඛිතං**
**විසඞ්ඛාරගතං චිත්තං තණ්හානං ඛයමජ්ඣගා**

මම ඒ ගේ හදන්නා දැක්කා. ගේ හදන වඩුවා දැක්කා. මම එයාගෙ කැණිමඩල විනාශ කෙරුවා. පරාල කඩලා විනාශ කෙරුවා. මගේ හිත විසංඛාරගත වුණා. ආයෙ නෑ මට ගෙවල් හැදිල්ලක්. මේ තමයි සර්වඥයන් වහන්සේ සර්වඥතා ඥනය ලැබුවහම 'ඉස්ඉස්සෙල්ලාම කළයි' කියලා උදන පාලියේ සඳහන් නොවුණට, සඳහන් වෙන පළවෙනිම උදන ගාථාව තමයි. ඒකට අපි පළමුවන උදනය කියලා කියනවා. මේකේ පෙන්නනවා ජාතිය නැති කරපු හැටි. ජාතිය නැති කිරීම සඳහා **කිං කුසල ගවෙසීව**, කුමක්ද කුසලය මොකක්ද කුසලය කියලා ජාතිය නැති කිරීමේ මේ ප්‍රයත්නය, අභීත අසහාය ප්‍රයත්නය ඇති කරපු මේ වීරයාණන් වහන්සේගේ වැඩපිළිවෙළත්, අද ඒ වීරයාණන් වහන්සේ පිටිපස්සේ යනවා යැයි කියාගන්නා ශ්‍රාවකයෝ යැයි කියාගන්නා වූ ඇත්තෝ ජාතිය වැඩීම පිණිස කරන වැඩපිළිවෙළත් දිහා බලනකොට මේකට බණ නොකියන එක ගැන පුදුම වෙන්න දෙයක් නැහැ.

ඒක නිසා බණ අහන්න කලින් අපිත් තමතමා වශයෙන් කල්පනා කරන්න වෙනවා මේක අනුන්ගෙ ජාතිය නැති කිරීම සඳහා කියන බණක්ද? එහෙම නැත්නම් බුදුරජාණන් වහන්සේ අපේ ජාතිය නැති කිරීම සඳහා කියුවට මොකද, ජාතිය වේවා කියමින් හිත යට තියාගෙන අහන බණක්ද? එහෙමත් නැත්නම් බුදුරජාණන් වහන්සේ ජාතිය නැති කිරීම සඳහා කියපු බණක් අපි ඒ සඳහා හිත හදාගෙන ඒ බණ උපදෙස් අනුව ගත කරමින් ජාතිය නැති කිරීම සඳහා යන ගමනේ අහන බණක්ද? ඔන්න ඔය කාරණා තුනෙන් තුන්කොටසකට වැටෙනවා මේ අහන පිරිස. ඒ නිසා ඉතාමත්ම පරිස්සමෙන්, කඹේ ඇවිදින්නා වගේ කලල් මඩක ඇවිදින්නා වගේ, දිය වෙන අයිස් ගොඩක ඇවිදින්නා වගේ බොහෝමත්ම පරිස්සමෙන් ඕනැ මේකේ බුද්ධ වචනය මතු කරගන්න.

ඒ නිසා මුලින්ම කියන්න වෙනවා මේ බණ, නැත්නම් මේ බුද්ධ අනුශාසනාව, ජාතිය මට නොවේවා කියලා තමන්ගේ ජාතියේ තියෙන ආදීනව දැකලා එය දුරු කිරීම සඳහා කියපු බණක් ඇර අනුන්ගේ ජාතිය නැති කිරීම සඳහා අනුන්ට අර කක්කුට්ටො කියන බණක් වගේ හෝ වැද්දන් කියන බණක් වගේ හෝ බණක් වුණොත් මේක බුදුරජාණන් වහන්සේට කරන ගෞරවයක් වෙන්නේ නැහැ. ඒ වාගේම අපි බුදුහාමුදුරුවන්ගේ බණ ඉගෙනගන්න ඕනැ. අපි විශාරද වෙන්න ඕනැ ත්‍රිපිටකධාරී වෙන්න ඕනැ හැබැයි ජාතියක් තියෙන්න ඕනැ කියලා ඒ කරන ශඨ මායාවී වැඩකට යන බණකට පත් වෙනවා නම්, මේ පැය නොවේවා කියලා මං ප්‍රාර්ථනා කරනවා. අවශ්‍ය කරලා තියෙන්නේ බුදුරජාණන් වහන්සේ මේ ධර්මය දේශනා කළේ උන්වහන්සේ බුද්ධෝත්පාදයත් එක්කම ඒ පළවෙනි උදන ගාථාවෙන් ප්‍රකාශ කළා වගේ ප්‍රධාන සටන තියෙන්නේ ජාතිය නැති කිරීමයි. ජාතිය කියන්නේ සිංහල ජාතිය බුද්ධාගම් ජාතිය හින්දු ආගම් ජාති නෙමෙයි. තමන්ගේ නැවත නැවත මේ භවයේ උත්පත්තිය.

ඉතින් ඒකද අපේ පරමාර්ථය කියලා බැලුවොත් බණ අහන්නේ නැතුව ඒකම කල්පනා කර කර ඉන්න පුළුවන් පැයකට

වැඩිය. ඒ මොකද, ඒකත් සමහර වෙලාවට තාම ගොනු වෙලා නැහැ. තාම පෙළගැහිලා නැහැ. නමුත් ප්‍රාර්ථනා කරනවා එහෙම දෙකට දෙතැවර වෙච්ච හිතකින් ඇහුවත් මේ ධර්ම කාරණා, ඒ වාගෙම ලෝකෙන් අපිට ගන්න පුළුවන් සාමාන්‍ය උපදෙස් නිදර්ශන ගෙනහැර පාමින් එවැනි හිතක් එල්ලයකට එකම පරමාර්ථයකට යොමු කරගන්ට, එහෙම නැත්නම් දැනටමත් යොමු කරගත්ත කෙනෙක් වෙනවා නම් ඒ කෙනාට තව පියවරක් ඉදිරියට යන්න මෙයින් ප්‍රයෝජන වේවා කියන ප්‍රාර්ථනාව ඇතුව, මං උත්සාහයක් ගන්නවා ඉදිරියට කාරණා ටිකක් ඉදිරිපත් කරන්න.

මේ විදියට බුදුරජාණන් වහන්සේ සඳහන් කරනවා **අහො වත මයං න ජාතිධම්මා අස්සාම** - අනේ අපට ජාති ධර්මය නොවේවා. **න ච වත නො ජාති ආගච්ඡෙය්‍යා ති** - මට ජාතිය මත්තෙහි නොපැමිණේවා. ඊට පස්සේ බුදුරජාණන් වහන්සේ ඒකට කෙළින්ම හරස් කැපිල්ලක් සිද්ධ කරනවා - **න බො පනෙතං ඉච්ඡාය පත්තබ්බං.** මහණෙනි උඹලා ඔහොම හිතුවට ඒක හිතු පමණින් ලැබෙන්නේ නැහැ. හරියට නිකං අපි බලාපොරොත්තු වෙන්නේ යම් කිසි කෙනෙක් මේ ජාතිය නොවේවා ජාතිය නොපැමිණේවා කියනකොටම බුදුරජාණන් වහන්සේ පිටිපස්සේ ඉඳලා ඇවිල්ලා අතගාලා ආ බොහොම හොඳයි කියලා තල්ලුවක් දෙයි, ආධාරයක් කරයි, එහෙම නැත්නම් ඒක තමයි විය යුත්තේ කියලා අගය කිරීමක් කරයි කියලා. නමුත් ඒකට කෙළින්ම හරස් කපන වචනයක් සඳහන් කරනවා, **න බො පනෙතං ඉච්ඡාය පත්තබ්බං** - මහණෙනි මේ වාගේ දෙයක් ප්‍රාර්ථනා කළ පමණින් ලැබෙන්නේ නැහැ. **ඉදම්පි යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං** - ඔන්න ඕකටයි කියන්නේ හිතූ දේ හිතූ පමණින් නොලැබෙන එක දුකයි. ඒක නිසා යෝගාවචරයා පුදුමාකාර අගාධයකට ඇදගෙන වැටෙනවා. අල්ලපු අත්තත් නැතුව පය ගහපු අත්තත් නැතුව ඇදගෙන වැටෙන තැනකට තියෙන්නේ.

මේක මුළු යෝගාවචර ලෝකෙම ඉතාමත්ම ප්‍රකට ප්‍රසිද්ධ කාරණාවක්. සාකච්ඡා කරල බලලා තියෙන්නත් පුළුවන් හිතෙන්. නොතිබෙන්නත් පුළුවන්. නමුත් සාමාන්‍ය යෝගාවචර ජීවිතය දිහා

බලනකොට යෝගාවචර ලෝකය දිහා බලනකොට භාවනා ලෝකය දිහා බලනකොට, මේක පිළිබඳව එල්ලයක් මේක පිළිබදව පිරිසිදු පරමාර්ථයක් යෝගාවචරයන්ට තබා කර්මස්ථානාචාර්ය වරයෙකුටවත් නැහැ. ඒ ඇත්තො හිතන්නේ මේ ජාතිය වඩා හොඳින් කරගැනීමට භාවනාව ඉදිරිපත් කරගන්න ඕනැ, චතුරාර්ය සත්‍යය අවබෝධ කරගන්න ඕනැ, ලෝකයට ධර්මය දේශනා කරන්න ඕනැ කියලා කබරගොයා තලගොයා කරගන්න හදනවා කෑමට. නැත්නම් ලාභ සත්කාර ප්‍රයෝජන සඳහා. ඒක ඒ ඇත්තන්ගේ කර්මානුරූපව සිද්ධ වෙයි. නමුත් ඒක නෙමෙයි මෙතන මතක් කරන්න හදන්නේ. අන්න එවැනි අවස්ථාවාදී කර්මස්ථානාචාර්යවරුන්ට අහු වෙච්චි යෝගාවචර පිරිස සියයට අනූවකට වැඩිය වැඩියි. අන්න එවැනි යෝගාවචරයන් සඳහා, සාමාන්‍ය භාවනාව පටන්ගත්තෙ නැති කෙනෙකුට තරම්වත් උදවු උපකාර කරගන්න බැරි අවස්ථාවක් අද ලෝකෙ තියෙන්නේ. නමුත් ඒ තියෙද්දිත් සියයට පහක් දහයක් අතර ප්‍රදේශයක් වගේ මේ කාරණාව හොඳට කල්පනා කරලා තියෙනවා. හිතන්න එපා මේක අවුරුදු හතළිහ පනහ පැනලා සාමාන්‍ය පවුල් ජීවිත කරලා අසාර්ථක වෙලා, ඒ නිසා තමන්ගේ දරුවෝ තමන්ට ගහන්න එනකොට බනින්න එනකොට ජාතිය නොවේවා කියලා හිතෝපදේශ වගේ පාලි ගාථා සංස්කෘත ගාථා ලියපු පරමාර්ථයකින් නෙමෙයි මේ කථා කරන්නේ.

දැනටමත් ඉන්නවා ලංකාවෙත් අවුරුදු දසය දහත දහඅට දහනමය විස්ස වයසට වෙනකොටත් මේ ජාතිය ඇතුළෙ ලෝකෙ තියෙන්නා වූ වට්ටය සම්පූර්ණ විහිළුවක් බව මොකක්දෝ පැත්තකින් ඇඟට වැටහිච්ච පිරිසක්. ඒ පිරිස ප්‍රසිද්ධ කර්මස්ථානාචාර්යවරු හම්බ වෙලා, ජාතිය නැති කරන්නේ කොහොමද කියලා අහපුවහම ඒගොල්ල කියනවා ඔයාගෙ මොළේ පොඩ්ඩක් නරක් වෙලා තියෙන්නේ. මානසික වෛද්‍යවරයෙක් හම්බ වෙන්න. ජාතිය නැති කරන්න හදන්න එපා. ඒක මහ නාස්තික වැඩක්. අපි ඕක හොඳට තෙම්පරාදු කරගෙන වළඳමු. ඕකට කටගැස්මක් දලා අපි හදලා දෙන්නම්, ඕක හොඳට කන්න

පුරුදු වෙන්නයි කියලා දෙමව්පියොත් ගුරුවරුත් ප්‍රකාශ කරන අවස්ථා ඒ ප්‍රශ්නෙ ඇති වෙච්ච යෝගාවචරයන්ගෙ කටින්ම ඇහෙනකොට පුදුමාකාර සංවේගයක් පහළ වෙනවා, එදා වගේම අදත් සත්‍යය විෂයෙහි ඇත්තා වූ මේ වපර බැල්ම පිළිබඳව.

ඒ නිසා ඉස්සෙල්ලම ප්‍රශ්නෙ තමයි ඇත්තටම මේ **අහො වත මයං න ජාතිධම්මා අස්සාම** - අපට මේ ජාතිය නොවේවා කියන අදහස වටහාගැනීම. මේක සතිපට්ඨානයේ දුක්ඛ සත්‍ය පබ්බයේ විස්තර කරන්නේ, මහණෙනි, ඉතාම දුක සේ ඔය ඇත්තෝ ඒ ප්‍රාර්ථනා ඇති කරගත්තත් මතක තියාගන්න, ඒක ඔය හිතූ පමණින් හම්බ වෙන්නේ නැහැ. ඒ කියන්නේ මන්දෝත්සාහී කරන්න හෝ ජාතිය වේවා කියලා ආයෙත් ආමිස, නැත්නම් ලෞකික ප්‍රාර්ථනා ඇති කරවන්න සර්වඥයන් වහන්සේ කරන වැඩක් නෙවෙයි. ඒ කාරණාව අපි කරන වැඩේ තියෙන බරපතළකම තේරුම්ගන්න. මේක කොටින්ම කියනවා නම් ප්‍රාර්ථනා කළ පමණින් ලැබෙන්නේ නැහැ. ඉතාමත්ම විශාල වැඩ පිළිවෙළක් තියෙනවා. මෙන්න මේකට තමයි ප්‍රතිපදාව කියන්නේ. එක පහරකින් මේක ලබන්න බැහැ. එක කැමැත්තකින් මේක ලබන්න බැහැ. ඒ සඳහා කළ යුතු ප්‍රතිපදා රාශියක් තියෙනවා.

ඒ ප්‍රතිපදා කරගෙන යනකොට හරියට ඒ එකින් එකට එකින් එකට වැඩ පිළිවෙළ යනවා නම් සර්වඥයන් වහන්සේ සර්වඥතා ඥානය ලබන්න කලින් හොඳටෝම සැලකිලිමත් වෙලා ඥානය ලැබූ පමණින්ම උදාන ගාථාවක් ප්‍රකාශ කළා අපි මතක් කරපු විදිහට - මම මේ මනුස්සයා හොයාගෙන ගියා, ජාතිය හොයාගෙන ගියා, මම දැක්කා, මම කැඩුවා, ආයෙ උන්දෑට ගෙවල් හදන්න බෑ කියන එක භාවනාවෙදි මතු වෙයි. මිදීමේ කැමැත්තක් මතු වෙනවා. මේකට කියනවා මුඤ්චිතුකම්‍යතා ඤාණය කියලා. මේක අද වෙනකොට අපේ ථෙරවාද බෞද්ධ භාවනා සම්ප්‍රදායේ ඤාණ දසයේ ඉතාමත්ම උග්‍ර ඥාණයක්, උග්‍ර විපස්සනා ඤාණයක් විදියට සඳහන් කරනවා. අපි දන්නවා විපස්සනාවට පෙළඹීම එළඹීම සඳහා නාමරූප පරිච්ඡේද ඤාණය, පච්චය පරිග්ගහ ඤාණය, සම්මස්සන ඤාණය කියලා ඤාණ තුනක් සඳහන් වෙනවා.

එතකොටත් ඒ යෝගාවචරයා සෑහෙන පෙළගැසීමක්, අකුණු විදුලි එළියකට ඇතට දුවන පාරක් දකගත්තා වගේ ඒ තමන් යන්න හදන පාර පිළිබඳව සෑහෙන එක චක්‍රයක් ගමන් කරනවා. නමුත් තාම හිත විපස්සනාවට වැටිලා නැහැ. තාම අවශ්‍ය කරන ශීලය සමාධිය විපස්සනා පසුබිම ඒවයේ තියෙන මූලික පරමාර්ථය තේරුම්ගැනීම ආදී මග සකස් කිරීමක් වෙනවා. ඒ තියෙද්දිත් තව ඉදිරියට ඒ වැඩේ කරගෙන යනකොට තමයි උදයබ්බය ඤාණය ඇති වීම් නැති වීම් දෙකම අරමුණු විෂයෙහි වෙනසක් නැතුව කොයි අරමුණට හිත යෙදුවත් නාම වේවා රූප වේවා හේතු වේවා ප්‍රත්‍ය වේවා ඒ වගේ ඇති වීම් නැති වීම් දෙක පේන්න පටන්ගන්නෙ.

මේ තත්ත්වයේදී බය වෙන්නේ නැතුව කලකුලප්පු වෙන්නේ නැතුව, දන් මං මේ ඇත්ත ඇති හැටිය දකගන්න යථාභූතය ඉදිරියට පේන්න හදනවා කියලා ඒකට සාදර වුණොත් ඒ විෂයෙහි වීරිය නෙවෙයි - 'වීරත්වය'යි තියෙන්නේ. ඒකට අභීතව මුහුණ දුන්නොත් උදයබ්බය ඤාණය බලව උදයබ්බයක් බවට පත් වෙනවා. ඉතාමත්ම සීග්‍රයෙන් බැලූ බැලූ අත දකින දකින දේ උදය වය පමණක්ම, මොකක්ද බිඳෙන්නේ මොකක්ද පහළ වෙන්නේ කියන්න බෑ. පහළ වෙන පමණින් බිඳෙනවා, බිඳුණ පමණින් පහළ වෙනවා කියන මට්ටමට යනකොට සියලු සංස්කාර ධර්මයන්ගේ හිත යොදන නොයොදන ළඟ දුර තමන් බාහිර ඔක්කොගෙම උදය වය පේන්න ගන්නවා.

මේ තත්ත්වයට පත් වුණාට පස්සේ හොඳටෝම ඒ ඤාණය මුදුන්පත් වීමක් සිද්ධ වෙනවා නම්, කෙළවරට පත් වෙනවා නම් ඒක ඊළඟට තැන්පත් වෙන්නේ භංග ඤාණයේ. උදය පැත්ත නැතුව ඇති වීම් පැත්ත දකින්නේ නැතුව, නැති වීම් පැත්ත පමණක්, නැති වෙමින් බිඳෙමින් කැඩිකැඩී බිඳිබිඳී යන පැත්ත පමණක් දකිනවා. මේ භංග ඤාණය වෙනකොට යෝගාවචරයෙක් අවශ්‍ය නැහැ, භාවනාවක් කිරීම අවශ්‍ය නැහැ. ඒ භාවනාව විසින්ම පුදුමාකාර වේගයකින් අරගෙන යන්න පටන් අරගන්නවා. භාවනාව විසින් භාවනාව ඉදිරියට ගෙනියන්න පුළුවන් තරමට ලොකු

වේගයක් කැවෙනවා. නමුත් යෝගාවචරයා ඒ භංගය දකිනකොට, ඉබේම හැම දේම බිඳී බිඳී යනවා දකිනකොට තමන් හරියට ප්‍රේත ලෝකෙකට වැටුණා, යක්ෂයන් ගොඩක් අතරට වැටුණා, හොර මැර පිරිසක් අතරට වැටුණා වාගේ භය පහළ වෙනවා. ඒකට භයතුපට්ඨානය කියලා කියනවා. භංග, භය.

ඊගාවට මේ භය නිසා ආදීනව වැටහෙන්න පටන්ගන්නවා. මං මේච්චර කල් සංස්කාර වශයෙන් රැස් කරපු සෑම දෙයක්ම මතුපිට ඇති වීම, ඒ වගේ හොඳ පැත්ත දැක දැක හිටියට, ඇත්ත ඇති හැටියෙන් දකිනකොට මේකේ තියෙන්නේ බිඳී යෑමමයි. භය එළවනසුලු ගතියකුයි. ඒ නිසා මේක මහ ආදීනව සහිත තැනක්. මං මේ උපයාගෙන තියෙන්නේ හොර ගුහාවක්. මං අහු වෙලා තියෙන්නේ ලොකු ප්‍රෝඩාවකට වගේ කියලා ඒ භය ඤාණය පහළ වෙනවා. භය ඤාණය නිසා ආදීනව වැටහෙන්න පටන්ගන්නවා - සංස්කාරයන්ගේ ඇත්තා වූ ආදීනව. මේ නිසා සංස්කාර විෂයෙහි නිර්වේදයකට පත් වෙනවා, නිබ්බිදාවකට පත් වෙනවා. මේ තරම් මම මුළු ශක්තිය යොදලා මුළු දැනුම යොදලා මුළු ඤාණය යොදලා පෙර කළ පින් ශක්ති ඔක්කොම යොදලා මේ සංස්කාර නේද රැස් කළේ? ඒ රැස් කරන සෑම දෙයක්ම ඇත්ත දකිනකොට භයක් නේද එළවන්නේ? මේක මහා ආදීනවයක්, මේකෙ නරක පැත්තක් දැකීම නිසා මින් මත්තට ඒ සංස්කාර විෂයෙහි ප්‍රයෝග නොකරන නිර්වින්දනයක් නිබ්බිදාවක් පහළ වෙනවා. ඒක කවදාකවත් ගුරුවරයෙක් කියුවටවත් තව කෙනෙක් දැකලා ගුණ ප්‍රකාශ කළාටවත් තමන්ගේ ප්‍රේමය නිසා තමන්ගේ දරුවන්ට ගෝලයන්ට දෙන්න පුළුවන්කමක්වත් එහෙම එකක් නෙමෙයි. හේතු ඵල වශයෙන් භය ආදීනව දකිනකොට ඇති වෙනවා නිබ්බිදාවක්.

මේ නිබ්බිදාව මෝරනකොට තමයි මුඤ්චිතුකම්‍යතා ඤාණය කියන්නේ. මිදෙනු කැමැත්ත. ඒ මිදෙන කැමැත්ත ඇති වෙන්නේ මොකටද? උත්පාදය තමයි සංසාර වට්ටයේ මුල් පුරුක. උත්පාදය මට නොවේවා. නැත්නම් මට සංස්කාර නොවේවා! මේක පිළිබඳව පටිසම්භිදාමග්ග ඤාණ කථාවෙදි සංඛාර උපේක්ඛා ඤාණය දක්වන තැන - මේක ගැඹුරු බව මම කලිනුත් කීවා. ඒත් මතක් කරන්න

වෙනවා. ඒකේ විස්තර කරනවා **මුඤ්චිතුකම්‍යතාපටිසඞ්ඛාසන්තිට්ඨනා පඤ්ඤා සඞ්ඛාරුපෙක්ඛාසු ඤාණං** කියලා. සංඛාර උපේක්ඛා ඤාණය වශයෙන් ගන්නකොට පළවෙනියටම පටන්ගන්නේ මුඤ්චිතුකම්‍යතාව, මිදෙනු කැමැත්ත. මොකෙන්ද? උත්පාද ආදියෙන් මිදීම. ලැයිස්තුවක්ම පෙන්නනවා එතනදි. උත්පාද ජරා ව්‍යාධි මරණ සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස කියන, සතිපට්ඨානයේ දුක්ඛ සත්‍යයට අදාළ ලැයිස්තුව එතන පෙන්නනවා. උත්පාදයමයි, සතර ආකාරයකින් පෙන්නනවා උත්පාදයෙන් මිදීමේ කැමැත්ත ඇති වෙන හැටි.

සතිපට්ඨාන සූත්‍රයේ අපි ඉදිරිපත් කරගත්ත මුලින්ම ගත්ත මේ පාඨයට යෝගාවචරයා ගෙනියලා, මේ ජාති නොවේවා මේ ජාතිය මට නොවේවා කියන කැමැත්ත තිබුණට මහණෙනි, යෝගාවචරයාණෙනි, ඒක කැමැත්ත පමණින්, තමන් බලාපොරොත්තු තමන් මනාප වෙච්චි පමණින් ලබන්න බෑ කියන එක පෙන්නලා දීලා තියෙනවා. ඒක නිසා මේ ලෝකේ දුකක්. දැන් පටිසම්භිදා මාර්ගයේ පෙන්නනවා ඒක ලබාගන්න නම්, කළ යුත්ත මොකක්ද කියලා. මොකක්ද? මට ජාතිය නොවේවා, ජාතිය මා කරා නොවේවා කියන ප්‍රාර්ථනාව බොහෝම හොඳ සම්‍යක් සංකල්පනාවක්. ඒක කැමැත්ත පමණින් ලබන්න බැහැ. ලබන්න නම් උත්පාදය හතර ආකාරයකින් දකින්න ඕනැ. **උප්පාදො දුක්ඛො** - උත්පාදය දුකක් කියලා දකින්ට ඕනැ. **උප්පාදො භයන්ති** - උත්පාදය කියන්නේ භයෙහි උත්පත්තියක්. **උප්පාදො සාමිසන්ති** - උත්පාදය රූපධර්මයත් සමග එකතු වෙලා සාමිස ලෝකයේ සිදු වෙන දෙයක්. **උප්පාදො සංඛාරාති** - උත්පාදය කියන්නේ සංස්කාරයක්. මෙන්න මේ ආකාරයට දැකීමකින් දැකලා ප්‍රතිපත්ති පිරීමෙන් උදයබ්බය ඤාණ භංග භය ආදීනව මුඤ්චිතුකම්‍යතා නිබ්බිදා ආදී ඤාණ පිළිවෙලින් ආපුවහම ඒ පුද්ගලයට මිදීමේ කැමැත්තක් එනවා නම්, එතකොට ඒ මිදීමේ කැමැත්ත ඵල දෙනවා. ප්‍රතිඵල ගෙන දෙනවා.

එහෙම නැතුව කවුරුත් කියන පලියට, නැත්නම් තමන්ට නිකමට හිතුණ පලියට, නැත්නම් කවුරුහරි අණ කළ පලියට, මට

ජාතිය නොවේවා කියලා කියුවට කවදාකවත් ජාතිය නොවීමක් සිදු වෙන්නේ නැහැ. **න ඛො පනෙතං ඉච්ඡාය පත්තබ්බං** - මේක බොහෝමත්ම ප්‍රසිද්ධ කථාවක්. මුළු ථෙරවාද ශාසනය පුරාම තියෙන කිසිම දෙයක් පැතූ පමණින් ඉෂ්ට වෙන්නේ නැහැ. ඒ සඳහා කළ යුතු කෘත්‍ය රාශියක් තියෙනවා. පැතූ පමණින් ඉෂ්ට වෙනවා නම් එක චිත්තක්ෂණයයි යන්නේ. ඒ නිසා යමෙක් හිතනවා නම් මේ ලෝකේ පැතූ පමණින් යමක් ගන්න පුළුවන් කියලා, ඔහුට මේ ලෝකයේ හම්බ වෙන පටබැඳි නාමය තමයි අවස්ථාවාදියා. ඒ වෙලාවට මොකක් හරි අවස්ථාවකට මෙහෙම හිතනවා. ඒ සඳහා වෙන කිසිම සූදානම් වීමක් ලකලෑහැස්ති වීමක් පූර්ව කෘත්‍යයක් නැතුව ඒක ගන්න පුළුවන් කියලා හිතලා ඒ පුද්ගලයා සාධාරණ අසාධාරණ ධාර්මික අධාර්මික සෑම ප්‍රයත්නයක්ම ඒකට යොදනවා. එතකොට ඔහුට ලැබෙන නම තමයි අවස්ථාවාදියා.

නමුත් යම් කිසි කෙනෙක් දැනගන්නවා නම්, ජාතිය නැති කිරීම අනිවාර්යයෙන්ම ඇති කරගත යුතු මනාප හොඳ සම්‍යක් ප්‍රාර්ථනාවක්; ඒ වුණත් මේක අත්දැකපු මේක ලෝකයට ශාසනයක් වශයෙන් දේශනා කරපු බුදු පියාණන් වහන්සේ සඳහන් කරනවා මේක පැතූ පමණින් ලැබෙන්නේ නැහැ කියලා; එහෙනම් මම කුමක් කළ යුතුද? ආන්න ඒ කල්පනාවට යනකොට ශීල ශාසනය සමාධි ශාසනය ප්‍රඥා ශාසනය කියන, ශීල ශික්ෂාව සමාධි ශික්ෂාව ප්‍රඥා ශික්ෂාව කියන ප්‍රතිපත්තියානුගත ගමනක් තියෙනවා. එතකොට ඒ කැමැත්ත වුණ පමණින් මට ලැබෙනවයි කියලා හෝ කැමැත්ත පමණින් ලබාගැනීම සඳහා මම සාධාරණව හෝ අසාධාරණව සටන් කළ යුතුයි කියන වේගයක් ඔහුට එන්නේ නැහැ. ඒ සඳහා කළ යුත්ත පූර්වයෙන් සකස් කළ යුත්ත ප්‍රතිපදා පිරීමට ඔහුගේ නැමීමක් ඇති වෙනවා. ඒ මොකද, මේක එක පාරකින් කපලා බිමදන්න පුළුවන් ගහක් නෙවෙයි. බොහෝ විට කඹයක් දාලා ඇදලා හරියට නියම පැත්තට වැටෙන්න ගස් කැපීමේ දක්ෂතාව අනුව ගහ බිම හෙළන කෙනෙක් වගේ වැඩ පිළිවෙළක් මෙතන තියෙන බව යෝගාවචරයට තේරුම්ගන්න වෙනවා.

අවස්ථාවාදීව දියුණුවට කැමති වෙච්ච පමණින් මේක ලැබෙන්නේ නැහැ. කැමති වුණේ නැත්නම් කොහොමටත් ලැබෙන්නේ නැහැ. කැමති විය යුතුමයි.

නමුත් කැමති වෙලා මදි කියන එකයි, දුක්ඛ සත්‍ය දේශනාවේ ජාති ධර්මය සම්බන්ධව සාකච්ඡා කරන්න ඉදිරිපත් කරලා තියෙන්නේ. ඒ නිසාම ඒක කෙනෙකුට ඒත්තු ගන්වන්න අමාරුයි. කැමැත්ත පරිද්දෙන් ලැබෙනවා නම්, මෙතනදි ජාති ධර්මය ගැන කථා කරනකොට අපි මුලින් කියුවා වගේ බොහෝදෙනෙකුට නම් ඇත්තටම මේකට කැමැත්තකුත් නැහැ. මේ පේන තරමින් මම මේ කියන්නේ. හිතෙන තාලෙන් මම මේ කියන්නේ. වැඩවල තාලෙ දිහා බලනකොට කිසිම කෙනෙකුට එහෙම කැමැත්තක් තියෙන බව පේන්නත් නැහැ. ඒ නිසා සමහර වෙලාවට කුසලච්ඡන්දයක්, මට ජාති ධර්මය නොවේවා කියලා ධර්මතාවක් පහළ වෙලත් නැතුව ඇති. පහළ වුණේ නැත්නම් කවදාකවත් ඒ ජීවිතේ ආධ්‍යාත්මික ජීවිතයක් වෙන්නේ නැහැ. කවදාකවත් සතිපට්ඨාන වගේ ධර්මයකට බහින්නේ නැහැ. ප්‍රතිපත්තියකට බහින්නේ නැහැ.

ඒ නිසා ඒ අඩියමත් අපි නැවත නැවත පිරිසිදු කරගන්න ඕනැ. අපි මේ ප්‍රතිපත්ති පුරන්නේ අරණ්‍යගත වෙන්නේ පැවිදි වෙන්නේ ලෝකයා රවට්ටන්නද, ආමිස ලාභ ලබන්නද, නැත්නම් අපි අරණ්‍යවාසී ස්වාමීන් වහන්සේලා කියලා නම්බු ලබන්නද, එහෙම නැත්නම් ජාති ධර්මය දුරු කරන්නද? ඒකත් නිතරම අපි සාකච්ඡා කළ යුතුයි. යම් ආකාරයකට ජාති ධර්මය දුරු කිරීම අපිට දිරවනවා නම්, වැටහෙනවා නම්, තේරුම්ගන්න පුළුවන් නම් ඒ සඳහා අපි කැමැත්ත පමණින් මේක ඉෂ්ට වෙන්නේ නැහැ, වැඩ රාජකාරි ගොඩාක් කළ යුතුයි කියලා බරපතළ තාලෙකට වගකීමෙන් යුක්තව ඒකට පෙළඹෙන්න සිද්ධ වෙනවා. සතිපට්ඨානයේ ධම්මානුපස්සනාව කියලා කියන්නේ කාටත් පොදුවේ දේශනා කරපු දෙයක් නෙවෙයි, පරමාර්ථ වශයෙන් ගැඹුරු කොටසක්. කායානුපස්සනාව වේදනානුපස්සනාව චිත්තානුපස්සනාව කියන බරපතළ ධර්ම කොට්ඨාස රාශියක

අත්දැකීමක් ප්‍රත්‍යක්ෂයක් ඇති කෙනෙකුට නම් පැහැදිලිවම අර කලින් සඳහන් කරපු ඤාණ පිළිබඳව අදහස් තියෙනවා. වරින් වර හෝ මුඤ්චිතුකම්‍යතා ඤාණ පහළ වෙලා තියෙනවා තාවකාලිකව හෝ තදංග වශයෙන් හෝ. අන්න එහෙම කෙනාට වැටහෙනවා මෙහෙම පහළ වෙච්ච පමණින් කාරණාව ඉෂ්ට වෙන්නේ නැහැ.

බොහොම ජයට පටිසම්භිද මාර්ගයේ සඳහන් කරනවා, මුඤ්චිතුකම්‍යතාවට පස්සේ පහළ වෙනවා **පටිසංඛානුපෙක්ඛා**. ඒ කියන්නේ නැවත නැවතත් ඒ විපස්සනා කරන හිතම ඊගාව හිතෙන් විපස්සනා වෙනවා. ඒකට ප්‍රත්‍යවේක්ෂා ඤාණය කියලත් කියනවා. ඒක නිසා එතනදි රූප ධර්ම විෂයෙහි විපස්සනා කරමින් උදය වය දකිමින් භංගය දකිමින් භය ඇති කරමින් නිබ්බිදව පහළ කරමින් ඉදිරියට ගමන් කරනවා. ඒ බලව විපස්සනාවට ආවට පස්සේ වෙන කිසිම දේකට හිත නොයා ඉන්නවා. **අජ්ඣුපෙක්ඛාව** කියලත් මේකට පාලි වචනයෙන් සඳහන් කරනවා. මේවා හුඟාක් භාවිතාවෙ පවතින වචන නෙවෙයි. අන්න ඒ එක දිගටම තනිකරම විපස්සනාවේ හිත පවතින, වෙන අමතර නීවරණයක් හෝ සංස්කාර ධර්මයක් ඔළුවට දැම්මත් වැඩ නොකරන තාලෙට ඉතාමත්ම ගැඹුරු විපස්සනාවේ පවතින ඤාණයකට පස්සේ තමයි සංස්කාර විෂයෙහි ඇත්තා වූ උපේක්ෂාව - සංඛාර උපේක්ඛාව පහළ වෙන්නේ. එහෙම නැත්නම් දැන් ඉතින් භාවනා කරලා වැඩකුත් නැහැ, ප්‍රාර්ථනා කරලා වැඩකුත් නැහැ, ඒව ඉබේ සිද්ධ වෙනවා.

කරන හරියක් අපි ප්‍රාර්ථනා කරන්නෙ සංස්කාර විෂයෙහි. ඒ සංස්කාර විෂයෙහි උපේක්ෂා කරන්න ඕනැ. සංස්කාර විෂයෙහි උපේක්ෂාව ඇවිල්ලා ඒ පිළිබඳව කනගාටුවක් පහළ වෙන්නෙත් නැහැ. හොඳට දන්නවා ඒක ඉතාමත්ම වටින දෙයක් බව. ඒ නිසා සංඛාර උපේක්ඛා විෂයෙනුත් උපේක්ෂා වෙලා, හුඟාක් වෙලා ව්‍යාපාරයකින් තොරව භාවනාව ප්‍රතිඵල පමණින් ලබලා රහත් හිතක් වගේ හිතක් ඇතුව බොහෝ වේලා ජීවත් වෙන්න පුළුවන් ශක්තියක් සංඛාර උපේක්ඛාවට ලැබෙනවා.

ඒකේ ආරම්භය තමයි මුඤ්චිතුකම්‍යතාව. මට ජාති ධර්මය නොවේවා කියන අදහස. ඒක පිළිබඳ විස්තර සපයන පටිසම්භිදමාර්ගය පෙන්නනවා ජාති ධර්මය නොවේවා කියලා යෝගාවචරයෙකුට හේතු කාරණා ගැන්වීමට නම් හතර ආකාරයක මෙනෙහි කිරීමේ ක්‍රමයක්, දකගැනීමේ ක්‍රමයක් සලකා බැලීමේ ක්‍රමයක්, යෝනිසෝමනසිකාර පැවැත්වීමේ ක්‍රමයක් තියනවා. ජාති ධර්මය දුකක් බව **දුක්ඛතෝ**. ඊගාවට **භයතෝ** - බයක් බව. ජාතිය කියලා කියන්නේ දුකක් සංසාර වට්ට දුකේ පළවෙනිම දුක. භයානකම දුක. හැබැයි හුගදෙනෙක් ඒක සැපක් වශයෙන් සලකනවා. ඒක නිසා උපන්දින සාද පවත්වනවා. බෝධි පූජා දෙනවා බබාල හම්බ වෙන්න එහෙම. නමුත් මෙතන කියනවා පැහැදිලිවම ජාතියම දුකක්. ඒ ජාතිය භයක්. මං ගිය පාරත් මතක් කළා, හොඳ තරුණ කාන්තාවකට තමන්ට හම්බ වුණ පළවෙනිම හුරතල් දරුවා ඉතාමත්ම සෙල්ලම් කරන කාලෙ, ඇඟ දූවිල්ල ගාගෙන සෙල්ලම් කරන කාලෙ හදිස්සියෙම නැති වෙලා. ඉතින් ඒ මවගේ සම්පූර්ණ බලාපොරොත්තු සියල්ලම නැති වෙලා. නමුත් බෞද්ධ බව නිසා ඉවසා දරාගෙන දවසක් දනයක් දීලා ඉවර වුණාට පස්සේ ස්වාමීන් වහන්සේ නමක් එක්ක ධර්ම සාකච්ඡා කරනකොට ඇහුවලු ඇයි ස්වාමීන් වහන්ස මේ කිසි භයහතරක් නොදන්න, හොඳ පමණක් අපිට දීපු, සැප පමණක් අපට දීපු මේ එකම දරුවා මොන අකුසල කර්මයකටද මේ තරම් සුන්දරම වයසෙදි මැරිලා ගියේ. එතකොට ඒ ස්වාමීන් වහන්සේ කියුවලු ඉපදිච්ච නිසයි කියලා. ඉපදුණා නම් ඊට පස්සේ ආයෙ කිසිම සීමාවක් නෑ. අභවල් වෙලාවෙ මැරෙන්න ඕනැ, අභවල් තරමෙදි මැරෙන්න ඕනැ, ස්ත්‍රී නම් මෙහෙමයි පුරුෂ නම් මෙහෙමයි, මොනවක්වත්ම දෙයක් නෑ. ජාතිය කියන එක එක්කම තමයි ජරා ව්‍යාධි මරණ තුනම යෙදෙන්නේ. එතකොට නම් පේනවා ජාතිය කියලා කියන්නේ මොන තරම් කෲර හිත් පිත් නැති භයානක දෙයක්ද කියලා.

ඒ නිසා අපි හිතනවා සාමාන්‍යයෙන් භවය පිළිබඳ - **භව පච්චයා ජාති**. භවය ඇති සෑමදෙනාටම භවය ඇති කරන්න හේතු

කාරණා ඇති සෑමදෙනාටම ජාතිය අනිවාර්යයි. ඒ නිසා අපි හිතනවා ජාතිය හොඳ තැනක කරගන්න ලැබීම තමයි සමහර වෙලාවට මේ මුළු ජීවිතේ පුරාවටම කරන පිංකම්වලින් කෙනෙක් බලාපොරොත්තු වෙන්නේ. නමුත් අපි දන්නවා මේ ලෝකේම ඉන්නකොට අපිට විවිධ ජාතිවලට පත් වෙන්න වෙනවා ඇතුළෙදීම. අපිට හිරේ විලංගුවෙ වැටෙන්න සිද්ධ වෙනවා. ලෙඩ්ඩු බවට පත් වෙන්න වෙනවා. ආන්න එහෙම ජාතියක් අපිට ආපු වෙලාවක නම් අපි පැහැදිලිව ප්‍රාර්ථනා කරනවා අනේ මං හොරකම් කෙරුවට කමක් නෑ, කවදාකවත් හිරේ විලංගුවෙ වැටෙන ජාතියෙ නම් නොවේවා. මං නරක ආහාර ගත්ත කොච්චර ගන්න කෙනෙක් හෝ වේවා නමුත් මට ලෙඩ රෝග ඇති නොවෙන ජාතිය වේවා. මම නරක වැඩ කොච්චර කෙරුවත් සමාජය නොදකීවා, බැණුම් අහන්න නොලැබේවා කියලා අන්න එහෙම ජාති නම් නොලැබෙන්න අපේ සාමාන්‍ය ප්‍රාර්ථනා තියෙනවා.

නමුත් බුද්ධ දේශනාවේ සඳහන් වෙන්නෙ එව්වට අදාළ අකුසල කර්ම හෝ කුසල කර්ම කරලා තියෙනවා නම්, ජාතිය ඇති වීම වළක්වන්න කවමදාකවත් බෑ. ජාතිය කියන සංසිද්ධියට හිතක් පපුවක් නෑ. ඒ නිසා මේක භයක්. ජාතිය ඇති වෙන්නේම සාමිස ලෝකේ. ඒ නිසා මේක සාමිස ධර්මයක්. ග්‍රාමීය ධර්මයක්. ඒ වාගේම මේක සංස්කාරයක්. අපිම හදාගත්ත දෙයක්. ආන්න ඒක තේරුම්ගන්න තැන තමයි මුඤ්චිතුකම්‍යතා ඤාණය කියලා කියන්නේ. නාමරූප පරිච්ඡේද ඤාණයේදී යෝගාවචරයා හොඳට තේරුම් අරගන්නවා මේකේ ඇතුළත නාමරූප ධර්ම හැර වෙන සතෙක් පුද්ගලයෙක් ස්ත්‍රියාවක් පුරුෂයෙක් නෑ. ඒ සතෙක් පුද්ගලයෙක් ස්ත්‍රී පුරුෂ භාවය වැටහෙන්නේ හිත ප්‍රඥප්ති ලෝකයේ තියෙන තාක් කල් පමණයි. හොඳට අරමුණත් එක්ක එල්ල වෙලා සමාධිගත වෙනකොට එහි පවතින්නේ අතෝරක් නැතුව දැකගන්න පුළුවන් කිසිම දේකට අවලංගු නොවෙන නාම රූප වශයෙන් බෙදන්න පුළුවන් ඤාණයක්. සත්ත්ව පුද්ගල භේදය කැඩෙනවා.

ඒ පුද්ගලයා තව ටික දුරක් යනකොට පච්චයපරිග්ගහ ඤාණ වශයෙන් ඒ නාමරූප සඳහා ප්‍රත්‍ය, නාමරූප සඳහා හේතු ධර්ම හොයනකොට ඔහුට වැටහෙනවා ඒ නාමරූප අනිවාර්යයෙන්ම අදාළ හේතු සහිතවයි පහළ වෙන්නේ. කවදාකවත් මැවුම්කාර ඊශ්වරයෙක්ගෙ සර්වබලධාරී දෙවියෙක්ගෙ කැමැත්ත නෙවෙයි. එහෙම දෙවියෙක් කවම කවදාකවත් පච්චයපරිග්ගහ ඤාණයෙදි හම්බ වෙච්ච කෙනෙක් නැහැ. දැක්කනම් ඒ පුද්ගලයා ඤාණයකත් නෙවෙයි විපස්සනාවකත් නෙවෙයි ප්‍රත්‍යක්ෂයකත් නෙවෙයි ඉන්නේ. ඒක නිසා එක පොතක සඳහන් කරලා තියෙනවා, සමහර ආගම් නිකායවල ඉතාමත්ම අධිමානසික බලවේග සහිත ඉතාමත්ම හොඳින් පිළිගත්ත සමහර සාන්තුවරු, පස්සේ හොයාගෙන තියෙනවා මානසික රෝගීන් කියලා. පැහැදිලිවම ඒ මානසික රෝග තත්ත්ව නිසා විවිධාකාර භ්‍රාන්ති දැකලා එව්වට ඒ පුද්ගලයා අහු වුණා විතරක් නෙවෙයි. තව විශාල ගොන්නක් වගලගෙන ඔක්කොමලා කියනවා මට විතරයි ඒක පෙනුණේ, ඒක නම් මං ඇත්තටම දැක්කා. ඉතින් ඒක පිළිගන්න බර ගානක් ආපුවහම මේ පුද්ගලයා කියන කියන ඔක්කෝම ඒ පුද්ගලයන්ට හරියන්න පටන් අරගන්නවා. අර භ්‍රාන්තිය දකින දේ. එහෙම ඇත්තන්ට නම් මැවුම්කාර දෙවියොත් හම්බ වෙන්න ඉඩ තියෙනවා.

නමුත් බුද්ධ දේශනාවේ සඳහන් කරනවා උඹ එක පාරක් දැක්කට නතර වෙන්න එපා. නැවත නැවතත් ඔය හේතුඵල ධර්ම වශයෙන් නාමරූප ජේනකොට මෙව්ව තුළ දැකගන්න බැරි, නැත්නම් සර්වබලධාරිත්වයෙන් යුතු මොනවා හරි පෙනෙයිද කියලා නැවත නැවත බලන්න. බලනකොට ජේනවා නාමරූපවලට හේතු වෙන්නේ නාමරූපමයි. ඔයින් එහාට වෙන දෙයක් ඇත්තේ නැහැ. මේක තමයි පච්චයපරිග්ගහ ඤාණය කියලා කියන්නේ. මේක ප්‍රත්‍යක්ෂ වීම.

ආන්න ඔය දෙක ඇති වෙච්ච කෙනාට ජේනවා අපිට විපස්සනා ඤාණයට කොටු කරගන්න බැරි ජාතියෙ, ජාති ධර්මය ඇති කරන වෙන කිසීම අමතර බලවේගයක් නැහැ, අපිමයි. ඒ නිසා ජාතිය ඒකාන්ත නියතම ධර්මයකුත් නෙවෙයි. අපි මේක

දූන හෝ නොදූන කැමති වෙන නිසාමයි අපිට ජාතිය ලැබෙන්නේ. ඒ නිසා සංස්කාර ධර්ම පිළිබඳව වහා ඇති වීම් නැති වීම් වශයෙන් පවතින උදයබ්බය ඤාණය මට්ටමට ගියාට පස්සේ තේරෙනවා මේ ධර්මතා පිළිබඳව සමස්තයක් වශයෙන් හෝ කොටසක් වශයෙන් හෝ අපේ ඇතුළෙ කැමැත්තක් තියෙනවා. මේක නොවේවා මෙන්න මේ ටික මට වේවා, අදුක්ඛම සුඛ වේදනාව හෝ දුක්ඛ වේදනාව මට නොවේවා, නැත්නම් සුඛ වේදනා වේවා, නිත්‍ය සංඥව වේවා අනිත්‍ය සංඥව නොවේවා ආදී වශයෙන් අපේ තියෙන ප්‍රාර්ථනාව අපේ කැමැත්ත අපේ තෘෂ්ණාව නිසා තමයි මේ ජාතියට අවශ්‍ය සංස්කරණය වෙන්නේ. ඒ නිසා ජාතිය ඇති කරන දෙවියන් වහන්සේ තමන්මයි.

ආන්න ඒ තත්ත්වය දකින්න නම් වර්තමානයේ තමන් හිත යොදන්නා වූ සංස්කාර කොටසේ හොඳටෝම ඇත්ත ඇති හැටිය දකින්න ඕනැ. මේකේ නොදූක්ක නොවිඳපු රසයක් හැංගිලා නෑ. ඔච්චරමයි කොයි පැත්තෙන් බැලුවත්. මේ නිසා මේකේ ප්‍රේම කරන්න දෙයක් නෑ. මේක පිළිබඳව නිබ්බිදාව නිර්වින්දනය පහළ විය යුතුයි. ඒක පහළ වුණා නම් ඒ පුද්ගලයට තේරෙනවා, පිටින් කවුරු හරි ජාතිය ඇති කරන සර්වබලධාරී දෙවියෙක් හෝ ජාන ධර්මයක් හෝ නැති බව. අපි හිතනවා අපේ බීජවල, නැත්නම් ඍතු ධර්මයක් හෝ එහෙම නැත්නම් හේතුඵල වෙන ධර්මයක් හෝ තියෙනවායි කියලා. එහෙම දෙයක් ඇත්තේ නැහැ, තමන්මයි. අන්න ඒ දේ දූක්කට පස්සේ නම් ඒ පුද්ගලයා තුළ කලින් තිබුණු ජාතිය වේවා කියන හැඟවිච්ච කුහක ආශාව පදනම් විරහිතව ගලවලා යනවා. පදනම් විරහිත භාවයකට පත් වෙනවා. මට මේ පඨවි කොටස වේවා මට ආපෝ කොටස වේවා තේජෝ කොටස වේවා වායෝ කොටස වේවා, කියලා කවදාකවත් කැමැත්තක් ඇති වෙන්නේ නැහැ. අන්න එතකොට නම් මුඤ්චිතුකම්‍යතා ඤාණයට ඉඩ ලැබෙනවා, මෙයින් මට මිදෙන්න ලැබේවා කියලා. එහෙම නැතුව ඒ අදාළ මූලික ඤාණ එකක්වත් නැතුව ශීල සමාධිවලින් තොරව මට මුඤ්චිතුකම්‍යතාව ලැබේවා, ජාතිය නොලැබේවා

කියලා ප්‍රාර්ථනා කළාට ඒක වෙන්නේ නැහැයි කියන එකයි මේකේ අදහස.

මේ නිසා යෝගාවචරයා මතක තියාගන්න ඕනැ අපිට වෛද්‍ය විද්‍යාව පිළිබඳව සහතිකයක් අවශ්‍ය නම් වෛද්‍ය පාඨමාලාව හදාරන්න ඕනැ. එහෙම නැතුව වෛද්‍ය විද්‍යාලයකට ගිහිල්ලා ගාස්තුවක් ගෙවලා හොරට සහතිකයක් ගත්ත පමණට අපට වෛද්‍යවරයෙක් වෙන්න බැහැ අපි කැමති වුණත්. අපි කරන වෙදකමෙන් ලෙඩ්ඩු සුව වුණත් බෑ අපිට වෛද්‍ය සහතිකයක් ලබාගන්න. ඒ සඳහා අවුරුදු පහක පාඨමාලාවක් තියෙනවා. අන්න ඒකේ නොයෙදි ඒකට පෙළනොගැහි පේ නොවී වෛද්‍යවරයෙක් වශයෙන් පෙනී හිටිනවා නම් එන්න ඒකටයි කියන්නේ අවස්ථාදියයි කියලා. අදාළ මූලික විපස්සනා ඤාණවලින් තොරව අපට ජාති ධර්ම නොවේවා කියලා ප්‍රාර්ථනා කරනවා නම් ඒක තමා රවටාගැනීමක්. ඒ වාගේම යම් කිසි කෙනෙක් ජාති ධර්මය වේවා කියලා, ඊට පස්සෙ සංස්කාරවලට ආශාවෙන් දිගටම කටයුතු කරනවා නම් ඒකත් තමන් රවටාගැනීමක්. ඒ කියන්නේ මේකේ නැති දෙයක් ඇති දෙයක් බවට කල්පනා කිරීම. මෙන්න මේ කියන ප්‍රහේලිකා ස්වරූපය නිසා තමයි ධර්ම දේශනාවේ මුලදිම මං සඳහන් කළේ කඹේ ඇවිදින්නා වගේ, කලල් මඩක ඇවිදින්නා වගේ ඉතාමත්ම පරිස්සමින් පය බුරුලෙන් තබාගෙන ඇවිදින්ට ඕනැ තැනක්.

දර්ශනික පැත්තෙන් හැම වෙලාවෙම මේ මාතෘකාව සාකච්ඡා කරලා තියෙනවා නියතිවාදයට සහ ස්වච්ඡන්දය කියන ධර්මතා දෙකට මැදින්. ස්වච්ඡන්දය කියලා කියන්නේ කැමැත්ත පමණින් යමක් කරන්න පුළුවන් කියලා හිතන ගතිය. මට ඕනැ දේ මම කරනවා. ඒත් මෙතනදි ඒක හරියන්නේ නැහැ. ඒක තමයි සර්වඥයන් වහන්සේ දේශනා කළේ **න ඛො පනෙතං ඉච්ඡාය පත්තබ්බං** - කැමති වෙච්ච පමණට සාර්ථක වෙන්නේ නැහැ. සාක්ෂාත් වෙන්නේ නැහැ. ඒ නිසා ස්වකැමැත්ත තිබුණට මදි. ඒකෙන් අදහස් කරන්නේ නැහැ, නියතයෙන්ම කොච්චර උඹ මහන්සි වුණත් කොච්චර ප්‍රතිපත්ති පිරුවත් කොච්චර බෞද්ධ

ආගම් වුණත් ජාතිය කඩන්න බෑ, මේක දෙවියන් වහන්සේගේ මැවීමක් කියන ඒ නියතිවාදය, නැත්නම් කර්මවාදය, එහෙම නැත්නම් ජානවලින් ඇති වෙනවයි කියල, ආවේණියෙන් ප්‍රවේණියෙන් හෝ සෘතුවෙන් ඇති වෙනවයි කියලා. එහෙම නැත්නම් හේතුඵල ධර්මයෙන් ඇති වෙනවයි කියලා. ඒ ඔක්කොම බුදුරජාණන් වහන්සේ සාධාරණව කරුණු පෙන්නලා සඳහන් කරලා තියෙනවා, මේක නියත නෑ. නියතයි අවිද්‍යාව තියෙන තාක් කල්. ආන්න ඒ නියත භාවය දැනගැනීමමයි, අවිද්‍යාව අපි ළඟ තියෙනවා, ඒ නිසයි අපිට ජාතිය පිළිබඳ ආසාවක් ඇති වෙන්නේ, ඒ නිසයි අපි දිගින් දිගට ජාතියෙ යන්නේ කියල දැනගැනීම. ඒ නිසා අපි අවිද්‍යාවෙන් තොර වීමයි සම්‍යක් දෘෂ්ටිය ඇති කරගැනීම කියන්නේ කියන එක, ඒ අවිද්‍යාවාදී බව දැනගැනීමෙන්ම තමයි විද්‍යාවට ඉඩ එන්නේ.

ආන්න ඒක තදින් පිළිගන්න පිරිසට තමයි අපි බෞද්ධයෝ කියලා කියන්නේ. ඒ පිරිසට එපමණකින් සතුටු වෙලා බැහැ දිගින් දිගට දිගින් දිගට ඒ සඳහා ප්‍රයත්න පුරන්න ඕනැ. විශේෂයෙන්ම සිය කැමැත්තෙන් ජාතිය නැති කරන්න බැරි වුණාට අපි ඊට පහළින් තියෙන ශීල ප්‍රතිපත්තිය ගත්තොත් සිය කැමැත්ත අත්‍යවශ්‍යයි. තමන් අධිෂ්ඨාන කරන්න ඕනැ මේ ලෝකේ පවතින්නා වූ ආචාර ධර්ම තමන් තුළ පිහිටුවාගන්න වෙන කවුරුත් කියලා බෑ අනිවාර්යයෙන්ම ස්වච්ඡන්දය තියෙන්න ඕනැ. ඒ නිසා ස්වච්ඡන්දයෙන් තොරව ගියොත් අපි ආචාර ධර්ම නැති, හොඳ නරක දන්නේ නැති, සාධාරණ අසාධාරණ පිළිගන්නේ නැති, ධර්ම අධර්ම පිළිගන්නේ නැති අමුතුම සත්ත්ව කොට්ඨාසයක් බවට පත් වෙනවා. ඒකට බෑ. එතනදි අවශ්‍යයි. එතනදි තම කැමැත්ත තම අධිෂ්ඨාන ශක්තිය අවශ්‍යයි. ඊගාව ධර්මයට යනකොට, ජාති ධර්මය ව්‍යාධි ධර්මය ජරාව මරණය ශෝක පරිදේව කියනකොට ස්වච්ඡන්දතාව තියාගෙන ප්‍රතිපත්ති පිරීමක් අවශ්‍යයි.

ඒ ප්‍රතිපත්ති පුරන කාලෙට තමයි අපි යෝගාවචර වෙන්නේ. යෝග ආවචර, යෝගයට පත් වූ. 'යෝග' වෙනවයි කියලා කියන්නේ යෙදෙනවයි කියන එක. දිගටෝම යෙදිලා.

මොකක්ද, අර ස්වච්ඡන්දයෙන් ගත්ත ශීලය කවදවත් කඩා නොගන්න දිගටෝම තමන්ගේ පූර්ණ අධිෂ්ඨාන ශක්තිය යොදවන්න ඕනැ. ඊගාවට ඒ යම් කිසි සංස්කාර කොටසක් ඉදිරිපත් කරගෙන මූල කර්මස්ථානය වශයෙන් එහි බාහිරින් බලපෑම් කරන සර්වබලධාරී කෙනෙක් ඇත්තේ නැහැ. මේ පවතින්නේ අවිද්‍යා තෘෂ්ණා උපාදන කියන කාරණා ටික පමණයි. ඒක ඒ ඒ වෙලාවෙ ඇත්ත ඇති හැටියෙන් දැකගන්නවා නම්, ආන්න ඒ පුද්ගලයට එක වෙලාවක් එනවා, සංස්කාර පිළිබඳව ප්‍රේම කරන්න දෙයක් නැහැ. සංස්කාර පිළිබඳව කිරි පොවන්න ඔඩොක්කුවෙ තියාගන ඉන්න දෙයක් නැහැ. මේක භයානක දෙයක්, දුක එළවන දෙයක් කියල වැටහෙන. ආන්න එදාට ඒක පිළිබඳව නිබ්බිදව, ඒක පිළිබඳව නීරස වීමත් එක්ක තමයි මුඤ්චිතුකම්‍යතාව එන්නේ. මේ සර්පයන්ගෙන්, මේ භයෙන් අපි අයින් වෙන්න ඕනැ කියලා වැටහෙනවා.

මජ්ඣිම නිකායේ ආසිවිසොපම සූත්‍රයේ බුදුරජාණන් වහන්සේ සඳහන් කරනවා රාජ උදහසට ලක් වෙච්ච පුද්ගලයෙක්ව විෂ ඝෝර සර්පයෝ හතරදෙනෙක් සහිත කූඩුවකට දනවා. කූඩුවට දැම්මට පස්සේ ඒ පුද්ගලයා ගත කරපු ජීවිතේ හැටියට එයා හිතනවා මේ සර්පයා හොඳ ලස්සන ආභරණයක් ශිව දෙවියො පැලඳගත්තා වගේ. තමන්ගෙ හතරපැත්තෙන් ඇවිල්ලා වෙළාගන්නකොට ලොකු ආඩම්බරයක් ඇති කරගන්නවා. එක් කෙනෙක් වම් උරබාහුවේ හේත්තු වෙලා පෙණය පුම්බගෙන වම් කනට පිඹිනවා. තව කෙනෙක් ඇවිල්ලා දකුණු උරබාහුව වෙළාගෙන දකුණු කනට පිඹිමින් ඉන්නවා, දැන් ගහනවා දැන් මරනවා දැන් දෂ්ට කරනවයි කියලා. තව කෙනෙක් පපුව වෙළාගෙන මූණ ඉස්සරහ නළලට ඔළුව තියාගෙන ඉන්නවා. තව කෙනෙක් පිටිපස්සෙන් වෙළාගෙන ඔළුව පිටිපස්සට පෙණේ තියාගෙන ඉන්නකොට එක මොහොතකට මේ මනුස්සයට හිතෙනවා කොච්චර ලස්සනද වැඩේ. සර්පයෝ හතරදෙනෙක්ගෙන් ආඪ්‍ය වෙලා මම දැන් ඉන්නේ. ඒ නිසා මෙයා මේ සර්පයෝ හතරදෙනත් එක්ක ඒ ඇඳුම් ආයිත්තම්වල විභූෂණ කරගත්ත

කෙනෙක් වගේ මේක සුව විඳිමින් ඉන්නකොට සත්පුරුෂයෙක් ඇවිල්ලා කියනවා, මනුස්සයෝ, සර්පයෝ හතරදෙනාගෙන් එක් කෙනෙක් හරි කිපුණොත් එක පහරකින් උඹ මැරෙන්න පුළුවන්. ඒ නිසා ඔයගොල්ලන්ට ප්‍රේම කරන්න එපා. ඔයගොල්ලන් පෝෂණය කරන්න එපා ඔයගොල්ලො පුළුවන් තරම් ඉක්මනින් අයින් කරගන්න බලපන්. ඔය උඹ කරන්න හදන්නේ ඒගොල්ලෝ වෙළෙන්න හදනකොට සන්තෝෂ වෙන එකයි. ඕක ආභරණයක් නෙවෙයි. ඕක දුකක්. ඕක භයක්. ඕක සංස්කාරයක්. ඊට පස්සේ මේ මනුස්සයා තමන්ගේ තියෙන ප්‍රයෝග ඤාණ නිසාම ඒ සර්පයෝ ටිකට කරදර නොකර පොඩ්ඩක් එහෙ මෙහෙ වෙච්ච වෙලාවකම අර හිර කූඩුවෙන් පනිනවා, හිර කූඩුව ඇතුළෙ ඉන්න සර්පයෝ හතරදෙනා කූඩුව ඇතුළෙම දලා.

මෙන්න මේ වගේ තමයි සර්වඥයන් වහන්සේ දේශනා කරන්නේ, භාවනාවෙදී යම් කිසි කෙනෙක් පඨවි ධාතුව දැක්කා නම් මම පඨවි ධතුව දැක්කා, මට මේක බොහෝම ආඩම්බරයක්, වෙන කවුරුවත් මේක දැකලා නැහැ, මං විතරයි භාවනාවේදී දැක්කේ කියලා යම් කිසි කෙනෙක් ආඩම්බර වෙනවා නම්, ඒක අර වම් උරබාහුවේ සර්පයෙක් වෙළාගත්තට පස්සේ ඒක ආභරණයක් කරලා සලකනවා වගේ මෝඩකමක්. පඨවි ධාතුව පොඩ්ඩක් හරි කිපුණොත් තද භාවය නිසා හෝ සැහැල්ලු භාවය නිසා, ගොරෝසු භාවය නිසා හෝ සුමුදු භාවය නිසා, බර බව නිසා හෝ සැහැල්ලු බව නිසා, ජීවිතය අනතුරේ. විශාල අනතුරුවලට පත් කරනවා. ඒ වගේම තේජෝ ධාතුව කිපුණොත් හත්දෘ උණ එකදෘ උණ ජ්වර රෝග නානාප්‍ර දේවල්වලින් පෙළෙනවා. සීතල වුණොත් ඇදුම රෝග සෙම රෝග හැදෙනවා. ඒ වාගේම වැගිරෙන ධාතු ඇත්තා වූ ආපෝ ධාතුව කිපුණොත් නව දෙරෙන්ම වැගිරෙන්න පටන්ගන්නවා. යම් විදියකට වැගිරීම නතර වුණොත් මළ බද්ධය, එහෙම නැත්නම් අඩස්සි රෝගවලින් මරලා දනවා. වායෝ ධාතුව ඉහළ ගියොත් ඒක ඉතින් කොන්ද අමාරු තියෙන කට්ටිය දන්නවා. හැම හන්දියක් ගානෙම කටු ගැහුවා වාගේ පුදුමාකාර වදයක් දෙන්න පටන් අරගන්නවා.

මෙන්න මේ හතරදෙනා තමයි අපි මේ පිනවන්නේ. මේ හතරදෙනා තමයි පෝෂණය කරන්නේ. පුංචි කාලෙ අපි මට පපුව අඟල් තිස්හයක් වෙන්න ඕනැ උස අඩි හයක් වෙන්න ඕන V ෂේප් එකට එන්න ඕනැ උරහිස ලස්සනට තියෙන්ට ඕනැ කියලා මේ හතර තමයි, නාවන්නේ කවන්නේ පොවන්නේ කිරි දෙන්නේ ඔක්කෝම කරන්නේ. නමුත් එකක් කිපිච්ච දවස ආවොත් අපි මේ කාටද මෙතෙක් කල් කිරි පෙවුවේ? නයි හතරදෙනෙකුට. ආන්න ඒ තත්ත්වය පේනවා මේ ආමිසය ඒකරාශි වෙන්නේ පිඬු වෙන්නේ ජාතියත් එක්කමයි. යම් තාක් කල් ජාතිය තියෙනවා නම් ඒ ජාතිය තියෙන තාක් කල් මේ හතරදෙනාටම තැන ලැබෙනවා. ඒ හතරදෙනාගෙන් හැදිච්ච බව හුඟදෙනෙක් දන්නේ නෑ. ඒක ඇත්ත. නමුත් ගේහසිත ප්‍රේමය ගේහසිත සෝමනස්සය අතහැරලා නෙක්ඛම්ම සිත සෝමනස්සය හොඳයි කියලා පැවිදි වුණා වූ යම් තාක් අනගාරික පිරිසක් ඉන්නව නම්, ඒ පිරිස උත්සාහ කරනවා ජාතිය වශයෙන් ඉපදුණේ මේ හතර මහ භූතයෝ. හතර මහා භූතයන්ගේ ලක්ෂණ මෙහෙමයි, රස මෙහෙමයි, පච්චුපට්ඨාන මෙහෙමයි පදට්ඨාන මෙහෙමයි තේරුම්ගන්න පටන්ගත්තා.

ඒ තේරුම්ගත්තත් යෝගාවචරයා හුඟක් සතුටු වෙනවා මම පඨවි ධාතුව දැක්කා කියලා. මම තේජෝ ධාතුව දැක්කා. මම වායෝ ධාතුව දැක්කා. නමුත් දන්නේ නැහැ මේ සතුටු වෙන්නේ හොඳටම පෙණ පිඹින බරපතළ විෂ ඝෝර සර්පයෙකු කිට්ටු කරගෙනයි තියෙන්නේ. මේක හරියට දැක්කා නම්, එයාගේ නියම ස්වරූපයෙන් දැක්කා නම් කවමදකවත් මේකේ ආඩම්බරයක් නම්බුවක් ගන්න දෙයක් නෑ. වහාම ප්‍රතික්ෂේප විය යුතුයි. අන්න ඒක තමයි උදයබ්බය ඤාණය සේඛ පුද්ගලයෙක් දකින ස්වරූපය. සේඛ පුද්ගලයෙක් දකිනවා මේ සර්පයෝ හතරදෙනා නිතරෝම ඇති වෙමින් පවතිමින් ඇති වෙමින් නැති වෙමින් ඇති වෙමින් නැති වෙමින් යනවා. ඊට පස්සේ ඇති වීමෙන් තොරව නැති වීම පමණක් දකිනකොට සේඛ පුද්ගලයට නම් කවදකවත් කනගාටුවක් එන්නේ නැහැ. බයක් එන්නේ නැහැ. දන්නවා මේ නැති වෙන්නේ

හතර මහා භූතයින්. රූප ධර්ම. බිඳෙන තරමට හොඳයි. භංගයම හොඳයි.

ඒ නිසා දෙවෙනි අවස්ථාවෙදි දෙවෙනි ඤාණ අවස්ථාවෙදි භයතුපට්ඨාන ඤාණ තදබල වෙනවා. නොමග යන්නෙත් නැහැ ඇති වෙලා තියෙන එක බිඳෙන්ඩ. අපි මෙතෙක් කල් මෙයාට කිරි පොවපොවා තියාගන හිටිය නිසා තමයි ඒකේ පෝෂණය වැඩීම හොඳක් වශයෙන් දැක්කේ. නමුත් එක ඤාණයකින් එක මාර්ග ඤාණයකින් ඒ තත්ත්වෙ දැකපු කෙනා දෙවෙනි තුන්වෙනි අවස්ථාවෙදි දන්නවා මේක කිපීගෙන එනකොට බිඳෙන තරමටම හොඳයි. සියලු සංස්කාරයන්ගේ ක්ෂය වීම විසංඛාරගත වීම හොඳයි. එතකොට භයක් උපදින්නේ නැහැ. එතකොට ඒ පුද්ගලයට ආදීනව පේන්නේ මේක පෝෂණය කිරීමේ ආදීනව මිසක්කා, බිඳිබිඳී යන තරමට සතුටක් ඇති වෙනවා. එතකොට නිබ්බිදුව තදබලව ගහන්නේ නැහැ. තදබල භාවනාව එපා වෙන, ගුරුවරයා එපා වෙන, ස්ථානය දමලා ගහලා යන තරමටම බලවත් වෙන්නේ නැහැ. මොකද, ඔහු නැති වෙන දේ පිළිබඳව හොඳට ඇති හැටිය දන්නවා. ආන්න ඒ පුද්ගලයට මුඤ්චිතුකම්‍යතාවක් එනවා. ඒ යන ක්‍රමයමයි. ඒකාන්තයෙන්ම ආර්ය අෂ්ටාංගික මාර්ගයමයි, චතුරාර්ය සත්‍යයමයි යා යුත්තේ. ඔහු යම් කිසි ප්‍රදේශයකට ගිහිල්ලා තියෙනවා. නමුත් තව ඉතුරු තියෙනවා.

ඒ නිසා මිදීම සඳහා ප්‍රාර්ථනාවෙන් ඇති වැඩක් නැහැ කළ යුත්තක් තියෙනවා. දිගට එහෙම කරගෙන කරගෙන යාම තමයි දෙවෙනි මාර්ග ඤාණ තුන්වෙනි මාර්ග හතරවෙනි මාර්ග ඤාණ ආදී වශයෙන්. නමුත් නිස්සරණ සිත සෝමනස්සය වශයෙන්, නිස්සරණ සිත දෝමනස්සය වශයෙන් අපි පැවිද්දන්ට ඇත්තා වූ සැප දුක් බලනකොට, ජාතිය කැමති වූ පමණින් නැති වී නොයාම නෙක්ඛම්ම සිත දෝමනස්සයක්. පැවිද්දන්ටත් තියෙන දුකක්. නමුත් ඒ දුක මාර්ග ඤාණයෙන් මාර්ග ඤාණයට එන්ට එන්ට එන්ට එන්ට අඩු වෙනවා. ඔහුට තේරෙන්න පටන් අරගන්නවා ජාතිය පවා කඩන්න පුළුවන්. සෝවාන් වෙච්ච කෙනාට හොඳටෝම වැටහෙනවා ජාති හතයි. සකදාගාමී පුද්ගලයට තේරෙනවා ජාති

එකයි. අනාගාමී පුද්ගලයට තේරෙනවා ආයෙ ජාතියක් නෑ. ආයෙ මම එන්නේ නෑ. රහත් වෙච්ච පුද්ගලයට දැකගන්නවා මේ ජීවිතයේදීම පරිනිර්වාණය වෙනවා. ඒ නිසයි මේ සතුට ඇති වෙන්නේ. එතකොට තේරෙන්නෙ නැහැ ඒ ජාතිය නැති වීම කනගාටුවක් කියලා හෝ ජාතිය ප්‍රාර්ථනා කළ පමණින් ලැබෙන්නෙ නැති එකක් වශයෙන් හෝ කියන තත්ත්ව ඉක්මවලා තියන්නෙ.

ඒ නිසා යෝග ජීවිතයත් එක්ක ජාති ධර්මය ඉතාමත්ම සමීපකමක් තියෙනවා. නමුත් මේක ප්‍රශ්නෙ දිහාවට එල්ල කරලා නිවැරදිව දැකීම හුඟාක් වෙලාවට අපි ආශ්‍රය කරන කථාවල නෑ. අපි ආශ්‍රය කරන පුද්ගලයන් තුළ නෑ. අපි මේ ධර්ම කොට්ඨාස දිහා බලන ආකාරයේ නෑ. මේ ධර්ම කොට්ඨාසය ආන්න ඒ ආකාරයේ පෙළගැස්මක් ඇති කරගන්න ලොකු ගැඹුරු ආලෝකයක් දෙනවා. නමුත් මේ ධර්ම කොට්ඨාසය සාමාන්‍යයෙන් තිත්තට දීලා තියෙන තිත්ත බෙහෙතක්. ඒකෙ සීනි බදමයක් පිටින් ගාලා නෑ. ඒක නිසා හුඟදෙනෙක් මේක ගිලින්න කැමති නෑ. හුඟදෙනෙක් බලාපොරොත්තු වෙන්නෙ ජාතිය තියාගෙන ඒකට පුළුවන් නම් නිවන පිටින් පින්තාරු කරලා ගන්න. ඒ සටන එන්න එන්න වැඩි වෙයි මං හිතනවා තව පන්දහක් ශාසනේ ඉස්සරහට යනකොට. මොකද ඒ තරමටම බාහිර ඔපයට ගිහිල්ලා, මේ ජාතිය නැති කිරීමේ වැඩ පිළිවෙළක් බව මතක නැති වෙලා තියෙනවා.

ඒ නිසා අපි මතක් කරගනිමු මේ කාරණාවල තියෙන ධර්ම ශක්තිය නිසාත් අපි කරගත්ත ප්‍රයත්නය නිසාත් වීර්යය පරිපූර්ණ භාවයට පත් වෙන්න නම්, ජාතිය නැති කිරීම ජයග්‍රහණයක් බව සලකලා ඒ සඟහාම ඉවරයක් කිරීමේ අදහසින් වීරත්වයකින් ඉදිරියට යන්න ශක්තිය ධෛර්යය බලය කාගෙන්වත්ම ලැබෙන්නේ නැහැ. අනිවාර්යයෙන්ම මේ කාරණා තත්ත්ව තමන් දැනගෙන තමා විසින්ම සංස්ලේෂණය කරගත යුතුයි. ඒ නිසා පරණ උපනිෂද් ග්‍රන්ථවල පවා තියෙනවා,

**න විනා ප්‍රමාණෙන ප්‍රමෙයසොපලබ්ධිඃ**[6] කියලා. තමන්ට අවශ්‍ය දේ ළං කරගැනීමට තමන් මූලික දැනුමක් ඇති කරගත යුතුයි. ඒ අදාළ මූලික දැනුම නැතුව ඒ අවශ්‍ය කාරණාව කවදාකවත් ඉෂ්ට වෙන්නේ නැහැ. ඒ නිසා අපේ මේ සටන ඒකාන්තයෙන්ම ජාතිය නැති කිරීමටමයි. නමුත් ඒක ප්‍රාර්ථනා පමණින් කෙරෙන්නෙත් නෑ. ඒ සඳහා කළ යුත්තක්, ක්‍රමානුකූල පහරදීමක් අවශ්‍යයි. ඒ පහරදීම නැවත නැවත කිරීමෙන් හරියෑමෙන් වැරදීමෙන්ම හරියන ක්‍රමයක්. නමුත් ඒ සඳහා ගන්න ප්‍රයත්නය හෝ ඒ සඳහා නැවත නැවත යෙදීම හෝ ආර්ය පර්යේෂණය වශයෙන් හෝ කිං කුසල ගවෙසී භාවය වශයෙන් අපි සලකන්න පුරුදු වෙන්න ඕනැ. ඒක ලෝකයාගෙන් හොඳයි කියලා නම්බු නාම ලැබුණත් නොලැබුණත් එන්න එන්න එන්න එන්න ජාතියෙන් මට නිදහස් වෙන්න පුළුවන් බව, කුසලච්ඡන්දය තව තවත් වැඩෙනවා නම්, ඒක යෝගාවචර ජීවිතයේ ඒකාන්තයෙන් ශ්‍රද්ධාව වඩවන දෙයක්. ඒ අනුව වීරිය සතිය සමාධි ප්‍රඥා වැඩේවා.

අවසානයේදී බුදුරජාණන් වහන්සේ ඒ පළවෙනි උදන ගාථාවේ උදම් ඇනුවා වගේ සියලුදෙනාටම මේ ජීවිතයේදීම ඒ ගෘහකාරකයා ගෘහ වඩුවා දැකලා සියලුම කැණිමඬල විසඳලා විමසලා විනාශ කරලා ජාති ජරා ව්‍යාධි මරණ දුරු කරලා ඒ ශාන්ත සුන්දර තත්ත්වයට යාගන්න මේ ජීවිතයේදීම ශක්තිය ධෛර්යය බලය ලැබේවා කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව අපි මෙතකින් සමාප්ත කරන්න බලාපොරොත්තු වෙනවා.

[6] Early Buddhist Theory of Knowledge, prof – K. N. Jayatilleke, PG 64

# 71 | කැමති දේ නොලැබීමේ දුක

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**කතමඤ්ච භික්ඛවෙ යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං?**

**ජරාධම්මානං භික්ඛවෙ සත්තානං එවං ඉච්ඡා උප්පජ්ජති - 'අහො වත මයං න ජරාධම්මා අස්සාම, න ච වත නො ජරා ආගච්ඡෙය්‍යා'ති. න ඛො පනෙතං ඉච්ඡාය පත්තබ්බං. ඉදම්පි යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛංතී'ති.**

ගෞරවනීය යෝගාවචර මහා සංඝරත්නයෙන් අවසරයි. අපි යෝගාවචර උපාසක මහත්වරුත් සම්බන්ධ කරගෙන සතිපතා පවත්වාගෙන යන ධර්ම දේශනා මාලාවේ, ගිය වතාවෙත් මේ වාගෙම මාතෘකාවක් තියාගත්තා. ඒ අනුවමයි දෙවන කොටසක් වශයෙන් අද මේ ඉදිරිපත් කරගත්ත පාලි පාඨය ඉදිරිපත් කරගත්තෙ. ගිය වතාවෙදි අපි **ජාතිධම්මානං භික්ඛවෙ සත්තානං එවං ඉච්ඡා උප්පජ්ජති** කියලා ඒ "ජාති" කියන පදය වෙනුවට අද "ජරා" කියන පදය මාරු වෙච්ච එක විතරයි මාතෘකා පාඨයේ පාළිය පැත්තෙන් බලනකොට තියෙන වෙනස.

මේ ජාති, ජරා, ව්‍යාධි, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස කියන මේ කාරණා සියල්ලම මේ පරිච්ඡේදයේදී සංග්‍රහ වෙන්නේ **යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං** කියන දුක්ඛ ආර්ය

සත්‍යයේ එක පාඨයක්, විස්තර සවිස්තර වශයෙන් ඉදිරිපත් කිරීමටයි. ඒ දුක්ඛ ආර්ය සත්‍යය ඇතුළත් වෙන්නේ සච්චපබ්බයට. සච්චපබ්බය අයිති වෙන්නේ ධම්මානුපස්සනාවට. ධමම්මානුපස්සනාව වෙන්නෙ සතර සතිපට්ඨානයන්ගෙන් අවසාන සතිපට්ඨානය. ඉතින් අද අපි ඉන්නෙ 71 වෙනි වතාවෙ, 71 වෙනි පැයේ, 71 වෙනි සතියෙ.

එතනට එනකොට **යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං** කියන මේ පාඨය තමයි ධර්ම දේශනාවේ මූලිකම අදහස වශයෙන් අපිට ඉදිරිපත් කරගන්න තියෙන්නේ. එහි ධම්මානුපස්සනාව විස්තර සහිත මහා සතිපට්ඨාන සූත්‍රයේ මේ කොටස එකින් එක එකින් එක, එකම ධර්මතාව තමයි. ඒ සඳහා නිදර්ශන ගෙන හැර පාමින් විස්තර වෙනවා. මෙහෙම ස්වභාවයක් තියෙනවා, සර්වඥයන් වහන්සේගේ පටිච්චසමුප්පාද දේශනාවල. ඉස්සෙල්ලාම පටිච්චසමුප්පාදය කියන්නේ මේකයි. "මෙය ඇති කල්හි මෙය වන්නේය" "මෙය නැති කල්හි මෙය නොවන්නේය." කියලා පෙන්වලා, ඒකට අදාළ පුරුක් දෙළහක් **අවිජ්ජා පච්චයා සංඛාරා, සංඛාර පච්චයා විඤ්ඤාණං** ආදී වශයෙන් දේශනා කරලා තියෙනවා. ඒ වාගෙම පටිච්චසමුපන්න භාවයක් මෙතනත් පෙන්වනවා. **කතමඤ්ච භික්ඛවෙ යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං** මහණෙනි මේ යමක් කැමති වේද? එය නොලැබීම නම් දුකකි, කියන මේ කාරණාව පටිච්චසමුප්පාදයෙන් ලැබෙන පිටුවහලත් ඇතුළුව එක එක පුරුක්වලට බහා ලමින් දේශනා කරන විලාශයකුයි මෙතන මේ ගෙනහැර දක්වන්න හදන්නේ.

එයිනුත් පටිච්චසමුප්පාදය පවා මුලදි මුලදි ගත්තොත් **අවිජ්ජා, සංඛාර, විඤ්ඤාණ, නාමරූප** ආදී කියන කොටස් සාමාන්‍ය එදිනෙද ජීවිතයේදී ව්‍යවහාරයේ ඇත්තේ නෑ. ඒක සාමාන්‍ය බෞද්ධයාට වුණත් ගම්භීර කොටස්. නමුත් අවසානයේ දක්වන ශෝක පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස කියන ඒවා නම් එදිනෙද ජීවිතයේ බොහෝමත්ම ප්‍රකටයි. ඒක තමයි මනුස්සයා ආගමට හෝ ධර්මයට හෝ අදින තරමට පෙළන දේ. එතෙන්ට එන්න අර ගැඹුරු තැනක ඉඳල තමයි විස්තර කරගෙන එන්නේ. අනික් පැත්තට ඒ හොඳටම දන්න ශෝක පරිදේව දුක්ඛ දෝමනස්ස පැත්තෙ ඉඳලා අවිද්‍යාව දක්වාම ආපස්සට යන ක්‍රමයක්, අනුලෝම පටිලෝම, පටිලෝම

අනුලෝම වශයෙන් දේශනා වෙනවා. මේකේ තියෙන්නේ පටිච්චසමුප්පාදයෙ වගේ ආරයක් ගත්තොත් අනුලෝම ක්‍රමය.

ඉස්සෙල්ලාම ජාති ධර්මය පෙන්නල දීල, ජාති ධර්මය සම්බන්ධවමත් මේ වාක්‍ය ඛණ්ඩයමයි දේශනා පාඨය වශයෙන් සඳහන් වෙන්නේ, බුද්ධ වචනය වශයෙන්. එතනදී සඳහන් වෙන්නෙ **කතමඤ්ච භික්ඛවෙ යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං** මහණෙනි තමන් යමක් කැමති වෙයිද එය නොලැබීමේ දුක නම් කුමක්ද? **ජාතිධම්මානං භික්ඛවෙ සත්තානං එවං ඉච්ඡා උප්පජ්ජති.** ජාතිය පිළිබඳව සත්ත්වයාට මෙන්න මෙහෙම කැමැත්තක් පහළ වෙනවා. **අහො වත මයං න ජාති ධම්මා අස්සාම** අනේ අපිට ජාතිය නොවේවා කියලා කැමැත්තක් පහළ වෙනවා. **න ච වත නො ජාති ආගච්ඡෙය්‍යා'ති** අපිට මත්තට ජාති ධර්මය නොවේවා කියලා. නමුත් මේක අපි එද මතක් කරගත්තා කියලා කිව්වට විස්තර කරල දුන්නට කවුරුවත් මේක පිළිගන්නෙත් නැහැ. මෙහි මෙහෙම ඉච්ඡාවක් බොහෝ මනුස්සයින්ට බොහෝ සත්ත්වයින්ට ඇත්තෙත් නෑ.

නමුත් අපි ඒකට ගිය සුමානෙ පැයක් ගත කරලා තියෙනවා. අපිට ජාතිය නොවේවා, අප කරා ජාතිය නොපැමිණේවා කියලා ඉච්ඡාවක්වත් කැමැත්තක්වත් මේ සංසාර වට්ටයෙ ගමන් කරන සත්ත්වයන් තුළ නෑ. සාමාන්‍ය ව්‍යවහාර භාෂාවෙන් මේ කතා කරන්නේ. ඉතින් එහෙම නම්, එහෙම සත්ත්වයින්ට **න ඛො පනෙතං ඉච්ඡාය පත්තබ්බං** මහණෙනි මට ජාති ධර්මය නොවේවා, ජාති ධර්මය අපට ළඟා නොවේවා, ජාතිය දුක නැත්තෝ වෙත්වා කියලා මනුස්සයො සත්ත්වයෝ කැමති උනාට ඒක වෙන්නේ නෑ. කැමැත්ත පමණින් ලැබෙන්නේ නෑ. එය ලබාගන්න කැමැත්ත පමණක් මදි. ඒකත්, යමක් කැමති වේද එය නොලැබීමේ දුකට වැටෙනවා.

නමුත් මේකෙ හාස්‍යජනක පැත්තක් තියෙනවා. ජාති ධර්මය මට වේවා කියන මනුස්සයෝ සත්ත්වයෝ නම් ඕනෑ තරම් හොයන්න පුළුවන්. මට අහවල් ජාතියේ උත්පත්තියක් වේවා, ඉපදුණාට පස්සේ මට අහවල් ජාතියේ රැකියාවක් වේවා, අහවල් ජාතියේ ජීවන උපායක්, අහවල් ජාතියේ විදියට ජීවත් වෙන්න ලැබේවා කියලා **ඔක්කන්ති**

කියන ජාතියම නෙවෙයි. සාමාන්‍ය ව්‍යවහාරයේදී නම් ජාති ගොඩක් මිනිසුන්ට අවශ්‍යයි. නමුත් ඒ ජාතිත් හම්බ වෙන්නේ නැතිකොට ඒත් දුකක් තියෙනවා. අන්න ඒකට කියනවා ගේහසිත දෙමනස්සය කියලා.

බුදුහාමුදුරුවෝ දේශනා කරන මුලින්ම කතා කරන, සංසාරෙ පැත්තෙන් බලලා, යෝගාවචර පිරිසක් අරණ්‍යවාසීව භාවනා කරන සංඝයා වහන්සේලා පිරිසක් වෙච්චහම ඒ ඇත්තන්ට මේ **අහො වත මයං න ජාති ධම්මා අස්සාම** කියන එක පහළ වෙන්න ඉඩ තියෙනවා. ජාති නිසයි දුක එන්නේ කියලා සුතමය වශයෙන් හෝ දන්නවා. භාවනා කරනකොට සමහර විටක වැටහෙන්න පටන්ගන්නවා. එතකොට අවබෝධයක් ඇති වෙන්න ඉඩ තියෙනවා ජාතිය නිසයි මේ සේරම, ඒ නිසා ජාතිය නැති වේවා කියලා. නමුත් ඒක කැමැත්ත පමණින් ලැබෙන්නේ නැති වෙනකොට, එතකොට ඇති වෙනවා නිස්සරණ චිත්ත දෝමනස්සයක්. අපි ගිහි ගෙවල් අතහැරලා ඥාති වට්ට භෝග වට්ට අතහැරලා ඇවිල්ලා, ජාතිය නොවේවා කියලා අවංකව පූර්ණකාලීනව භාවනා කළත් අවංකව ප්‍රාර්ථනා කළත් අපිට ඒක ලබාගන්න අමාරුයි. එතකොට එනවා නිස්සරණ සිත දෝමනස්සය. සතිපට්ඨානයේ සඳහන් කරන්නේ අන්න ඒකයි.

නමුත් ලෝකයේ හුඟක් ජාති බලාපොරොත්තු වෙන මිනිස්සු ඉන්නවා. හම්බ වෙච්ච නැති නිසාම එහෙම අඬන ලෝකෙකුත් තියෙනවා. ඒක තමයි ගේහසිත දෝමනස්සය කියලා සඳහන් කරන්නේ. ඒක නිසා යෝගාවචර පිරිසක් වෙච්චහම මේ දෙකම දන්නවා. මොකද, ඒ ඇත්තෝ ගිහිව ගත කරපු කාලේ යම් යම් දේවල් යම් යම් ජාති බලාපොරොත්තු උනා. ඒ දේවල් හම්බ වෙච්ච නැති වෙච්චහම හඬා වැටිච්ච හැටි දන්නවා. රවින්ද්‍රනාත් තාගෝර් මහත්මයගෙ කවියක තියෙනවා, මම සපත්තු ඉල්ලලා ඇඬුවා සපත්තු නැතුව පස්ස පැත්තෙන් රූටල යන මිනිහෙක් දකින තාක් කල්. කකුල් දෙක නැතිව යන මිනිහෙක් දකින තාක් කල් මම සපත්තු ඉල්ලලා ඇඬුවා. ඒකත් ඉල්ලපු දේ නොලැබීම දුකක් තමයි. නමුත් කකුල් දෙකක් නැති මිනිහ දකිනකොට නම් අපි මේ මොනවටද අඬන්නේ කියලා තේරෙනවා. කකුල් දෙක තියෙන නිසා නෙ මේ සපත්තු ඉල්ලන්නේ. කකුල් දෙකක් නැතුවත් උපදින්න පුළුවන්. එහෙම වෙච්ච

දවසට අපි මොනවා ඉල්ලලද අඬන්නේ. නමුත් අර මනුස්සයා අඬන්නෙ නැහැ. බොහොම ජයට පස්ස රූටගෙන ගිහිල්ලා හිඟාකාගෙන ජීවත් වෙනවා.

ඒ වගේ දෝමනස්සයක් නෙවෙයි මෙතන කතා කරන්නේ. මෙතන කතා කරන්නේ ජාතිය කියලා යෝගාවචර, නැත්නම් නියම සම්‍යක් දෘෂ්ටියක පිහිටලා හොඳ අවංකව ජීවිත පරිත්‍යාගයෙන් කටයුතු කරන කෙනෙක් ගැන. නමුත් ඒක ලැබෙන්නේ නෑ. නමුත් බණකදී දුෂ්කරතා දෙකක් පහළ වෙනවා. එකක් තමයි ජාතිය නොවේවා කියලා ප්‍රාර්ථනා කරන පුරුද්දක්වත් නැති ලෝකෙකට මේ ධර්ම මාතෘකාව හඳුන්වාදීම දුෂ්කරයි. මේ වගේ පිරිසක් එක්ක එච්චර දුෂ්කරතාවක් වෙන්නෙ නැති වෙයි කියලා අපි බලාපොරොත්තු වෙනවා. එහෙම ප්‍රාර්ථනා කරන එකත් හොඳයි. ඒ වගේ මේ වෙනකොට අපි පැයක් එකට ගත කරලා තියෙනවා. ඊගාවට අද අරගෙන තියෙන්නේ ජරා ධර්මය.

ජරා ධර්මය පිළිබඳව නම් **අහො වත මයං න ජරාධම්මා අස්සාම** අනේ අපිට ජරාව මතු නොවේවා කියලා ප්‍රාර්ථනා කරන අය නම් ඕනැ තරම් දකගන්න පුළුවන්. "**න ච වත නො ජරා ආගච්ඡෙය්‍යා'ති** අපිට මත්තට ජරාව නොවේවා කියලා ප්‍රාර්ථනා කරන ඇත්තොත් ඕනැ තරම් දකගන්න පුළුවන්. නමුත් අපි අර කලින් කියාපු තාලෙට යෝගාවචරයො දැනගන්න උත්සාහ කරන, සර්වඥයන් වහන්සේ විසින් ලෝකයට පෙන්නන්න අනුශාසනා කරන්ට උත්සාහ කරන මේ ජරාව ඇති වෙන්නේ ජාතිය නිසාය කියන පටිච්චසමුප්පාද කොටස, ඉතාමත්ම දුෂ්කරයි කෙනෙකුට ඒත්තු ගන්වන්න. හුඟදෙනෙකුට අවශ්‍ය කරල තියෙන්නේ ජාතිය තියාගෙන ජරාව නැති කරන්න. ජාතිය දැන් ලැබිලත් තියෙනවා. ඒ වාගේම මත්තට බලාපොරොත්තුත් වෙනවා. එහෙම නැත්නම් ජාතිය නොවේවා කියන කැමැත්ත නෑ. නමුත් බොහෝම තදට බලවත්ව ප්‍රකාශිතවත් අප්‍රකාශිතවත්, නැත්නම් වාග් පණිධාය, මනෝ පණිධාය වශයෙන් හොඳට පෙනෙනවා ජරාව නොවේවා කියලා ඉල්ලන ඉල්ලීම. එතනදී නම් ලොකුම වෛද්‍යවරයාවත් ලෝකයේ ඉන්න දක්ෂම වෛද්‍යවරයාත් කිසිම පැකිලීමක් නැතුව අනික් ඇත්තන් වගේම

ජරාවට පත් වෙනවා. ඒකයි කියමනක් තියෙන්නේ නොමැරෙන වෙදෙක් නෑ. ජරාවට පත් නොවෙන මොනම කෙනෙක්වත් නෑ. සර්වඥයන් වහන්සේටත් එච්චරමයි. අසූඅවුරුදු වෙනකොට ආනන්ද ස්වාමීන් වහන්සේට කිව්වා - **ජජ්ජර සකටං** ජරාවෙන් ජරාවට පත් වෙච්ච කරත්තයක් වගේ. ගල්වල පාරක යන පරණ බර කරත්තයක් වාගේ එහාට ජරබරාස් ගානවා, මෙහාට ජරබරාස් ගානවා, යන කිසිම කෙනෙකුට කිසිම ඉස්පාසුවක් නෑ.

ඉතින් එහෙම නම් මෙච්චර වටින ධර්මයක් දේශනා කරන්න තරම් සර්වඥතා ඥානයට පත් වෙච්ච ඒ උත්තමයාණන් වහන්සේටත් ජරාව තියෙනවා නම්, අපිට කල්පනා කරන්න වෙනවා කුමක් නැති කිරීමෙන්ද ජරාව නැති කරගන්න පුළුවන් වෙන්නේ? බණේ නම් කියන්නේ එහෙම ප්‍රාර්ථනා වෙච්ච පමණින් ඒක වෙන්නේ නෑ. ඒ නිසා දුකයි. නමුත් එහෙම ප්‍රාර්ථනා නොකර හෝ එහෙම සොයා නොබලා ප්‍රයත්න නොකර ප්‍රතිපදාවට නොනංවා කවමදාවත් මේක ලබන්න බෑ කියන එක, දැන් මේ බුද්ධ ශාසනෙත් අපි මේ ඉන්න රටෙත් දැන් අවුරුදු 30 - 40 කට ඉස්සෙල්ලා බර ගානක් නැත්නම් සමස්තයක් වශයෙන් පිළිගෙන හිටියා. කොහොමටවත් බෑ ජාතිය නම් නැති කරන්න. නිවන් දකින්න නම් බැමයි. පුළුවන් ක්‍රමයකට දේශීය වෛද්‍ය ක්‍රමයෙන් හෝ බටහිර වෛද්‍ය ක්‍රමයෙන් හෝ ජරාව නැති කරන්න නම් බර ගානක් පෙළඹනවා. අයවැයෙන් සෑහෙන්න වැය ශීර්ෂයක් වැය කරනවා නැති කරන්න. නමුත් නැති කරපු දේකුත් නෑ. ඒ නිසා ජරාව පිළිබඳ ප්‍රශ්නයට යනකොට අපි වාගේ පිරිසක්, මේ සඳහාම පූර්ණකාලීනව යොදා කටයුතු කරන පිරිසක් හොඳට කල්පනා කරලා දැනගන්න ඕනැ, මේ ජරාවට හේතුව ජාතිය බව.

අපි එදත් ජාතිය පිළිබඳව අමාරු නමුත් කරුණු දක්වීම මතු කරනකොට පටිසම්භිදාමග්ගයෙ මුඤ්චිතුකම්‍යතා ඤාණය සම්බන්ධ කරපු දේශනා පාඨයේ සඳහන් කරලා තිබුණා **යා ච මුඤ්චිතුකම්‍යතා, යා ච පටිසංඛානුපස්සනා, යා ච සංඛාරුපෙක්ඛා** කියලා, මිදීමේ කැමැත්ත කියලා එකක්. හොඳටෝම බලවත් විපස්සනාවට ආවට පස්සේ මේ හෝදහෝද මඩේ දන ක්‍රමය වතුරෙ ඉරි අඳින්නා වාගේ අපි ජාති නැති කිරීමට ජරාව නැති කිරීමට ව්‍යාධිය නැති කිරීමට

මරණ නැති කිරීමට ශෝක, පරිදේව, දුක්ඛ දෝමනස්ස නැති කිරීමට මේ කරන ප්‍රයත්තය මොන තරම් නිෂ්ඵල දෙයක්ද කියලා හොඳටෝම බලවත් විපස්සනාවට පත් උනාට පස්සේ තේරෙනවා. මේ සියල්ලට ජාතියත් සහිතව සියල්ලෙන්ම මිදීමේ කැමැත්තක් පහළ වෙනවා.

ඒ කැමැත්ත එන්නේ හුදු බයකට හෝ එහෙම නැත්නම් ද්වේෂ පදනම් වෙච්ච හිතකින් නෙවෙයි. හොඳ ඥාන සම්ප්‍රයුක්ත හිතකින් කරුණු දැකලා පින පිරිලා. පාරමිතා පිරිලා. එතකොට ඒ ඇති වන **මුඤ්චිතුකම්‍යතාව** මිදීමේ කැමැත්ත, කරන එකක් නෙවෙයි කෙරෙන එකක්. එතනදී පහළ වෙනවා මිදීමේ කැමැත්තක්. අන්න ඒ කැමැත්ත නම් හැබැයි **න ඛො පනෙතං ඉච්ඡාය පත්තබ්බං** කියන විදිහට, කැමැත්තකින් බලාපොරොත්තු විය යුත්තක් නොවන්නේ නෙවෙයි. ඒක බිඳිලා බලාපොරොත්තු සුන් වීමක් නොවෙන්නේ නෙවෙයි.

සමහර වෙලාවල **මුඤ්චිතුකම්‍යතාව** පැනපු ඇත්තන්ට ගොත්‍රභූ ඤාණයෙන් එහාට ගියහම ජාති ජරා මරණ ව්‍යාධි මරණ දුකින් වෙන් වෙච්ච ස්වභාවය දැකගන්න පුළුවන් වෙනවා. ඒ නිසා ඒකට ඉඩ තියෙනවා. ඒකට ඉඩ තියලා, එහෙම පාරමිතා ශක්තිය නැති එහෙම ප්‍රතිපද පුරපු නැති එහෙම ස්වභාවයෙන්ම **මුඤ්චිතුකම්‍යතා** පහළ වෙච්ච නැති ඇත්තන්ට ජාතිය තියා, (ජාතියවත් තේරුම්ගන්නෙ නැතුව වෙන පැත්තකින් කියනවා නම්), ජරාව ගැන ප්‍රාර්ථනා කළාට මට නොවේවා කියල කවදක්වත් ඒක බලාපොරොත්තු වෙන්න බෑ.

සාමාන්‍ය සංග්‍රහ පොත්වල පෙන්නල දීල තියෙනවා. අපි සාමාන්‍ය ථෙරවාදී ක්‍රමයට ගන්නව නං මොනම සිද්ධියක් හරි ගත්තහම ඒකට **කම්මජ, චිත්තජ, උතුජ, ආහාරජ** කියලා කාරණා හතරක්, හේතු ප්‍රත්‍ය වශයෙන් පෙන්නනවා. ඒක ස්වභාවය. සාමාන්‍යය. නමුත් හැම ආගමකම එකතු කළ දේවල් සංග්‍රහ කරල බැලුවොත් සමහරු මේක මීට සමානව නමුත් මීට වඩා විස්තාරික ක්‍රමයකට කියනවා, දෙවියන් වහන්සේගේ කැමැත්ත හැටියටත් ජරාව වෙන්නත් පුළුවන්. නොවෙන්නත් පුළුවන්. එහෙම නැත්නම් ආරෙට දෙමව්පියන්ගෙන් ආපු ජාන ශක්තිය නිසාත් ජරාව වීම නොවීම

වෙන්න පුළුවන්. ඒ වාගේම කර්මය නිසාත් ජරාව වීම නොවීම වෙන්න පුළුවන්. ඒ වාගේම ඉන්න පරිසරය නිසාත් වෙන්න පුළුවන්. හේතුඵල ධර්මතාවටත් වෙන්න පුළුවන්.

එහෙම නිසා, කවුරු හරි හිතනව නම් ජාතියම නිසාමමයි නැත්නම් ජාති ධර්මය නිසාමමයි, රෝග ව්‍යාධි මරණ ව්‍යසන ජරාව ඇති වෙන්නෙ. ඒ නිසා කවදක්වත් ජරාවක් ආපු වෙලාවක ඒක ගැන සලකන්න හොඳ නැහැ, ඒ ගැන මොනවත් කරන්න හොඳ නැහැ ජාතිය නැති කිරීමටයි උත්සාහ කළ යුත්තේ කියල කළොත් අපි ඒකාන්ත වාදයකට වැටෙනවා. ඒක කවදක්වත් කරන්න බෑ. ලෙඩ වෙච්චම සනීප කරන්න හොඳ නෑ, ලෙඩ වෙච්චම බෙහෙත් කරන්න හොඳ නෑ. ඒ මොකද? ඒක දෙවියන් වහන්සේගේ කැමැත්ත. ඒ නිසා බෙහෙත් කරන්න එපා. ඒක එක අන්තයක්. එහෙම නැතිනම් අපේ දෙමාපියන්ගේ ඉඳලාම මේ ලෙඩේ තිබුණා. ඒ නිසා කොහොම වුණත් බෙහෙත් කරල වැඩක් නෑ. ඒ නිසා ඕනැ නෑ. එහෙම නැත්නම් මේක කරුමේ. ඒ නිසා මේකට බෙහෙත් කරල වැඩක් නෑ. එහෙම නැත්නම් මේ පරිසරයෙ හැටි. ඍතුව. ඕනැ නැහැ. නැත්නම් මේ මම කරපු අකුසල කර්ම නිසා ජරාවට පත් වෙලා තියෙන්නේ, ඒකට වෙදකම් කරන්න හොඳ නැහැ ආදී වශයෙන් සම්පූර්ණ ඒකාන්තයකට යනවා. එහෙම එකක් ශාසනයෙ සඳහන් නැහැ.

අපේ බුද්ධ ශාසනයෙ විනය පිටකයෙ **භෙසජ්ජක්ඛන්ධය** කියල වෙනම එකක් තියෙනවා. ඒකෙ පැහැදිලිවම තියෙනවා ජරාව ඇති වෙච්චහම කළ යුතු පිළියම් ක්‍රම. නමුත් ඒ පිළියම් ක්‍රම ඔක්කොම තාවකාලිකයි. ඒ පිළියම් ක්‍රමවලින් කවදවත් මේක සදහටම සම්පූර්ණයෙන්ම නැති කරන්න බෑ. නැති කරන්න නම් ජාතිය නැති කරන්න ඕනැ. ඒ නිසා මුඤ්චිතුකම්‍යතා ඤාන විභාගයෙ, පටිසම්භිදාමග්ගයේ සඳහන් කරන ජරා ධර්මය පිළිබඳව මේ විස්තරය තවත් සවිස්තරව කාට හරි අපි ඉන්න මට්ටමේ හැටියට තේරුම්ගන්න සම්මා දිට්ඨි සූත්‍රයේ තියනවා. පිරිසක් එකතු වෙච්ච වෙලාවක සාරිපුත්ත ස්වාමීන් වහන්සේගෙන් ප්‍රශ්නයක් අහනවා ජරා ධර්මයට ජරා දුකට හේතුව, ඒ දුක නැති කිරීම, ඒ දුක නැති කිරීමේ මාර්ගය කියල දෙන්න කියලා.

එතෙන්දි සාරිපුත්ත ස්වාමීන් වහන්සේ කියන්නේ **ජාති පච්චයා ජරා, ජාති නිරොධො ජරා නිරොධො, ජාති සමුදයො ජරා සමුදයො.** යම් තැනක ජාතිය ඇති වෙනවා නම් ඒ නිසා ඒකාන්තයෙන්ම ඒක පදනම් කරගෙන ජරාව හැදෙනවා. යම් තැනක ජාතිය නිරෝධ වෙනවා නම් එතන ජරාව නිරෝධ වෙනවා. ඒක නිසා ආර්ය අෂ්ටාංගික මාර්ගය තුළ සඳහන් කරන්නේ ජරා මරණ ශෝක පරිදේව කියන ධර්මතාවල නැති කිරීමේ ප්‍රතිපද මාර්ගය කියලා. දුක්ඛ නිරෝධ ගාමිණී කියනවා වෙනුවට ජාති ජරා මරණ නිරෝධ ගාමිණී පටිපද මාර්ගය කියලා පෙන්නන්නේ. ඒ නිසා අපි විපස්සනා පැත්තෙන්, භාවනා කරන පිරිසක් වශයෙන් බලන විට ප්‍රධාන හේතුව වශයෙන් මෙතන ධර්මානුකූලව ගන්න හදනවා ජාති ධර්මය නිසයි ජරා ආදී දුක් ඇති වෙන්නේ. ඒක නිසා ජරාව පැතූ පමණින් ප්‍රාර්ථනා කළ පමණින් අපිට කවදක්වත් දුරු කරන්න බලාපොරොත්තු වෙන්න බෑ. ඒ දුරු කරන එක සිද්ධ වෙන්නේ නැති නිසා අපට දුකක් ඇති වෙනවා. ඒ නිසා අපට සිද්ධ වෙනවා ජාතිය කෙරෙහි, එහෙම නැත්නම් රෝග මූලයට හිත යොදල ඒකත් නැති කරන ගමන් සදහටම සදකාලිකවම ආයේ රෝග නොවන තත්ත්වයට යන්න. ඒ සඳහා මත්තේ ජාතිය නැති වන තත්ත්වෙට හිත යොදන්න ඕනැ.

මෙන්න මේ විධියට ප්‍රශ්නයක් ඇති වෙච්චහම ඒ ප්‍රශ්නයේ මූලය කරා විවේකීව, ප්‍රශ්නයේ ඉන්දද්දිම ප්‍රශ්නයෙන් පැත්තකට වෙලා ඒක බලල ඒකේ මුල සොයා යෑම බුද්ධ ශාසනයෙ, විශේෂයෙන්ම ථෙරවාද බුද්ධාගම තෝරගත්ත ප්‍රදේශයෙ තියෙන ඉතාමත්ම වටින ධර්මයක්. ඒ ආපු ප්‍රශ්නයට කඩා පැනලා ප්‍රශ්නයට ප්‍රතික්‍රියා කිරීම බොහෝ විට ප්‍රශ්නය වියවුල් කරනවා. ඒ ප්‍රශ්නයට කඩා පැනලා ප්‍රශ්නයෙ පිළිතුරු හෙවීම, බුදුරජාණන් වහන්සේ පෙන්නලා දෙනවා බලු ගතිය කියලා. බල්ලගෙ හැටි එහෙම තමයි. ගලක් ගහපුවහම ඒ ගල හපා කනවා. එළව එළව ගිහිල්ලා හපා කනවා. නමුත් සාපේක්ෂකව පටිච්චසමුප්පාද ධර්මය අනුව, හේතුඵල ධර්මය අනුව සර්වඥයන් වහන්සේ මේ ප්‍රශ්නය ආපු පලියට ප්‍රශ්නයට කඩා වදින්නේ නැතුව, ප්‍රශ්නය පිළිබඳව හේතු කරුණු සලකා බලල මූලයට ප්‍රතිකර්ම කිරීමේ ක්‍රමයට කිව්වෙ සිංහ ගතිය කියලා. සිංහයා කරන්නේ

තමන්ට කවුරුහරි විදිනවා නම් හෝ ගහනවා නම්, ගලක් වැදුණොත් ඌ ඒ ගල දිහා බලන්නේ නැහැ. ආපු දිහා බලනවා. බලල උගේ ඒ බැල්ම වැටෙනකොටම, මොන දඩයක්කාරය උනත් දැක්ක පමණින්ම ඉවරයි. ආයෙ සිංහයා එක්ක සටන් කරල දිනුමක් තියෙන එකක් යෑ. ඒ නිසා සිංහයා හොඳට බලල බලල හරියට ඒ විදින කෙනාට ඒ දඩයක්කාරයට පැනපු ගමන්ම එතනම කපනවා. එතනම විනාශ කරනවා. එතනම නසනවා.

අන්න ඒ වගේ ජරා ධර්ම ගැන සම්බන්ධ කරනකොට අපිට ජාති ධර්මයයි, ජරාවෙ ඉඳගෙනත් සලකා බලන්න වෙන්නේ. ඒ නිසා අර කලින් මම මතක් කළ විදිහට, බෙහෙත් නොකර ඒ කළ යුතු අනිත් කාරණා සම්පූර්ණයෙන්ම නොකර නිකන්ම නිකන් ඉඳීමේ අත්තකිලමථානුයෝගයක් මෙතන සඳහන් වෙන්නෙත් නෑ. එහෙම නැත්නම් මම ජරාව නැති කරගෙන පස්සේ භාවනා කරන්නම්, නැත්නම් ජාතිය නැති කිරීම සඳහා කරන ප්‍රතිපත්ති පිරීම කරන්නම් කියලා, පූර්ණව තමන්ගේ ජීවිතය ගැන කාමසුඛල්ලිකානුයෝගයට යෙදිලා, ලෙඩ තියෙනකොට කරන්න බෑ කියලා සම්පූර්ණයෙන්ම අතහැර දාන ක්‍රමයත් නෑ. මේ දෙකම දැක්කෙ නැත්නම් ජරාව පිළිබඳව මධ්‍යම ප්‍රතිපදාව දැකගන්න බෑ.

වෙන විදිහකට කියනව නම්, ජරාවක් ඇති වෙච්චහම ඒක පළල්ව විස්තාරව සලකා බලන්න ඕනැ. ඒකත් අපට පුළුවන් වෙන්නේ අපේම ජරාව ගැන විතරයි. අනුන් කැමති වෙන එකක් නෑ ඒ ඇත්තන්ගේ ජරාව විග්‍රහ කර කර බලනවට. මොකද එතකොට ඒ ඇත්තන්ගේ මති මතාන්තර ඉෂ්ට වෙන්නේ නෑ. ඒක නිසා අපි පත් වෙන ජරාවක් තියෙනවා. නැතිනම් දිරනවා. **ජරා ජීරණතා ඛණ්ඩිච්චං පාලිච්චං වලිත්තචතා ආයුනො සංහානි ඉන්ද්‍රියානං පරිපාකො**[7] මේක සෑම මොහොතකම සිද්ධ වෙනවා නේ. බලු කුණක් වගේ ජරාවට පත් නොවුණට, වමනයක් වගේ ජරාවකට පත් නොවුණට සෑම වෙලාවකම මේක සිද්ධ වෙනවා. මේක උත්සන්න වුණාම අර කියාපු ආකාරයට ඊශ්වර දෙවියො කිපිච්ච නිසා කියලා ඒ ඒ ඇත්තෝ

---

[7] මජ්ඣිම නිකාය, සම්මාදිට්ඨි සූත්‍රය

හිතනවා. නැත්නම් අම්මලා තාත්තලාගෙන් ආපු ජානවල ආරේ දෝෂයක් කියලා අපි සමහර වෙලාවට හිතනවා. නැත්නම් කර්ම දෝෂයක් කියලා පරිසර දෝෂයක් කියලා හිතනවා. අපිම කළා වූ හේතුඵල ධර්මතාවක් කියලා හිතනවා.

ඒ මොන දේකින් හෝ මේ කිපිච්ච වෙලාව එනකොට අපි මේකට ජරාව කියල කිව්වට, කලින් සඳහන් කරපු අදහස් රාශිය දිහා බලනකොට ජාතිය, ජරාව උරුම කරගෙනයි පැවතෙන්නේ. අපි සාමාන්‍ය මරණානුස්සති භාවනාවේදී පෙන්නලා දෙනවා පොළවෙන් මතු වෙන්නා වූ නයි හත්ත මතු වෙනකොටම හිස පිට පස් ටිකක් රැගෙන එන්නා සේ, ජාතියේදීම ජරා මරණ දෙක හිස උඩ තියාගෙනමයි සත්ත්වයා උපදින්නේ. ඉතින් අපි හිතනවා ඒ උඩින් එන පස් කැට දෙක අයින් කරලා සුද්ධ වූ නයි බිම් මලක් හොයාගන්න පුළුවන් වෙයි කියලා. ඒ තරමටම අන්තවාදී වීම තමයි සුතමය ඥානයෙන් අපට අස් කරන්න පුළුවන් වෙන්නේ. මේ වගේ ධර්ම දේශනාවකින්.

නමුත් ඒක පිළිගන්න මට්ටමක්, ඒක ඇත්තයි, මේ ඵලයට ප්‍රතිකර්ම කරල වැඩක් නෑ, හේතුවට ප්‍රතිකර්ම කරන්න ඕනැය කියන මට්ටමට යන්න යම් කිසි කෙනෙක්ගෙ චින්තාමය වශයෙනුත් වෙනසක් ඇති වෙනවා නම්, ඒක හොඳ සම්‍යක් දෘෂ්ටියකට හේතු වෙනවා. චිත්ත විපල්ලාසය දුරු කරනවා. නමුත් ක්‍රියාකාරකම් අනුව බලනකොට ඒකෙ බොහොම දුර්වලකම් තියෙනවා. මේකෙදි මම මුලිනුත් අදහස් කළා අපි විශේෂයෙන්ම තමන්ගේ රෝගයක් ජරාවක් ආපු වෙලාවක මෙහෙම කල්පනා කිරීමේ පූර්ණ අයිතිය තිබුණට සාමුහික වශයෙන් ජීවත් වෙනකොට අපිට සමහර වෙලාවට අනුන්ගේ ජරාජීර්ණතා පිළිබඳවත් සලකා බලන්න වෙනවා. එව්වායෙදි පුදුම උණක් හැදෙන්නේ සමහරෙකුට. තමන්ගේ දේ පිළිබඳව මේ කියන තර්කෙට ඒත්තු ගන්වන්න පුළුවන්, අනුන් පිළිබඳව කටයුතු කරන්න ගියහම පුදුමාකාර පපු කැවුතු උණු වෙන්න පටන්ගන්නවා. උණු වෙන්න පටන්ගත්තහම ලෙඩාත් අපහසුවට පත් වෙනවා. වෙදත් අපහසුවට පත් වෙනවා. මේ ඇත්තන්ගෙ උපස්ථානය නිසා මෝඩ වඩුවට අහු වෙච්ච ආයුධ වගෙ සියල්ල අපහසුතාවට පත් වෙනවා.

ඒ නිසා ඒක සමාජ ධර්මය පැත්තෙනුත් බලන්න පුළුවන්. විශේෂයෙන්ම සතිපට්ඨානයේ නම් ආරාධනාව තිබෙන්නේ ඒකට නෙවෙයි. අපිට අපි නැත්නම් මට මගේ ජරා ස්වරූපයක් එනකොට මම කොහොමද ක්‍රියාත්මක වෙන්නේ කියලා. මේ ගැන සතිපට්ඨානයේ සූත්‍රයේ මුලින්මත් යම් කිසි විදියක දළ වශයෙන් හඳුන්වාදීමක් පෙරහුරුවක් දෙනවා. ඒ මුලින්ම සඳහන් කරනකොට **ආතාපි සම්පජානො සතිමා විනෙය්‍ය ලොකෙ අභිජ්ඣා දෙමනස්සං** කියලා **සම්පජඤ්ඤය**, භාවනා කිරීමට පෙරාතුව තිබිය යුතු ගුණයක් විදහට පෙන්නලා දෙනවා. දැන් අපි උදාහරණයක් විදියට ගත්තොත් දැනටමත් මේ ඉන්න පිරිස මෙවැනි කර්මාන්තයකට බැහැලා, මොකටද භාවනා ජීවිතයකට බැහැලා. එහෙම බැහැගෙන ඉන්න වෙලාවෙදි යම් කිසි ජරාජීර්ණ තත්ත්වයක් **ඛණ්ඩිච්චං පාලිච්චං වලිත්තචතා** කියන විදියකට මොකක් හරි අමලියකට, කරදරයකට මුහුණදෙනව. පර්යංකයෙ ඉන්නකොට වේදනාවක් එනවා. වේදනාවක් එනකොටම මේක ජරා ලක්ෂණයක් කියලා යම් කිසි කෙනෙක් ලොකු නිත්‍ය සංඥාවකින් සුබ සංඥාවකින් බැලුවොත් ඒ වේදනාව පිළිබඳ විශාල බයකට පත් වෙනවා. කොයි දේත් පොඩියට තමයි පටන්ගන්නේ. මේක නොසලකා හිටියොත් පස්සේ මට මේ විදිහෙ අමාරු වෙයිද දන්නෙ නෑ. අංශභාගෙ වෙයිද දන්නෙ නෑ. කොර වෙයිද දන්නෙ නෑ. බෝ වෙන ලෙඩක් වෙයිද දන්නෙ නෑ. ඒ නිසා වහාම ක්‍රියාත්මක වෙන්න ඕනැ කියලා කෙලෙස්හරිත ගතිය නිසා වහාම ක්‍රියාත්මක වෙන ගතියක් තියෙනවා. අෂ්ටලෝක ධර්මයට සැලෙන ගතියක් තියෙනවා.

අන්න එහෙම කෙනාට ආරම්භයේදී කියල දෙනවා, සම්පජඤ්ඤ හතරක් තියෙනවා. මේ සම්පජඤ්ඤ හතර යොදවා බලන්න. තමන් කරගෙන යන වැඩක් භාවනා වැඩ පිළිවෙළක් අතර මැදදි මේ විදිහෙ ජරා බාධාවක් පැමිණෙනවා. ඉච්ඡා විඝාතයක් පැමිණෙනවා. කැමැත්තක් කැමති දෙයක් නොලැබීමේ විඝාතයක් පැමිණෙනවා. පැමිණිච්ච පමණින් අර කරගෙන ගිය වැඩේ සම්පූර්ණයෙන්ම නතර කරලා, ඒකට ප්‍රතික්‍රියාවක් වශයෙන් පර්යංකය කඩාගන්නවා වෙනුවට හතරආකාරයට සලකලා මේ එක එකකදි ක්‍රියා

කළ යුතු ආකාරය බලනකොට නම් සාරිපුත්ත ස්වාමීන් වහන්සේ දේශනා කළා වගේ ව්‍යාධියක් ආපුවහම ඒකෙ හේතුව තියෙන්නේ ජාතියේ කියලා හේතු හොයන ගතිය වගේ, මොනම සද්දයක් ආපු වෙලාවක හෝ මොනම වේදනාවක් ආපු වෙලාවක හෝ මොනම හිතුවිල්ලක් ආපු වෙලාවක හෝ භාවනාව කැඩෙනවා නම් එයට ක්‍රියා කරන්න කලින් මේ සම්පජඤ්ඤ හතරට හිත යොදන්න කියලා කියනවා. එතකොට අර මුලට හිත යෙදවීමේ සිංහ ගතියට යෝගාවචරයා පුරුදු වෙනවා.

**සාත්ථක සම්පජඤ්ඤය** වශයෙන් ඉස්සෙල්ලාම කල්පනා කරන්න තියෙනවා මං මේ පුංචි බාධාවක් නිසා ඊගාවට කොරන්න හදන වැඩේ ඇති සාර්ථකත්වය, නැත්නම් තමන් අඩාළ කරන්න හදන වැඩේ නිසා ලබන්න හදන වාසිය මොකක්ද, අර්ථය මොකක්ද කියන එක. හුඟාක් වෙලාවට එහෙම කල්පනා කරල නෙවෙයි අපි පර්යංකයෙන් නැගිටින්නේ. මොකක් හරි බාධාවක් ආපු ගමන් එක පාරටම ක්‍රියාත්මක වෙනවා. **සම්පජඤ්ඤය** ක්‍රියාත්මක කරන්නේ නැහැ. මූලය හොයන්න පමා වෙන්නේ නෑ. එහෙම කෙරුවොත් එහෙම වෙන්නේ තමන්ගේ ආත්ම ශක්තිය දුර්වල වෙනවා. අධිෂ්ඨාන ශක්තිය දුර්වල වෙනවා. ඒ නිසා එහෙම කෙනා පුරුදු කරගන්න ඕනැ, එහෙම බාහිර දෙයක් පැමිණිච්ච ගමන් ජරාවකට හේතු වෙන දෙයක් නොවෙන්න පුළුවන්. වෙන දෙයක් වෙන්නත් පුළුවන්. එතෙන්දි බාධක ධර්මයක් පැමිණිච්ච බවවත් දැනගෙන අඩු ගානෙ සතිමත් වෙන්න.

ඒ නිසා අත්‍යවශ්‍ය වෙන්න පුළුවන්. අවශ්‍ය වන නමුත් පැවිද්දෙක් විධියට, භාවනා කරන කෙනෙක් විධියට, යෝගාවචරයෙක් විධියට, ඒක මං ගෙනියන ජීවිතයට සාරූප්‍යද සැපද සප්පායද කියලා කල්පනා කරන්න ඕනැ. විවේකීව කල්පනා නොකළොත් අපිට ගිහි ගති මතු වෙලා, නැත්නම් ආරෙට පුරුද්දට ආපු දේවල් මතු වෙලා බොහෝම ලාමක දේවල් සඳහා අපි වටිනා දේ කැප කරන්න ඉඩ තියෙනවා. ඒ නිසා සාර්ථක වුණත් අර්ථයක් තිබුණත් ඒ අර්ථය සිද්ධ වෙන්න හදන්නේ සප්පාය ක්‍රමයකින්ද පැවිද්දෙක් නම් ශ්‍රමණ සාරූප්‍ය

ක්‍රමයකින්ද කල්පනා කරලා බලන්න කියලා සම්පජඤ්ඤ හතර විස්තර කරනකොට කියනවා.

ඒ දේ දෙකම යෙදුණත් ගෝචර සම්පජඤ්ඤය, මේවා සතිපට්ඨාන සූත්‍රයට වැටෙන වැඩද? නැත්නම් භාවනා ජීවිතය උපසම්පද ජීවිතය සාමණේර ජීවිතය කඩල බිඳලා දන, සිල් කඩල බිඳල දන, තමන්ට නොගැළපෙන නොහොබිනා තැනකට ගෙන යන වැඩ පිළිවෙළක්දැයි කියලා ගෝචර අගෝචර භාවය තේරුම්කරල දෙන්න කියනවා. යෝගාවචරයෙකුට නම් සර්වඥයන් වහන්සේ දේශනා කරනවා මේ සතර සතිපට්ඨානය තමයි ගෝචර භූමිය. අපි හිතමු පර්යංකයේ ඉන්න අමාරු වෙලා සක්මනට බහිනවා. එහෙම නම් ඒ හතර ඉරියව්වම මේකට ගැළපෙනවා. හරි, එහෙම නැත්නම් පිණ්ඩපාත ගමනකට එහෙම නැත්නම් පැන් පහසු ගමනකට, එතකොට තමන්ගේ දිනචර්යාවට වැටෙනවා. නමුත් ඒ නොවැටෙන දෙයක් වෙනවා නම් ඒ ගෝචර සම්පජඤ්ඤය අවස්ථාවේ හෝ ඒ පුද්ගලයාට ඒකෙන් බේරුම් යන්න අවස්ථාවක් තියෙනවා.

මේ ඔක්කොම, ඒ කියන්නේ සාර්ථක භාවය, සප්පාය බව, ගෝචර බව බැලුවට පස්සේ අසම්මෝහ සම්පජඤ්ඤය ගැන විස්තර කරනවා. සති සම්මෝසාව සහිත, ඒ කියන්නෙ ඔළමොළකම් සහිත පුද්ගලයින්ගේ ඇසුර දුරු කිරීම තමයි මෙතන දක්වන්නෙ. අසතියෙන් අසම්පජඤ්ඤයෙන් ගත කරන අයගෙන් ඈත් වීම ඉතාම වැදගත්. නමුත් මේක තමයි හුඟක්ම අමාරු. මොකද, ලෝකයෙ ඉන්න හරියක් ඉන්නෙ ඔය වගේ සති සමමෝසාවට පත් වුණ පිරිසක්. අපි මේ වගේ තැන්වලට එන්නේ ඔය ටික කරගන්නයි. ඒ වාගේම තවත් පැත්තක් තමයි, මේ කරන්න හදන වැඩේ නුමුළා සිහියෙන් කිරීම. නැවතිල්ලේ සතියෙන් කිරීම. අවසානයෙ ජාති ධර්මය හොයාගන්න තැනට යනකල්ම භාවනාව ඉදිරියට තල්ලු කරන්නත් මේක යෝගාවචරයකුගෙ ජීවිතයකට ඉතාම සාර්ථක වෙනවා.

ඒක නිසා සම්පජඤ්ඤයෙන් යුක්ත පුද්ගලයාට **සම්පජානො** කියල කියනවා. **සම්පජානො සතිමා** කියන කාරණාව මුලින්ම දේශනා

කළාට මේ වගේ හේතුඵල ධර්ම හොයන වෙලාවක හොඳට වැටහෙනවා, මේ පැහැදිලි කළ කාරණාව යෝගාවචර ජීවිතයේ විපස්සනාවේ ඉහළ වර්ධනයේදී හොඳටෝම වැටහෙන්න පටන් ගන්නවා. නාමරූප පරිච්ඡේද ඤාණය, පච්චයපරිග්ගහ ඤාණය ආදී කියන්නා වූ මුල් මුල් ඤාණවල මේක ඇත්තටම ආයාසයෙන් කළ යුත්තක්. ගුරුවරු විසින් එළවලා පිටිපස්සේ ඉඳලා රැකලා ආරක්ෂා කරලා දිය යුත්තක්. නමුත් මුඤ්චිතුකම්‍යතා ඤාණ වගේ එනකොට යෝගාවචරයාට හොඳටෝම තේරෙනවා මේ විදියට ළමා ගති ඇතුව වහා කිපෙනසුලු ගතියෙන් විපස්සනා ඥාණ මේරිච්ච අවස්ථාවේ ක්‍රියා කරන්න බෑ. ක්‍රියා කළොත් වතුර දහක් ඇදලා කළේ බින්ද වගේ නිතරම තමන් මුලට ඇදෙන ගතියක් තියෙනවා. ඒ නිසා ඒ වගේ වෙලාවලදි යෝගාවචරයාට සාමාන්‍ය ලක්ෂණයක් වශයෙන් දිගට වාඩි වෙලා ඉන්න පුළුවන් ශක්තිය ලැබෙන්නෙ මොකද? පුංචි පුංචි දේවල් ආවට කිපෙන්නේ නෑ. ප්‍රතික්‍රියා කරන්න යන්නේ නෑ. ඒක අනිවාර්යයෙන් භාවනාවක්. වෙනත් පැත්තකින් කියනවා නම්, ධම්මානුපස්සනාවට අහු වෙන්නේ නැති දෙයක් මේ ලෝකයෙ නැති තරම්.

කායානුපස්සනාව කරනකොට නම්, චිත්තානුපස්සනාවට අදාළ දෙයක් ආවත් හිතේ කරදරයක් ආවත් ලෙඩක් කරදරයක් විදියට වගේ තමයි පේන්නේ. කායානුපස්සනා, චිත්තානුපස්සනා දෙකටම ගියාට පස්සෙ නම් හිතිවිලිත් භාවනා කරන්න ඕනෑ. හිතිවිලි එන බව දැනගන්න ඕනෑ කියලා තේරෙනවා. ඊගාවට වේදනානුපස්සනාව. වේදනානුපස්සනාවත් එහෙමයි. චිත්තානුපස්සනාවත් එහෙමයි. අන්තිමට ධම්මානුපස්සනාවට ගියාට පස්සේ එන එන සෑම දෙයක්ම ගොචර සම්පජඤ්ඤයට ලක් කරගෙන හැම දෙයක්ම මෙනෙහි කරන්න පටන්ගන්නකොට ඒ පුද්ගලයා මුඤ්චිතුකම්‍යතා මට්ටමට එනකොට පස්සද්ධි කියලා චෛතසිකයක් පහළ වෙනවා.

පස්සද්ධි චෛතසිකය නිසා භාවනාවෙන් රෝග සුව වීම කියලා, මෙලොව වශයෙන් දිට්ඨධම්මවේදනීය වශයෙන් යෝගාවචරයාට විශේෂ අවස්ථාවක් ලැබෙනවා. ඒකට හේතුව මේකයි. යෝගාවචරයා භාවනාවේ මුල් කාලයෙ තියෙන අඬදබර කරදර සහිත

ප්‍රදේශය ඉතාම දැඩි මෙනෙහි කිරීමකින් හා ඉතාම සංයමයකින් යුක්තව ඉදිරියට ගිහිල්ලා, පස්සේ මතු වෙන්නා වූ නාමධර්මත් මෙනෙහි කරමින්, එපා ගති කම්මැලි ගති නීරස ගති බය එලවන ගති සම්පූර්ණයෙන් පාලනය කරගෙන, අෂ්ටලෝක ධර්ම විෂයෙහි චිත්ත ශක්තියත් අධිෂ්ඨාන ශක්තියත් ඇතිව ඉදිරියට යනකොට ඒ පුද්ගලයා තුළ ධර්මතා විෂයෙහි නොසැලෙන ගතියක්, සංහිඳියාවක්, පස්සම්භයක් ඇති වෙන්න පටන්ගන්නවා.

ඒ පස්සම්භ චෛතසිකය සහිතව - පස්සද්ධිය කියලත් මෙයට කියනවා - මතු කරන මතු කරන සෑම රූප කලාපයක්ම බොහොම නිරෝගි රූප කලාප. ඒ සඳහා බෙහෙත් අවශ්‍ය කරන්නෙ නැහැ. ඒ සඳහා වෙන මොනවත් අවශ්‍ය කරන්නෙ නැහැ. අර කරගෙන ගිය වැඩ පිළිවෙළේ ඇත්තා වූ සාර්ථකත්වය සහ ප්‍රතිඵල දයකත්වය නිසා එවැනි යෝගාවචරයන්ගේ සිත නිතරෝම තරුණ භාවයක් උසුලනවා. හැම වෙලාවෙම භාවනාවට ප්‍රබුද්ධ භාවයක් ඇති කරගන්නව. මොන කරදරයක් ආවත් ඒක මෙනෙහි කිරීමෙන් යටපත් කළ යුතුයි, මම භාගයක් යටපත් කරලා තියෙන්නේ, මේකත් යටපත් කරනවා කියලා පුදුමාකාර ශක්තියක් එන්න පටන්ගන්නවා. මේ තත්ත්වය බොරුවක් නෙමෙයි ඇත්ත.

නමුත් මතක තියාගන්න ඕනැ එතනට එනකොට ඒ යෝගාවචරයා බොජ්ඣංග ධර්ම වැඩෙන මට්ටමට යනකල් හොඳට සතිපට්ඨාන චිත්තවීථියේ ඉදිරියට ගිහිල්ලා. මේක කවදාවත් සීලයවත් නැති බය ලැජ්ජා දෙකත් නැති, පටන්ගත්තු ගමන් කෙනෙකුට කවදාවත් දෙන්නවත් බෑ. දෙන්න කථා කරන එක සම්පජන්‍ය හේතුඵල ධර්මය ගැන නොදන කරන කථාවක්. ඒ නිසා සමහරු සූතමය වශයෙන් බොජ්ඣංග පිරිත් අස්සවල සුව කරන්න හිතනවා. හොඳයි, ඒක කියන කෙනාගෙ ගුණ තියෙනව නම් ඒකේ අධිෂ්ඨාන ශක්තියෙන් යම් කිසි ප්‍රතිඵලයක් තියෙනවා. නමුත් වඩාත්ම හොඳ ක්‍රමය අහන කෙනා තුළ පස්සද්ධි සම්බොජ්ඣංගය වැඩෙන්න අරින්න ඕනැ. ඒක ඒතරම් ලේසි නෑ. එහෙම නැතුව අර කියන විදියට ජාතියක් නැති කිරීමේ මාර්ගයෙන් ජරාව නැති කරනවා කියන අඩියටම අත දලා හේතුවටම අත දලා සුව කිරීමේ ශක්තියක් ඇති කරවන්න බෑ.

ඒ නිසා බුද්ධ ශාසනය අද ගත්තොත් බටහිර, ආසියාකරය කියලා දෙකට බෙදන්නත් පුළුවන්. විවිධ පැතිවලට බෙදනවා. මෙයින් විශාලම වර්ධනයක් අද පෙන්වන්නේ බටහිර රටවල. අභාග්‍යයකට වගේ එහෙ බුද්ධාගම යන්නෙ සුව කිරීමේ සේවාවක් වශයෙන්. හරිම නීච තත්ත්වයකට පත් වෙලා තියෙනවා මුළු සාසනේම. ඔක්කොම ගනුදෙනුවක් වෙලා තියෙනවා. මේ දේ කළොත් මට මේ දේ අවශ්‍යයි. අන්න ඒක නිසා ගානක් ගෙවලා සුව කිරීම ලබාගන්න තමයි මේක කරන්නේ. නරක නෑ. නොකර ඉන්නවට වැඩිය හොඳයි. නමුත් මේ කියන්නේ බලු ප්‍රතිපත්තිය. අර ආපු දේ, ආපු රෝගය, ආපු ජරාවත් එක්ක හැප්පිල්ල. ඒක අවශ්‍යයි. මොකද, ඒ පුද්ගලයා තුළ හැඟීමක් ඇති වෙන්න ඕනැ. මොකද ජරාව තියාගෙන මේ වැඩ කරන්න බෑ. ලෞකික සම්පතක්වත් රූපලෝක සම්පත්තියක්වත් පරලෝක සම්පත්තියක්වත් ලෝකෝත්තර සම්පත්තියක්වත් ගන්න බෑ. අවශ්‍යයි. නමුත් බුද්ධ ධර්මය කියල කියන්නේ ඒ වාගේ රෝග සුව කිරීමේ සේවාවක් පමණක් වුණොත් කබරගොයා තලගොයා කරගත්තා වෙනවා කන්ඩ ඕනෑවට.

ඒ නිසා ධර්මානුකූලව බැලුවත් ඒක සිද්ධ වෙනවා. සිද්ධ වෙන්නේ කොහොමද? පස්සද්ධි චෛතසිකය ඇති වුණාට පස්සෙ. පස්සද්ධි චෛතසිකයට ඉස්සෙල්ල තියෙනවා නෙ සති, ධම්මවිචය, වීරිය, ප්‍රීති. මෙන්න මේ චෛතසිකවලින් තොරව පස්සද්ධියක් ඇති කරන්න බෑ. බෙහෙතක් ශරීරගත කරලා හෝ පෙත්තක් දීලා හෝ සංගීතයක් අහන්න සලස්වල හෝ හිස අතගාලා හෝ කරන්න බෑ. කෙරෙන්නේ, ඒ කරන කෙනාගෙ තියෙන ශක්තියෙන් තාවකාලිකව යටපත් කිරීමක් පමණයි. නමුත් ඒක යාදෙන තත්ත්වයක් බවට පත් වෙන්න නම් ප්‍රතිශක්තියම ඇති කරල දෙන්න ඕනැ. මුලටම හිත යොදන්න ඕනැ. ඉතින් හොඳටම කල්පනා කරල බැලුවොත් අද තියෙන ප්‍රධාන සාකච්ඡාවල විශාල වශයෙන් සාකච්ඡා වන මාතෘකාවක්, මේක කොයි රටෙත් සිද්ධ වෙනවා. ඒ ප්‍රශ්නවලදී, මේ සුව කරගෙන මොනවද මේ ඇත්තො කරන්න හදන්නේ? නැවතත් අර කාමභෝගී ලෝකෙට ගිහිල්ලා ආයෙත් අර ලෙඩේම හදගන්නයි හදන්නේ. කවමදක්වත් ඒ සුව කිරීම නැවත ශීලයක පිහිටන්නවත්

සමාධියක පිහිටුවන්නවත් ප්‍රඥාවක පිහිටුවන්නවත් නෙවෙයි. බුදුරජාණන් වහන්සේත් එහෙම සුව කළා. ඒකයි බුදුරජාණන් වහන්සේට කියන්නේ පුරිසදම්මසාරථී. පුරුෂයන් දමනය කිරීමේ සාරථී ගුණයක් බුදුරජාණන් වහන්සේට තිබුණා. ඒ මොනවකටවත් නෙවෙයි එ පුද්ගලයාට ඒත් එක්කම සෝවාන් මාර්ග ඤාණයක් ලබාදීමට. නැත්නම් අරිහත්වයට පත් කිරීමට.

හුඟදෙනෙක් ඒකේ අවසාන කැල්ල පැත්තක දලා අනිකුත් ආගමික ශාස්තෘවරුන් වගෙ සුව කිරීමේ සේවාවක් කරගන්න හදනවා මේක. එහෙම කරල ඒ ඇත්තෝ තව දුරටත් අනිත් ආගම්වලට විරුද්ධවත් කථා කරනවා. මෙන්න මේකයි රෙදි නැති වැඩේ. නිගණ්ඨයො කරන වැඩක් වගෙ මේක. මේකෙ තියෙන්නේ එහෙම නොවෙයි. ජරාවට හේතුව ජාතිය. **ජාති සමුදයා ජරා සමුදයො, ජාති නිරොධා ජරා නිරොධො.** ඒ කාරණාව අපි අමතක කළොත් කිසිම වෙනසක් නැති වෙනවා. අපි මේ ආගම හෝ කමක් නෑ කාම සම්පත්ති පිණිස රූප ලෝකයේ සම්පත්ති පිණිස යොදගන්නා ලාමක තත්ත්වයකට පත් වෙනවා.

එතකොට අපි කියනවා ඒ ඇත්තාට ධර්මාන්වය නෑ කියලා. ධර්මය අනුව කල්පනා කිරීමේ ශක්තිය නෑ. මොකද හේතුව? ජරාව වගේ ධර්මයක මොකක්ද අත්තකිලමථානුයෝගය කියලා කියන්නේ? මොකක්ද කාමසුඛල්ලිකානුයෝගය කියලා කියන්නේ? මොකක්ද මේ දෙක අතඇරීමෙන් ජරාව සම්බන්ධව තියෙන මධ්‍යම ප්‍රතිපදව කියන්නේ? මෙන්න මේවා තේරුම්ගන්න ඒ ඇත්තට දැනුමෙන් 50% යි තියෙන්නේ. අල්ලගත්ත පැත්ත පමණයි දන්නේ. **ඉදමෙව සච්චං මොඝමඤ්ඤං** කියල මේකමයි සත්‍යය, අනිත් එක බොරු කියලා ඒක ඉගෙනගන්නවට කැමතිත් නෑ. කථා කරනවට කැමතිත් නෑ.

ඒක නිසා අල්ලගත්ත පැත්තට යනකොට මේක අනිවාර්යයෙන්ම යන්නේ රෝද හතර බකල් වෙච්ච වාහනයක් වගේ, කවදවත් පාරේ හරියට ගෙනියන්න බෑ. මේ තත්ත්වයට හොඳටම පසුබිමක්, හොඳටම සුදුසුකමක් ලබන්නේ විපස්සනා යෝගාවචරයා පමණයි. මොනම තාලෙකින්වත් දන් දුන්නට, මොනම තාලෙකින්වත්

සිල් රැක්කට, මොනම තාලෙකින්වත් සමාධිය වැඩුණට ඒ සමාධිය හරි හැටියට නොයෙදෙනවා නම්, ඒක සම්‍යක් දෘෂ්ටියට හේතු වෙන්නේ නැත්නම්, ඒ සමාධියෙනුත් බලාපොරොත්තු වෙන්න පුළුවන් රෝග සුව කිරීමම පමණයි. වෙන්නෙත් ඒකම තමයි. කොරන්නෙත් ඒකම තමයි. නමුත් මුළු සංසාරයම රෝගයක්ය, මුළු භව රෝගයට වෙදණන් වශයෙන් බුදුහාමුදුරුවෝ දේශනා කළේ ජාතිය නැති කිරීමය කියන දෙය ඒ ඇත්තන්ට ඒත්තුගන්නන්න අමාරුයි. ඒ ඇත්තෝ හිතනවා ඕවා පරමාර්ථ ධර්ම. ඕවා කථා කරන්න යන්න එපා. මේ සාමාන්‍ය තේරෙන දෙයකින් යං. හැමදම හැබැයි ඒ තේරෙන දෙයින් නතර වෙනවා මිසක කවදවත් අර සිංහ ප්‍රතිපත්තියට එන්නේ නෑ.

ඒ නිසා දුක්ඛ සත්‍යය පිළිබඳව කථා කරන මේ කොටසෙදි, විපස්සනා කරන කෙනාට, විශේෂයෙන්ම බලව උදයබ්බ ඤාණය පන්නපු කෙනාට භංග ඤාණ භය ඤාණ ආදීනව ඤාණ තේරෙනකොට හොඳටෝම තේරෙනවා. අපි සංසාරෙ මේ පල්ලෙ කෑල්ල නම්, මීට අඩු කෑල්ල නම් හැමදම අත්දැකල තියෙනවා. අපි හුඟක් බලාපොරොත්තු ඇතුවත් වැඩ කරලා තියෙනවා. නමුත් සෑම බලාපොරොත්තුවක්ම ජරා ව්‍යාධි මරණවලින් කෙළවර වෙනවා. කවදවත් අපි මුලට හොයන ගතිය, මුලට යන ගතිය, යෝනිසෝමනසිකාරය, සම්පජන්‍යය ක්‍රියාත්මක කිරීම, බොහොම අඩුවෙන් කරල තියෙන්නේ. මොකද, අපි හිතනවා ඒවා කරන්න තරම් අපිට විවේක ඉස්පාසු නෑ. අපිට තියෙන්නේ මේ දැවෙන ප්‍රශ්නය විසඳන එක විතරයි කියලා හැමදම ඒ දැවෙන ප්‍රශ්නය විසඳ විසඳ ඉන්නවා මිස මේ වගේ ගැඹුරකින් ගැඹුරකට යන ගතියක්, මුල හොයාගෙන යන ගතියක් නෑ. මෙවැනි මූලධර්මයක් තේරුම්ගත්තේ නැති ඇත්තෝ වැඩ කරන්න ගියහම හැමදම අලුත් වැඩ පටන් අරගන්නවා. අලුත් වැඩ පටන්ගත්තට ඒක අවසානයක් කිරීමක් ගැන වග කියන්නේ නෑ.

ඒ නිසා සම්පජඤ්ඤයෙන් හොඳට මතක් කරල දෙන්න ඕනැ ප්‍රධානම මූලධර්මය මොකක්ද **සබ්බ දුක්ඛ නිස්සරණ නිබ්බාන සච්ඡිකරණත්ථාය ඉමං කාසාවං ගහෙත්වා පබ්බාජෙථ මං භන්තෙ.**

අනේ ස්වාමීන් වහන්ස, මේ කහට සිවුර මට දීලම එහෙම නැත්නම් මේක ඇරගෙන මේ සියලු දුකින් කෙළවර කිරීම සඳහා මාව පැවිදි කරවනු මැනවි කියන එකයි, අපි පැවිදි වෙනකොට ඉල්ලුවේ. එතකොට නම් ජාති ධර්ම නොවේවා කියන එක බලාපොරොත්තු වෙලා, නොලැබිලා, දුක ඇති වෙන්න පුළුවන්. නමුත් ඒ මූලික කාරණා අමතක කරල අනිකුත් පුංචි කාරණා කරන්න පුළුවන්, කරන්න ඕනෑ, කළ යුතුයි, කියලා තව ඉස්සරහට වෙනවා නම් කවමදවත් අපිට අර විවේකයට, අපි කිව්ව ජාතිය නැති කිරීමේ වැඩ පිළිවෙළට යන්න බෑ.

මේ නිසා මම කෙටි කරලා, පණ්ඩිත ස්වාමීන් වහන්සේ ලියපු පොතක් පරිවර්තනය කරලා ඒකෙත් ලියලා තියෙනවා, යමක් කරන්න ඉදිරිපත් වෙච්ච වෙලාවෙදි ඒකට තමාගේ කැමැත්ත තියෙනවද බලන්න කියලා. අනුන් කිව්වටද කරන්නේ නැත්නම් ඇත්තටම තමන්ට මේකට කැමැත්තක් තියෙනවද? කැමැත්ත තියෙන දේවල් ලෝකේ හුඟක් තියෙනව නෙ. ඒ දේවල්වලින් මේ මහණකමට, මේ භාවනා ජීවිතයට, මේ උපාසකකම්වලට යුතුකම් කියලා ජාතියක් තියෙනව නේ. ආචාර ධර්මානුකූලව සදචාරාත්මකව කළ යුතු යුතුකම්. ඒ යුතුකම්වලින්, අර කැමති දේවල් ඔක්කොම තිබුණට සියල්ල කරන්න යන්න එපා. ගැළපෙන, යුතු දේ විතරක් ගන්න. ඒ යුතු දෙයිනුත් පුළුවන් දේ විතරක් කරන්න කියලා. කළ යුතු දේවල් ඔක්කොම අපිට කරන්න බෑ. මේ ඉන්න පද්ධතියේ ඉහළම එක්කෙනාට සමහරක් කරතැකි. මට මෙහෙම කරතැකි, මේ ටික විතරයි කරන්න පුළුවන්. අන්න ඒ දේ අපි දන්නව නම්, කවදවත් අපි නිසා පද්ධතියට අවුලක් වියවුලක් එන්නේ නැහැ. අලුත් ජරාවක් එන්නේ නෑ වැඩේට.

මේක ජරා ධර්මයට සම්බන්ධ වෙන්නේ බොහොම ඈතින්. නමුත් සම්පජන්‍යය අපිට තේරුම්ගන්න ක්‍රමයකට යනකොට එදිනෙද ජීවිතයේ අනන්ත අපිට මේක සිද්ධ වෙනවා. ඒ නිසා කොයි විදිහට ඉදිරිපත් වෙන්න ආවත් මේකට මගේ කැමැත්ත තියෙනවද? නෑ නෙ, පැත්තකට වෙලා නිකන් හිටිය නම් කිසි ප්‍රශ්නයක් නෑ. මම ඕකට කැමති නෑ. කැමති නෙ. කැමති වුණත් කල්පනා කරන්න ඕනෑ මගේ

මට්ටමට, යුතුකමක් වශයෙන් සදචාර ආචාර ධර්මවලට ගැළපෙන විදියට ඕක හොඳද? එහෙම හොඳ වුණත් මට බැරි නම් මොකද කරන්නේ. බැරි නම් හිතන්න ඕනැ මේක ප්‍රධාන කරගෙන යන්න නරකයි. එතකොට අයිතිවාසිකම් ඉල්ලලා අපිට පෙළපාලි යන්න සිද්ධ වෙනවා. එතකොට අපිට මූලික භාවනා කිරීම්, විවේක ශක්ති මොනවත් නැති වෙනවා. ඒ නිසා හැම වැඩක්ම කරන්න ගියහම ඒ වැඩේ මූලාරම්භයට ගිහිල්ලා අපිට මේක කරදරයක් නොවෙන්න, ප්‍රගතිය පිණිස පමණක් පවතින්න නම්, සම්පජන්‍යය අවශ්‍යයි. සම්පජන්‍යයෙන් තොරව ජරා ධර්මය සුව කිරීමේ වැඩ පිළිවෙළට ගියාට කවදක්වත් සනීප කරගන්න බෑ. ඒක ඉතින් ලෝක සම්මතයක්. ඒකට හේතුව මොකද? ජරා ධර්මයකට හේතු වෙන්නා වූ ජාති ධර්මය පිළිබඳව අපි ගැඹුරින් කල්පනා කරලා නෑ. ප්‍රශ්නයක් ආවහම ඒ ප්‍රශ්නයේ මූලාරම්භයක් හොයන්න අපිට විවේකයක් නැහැ.

මේක මම හිතන්නේ පසුකාලීනව සංග්‍රහ කරල ගත්ත අදහසක් වෙන්න ඇති. නමුත් අපි මේ කියන මතයට සමාන්තරව ගමන් කරන නිසා මෙතනදි මම සඳහන් කරනවා, විපස්සනා භාවනාවේ ඉස්සෙල්ලාම ඉතාම ප්‍රකට තැනින් පටන්ගන්න කියනවා. **යථා පාකටං විපස්සනාභිනිවෙසො** මොනම දෙයක් ආවත් ඉතාම ගොරෝසු නාමරූප දෙකට කඩලා බලන්න. මේක තුළ වෙන සත්ත්වයෙක් පුද්ගලයෙක් මොනවත්ම නෑ. මොනම ධර්මතාවක් ආවත් කායානුපස්සනාව, වේදනානුපස්සනාව, චිත්තානුපස්සනාව, ධම්මානුපස්සනාව මොන දෙයක වුණත් හොඳට හිත යොදවලා බැලුවොත් නාමරූප දෙකෙන් එහාට මොනම දෙයක්වත් ඇත්තේ නැහැ. ඉන් එහාට මේ අපි කියන්නා වූ සතෙක් පුද්ගලයෙක් ආත්මයක් ස්ත්‍රී පුරුෂ භාවයක් නෑ.

මෙන්න මේක විග්‍රහ කරනකොට ආචාර්ය පරම්පරාව කියනවා මේ අවස්ථාවේදී අපි දකින්නේ අරමුණේ මැද විතරයි. ප්‍රකට මැද. කවමදක්වත් අරමුණක මුල ප්‍රකට නෑ. හැම අරමුණකම උත්පත්ති අවස්ථාව හැංගිලා තියෙන්නෙ. ඒක ප්‍රශ්නයක් නෑ. මොකද, ජරාවට වැඩ කරනකොට ජාතිය හොයලම ඉන්නකල් වෙදකම් කරන්න එපා කියලා කතාවක් නෑ. ඒ ජරාවටම වෙදකම් කරනවා. ඒ පේන වෙලාවේ

මොකක්ද ප්‍රකට, අන්න ඒක නාම රූප වශයෙන් බලනවා. යම් විදියකට දසආකාරයකින් සම්පූර්ණ වුණා නම් මේ සමාධිය, ඊගාවට බලන්නේ මොකක්ද? හේතුව බලන වෙලාව. එතකොට අරමුණේ මුල මැද දෙකම පේන්න ගන්නවා. මේ හේතුව නිසයි අරමුණක් මතු වෙන්නේ. කවදකවත් අහේතුකව මතු වෙන්නේත් නැහැ. විෂමහේතුකව මතු වෙන්නේත් නැහැ, ඒකහේතුකව මතු වෙන්නේත් නැහැ. බොහෝ හේතු නිසා අරමුණක් මතු වෙනවා කියන තැනට යනකොට, පච්චයපරිග්ගහ ඥාණයට යනකොට මේකට මැවුම්කාර දෙවි කෙනෙක් නැහැ. හේතුප්‍රත්‍ය පේනවා.

මේක බුද්ධ ශාසනයේ සඳහන් කරනවා, චුල්ලසොතාපන්න තත්ත්වයට පත් කරන්න තරම් ඉතාමත්ම බලවත් ඤාණයක්; යමක මුල දැකීම. යමක පේන කොටසට වැඩිය හුඟක්ම වෙනස් මුල. ගහක් ගත්තොත් කොච්චර විශාල රුස්ස ගසක් වුණත් මුල හංගලා තියෙන්නේ. ඒක දක්කයි කියන්නේ ඉතින් තව දුරටත් ගහක් නෑ එතන. මුල හැංගිලා තියෙන තාක් කල් ගහ කොච්චර කැපුවත් **යථාපි මූලෙ අනුපද්දවෙ දළ්හෙ**[8] ගාථාවෙ සඳහන් කරලා තියෙන විදියට නැවත නැවත දලු දානවා. මුල බලන්න දෙන්නෙත් නැහැ. ඒක තියෙන්නේ අඳුරේ. ඒක තියෙන්නේ බැහැගෙන. ඒක යට, අඳුරෙ තියෙන්නේ. මේක මතු කෙරුවොත් ඉතින් ඒක ගහේ අවසානය තමයි. ඒ නිසා පච්චයපරිග්ගහ ඤාණය කියන එක ඉතාමත්ම සවිස්තරයි. ඒකට මොකද හේතුව? නාමරූප පරිච්ඡේදයට හේතු වන්නා වූ ප්‍රත්‍යය යෝගාවචරයා ප්‍රත්‍යක්ෂයෙන්ම දකිනවා. ඒත් කියනවා, නාම විපස්සනාව පටන්ගෙනවත් නැහැ කියලා. මේවා විපස්සනාවට අවශ්‍ය වන, පදනම් වෙන මූලික ඤාණ. ඔතෙන්ට යනකොට හොඳටෝම තේරෙනවා, භාවනාවෙන් යෝගාවචරයෙක් මෙතෙන්ට යොදවන්න ගියහම කොච්චර දුෂ්කරද කියලා. ඒ යෝගාවචරයාට තේරුම් කරල දෙන්න පේන තැනින් පටන්ගන්න. නමුත් පුළුවන් තරම් හේතුවක් දකින තාලෙට ළං වෙන්න අරමුණට. නැවත නැවතත් මෙනෙහි කරන්න. සීඝ්‍රයෙන් මෙනෙහි කරන්න.

[8] ධම්මපදය, තණ්හාවග්ගය

මෙතෙන්දි කලින් ගත්ත අරමුණමයි. කලින් ගත්ත සමාධියමයි, බොහෝ වේලා කරගෙන ඉන්නකොට ඒකේ තිරය පිටිපස්සේ වෙන වැඩ පේන්න පටන්ගන්නවා. මේක ඉතාමත්ම දුෂ්කරයි යෝගාවචරයෙකුට පෙන්නලා දෙන්න. මේ අවස්ථාවේදී තාමත් යෝගාවචරයා සටහන් දකිනවා, ආකාර දකිනවා. ඒ වාගේම අරමුණේ තියෙන ස්වාභාවික ලක්ෂණ දකිනවා. මේ සියල්ලම එකට එන්න පටන්ගන්නවා. වේග වෙනවා. අරමුණ හොඳටම වෙනදට වඩා වේග වෙනකොට එක්කො බය වෙලා පැත්තකට දනවා. එහෙම නැත්නම් හිතනවා මගේ දැන් සතියයි සමාධියයි කැඩිලා. මොකද, මේ අගේට තැන්පත් වෙලා හිටිය හිත - විශේෂයෙන්ම සමථය ගැන වැරදි අදහසක් ඇති කරගෙන ඇති ඇත්තන්ට මෙතෙන්ට යනකොට පේන්න තියෙන්නේ මේ තිබුණ දේ කැඩුණා. හොඳට පෙනීගෙන තිබුණ දර්ශන රූප ඔක්කොම බොඳ වුණා. හොඳ ලස්සන කන්නාඩියකින් මුහුණ බල බල ඉන්දද්දි කන්නාඩිය බිඳිලා ගියහම, ඒත් රූප පේනවා. ඒ නමුත් ඔක්කොම කඩ කඩ වෙලා. ආන්න ඒ තත්ත්වයට එන්න පටන්ගත්තහම බොහෝ යෝගාවචරයින් ඉතාමත්ම දැඩි අපහසු තත්ත්වයට පත් වෙනවා.

විශේෂයෙන්ම දැඩි නිත්‍ය සංඥාව තියෙන ඇත්තන්ට, දැඩි සුඛ සංඥාව තියෙන ඇත්තන්ට, දැඩි සුභ සංඥාව තියෙන ඇත්තන්ට, දැඩි ආත්ම සංඥාව තියෙන ඇත්තන්ට පච්චයපරිග්ගහ ඤාණයට යාගන්න බැහැ. ඒගොල්ලන්ට හිතෙන්නේ නෑ, අරමුණත් වේගවත් වෙලා හිතත් වේගවත් වෙලා මේ හේතු දැකීම, සියල්ලේම හේතු දැකීම විශාල ප්‍රශ්නෙකට උත්තරයක් බව. ඔහුට පේන්නේ හේතු දැකීම ප්‍රශ්නයක් වශයෙන්. මේවා බලාගෙන ඉන්නකොට ඇතුළත බැලීම කාලය නාස්ති වීමක්. එහෙම නැත්නම් ඇඟ දඩිය දමන, ලොමු දැහැගන්වන අලුත් දුකක්. මෙහෙම හැප්පි හැප්පි පොර කකා කොහොමද අපි දුක නැති කරන්නේ කියලා විශාල ප්‍රශ්න මතු කරනවා. චතුරාර්ය සත්‍යය ඉදිරිපත් කරල තියෙන තාලෙනුත් බුදුරජාණන් වහන්සේ ඉදිරිපත් කරල තියෙන්නේ දුක්ඛ සත්‍යය බොහෝම ප්‍රකටවයි. හොඳට යෙදීගෙන යනකොට ඔන්න සමුදය සත්‍යයට හිත යොමු කරනවා. ඒක බොහොම ශාන්තව බොහොම හොඳට හොඳ ටයි කෝට්

ඇඳගත්ත මහත්තයෙක් වගේ තමයි ඉන්නේ. ජරාව ගාගෙන ලේ පෙරාගෙන ආයුධ අතේ නෑ. නමුත් වැඩ සේරම කරන්නේ මෙයා තමයි.

ඒක හින්ද අපි වැඩ තියෙන තැනින් පටන් අරගෙන, මේ වැඩේට මුල් ඔපීනියන් දෙන්නා වූ මහාත්ම ගතියෙන් ගත කළාට සියල්ලටම හේතු වන දේට අපි ළං වෙන්න ඕනැ. නමුත් දුක්ඛ සත්‍යය විස්තර කරනකොට මෙතනදි නම් ඉස්සෙල්ලම පෙන්නන්නෙ නම් හේතුවමයි. ජාති ධර්මයමයි. අනිත් හැම තැනකදීම ශාසනේ බැලුවොත් ඉදිරිපත් කිරීමේදි ඵලය පෙන්නලා, ඵලයට හේතුව පස්සෙ පෙන්වනවා. මෙතනදි නම් හේතුව පෙන්නලා ඊළඟට ජරා ධර්මය ඉදිරිපත් කරනවා. අද අපේ මාතෘකාව වුණේ ජරා ධර්මය. ආන්න ඒකට යනකොට හොඳට මතක තියාගන්න ජරාව අත්‍යවශ්‍යමයි දුක අවබෝධ කරන්න. ඒකට අපිට විශේෂයෙන් ගෙවන්න දෙයක් නෑ. අපි කරපු කර්ම අනන්තවත් තියෙනවා. ඒක නිසා ජරාව අනිවාර්යයෙන්ම අපිට ලැබෙනවා. ආන්න ඒ ලැබෙන දේට හොඳ යෝනිසෝමනසිකාරයක් යොදවන්න නම්, අපි මේ අන්ත දෙක දැනගන්න ඕනැ. දැනගෙන ඒ ජරාව කොච්චර ඇදහැව්වත්, කවදාවත් ඒක ජාතියට යොමු කරවිය යුතුමයි, යොමු කරනවමයි කියලා දෙයක් නෑ. ඒක අපි ඤාණයෙන්ම යොමු කරවිය යුතුයි. යොමු වෙන තාලෙට ජරාව දිහා බලන්න ඕනැ.

ජරාව පෙන්නන මේ සමීකරණයමයි ව්‍යාධි ධර්මයටත් මරණයටත් ශෝක පරිදේව දුක්ඛ දෝමනස්සවලටත්. නමුත් ජරාවටත් වඩා ශෝක පරිදේව දුක්ඛ දෝමනස්සවලට යනකොට ඉතාමත්ම උත්සන්නයි. පපුවෙ අත් දෙක ගහ ගහ හඬනවා. කෙහි රැවුළු කඩ කඩ අඬනවා. කෑගහනවා. විලාප දෙනවා. මේ සියල්ලටම හේතුව ජාතිය බව දැනගන්න නම්, මේ වගේ සාමාන්‍ය එදිනෙදා ජීවිතයෙන් බොහොම වෙන් වෙලා මේකම හැදෑරීමේ කටයුත්තකට යෙදෙන පිරිසකට ඇර අනික් ඇත්තන්ට බොහොම අමාරුයි. බැහැයි කියලා නම් කියන්න බෑ. ඒ මොකද, පටාචාරාව වගේ වෙන්න තියෙන දේවල් ඔක්කොම සිද්ධ වෙච්ච වෙලාවේ හොඳට සතිය ඉදිරිපත් උනා නම්, ඒ වුණත් ඒ උත්සන්න, අපහසුකර තත්ත්වයෙත් ඒක දැනගැනීමේ

ශක්තිය තිබිල තියෙනවා. ඒක සර්වඥයන් වහන්සේ හොඳට දන්න නිසා හරියට ආශය අනුශය ඤාණයෙන් ඒ දිහා බලලා ඒ පුද්ගලයාට උපදෙස් දෙනවා.

නමුත් අපේ මේ ක්‍රමානුකුල වැඩ පිළිවෙළක් කරන ඇත්තෝ මතක තියාගන්න ඕනෑ, ජරාව ශ්‍රද්ධාව ඇති කිරීමට ඉතාමත්ම ආසන්න වෙන දුක්ඛ කාරණාවක්. ශ්‍රද්ධාව නිසා තමයි අපිට නිවන ලැබෙන්නේ. නමුත් **න බො පනෙතං ඉච්ඡාය පත්තබ්බං** මේක කවදක්වත් ප්‍රාර්ථනා කළ පමණින් ලබන්න බෑ. ඒ සඳහා අනිවාර්යයෙන්ම මූලික දැනුමක් ඕනෑ. මේ කරන්න හදන වැඩේ අපි මේ අල්ලන තැන නෙමෙයි අපි හොයන්නේ. එතනින් අල්ලගෙන අපි, හරියට මුල දක්වාම අරගෙන යන්න ඕනැ. ඒ නිසා මේ කරන වැඩේ පිළිබඳ මූලික දැනුමක් අඩු ගානේ දන්න ගුරුවරයෙක්ගෙ ඇසුරක්, ඒ මාර්ගයෙන් දිගට වැඩීමක් අත්‍යවශ්‍යයි. ඒක නිසා තමයි ප්‍රත්‍යක්ෂ ඤාණයට කලින් සුතමය ඤාණය සහ අන්වය ඤාණ, එහෙම නැත්නම් චින්තාමය ඤාණ වැදගත් වෙලා තියෙන්නේ. එදත් මම මතක් කළා වගේ බුදුරජාණන් වහන්සේ පහළ වෙන්න කලින් පවා බ්‍රාහ්මණ ධර්මවල මේක කියලා තියෙනවා.

**න විනා ප්‍රමාණෙන ප්‍රමෙයං උපලභෙය්‍ය.** අපිට ලබාගත යුතු දෙය ලබාගන්න ඒ පිළිබඳව නය නැතුව නම් කවදවත් වෙන්නේ නැහැ. ඒ නිසා බණ ඇහීම, සාකච්ඡා කිරීම හෙම අනවශ්‍ය දෙයක්, ඕනැ නෑ කියලා කියන්න බෑ. කවදා හෝ මේ තමන් කරන්න හදන වැඩේ පිළිබඳව මූලික ප්‍රමාණයේ දැනුමක් නැත්නම් ඒ ලැබෙන අත්දැකීම කවදවත් නිසි මග යොදවන්න බෑ. ඒ නිසා සර්වඥයන් වහන්සේ නමක් අවශ්‍යමයි. සම්මා දිට්ඨියක් ඇති කරගන්න නම්, **සත්ථා පරියෙසිතබ්බා** ශාස්තෘන් වහන්සේ නමක් සෙවිය යුතුමයි. ශාස්තෘන් වහන්සේ කරන්නේ ප්‍රත්‍යක්ෂය තමන්ට ඉඩ දීලා න්‍යාය මාර්ගයෙන් පෙන්නනවා මේක සෘජු මාර්ගයක්. ඒ සෘජු මාර්ගයේ යන්නේ මෙන්න මේ මේ සන්ධිවලින් හරවගෙනයි, එහෙම ගියොත් නම් හරියට යන්න පුළුවන් කියලා

ඒ නිසා ජාති ධර්මය ව්‍යාධි ධර්මය මරණ ධර්මය ගැන සාකච්ඡා කරනකොට ජාති ධර්මයේ ආලෝකය අනිවාර්යයෙන්ම ලබාගන්න ඕනැ. ලබා නොගත්තොත් කවදකවත් අපේ උත්තරයෙ අවසානය නෑ. හැම වෙලාවෙම බාගෙට නතර වෙන තැනක්. ඒක නිසා තමයි අපි සංසාරේ මෙතෙක් කල් කොච්චර හොඳ වෙන්න පාරමිතා පුරාගන ගියත් සංසාරෙ නරකයි. ඒක නිසා සංසාරේ උත්පත්තිය ලබන තාක් කල් අනිකුත් ඔක්කොම ජරා ව්‍යාධි මරණ ලැබෙනවා. ඒ නිසා මේ භවයෙ කල්පනා කරගන්න ඕනෑ අපි මේ ලොකු ආයෝජනයක් කරන්නේ. ඒ ආයෝජනයේදී අපි පුළුවන් තරම් ධර්මය හදරනවා. ධර්මය සාකච්ඡා කරනවා. ඒ අතරමැදට විපස්සනානුකූලවම, මෙයින් තොරව කවදවත්ම මේ කොටස් අවබෝධ කරගන්න අමාරුයි. ඒ සඳහා ඒක දිගඇරෙන තාලෙට යනව මිස අපෙ සාමාන්‍ය තර්ක ඥාණ ඉදිරිපත් කරගෙන බෑ.

හැම වෙලාවෙම ගුරුවරයෙක් හෝ හැම වෙලාවෙම ඒවට ලියවිච්ච පොත්පත්වල හෝ දැනුම අවශ්‍යයි. හුඟක් වෙලාවට මම එදත් මතක් කළ විදිහට මේ කොටස් පිළිබඳව ධර්ම දේශනා හෝ ධර්ම සාකච්ඡා වෙන්නෙමත් නෑ. වෙලත් නෑ. ඉතාමත්ම ගැඹුරු දේශනාවක් මේ සූත්‍රය. අපි අපේ ශක්ති ප්‍රමාණයෙන් ඒක විග්‍රහ කරගෙන යනවා යෝගාවචරයින්ගේ නිර්වාණ ප්‍රතිපදවට පිහිටක් වශයෙන්.

මේ ධර්ම කොට්ඨාශයත් නිර්වාණ ප්‍රතිපදව සඳහාම හේතු වේවා වාසනා වේවා කියන ප්‍රාර්ථනාවෙන් අදට නියමිත ධර්ම දේශනාව මෙතනින් සමාප්ත කරන්න බලාපොරොත්තු වෙනවා.

සියලුදෙනාටම සැනසීම උදා වේවා!

# 72 | පඤ්ච උපාදනස්කන්ධ දුක

**නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස**

**කතමෙ ච, භික්ඛවෙ, සඞ්ඛිත්තෙන පඤ්චුපාදනක්ඛන්ධා දුක්ඛා? සෙය්‍යථීදං - රූපූපාදනක්ඛන්ධො වෙදනූපාදනක්ඛන්ධො සඤ්ඤූපාදනක්ඛන්ධො සඞ්ඛාරූපාදනක්ඛන්ධො විඤ්ඤාණූපාදනක්ඛන්ධො. ඉමෙ වුච්චන්ති, භික්ඛවෙ සඞ්ඛිත්තෙන පඤ්චුපාදනක්ඛන්ධා දුක්ඛා. ඉදං වුච්චති භික්ඛවෙ දුක්ඛං අරියසච්චංතී'ති.**

ගෞරවනීය ස්වාමීන් වහන්ස, ශ්‍රද්ධා බුද්ධි සම්පන්න පින්වත්නි, සර්වඥයන් වහන්සේ විසින් මේ දුකක් හටගන්න හැටි, ඒකට පංච උපාදනස්කන්ධය සම්බන්ධ වෙන හැටි, ඒකට ස්කන්ධ පහ උපාදන වෙන හැටි සම්බන්ධව විස්තර කරන්නයි අවස්ථාවක් ලබාගෙන තියෙන්නෙ.

අපි ඉස්සෙල්ලා බලමු මොනවද මේ ස්කන්ධ පහ, ගොඩවල් පහ කියලා සරලව; ඊට පස්සේ ඒවා කොහොමද උපාදනස්කන්ධ බවට වෙනස් වෙන්නේ, නැත්නම් දුක පිණිස හේතු වෙන්නේ කියලා. ඒ නිසා අපි තේරුම් අරගන්න ඕනැ, මේක සාමාන්‍යයෙන් අපේ පාවිච්චි වෙන වචනවල හැටියට රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියලා ස්කන්ධ පහෙන් එක එකක් අනුව රූප උපාදනස්කන්ධ, වේදනා උපාදනස්කන්ධ, සංඥා උපාදනස්කන්ධ, සංඛාර උපාදනස්කන්ධ, විඤ්ඤාණ උපාදනස්කන්ධ වශයෙන් විස්තර වෙනවා. ඒක ලෞකික ප්‍රඥාවකින්, ඒ කියන්නේ රූපය කියන එක අපි

දන්න භෞතික විද්‍යාව පැත්තෙන් බලලා, වේදනා කියන පැත්ත සෞඛ්‍ය විද්‍යාවෙන් බලලා, සංඥා කියන පැත්ත සන්නිවේදන පැත්තෙන් බලලා එහෙම ඒක කෙළවරක් කරගන්න බෑ. තේරුම් කරගන්න අමාරුයි.

ඊට වෙනස් අර්ථයක් නිසයි මේක අපිට දුක්ඛ සත්‍යයත් එක්ක සම්බන්ධ කරන්න පුළුවන් වෙන්නේ. මහ බෝසතාණන් වහන්සේ පවා මේක සම්බන්ධව අනුමාන ඥනයෙන් හිතලා බොහෝ කාලයක් මේක හදාරමින් ගත කළා. ඒ ගත කරන කාලයේ මහ බෝසතාණන් වහන්සේගේ තිබුණ විශිෂ්ට ඥනය තමයි "ඒක මම තාම අවබෝධ කරගත්තේ නෑ" කියලා තේරුම්ගත්තා. ඉතින් එහෙම තේරුම් අරගෙන අවබෝධ වෙන තාක් කල් බුදුරජාණන් වහන්සේ මේක ලෝකයාට බණ කියන්න, විස්තර කරන්න ගියේ නෑ. ඒක නිසා **ධම්මචක්කප්පවත්තන සූත්‍රයේ** දුක්ඛ සත්‍යය, සමුදය සත්‍යය විසඳන තැන "යම් තාක් කල් මට මේ ධර්මය හේතු ප්‍රත්‍ය සහිතව අවබෝධ නොකළාද, ඒ තාක් කල් මම කාටවක්වත් බණ කියන්න ගියෙ නෑ. දෙවියන් සහිත, මරුන් සහිත, බඹුන් සහිත, දේව ප්‍රජාව සහිත, ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත ලෝකයට මම හෙළි කරන්න ගියේ නෑ, මොකද, මට අවබෝධය ඇති කරගන්න බැරි නිසා. නමුත් මට යම් දවසක අවබෝධ වුණාද, යම් තැනක අවබෝධ වුණාද, එතැන් පටන් මම මේ ලෝකයාට බණ කියන්න යනවා" යි කියලා මේක හරි හැරවුම් ලක්ෂ්‍යයක්. සර්වඥයන් වහන්සේටත් හැරවුම් ලක්ෂ්‍යයක්; අහන අපටත් ඒක හැරවුම් ලක්ෂ්‍යයක්. ඒක කොච්චරද කියනවා නම්, ඒක දේශනා කරනකොට ඝනකඩ මහපොළොව, දසදහසක් සක්වළ කම්පනය වෙන තරමට මේ අවබෝධය අමාරුයි.

ඒ නිසා මේ පැයකින් කතා කරන්න හදන දේ විශාල පැතිරීමක් තියෙන දෙයක්. ඉතින් එක එකක් උපාදනස්කන්ධ රූප වේදනා වශයෙන් අපි නම් කළා වගේම ඒවාට බැඳෙන හැටි, ඒවා උපාදන වෙන හැටි දැනගන්න ඕනෑ. උපාදන කියන්නේ **උපෙති ආදයති** කියල, ළං වෙලා අල්ලගන්නවායි කියන එකයි අදහස් කරන්නේ. ඒක තව පැත්තකින් බුදුරජාණන් වහන්සේ විස්තර කරල තියෙනවා. රූප උපාදනස්කන්ධය පවා, නැත්නම් උපාදනස්කන්ධ

පහෙන් එක එකක් ක්‍රම හතරකට අහු වෙනවා. ඒ කියන්නේ ක්‍රම හතරකට අල්ලනවා කියන එක නේ. කාම උපාදන කියන්නේ ආසාවෙන් අල්ලනවා. දිට්ඨි උපාදන - දෘෂ්ටියක් වශයෙන් ගන්නවා. සීලබ්බත උපාදන "මේක නැති කරන්න මේ මේ දේවල් කළ යුතුයි" කියලා ගොඩාක් දේවල්, ඒ කියන්නේ ව්‍රත, පූජා ක්‍රම වගේ දේවල් කරනවා, කළ යුත්ත පැත්තකින් තබා. ඊගාවට අත්තවාද උපාදන "මම කෙරුවා, මට හරි ගියා" කියලා හෝ "මම කෙරුවා, මට හරි ගියෙ නෑ" කියලා හෝ ඒ කරන දේවල් මමයාත් එක්ක සම්බන්ධ කරනවා. මෙහෙම ක්‍රම හතරකට එක එක ස්කන්ධයක්. එතකොට විස්සක් මාතෘකා හැදෙනවා.

ඒ අනුව රූප උපාදනය කියනකොට බුදුරජාණන් වහන්සේ උපමාවට, ප්‍රකට උපමාවකට පෙන්නන්නේ ස්ත්‍රියාවකට පුරුෂ රූපය සහ පුරුෂයාට ස්ත්‍රී රූපය කියල. ඒක කොහොමටත් මන බඳිනසුලුයි. ඒක ලෝකයේ පැවැත්ම සඳහා තියෙන එකක්. සාමාන්‍යයෙන් ඒක වැරැද්දක් විදිහට අපි දකින්නෙත් නෑ. එතකොට මේ අනුව රාගය, ප්‍රේමය, කාමය පහළ වෙනවා. ඒ අනුව තමයි බෝ වීම සිදු වෙන්නේ. මනුස්සයාට විතරක් නෙවෙයි, ඒක මාරයාගේ උගුලේ අහු වෙලා ඉන්න සෑම සතෙක්ම මේක දකිනවා.

නමුත් මනුෂ්‍යයාගේ තියෙන විශේෂය, නැත්නම් සර්වඥයන් වහන්සේගේ, මහා බෝසතාණන් වහන්සේගේ තියෙන සුවිශේෂත්වය තමයි, මෙච්චා ටිකක් පැහැදිලිව උපාදන කරනකොට, රූපයට උපාදන කරනකොට ඒක තේරුම්ගන්න පුළුවන්. ඊට පස්සේ දැන් ඇල්លුවෙ රූපය පිළිබඳව කාම උපාදනයද, දිට්ඨි උපාදනයද, සීලබ්බත උපාදනයද, අත්තවාද උපාදනයද කියලා ඒ දේවල් වෙන් කොට දැනගැනීමට තමයි විචක්ෂණ බුද්ධිය කියලා කියන්නේ. ඒක තියෙන්නෙ මනුස්සයට විතරයි. ඒ නිසා සර්වඥයන් වහන්සේගේ දේශනාව කැප වෙන්නෙත් මනුස්සයන්ට විතරයි.

ඒ වගේම සීලබ්බත උපාදන කියනකොට, අපි එක එක දේවල් ලබාගන්න, නැත්නම් පංච උපාදනස්කන්ධ ලබාගන්න, නැත්නම් පංච උපාදනස්කන්ධයෙන් ගැලවෙන්න නා නා විධ ව්‍රත

කරනවා. ඉතින් ඒක ලෝකෙ හැමකෙනාම පරීක්ෂා කරල බලල තියෙනවා, ඒ නා නා ව්‍රත වලින් ඇත්තටම සුද්ධියක් වෙනවද කියලා. මොකක්දෝ වෙනවා හැබැයි. ඉතින් ඒ නිසා ඒගොල්ලො ඒ ව්‍රත සමාදනය දැඩි ලෙස අල්ලගන්නවා. ඒවා අපි සාමාන්‍යයෙන් පූජාවල්, පින්කම් ආදී වශයෙන් කරලා තියෙනවා. ඒ සීල ව්‍රත අල්ලගත්ත කෙනාට නිවන නොලැබුණත් ඒ අල්ලගත්ත ව්‍රතය පණ වාගෙ රකිනවා. ඒක සමහර විට තමන්ට වද දෙන එකක්. අත්තකිලමථානුයෝගයට යන එකක්. ඒත් ඒ පුද්ගලයාට පුදුම ආසාවක් තියෙනවා. හරියට මහ බෝසතාණන් වහන්සේ හයඅවුරුද්දක් දුෂ්කර වත පිරුව වගේ, පුදුම විදියට අල්ලගෙන හිටිය නෙ, පශ්චිම භවිකයා වෙලත්. දැන් වුණත් ඒව කොයි ආගමෙත් වගේ කෙරෙනවා. තව සමහරු හිතනවා ඒ දේවල් කයට සැප දීමෙන් ලබන්න පුළුවන් කියලා. අන්න ඒ අන්තවලට වැටීම තමයි **සීල ව්‍රත** කියලා කියන්නේ. ඒක සිංහලට කැඩෙනකොට විශේෂයෙන්ම පාලියෙන් **සීලබ්බත** නමින් නම් කරලා තියෙනවා.

ඊට පස්සේ අත්තවාද උපාදන. අත්තවාද උපාදන කිච්චහම උපාදන රූපය කියන්නේ “මම ය, මට ය, ආත්මය, මගේ ආත්මය”, නැත්නම් වේදනා කියන්නේ මම ය ආදී වශයෙන් ඒකත් කරනවා. ඊට පස්සේ තපස් රකින්නේ මමයි, භාවනා කරන්නේ මමයි, සීල ව්‍රත රකින්නේ මමයි, මට හරි ගියා, මට වැරදුණා කියලා ඒ ක්‍රියාවලිය හරිම ආත්ම දෘෂ්ටියෙන් ගන්නවා. ඒක අත්තවාද කිච්චත් ආත්ම දෘෂ්ටිය කියලා ගත්තත් හුගක් වෙලාවට ඔය දෙකම සමාන වචන. එතකොට මේවා තණ්හා මාන දිට්ඨි වශයෙන් ගන්නකොට දෙකම වැටෙන්නේ දිට්ඨි ගණයට.

ඉතින් ඒ නිසා ආධුනික යෝගාවචරයා හැම වෙලාවෙම ඒ භාෂාවෙන් තමයි කතා කරන්නේ. මේක කරන්නෙ මම, හරි ගියෙ මට, වැරදුණේ මට කියලා තමයි කතා කරන්නේ. පහු වෙනකොට තමයි, කමටහන් සුද්ද වෙන්න සුද්ද වෙන්න තමයි ඒ කෙනාට ඒක පිළිබඳව අවබෝධයක් එන්නේ. ඒ නිසා මුලින් මුලින් අත්තවාද උපාදනවලට අහු වෙනවා. එහෙම නැත්නම් දිට්ඨි උපාදනවලට අහු වෙනවා. ඒක අනිත් පැත්තට කියනවා නම් භාවනා කරනකොට අලුත් අලුත්

දිට්ඨිවලින් පරණ පරණ දිට්ඨි ප්‍රතිෂ්ඨාපනය වීමකුත් වෙනවා. ඒක ටිකක් සංකීර්ණයි. ඒක ගුරුවරු දැනගෙන හිටපුවාම හරි. ඒක නිසා ඒ දිට්ඨිවල එකින් එක ප්‍රතිෂ්ඨාපනය කිරීම - ආත්ම වශයෙනුත් ඕළාරික අත්තපටිලාභය, ඊගාවට අරූපී අත්තපටිලාභය, සඤ්ඤාමය අත්තපටිලාභය කියලා අත්තපටිලාභත් එකින් එකට ප්‍රතිෂ්ඨාපනය වෙනවා. ඒක විස්තර කරපු එකම ශාස්තෘන් වහන්සේ සර්වඥයන් වහන්සේ තමයි.

ඉතින් මේ විදියට බලනකොට අපි ඇහැට දකින රූපවලට රූපරූප කියනවා. කනට ඇහෙන රූපවලට ශබ්දරූප කියනව. ගඳරූප, රසරූප, පොට්ඨබ්බරූප කියලා ඒ රූප බැඳෙන ආකාර 4 ක් තියෙනවා. අර කියපු විදියට කාමයෙන් බැඳෙනවා. දෘෂ්ටිවලට බැඳෙනවා. සීල ව්‍රත වශයෙන් බැඳෙනවා. අත්තවාද වශයෙන් බැඳෙනවා. ඔක්කෝම හැම කෙනාටම වෙයි කියලා හිතන්නත් නරකයි. සමහර අයට සමහර පැතිවලින් තමයි බැඳෙන්නේ. ඒ අනුව තමයි චරිත ලක්ෂණ හැදෙන්නේ. ඒ විදියට තමන් අහු වෙලා තියෙන්නෙ මෙන්න මේකටයි කියලා දන්නවා නම් ඒක ලොකු ලාභයක්. ඒකටයි මේ බණ කියන්නෙ. ගොඩාක් තියෙනවා. මට කරන්න බෑ. මට මෙහෙමයි මෙහෙමයි කියල බය වෙලා පැත්තකට වෙන්න නෙවෙයි. දැන් මට වෙන්නේ මේකයි කියල - අපි ඒකට කාම උපාදන කියමුකො - රූපය පිළිබඳව, අපි ශබ්ද අහන්න ආසයි, අසවල් සින්දු අහන්න ආසයි, එහෙම නැත්නම් අසවල් සංගීතයට ආසයි. ඉතින් ඕක අහගෙන ඉන්න ගමන් ඒක පිළිබඳව පශ්චාත්තාප වෙනවා වෙනුවට, මට දැන් තියෙන්නෙ මේ ශබ්ද රූප පිළිබඳව ආසාවක් කියලා දැනගන්න එකෙන් තමයි වැඩේ පටන් අරගන්නේ. ඒකට තමයි මේ බණ, ධර්ම සාකච්ඡා කෙරෙන්නේ.

ඊගාවට අපි යම් යම් වේදනාවලට ආසා කරනව නෙ. සැප වේදනාවට කැමතියි, දුක් වේදනාවට කැමති නෑ. ආන්න ඒ විදියට වේදනා විෂයෙහිත් තියෙනවා. මේ විදිහට මනාප අමනාප වෙච්චහම ඒවත් එක්ක කාම වශයෙන් බැඳෙනවා, දෘෂ්ටි වශයෙන් බැඳෙනවා, සීල ව්‍රත වශයෙන් බැඳෙනවා, අත්තවාද උපාදන වශයෙන් බැඳෙනවා. සමහර ඇත්තෝ ඒකම විශේෂණය කරනවා කොහොමද

මේ එක එක එක්කෙනා, එක එක උපාදාන වේදනා විෂයෙන් ඇති කරගන්නේ කියලා. ඒ කියන්නේ වේදනා කියන ස්කන්ධය උපාදාන හතරකට බෙදිලා වැඩ කරනවා.

ඊළඟට සංඥාව. අපි නම් වශයෙන් කියනවා නම්, සංඥා කියන්නේ හඳුනාගැනීම් හා හඳුනාගැනීම් සඳහා ලකුණු තැබීම්. සංඥා ගත්තත්, හම්බ වෙන හැම දේටම අපි ලකුණු තියන්න යන්නෙ නෑ. හැම තිබ්බ ලකුණක්ම අපිට මතකත් නෑ. අපිට යමක්, ලකුණක් තියලා ලකුණ මතක් වෙනවා නම්, ඒකට කාමයකින් බැඳිලා තියෙනවා. එහෙම නැත්නම් ඒකට මොකක් හරි දෘෂ්ටියකින් බැඳිලා තියෙනවා. එහෙම නැත්නම් අපි සීල ව්‍රතයකින් බැඳිලා තියෙනවා. නැත්නම් අත්තවාද උපාදානයෙන් බැඳිලා තියෙනවා. ඒවා ටික තමයි අපි අල්ලගන්නේ. ඒ හම්බ වෙන දේ, හුග දේකට අපි නම් දනවා. හැම දේම දැක්කට අනිත් දවසෙ මතක් වෙන්නෙ නෑ. ආන්න ඒ විදියට සංඥා සම්බන්ධයෙන් අපිට තියෙනවා ඒවත් එක්ක බැඳෙන ආකාර. ඉතින් මේවා සම්බන්ධයෙන් සමස්ත ලෝකය දිහා බලලා තමයි සර්වඥයන් වහන්සේ මේ දේශනා කරන්නේ, තමන් දැනගන්න ඕනැ තමන් මොකේටද බැඳිලා තියෙන්නේ. අන්න ඒකට තමයි අපි මේ යොමුවක් ලබලා දෙන්න හදන්නේ. එතකොට අපි යමක් ඇල්ලුවා නම්, අල්ලපු දේට අපි අහු වෙනවා.

ඒ වගේම සංස්කාර. අපි කරන දේවල් තියෙනවා නෙ, මේ ජීවිතයේ අපි කරන නිර්මාණ, අපේ ඉදිරි ගමනට අපි හදන දේවල්. අපි ඒවට බැඳෙනවා. කුඹලා තමන්ගේ මැටි වැඩවලට බැඳෙනවා. වඩු බාසුන්නැහේ තමන්ගේ වඩු වැඩවලට බැඳෙනවා. රෙදි මසන්නා මහන ඇඳුම්වලට බැඳෙනවා. මේ වාගේ එක එක දේවල්වලට, අපි කරන සංස්කාරවලට, සකස් කිරීම්වලට බැඳෙනවා. එහෙම බැඳෙන්නෙ නැතුව ඒකෙන් කෙලෙස් නූපදවා ඒ දේ කරනවා නම්, අපි කියනවා ඒ පුද්ගලයා **සේඛ** පුද්ගලයෙක් කියල, එහෙම නැත්නම් හික්මෙන්නෙක් කියල. නමුත් හුගාක්දෙනා එහෙම හික්මීමකට නෙවෙයි මේක දකින්නේ, එහෙම නව නිර්මාණ කරන එක හොඳ දෙයක් කියල. මගේ නිර්මාණය කියලා බැඳෙනවා. එතකොට දන්නෙ නෑ කොයි කොයි ආකාරයකට අපි බැඳෙනවාද කියලා.

ඒක නිසා මේක තමාම කරන දේට තමන්ම බැඳීමට බුදුරජාණන් වහන්සේ **මක්කටාලෙප** කියලා සඳහන් කරලා තියෙනවා. වඳුරo අල්ලන මිනිස්සු, කෙත්වල ඉපල් කෝටු හිටවනවා, තදබල ලාටුවක් ගාලා. අර කෙතේ දුවනකොට වඳුරාට යන්න තැනක් නැති වෙච්චහම අර ගහට නැගපුවාම අතයි පයයි වලිගේයි හැම තැනම ලාටුවල බැඳෙනවා, තද ලාටුවෙ. ඊට පස්සේ අරූට බැහැගෙන යන්න බැරි වෙනකොට වැද්දෝ දඩයක්කාරයෝ වඳුරන් අල්ලගන්නවා. එහෙම නැත්නම් මෑතකදී හුඟාක් ප්‍රසිද්ධ වෙච්ච එකක් තමයි කට්ට ටිකක් හයි වෙච්ච කුරුම්බා කෝම්බයකට අත දන්න පුළුවන් ප්‍රමාණයේ හිලක් හදල තිබ්බොතින් රිළවා ඒකට බොහොම අමාරුවෙන් අත දනවා. නමුත් ඒකේ තියෙන දේවල් මිටමොළවලා ගන්න යනකොට ගන්න බැරි වෙනවා. ඉතින් එතකොටත් අහු වෙනවා. එතකොට එයාට යන්න බෑ, අතාරින්නත් බෑ. දන්නවා දැන් මේ වදයට පත් වෙනවායි කියලා. නමුත් අත ඇරගන්න බෑ. ඒ මොකද? අර අහු වෙච්ච දේ අත අරින්න බැරිකම නිසා. ඒ නිසා අපි ජීවිතේ පුරාවටම ඔය මක්කට ආලේපයට හෝ කුරුම්බා කෝම්බයට හරි අහු වෙලා තමයි ගත කරන්නේ.

ඒක දැකගන්න ඇතුළෙනුත් පුළුවන්. පිට ආයතනයෙනුත් පුළුවන්. ඒ නිසා කල්‍යාණ මිත්‍ර ආශ්‍රය තියෙනවා නම් තේරුම් අරගන්න පුළුවන්. සමහරු අපට කියලා දෙනවා, දැන් උඹ අහු වෙලා තියෙන්නෙ මේකට කියලා. සාමාන්‍ය ජීවිතයේ ඇබ්බැහි කියලා තමයි කියන්නේ. අසවල් දේට කියලා ඇබ්බැහි වුණොත්, ඒ මනුස්සයා ඒක නරකයි කියලා දැනගත්තත් නතර කරන්න බෑ. වෙන කෙනෙක් කිව්වත් කේන්ති යනවා. සමහර වෙලාවට යාළුවෝ මිත්‍රයෝ ඇවිල්ලා එයාට වෙන විකල්ප දලා තමයි ඕක පුනරුත්ථාපනයක් කරන්න පුළුවන් වෙන්නේ. ඒ තරම්ම අපේ හිත මක්කට ආලේපයට අහු වෙච්ච, වඳුරු ලාටුවට අහු වෙච්ච වඳුරෙක් වගේ, ඒකම අතගගා ඉන්නවා. ඒ නිසා ඒ දෙයින් ගැලවීමට නම්, මේ අහු වෙන මාරයාගෙ උගුල තේරුම් අරගෙන, ඒකට අහු වෙන්නේ උපාදන වෙන්නේ අයෝනිසෝ මනසිකාරයෙන්, නුනුවණින් සලකා බැලීමෙන් කියලා දැනගෙන, ඒක නුවණින් සලකා බැලීම කියන යෝනිසෝමනසිකාරයට

හැරෙන්න ඕනෑ. ඒක කෙරෙන ක්‍රම ගොඩක් තියෙනවා. මේ වගේ බණ අහලත් පුළුවන්. එහෙම නැත්නම් තමන් වශයෙන්, චින්තාමය වශයෙන්, අනුමාන වශයෙන්, වෙච්ච සංගති බලලා ලෝකෙ තියෙන දේවල් අහලා බේරෙන්නත් පුළුවන්.

ගැලවුමක් හරියට වෙන්න නම් සතිය දිගේ, භාවනාව දිගේ ගොඩාක් ඉදිරියට යන්න ඕනෑ. සාමාන්‍යයෙන් උපාදනවලින් ගැලවෙන මට්ටමට යනවයි කියන්නෙ භාවනාවේ ගොඩක් ඉදිරි අවස්ථාවක්. නැත්නම් අහන වෙලාවෙදි, එහෙම නැත්නම් නුවණින් කල්පනා කරලා චින්තාමය වශයෙන් ගන්න වෙලාවෙදි සමහරු දක්ෂව කරනවා, කියනකොටම අල්ලගන්නවා. සමහරෙකුට හිතෙනවා "බෑ මේක කරන්න බෑ" යි කියලා අතහරිනවා. ඉතින් ඒ නිසා මෙතැනදී ඒ යෝනිසෝමනසිකාරය අවශ්‍යයි. අපි යමක් දකිනවාත් එක්කම ඒ දකින දේ ඒ තරම්ම රස කර කර, ඒ තරම්ම මතක් කර කර, ඒ තරම්ම හිතේ තියාගෙන අඟපසඟ බලබලා යන්නේ මෙතන ඇති වෙලා තියෙන ආසාව නිසයි කියන එක අපිට භාවනා ජීවිතයේදී හුඟාක්ම තේරෙන්නේ අපි එළියෙ සක්මන් කරන වෙලාවකදි. හිතන්නකො, අපි හිතාගන්නවා "මේ මහ පොළොව දිහා බලාගෙන බඹයක් විතර ඉස්සරහින් බලාගෙන ඇවිදිනවා" යි කියලා. සක්මන් මළුව අමදල, දෙයියන් සිහිපත් කරලා, බුදුන් සිහිපත් කරගෙන කාය ජීවිතය නිරපේක්ෂකව ඇවිදිනකොට ඔන්න රූපයක් පේනවා. එතකොට අපේ හිත දන්නවා මේ සක්මනේ ඉන්න පුළුවන් නම් හොඳයි කියලා, ඒක උපාදනය වෙන්නේ නැහැයි කියලා. නමුත් ඒ වෙනුවට සක්මන පසෙක තබා, එන රූපය දිහා ව්‍යඤ්ජන අනුව්‍යඤ්ජන, අංග ප්‍රත්‍යංග බලබලා යනකොට ඔන්න අපිට තේරෙනවා අර උපාදනය විසින්, අපේ ඇබ්බැහිය විසින් අපේ නැහැදිච්ච මනස, අභාවිත මනස අර කෙලෙස්වලට ගෙනියන හැටි.

බුදුරජාණන් වහන්සේ ඒවා බොහොම ලස්සනට සිද්ධි පෙන්නලා තියෙනවා අපි යමක් ඒ විදියට පින් අතේ වැඩක් කරගෙන උදාසීන අරමුණක් දිහා බලබලා ඉන්නකොට හිත ඇදගෙන යන හැටි, මේ උපාදන හරහා. බලනකොට අපිට ඒක අහු වෙන්නේ, ඥානවන්තයාට අහු වෙන්නේ ඒ කෙනා ඒකෙ ව්‍යංජන අනුව්‍යඤ්ජන

අංග ප්‍රත්‍යංග සියල්ල සහිතව බලනවා නම් පැහැදිලිවම එක්කෝ කාම උපාදන, නැත්නම් දිට්ඨි නැත්නම් සීලබ්බත උපාදන, නැත්නම් අත්තවාද උපාදනයට අහු වෙලා. ඉතින් එයාට ඒක අමතක කරන්නත් බෑ. හැබැයි එතකොට දන්නේ නෑ, මේවාට රස විඳින්න ගිහිල්ලා අපේ අර සරල ඇවිදීම, පොළොවෙ පය වදින එක අමතක වෙනවා කියල. ඒ නිසා එතැනදී ඒ පොළවේ පය වදින එකත් බලබලා යන්නත් ඕනෑ, හිත අර විදියට පිට යන්නත් ඕනෑ, පිට යන වෙලාවෙදි මේක හැරවුම් ලක්ෂයක් කරගන්න, උපාදනය පිළිබඳව අවබෝධ කරගන්න තැනක් කරගන්න, ඒ විදියට අපේ ථෙරවාද සාසනයේ ගොඩාක් නිදර්ශන දීලා තියෙනවා. ඒ නිදර්ශන එක් එක්කෙනාට එක එක තැන්වලදී සප්පාය වෙනවා, සූචක වෙනවා.

ඉතින් මේකෙදී හුඟාක් වෙලාවට මම කියන එකක් තමයි බුදුරජාණන් වහන්සේත් එක්ක මාලුඞ්ක්‍යපුත්ත ස්වාමීන් වහන්සේ ඇති වෙච්ච කථා සල්ලාපය. ඒක **මාලුඞ්ක්‍යපුත්ත සූත්‍රය** කියලා සඳහන් වෙලා තියෙන්නේ සංයුත්ත නිකායේ. ඒ ස්වාමීන් වහන්සේ වයසට ගිහිල්ලා පැවිදි වෙච්ච කෙනෙක්. බුදුරජාණන් වහන්සේ ළඟට ගිහිල්ලා වන්දනා කරලා කියනවා "අනේ! ස්වාමීන් වහන්ස, මම වයසයි. මට පොත්පත් කියවලා මහණකම් කර කර ඉන්න වෙලාවක් නෑ. මට විපස්සනා කරන්න පැත්තකට වෙන්න ආසයි. **එකො වූපකට්ඨො අප්පමත්තො ආතාපී පහිතත්තො විහරෙය්‍යං** මම පැත්තකට ගිහිල්ලා, අරඹන ලද වැර ඇතුව භාවනා කරගෙන ඉන්න කැමතියි. මට කමටහනක් දෙන්න" කියලා. එතකොට බුදුරජාණන් වහන්සේ "අනේ හොඳයි, එන්න කමටහනක් දෙන්න" කියනවා වෙනුවට කියනවා "මෙච්චර මේ බණ කියලා තියෙද්දී මේ එක එක්කෙනා එනවා කමටහන් ඉල්ලාගන්න. ඔය නාකි මිනිස්සුත් ඔහොම ඉල්ලනවා නම්, ඉලන්දාරි තරුණ කට්ටිය කොච්චර කමටහන් ඉල්ලයිද?" කියලා නිකං මන්දෝත්සාහී කිරීමක් වගේ කරනවා. ඒ කියන්නේ පොඩි ඉතිහාසයක් හදගන්නවා මාලුඞ්ක්‍යපුත්ත ස්වාමීන් වහන්සේත් එක්ක. ඒ කරල ප්‍රශ්නයක් අහනවා, මාලුඞ්ක්‍යපුත්ත ස්වාමීන් වහන්සේගෙන් "නුඹ මොකද හිතන්නේ මාලුඞ්ක්‍යපුත්ත, **චක්ඛුවිඤ්ඤෙය්‍යා රූපා අදිට්ඨා අදිට්ඨපුබ්බා, න ච පස්සසි, න ච තෙ**

**හොති. පසෙසයාන්ති, අත්‍ථි තෙ තත්‍ථ ඡන්‍දො වා රාගො වා පෙමං වාති.**

හිතන්න ඇහැට පේන - **චක්‍ඛුවිඤ්ඤෙය්‍යා.** රූපයක්, ඇහැට ගැළපෙන රූපයක්. සද්දරූප නෙවෙයි ඒ කියන්නෙ, රූපරූප. රූපරූපයක් තියෙනවා, **අදිට්ඨා අදිට්ඨපුබ්බා** මම දකලත් නෑ. ඉස්සර දකලත් නෑ. දැන් බලන්නෙත් නෑ. මත්තට පේන්නෙත් නෑ. දැනට පෙනෙමිනුත් නෑ. මත්තට පෙනෙන්නෙත් නෑ. මෙන්න මේ වාගේ රූපයක් නිසා කවදාකවත් අපිට ඡන්දයක් හරි, රාගයක් හරි, ප්‍රේමයක් වත් ඇති වෙන්න පුළුවන්ද?" කියලා. ඉතින් ඒක විස්තර කරන **මහා සී සයාඩෝ** ස්වාමීන් වහන්සේ පෙන්වනවා, රූප බලන එකත් තියෙනවා. රූප පෙනෙන එකත් තියෙනවා. ඔයිට ඉස්සෙල්ලා දකලත් නෑ. ඉස්සරහට බලන්නෙත් නෑ. පේන්නෙත් නෑ. ලෝකෙ එහෙම රූප ගොඩක් තියෙනව නේ අපිට මුලිච්චි නොවෙන දේවල්. අන්න එව්වා පිළිබඳව ඡන්දයක්වත් රාගයක්වත් ප්‍රේමයක්වත් නෑ.

ඊට පස්සේ බුදුරජාණන් වහන්සේ අහනවා **සොතවිඤ්ඤෙය්‍යා සද්‍දා** කියල. කනට ඇහෙන යම් ශබ්දයක් තියෙනවා; අහලත් නෑ, ඇහිලත් නෑ, දැන් අහන්නෙත් නෑ, මත්තට අහන්න වෙන්නෙත් නෑ. කවදාකවත් කෙලේසයක් උපදින්නෙත් නැහැ කියලා ඉතිහාසයක් හදනවා. ඒ ඒ වෙලාවේ එන එන දේ මිසක්කා, වෙන බාහිරේ තියෙන ආපු නැති දේවල්වලින් කවදාකවත් කෙලෙස් උපදින්නේ නෑ. ඒ නිසා කෙලෙස් උපදින්නෙ මේ දැන් ඇස්පනාපිට දැක දැක, දැන දැන. ඒක අල්ලගන්න පුළුවන් නම්. දැන් මේ කෙලෙස් උපදින්නෙ ඇහෙන්. මේ තියෙන්නේ ඒ රූපයට ආසාව. මේක දිට්ඨිගත වෙලා මේක ව්‍රත සමාදානයක්, මේක අත්තවාදයක් කරගත්තා වගේ කියලා අල්ලගන්න පුළුවන් නම්, ඒක ලොකු ලාභයක්.

හැබැයි එහෙම අල්ලගන්න රූපය දිහා බලනවා නම්, රූපයට ආසාවක් ඇති වෙන්නෙ නෑ. ආසාවකින් බලනවා නම් මෙහෙම කල්පනාවක් එන්නෙ නෑ. මේ වගේ මධ්‍යස්ථ කල්පනාවකට එන්න බෑ. ඉතින් ඒක නිසා බණ අහලා තියෙන්න ඕනෑ. ඒ වගේම ප්‍රයත්නයක් කරලා අපි මේක සිහිපත් කරගැනීමේ හැකියාවක්

තියෙන්න ඕනෑ. ඒ තියෙද්දිත් මේ වගේ අපිට රූපෙට ආසාවක් කාම වශයෙන්, සීලබ්බත වශයෙන්, දිට්ඨි වශයෙන්, අත්තවාද වශයෙන් ඇති වෙන්නත් ඕනෑ. අන්න ඒ වෙලාවෙදි මේක දිහා ප්‍රබුද්ධව සතිමත්ව එළඹ සිටීමේ, බැලීමේ අවස්ථාවකට තමයි දැන් මාලුඞ්ක්‍යපුත්ත ස්වාමීන් වහන්සේගේ සල්ලාපයේදී බුදුරජාණන් වහන්සේ අපේ අවධානය යොමු කරන්නේ.

මාලුඞ්ක්‍යපුත්ත ස්වාමීන් වහන්සේ එතකොට කියනවා; "ස්වාමීන් වහන්ස, එහෙම නොදැක්ක රූප කෙරෙහි, නොබලන රූප කෙරෙහි අතීත අනාගත වශයෙන් කවදකවත් කෙලෙස් උපදින්නෙ නෑ" කියල. "එහෙම නම් මාලුඞ්ක්‍යපුත්ත මේ වෙලාවේදී සිදු වෙන දේ පිළිබඳව දකින, අහන, ගඳ රස පහස විඳින දේ පිළිබඳව එළැඹ සිටි සිහියෙන් ඉන්න. එතකොට කෙලෙස් කොච්චර උපදිනවාද නැද්ද බලාගන්න පුළුවන්" කියලා, අර ප්‍රසිද්ධ උපදේශය **දිට්ඨෙ දිට්ඨමත්තං** - "දැක්ක දේ දැක්ක පමණින් නතර කරන්න. ඒක දිගේ වැල්වටාරම්, කයිකතන්දර, ව්‍යංජන අනුව්‍යංජන, අංග ප්‍රත්‍යංග බලන්න යන්න එපා" කිව්වට පස්සේ මාලුඞ්ක්‍යපුත්ත ස්වාමීන් වහන්සේ කියනවා "ස්වාමීන් වහන්සේ ඔය විස්තර කරපු ටික මට තේරුණා නම් මට මෙන්න මෙහෙමයි තේරෙන්නෙ" කියලා.

මාලුඞ්ක්‍යපුත්ත ස්වාමීන් වහන්සේ ඉතාමත් ලස්සන ගාථා බන්ධන 12 ක් කරනවා. **රූපං දිස්වා සති මුට්ඨා** - රූපයක් දැකලා සතිය එළැඹුණේ නෑ. (අපි කියන්නේ කටත් ඇරගෙන රූප බලනවායි කියලා.) ආන්න එහෙම වෙනකොට කොහොමද උපාදනය ඇති වෙන හැටි. ඊට පස්සේ **රූපං දිස්වා පතිස්සතො** - හොඳ සිහියෙන්, "දැන් ඔන්න හිත පිට ගියා" කියලා සිහිය තියෙනවා. රූපයට බැඳිලා තියෙනවා කියලා දැනගෙන බලනකොටයි ඒ බව නොදැන බලන එකයි අතර වෙනස හරිම ලස්සනට විස්තර කරනවා. ඒ නිසා උපාදන ඇති වෙන හැටි, ඒ කියන්නේ පංච උපාදනස්කන්ධය ඇති වෙන හැටි, ඒ වගේම ඒවා දුක්වලට පිහිටන හැටි පිළිබඳව, ඒක තමන්ගේම පාලනයකට නතු කරගැනීම පිළිබඳව, හොඳ ලස්සන සංසිද්ධියක් මේකෙදි අපිට දැකගන්න පුළුවන්.

මාලුඞ්ක්‍යපුත්ත ස්වාමීන් වහන්සේ ඒ ගාථා 12 බුදුහාමුදුරුවන්ට කියනවා මම තේරුම්ගත්ත හැටි මෙහෙමයි කියලා, එතනදි කමටහන් සුද්දකිරීමක් කෙරෙන්නේ. ඒ කියන්නේ ඊට ඉස්සෙල්ලා ඒක පිළිබඳව හොඳ ඇසූ විරූ ඥාන තිබිලා තියෙනවා මාලුඞ්ක්‍යපුත්ත ස්වාමීන් වහන්සේට. ඒ නිසා බුදුරජාණන් වහන්සේ පස්සේ ඒක ශ්‍රී මුඛ දේශනාවක් බවට පත් කරනවා. **රූපං දිස්වා සති මුට්ඨා පියනිමිත්තං මනසි කරොතො** - සතියෙන් තොරව දැක්කා නම් රූපය දකිනකොටම ඒකට කැදරකමක් තමයි හටගන්නේ. කැදරකමක් හටගත්ත නිසා තමයි රූපය බලන්නෙ. ඉතින් ඒ දෙකෙන් කොයි එකද ඉස්සර වෙන්නේ කියන එක - කැදරකම නිසා රූපය බලනවාද, බලපු රූපය නිසා කැදරකම ඇති වුණාද කියන එක අමුතුම සංකල්පයක් සංකලනයක් තියෙන්නෙ.

ඒවා බලනකොට, පුරුෂයා ආසා කරන රූප හා කැදර හිතෙන රූප ස්ත්‍රියාවකට නැති වෙන්න පුළුවන්. ළදරුවෙකුට ඇති වෙන සම්බන්ධතා තරුණයකුට නැති වෙන්න පුළුවන්. තරුණයෙක්ගේ දේ වයසට ගිය කෙනෙක්ගෙ නැති වෙන්න පුළුවන්. සතෙකුට නැති වෙන්න පුළුවන්. ඔක්කොම සහජාසත් එක්ක අපිත් එක්ක බැඳිලා තියෙන්නේ. ඒව අපි භාවනා නොකරනවා නම් කවදාවත් අපිට ගෝචර වෙන්නෙත් නෑ, අදාළ වෙන්නෙත් නෑ.

ඒක නිසා භාවනා කරන ගමන් මේ විදියට අහන දකින රූප සම්බන්ධව ඇති වෙන මේ හික්මීම සීල ශික්ෂාවට අහු වෙන්නේ නෑ. සීල ශික්ෂාවෙදි සීලබ්බත පරාමාස කවුරුහරි දැඩි සේ ග්‍රහණය කරගෙන හිටියා නම්, එයාට මෙතෙන්ට එන්නත් බෑ. ඒත් සීලයෙන් යනකොට සීල ශික්ෂා, සමාධි ශික්ෂා, ප්‍රඥා ශික්ෂා කියලා තියෙනව නේ. ඔය සීලබ්බත පරාමාස කට්ටිය සීලයමයි අල්ලගෙන ඉන්නේ. සීල ශික්ෂාව විතරමයි. ඒක දැඩි සේ ගැනීම නිසා ඒගොල්ලන්ට සමාධියක් ගන්න බෑ. සමාධියෙන් පස්සේ දැන් අපි කතා කරන මාලුඞ්ක්‍යපුත්ත ස්වාමීන් වහන්සේ එළි කරන්න හදන ප්‍රඥා ශික්ෂාවට යන්න බෑ. ඉතින් ඒක නිසා තමන්ගෙ සීල ව්‍රතය හොඳයි කියලා ඒගොල්ලො හිතාගෙන හිටියට, ඒකම බන්ධනයක් වෙනවා බරු බැන්ද වගේ. ඉතින් ඒක නිසා මෙතන ප්‍රඥා ශික්ෂාවේදී අහු වෙන

කාම උපාදන, සීලබ්බත උපාදන, දිට්ඨි උපාදන, අත්තවාද උපාදන අර ඉස්සෙල්ලා ඉස්සෙල්ලා වෙච්ච උපාදනවලට වැඩිය සියුම්. පළමුවැනි දෙවැනි ඒවායෙදී දක්ෂ වෙච්ච එක්කෙනාට තමයි ඉදිරි ගමන ඉස්සරහට යන්න පුළුවන් වෙන්නේ. ඒ නිසා හැම වෙලාවෙම වෙනස් වෙමින් ඉදිරියට විකාශය වෙන ප්‍රතිපදවක් මේකේ තියෙන්නේ.

මේ නිසා මාලුඞ්ක්‍යපුත්ත ස්වාමීන් වහන්සේ මතු කරගන්න දේ, බුදුරජාණන් වහන්සේ දෙන උපදේශය දැනගත්ත ගමන් මතු කරගන්න දේ, අපිට කමටහන් සුද්ද කරන වෙලාවෙදි සමහරෙකුට සිද්ධ වෙනවා. ඒක දැනගන්න පුළුවන්. සමහරුන්ට වෙනවා ඇති. දන්නේ නෑ. සමහරුන්ට වෙලා දැනගෙන කියන්නත් පුළුවන්. ඒ ටික තල්ලු කරන්න ඕනැ. බණ කියලා භාවනා කරවලා, ධර්ම සාකච්ඡා කරලා, මෙන්න මේ මේ කරුණු භාවනාවේදී අත්දකින්න පුළුවන් වුණා නම් කරුණාකරලා ඒවා වාර්තා කිරීම ඉගෙනගන්න කියලා උනන්දු කරවන්න ඕනැ. ඒවා සාමාන්‍යයෙන් අපි වෙසක් පෝයට කියන බණවල කියවෙන්නෙ නෑ. මේවා කියවෙන්නේ කමටහන් බණවල තමයි. ඒ නිසා ඒ වගේ දේවල්වලදී දකින දකින දේවල්වලින් ඡන්දයක් රාගයක් ප්‍රේමයක් හටගන්න හැටි බලනවා කියන එක ටිකක් අසීරු දෙයක්. මොකද එහෙම දෙයක් සාමාන්‍යයෙන් සීලය රකින අවස්ථාවේදී අපි බලාපොරොත්තු වෙන්නේ නෑ. ඒ නිසා දකිනවද බලනවද කියන එක පවා හුඟදෙනෙකුට තේරුම් කරලා දෙන්න ගොඩක් වෙලා යනවා.

සමහරු පේන දේටයි බලන දේටයි දෙකටම සමානව සලකලා, පෙනුණත් අකුසල් සිද්ධ වෙනවා, බැලුවත් අකුසල් සිද්ධ වෙනවා කියලා පටලවාගන්නවා. අකුසල් සිද්ධ වෙන්නේ බලනවා නම් විතරයි. පෙනෙන දේවල්වලින් අකුසල් නොවෙන්නත් ඉඩ තියෙනවා. නමුත් සතිමත් නැති කෙනා මේක බලනවද මේක මට පෙනුණද කියල දන්නෙ නෑ. එහෙව් කෙනා බස් එකකට නැගලා ගමනක් යනවා කියමුකෝ. දකින දකින හැම රූපයෙන්ම පෙනුණත් බැලුවත් කෙලෙස් උපදවනවා. නමුත් යම් ශික්ෂාවක් ඇතුව ඇතුළට නැමිච්ච හිතකින් යන කෙනෙකුට නම්, බැලීම පොඩ්ඩක් නතර කරලා දකින දේ දැකිච්චාවයි කියලා බැලීමේ හික්මීමක් ඇති කරගෙන

යනකොට උපාදන පිළිබඳව යම් ප්‍රමාණයකට හික්මීමක් ඇති කරගන්න පුළුවන්. ඒකෙදි අර ගොඩක් කරගෙන ගිය වැඩවල සංකලනයකින්, සම්ප්‍රයුක්ත ශක්තියෙන් තමයි සිද්ධ වෙන්නේ. ඉතින් ඒ නිසා හුඟවෙලාවකට සීලබ්බත පරාමාස ආදිය තියෙන කට්ටිය රූප නොබලා සිටීම තමයි දන්න උපක්‍රමය. ඉතින් ඒකත් නරක නෑ. ඒකත් එක විදියක හික්මීමක් තමයි.

නමුත් සර්වඥයන් වහන්සේ ඒක ආධුනිකයෙකුට හොඳ වුණාට දුර දිග යන්න හොඳ එකක් නෙවෙයි කියන එක ඉන්ද්‍රිය භාවනා සූත්‍රයේ ලස්සනට පෙන්නලා දීලා තියෙනවා. ඒ සංසිද්ධියමත් ඒ සූත්‍රයේ නිධානයත් හරි වැදගත් ඒකට. උත්තර නමැති මානවකයා බුදුරජාණන් වහන්සේ පිළිබඳව පැහැදිලා බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා වාඩි වෙනවා, ධර්ම සාකච්ඡාවකට සම්බන්ධ වෙන්න කැමැත්තෙන්. නැත්නම් උපදෙස් ලබාගන්න වගේ. එයා වෙන ගුරුවරයෙක්ගේ ගෝලයෙක්. ඒ ගුරු ගෝලයො අතරේ එච්චර අවබෝධයක් තිබිලා නෑ. නැත්නම් එන්නේ නෑ නේ බුදුරජාණන් වහන්සේ ඉන්න තැනට. ආවට පස්සෙ බුදුරජාණන් වහන්සේ අරයව අගය කරනවා. "ආ! බොහොම හොඳයි මේ තපස් රකින කෙනෙක් නෙ. එහෙම නැත්නම් පැවිද්දෙක් නෙ යම් විදියකට. ඒක නිසා හොඳයි" කියල අහනවා, "ඔබතුමන්ලාත් ඔය විදියට මහණ දම් පුරනවා නෙවෙයි, තපස් දම් පුරන වෙලාවෙදී හික්මීමක් කරනවාද? ඒ ගැන ගුරුවරු කියලා දෙනවද?" කියලා.

එතකොට කියනවා "අපේ ගුරුන්නාන්සේත් අපිට හික්මීමක් උගන්නනවා. එයා කියනවා 'ඇහෙන් රූප බැලුවොත් ඒකාන්තයෙන්ම කෙලෙස් උපදිනවා' කියල. ඒ නිසා අපේ ගුරුවරයා කියන්නේ රූප බලන්න එපා කියල. **චක්ඛුනා රූපං න පස්සති, සොතෙන සද්දං න සුණාති.** ඉතින් මේ විදියට කරලා, අපි පුළුවන් තරම් එන එක නතර නතර කරගෙන ඉන්නවා" යි කියලා එයා දන්නා ප්‍රමාණයට විස්තර කරනවා. එතකොට බුදුරජාණන් වහන්සේ ආනන්ද ස්වාමීන් වහන්සේට කතා කරලා කියනවා, "එහෙම නම් ආනන්ද, ජාති වශයෙන් ජාත්‍යන්ධ පුද්ගලයන්ට කෙලෙස් උපදින්නෙම නෑ නෙ. එයා බලන්නෙම නෑ නෙ, එයාට පේන්නෙම නෑ නෙ. ජාති බධිරයෝ, ඒ

කියන්නේ උත්පත්තියෙන්ම කන් ඇහෙන්නෙ නැති අයට කෙලෙස් වෙන්නේ නෑ නේද?" කියලා. ඉතින් එතකොට ඒ උත්තර මානවකයාට උත්තර නැතුව යනවා. එයා ඔළුව පහත් කරගන්නවා.

එතකොට බුදුරජාණන් වහන්සේ ආනන්ද ස්වාමීන් වහන්සේට පොඩි ඉඟියක් කරනවා **අඤ්ඤථා ච පනානන්ද අරියස්ස විනයෙ අනුත්තරා ඉන්ද්‍රියභාවනා හොති.** "ආනන්ද, බුදුරජාණන් වහන්සේත් ඉන්ද්‍රිය භාවනාවක් උගන්වනවා" කියලා නතර වෙනවා. එතකොට ආනන්ද ස්වාමීන් වහන්සේ අපි වෙනුවෙන් ඉදිරිපත් වෙලා, සිවුර ඒකාංස කරලා සකස් කරලා වැඳලා ආයාචනා කරනවා, "අවසරයි ස්වාමීන් වහන්ස, තථාගතයන් වහන්සේගේ උගැන්වීම, එහෙම නැත්නම් අපි කියන තථාගත මතය, අපිට ඉදිරිපත් කරල දෙන්න" කියලා. එතකොට සර්වඥයන් වහන්සේ මට්ටම් තුනකින් විස්තර කරනවා. රූපයක් දකින වෙලාවේ අශෘතවත් පෘථග්ජනයා, ඒ කියන්නේ බණ අහපු නැති සාමාන්‍ය මනුස්සයා කොහොමද, බණ අහලා හික්මෙන කෙනා කොහොමද, රහතන් වහන්සේ කොහොමද කියලා මට්ටම් තුනකින් විස්තර කරනවා.

ඒකෙ සමහර ඒවා අපි අත්දැකලා තියෙනවා. රූපයක් බලනවාත් එක්කම අපිට ඒ රූපය කෙරෙහි - අපි ඉස්සෙල්ලා ගත්ත නිදර්ශනයම ගත්තොත්, සක්මන් කර කර පොළවේ පය වදින හැටි බලබලා යන්න ඕනැ කියලා හිතාගෙන ගිය කෙනා කොයි වෙලාවක හරි දැනගත්තායි කියල හිතමු, පයේ නෙවෙයි හිත තියෙන්නෙ ඇහේ කියලා. පයේ පඨවි ධාතු හැප්පෙන එක නෙවෙයි ඇහේ රූප ධාතු හැප්පෙන එක කියලා. ආන්න මේක දැනගත්ත එක, ඒවා දැනගන්න එක මෙතැනදී බුදුරජාණන් වහන්සේ හුවා දක්වනවා, එහෙම දකිනවාත් එක්කම කයේ තිබුණු කාය විඤ්ඤාණයේ ඉඳලා ඇහේ තියෙන චක්ඛු විඤ්ඤාණයට මාරු වෙන එක **සංඛතං ඔළාරිකං පටිච්චසමුප්පන්නං** කියලා පෙන්නනවා. ඒක හරි ගොරෝසුයි කියලා කියනවා. දැන් හිත පයේ නැත, ඒ වෙනුවට මෙතන රූපයක් අභිරමණය කරමින් ඉන්නෙ, හිත තියෙන්නෙ ඇහේයි කියලා, ඒක ඕළාරිකයි කියලා කියනවා. ඒක ඕළාරික වෙන්නේ හොඳට සතිය වඩපු යෝගාවචරයාට නේ. එයා දන්නවා මම හරි නම් කරන්න ඕනැ

මේ වම දකුණ වශයෙන්, විලුඹ වශයෙන්, ලේ වකය වශයෙන්, කොට්ටය වශයෙන් දකින එක, නැත්නම් ඇඟිලි වශයෙන් දකින එක. එතකොට අපි දන්නවා සතියෙන් ඉන්නවා කියලා. නමුත් ඒ වෙනුවට රූප බලනවා නම්? අන්න ඒ වෙනස - ඕළාරිකං, සංඛතං. ඒක කල් ඇතිව කියන්නත් බෑ, ඇහැට හිත පනියිද, කනට පනියිද, නාසයටද, දිවටද කියලා හරිම සංඛතයි. ඒ වෙලාවේ තමයි හැදෙන්නේ, පටිච්චසමුප්පන්නයි. හැබැයි පිරිමි කෙනෙකුට පේන රූපයි කාන්තාවකට පෙනෙන රූපයි බැලුවොත් පිරිමියාගෙ හිත අදින හැටියි කාන්තාවගෙ හිත අදින හැටියි ආදී වශයෙන් ඒවා හේතුඵල ධර්මයකුත් තියෙනවා.

ආන්න මේක අල්ලන්න පුළුවන් නම්, එහෙම නැත්නම් ඒක සිදු වෙද්දීම රූප නොබලා ඉන්න එක නෙවෙයි කරන්න තියෙන්නේ දැන් බැලිලා ඉවරයි, දැන් ඒකට ඡන්ද රාග ප්‍රේම ඇති වෙලත් ඉවරයි. ආන්න ඒක දැනගන්න පුළුවන් නම්, අන්න එතනදී ඒ පුද්ගලයා හැසිරෙන හැටි, නැත්නම් එයාගෙ ඉන්ද්‍රිය භාවනාව, එහෙම නැත්නම් කියනවා නම් ඉන්ද්‍රිය සංවරය, කවදාකවත් කිසි තැනක අපිට දකින්න හම්බ වෙන්නෙ නැති තරම් විස්තර සහිත බවක් තියෙනවා.

මම භාවනා කරන කාලේ, මුල් කාලෙත් ඔච්චර ඕව පිළිබඳව එච්චර පැහැදිලි අවබෝධයක් තිබුණෙ නැහැ. එහෙම නැත්නම් මාලුඞ්ක්‍යපුත්ත සූත්‍රය කියවලා, ඉන්ද්‍රිය භාවනා සූත්‍රය කියවද්දී මුල් මුල් අවස්ථාවල එච්චර පැහැදිලිකමක් හිතට ආවෙත් නෑ. හිත පිට යන්න දෙන්නෙ නැතුව ඉන්නව නම් හොඳයි කියන එක තමයි අපිට සාමාන්‍ය උපදේශයට කියන්නේ. නමුත් මෙතන කියන්නේ හිත පිට ගියා මේ එක ද්වාරයකින්. කාය ද්වාරයෙන් චක්ඛු ද්වාරයට මාරු වීම, තට්ටු මාරුව හරිම ගොරෝසුයි, අල්ලන්න පුළුවන්.

ඒ වගේම ඒක පෙර නොඇසූ නොවිරූ විදිහට ටක් ගාලා සිද්ධ වෙනවා. කොයි එකට පනීද දන්නෙ නෑ. ඒක හරියට වඳුරෙක් අත්තෙන් අත්තට පනින්න ගියාම කල්පනා කරලා, ගණන් කරලා නෙවෙයි පනින්නේ. මේ බැලුවා මේ පැන්නා, බැලුවා පැන්නා. ඒ වගේ මේකෙ වෙන්නෙත් පරණ භවයේ ගෙනාපු උපනිශ්‍රය

සම්පත්තිවල හැටියටයි. හැම කෙනාම හැම එකටම පනින්නෙ නෑ. මෙන්න මේක බලන්න පුළුවන් තරමට කෙනෙකුට උපාදන ඇති වීම පිළිබඳව, ඉන්ද්‍රිය සංවරය පිළිබඳව වග වීමක් වෙන්න පුළුවන් නම්, ඒක හැරවුම් ලක්ෂ්‍යයක් බව නම් කතා කරන්න දෙයක් නෑ. ඒ තරම්ම ඒක වැදගත් වෙනවා.

ඒ නිසා යෝගාවචරයා සක්මන් කරන්න ගියාම ඇස් බැඳගෙන සක්මන් කරන්න එපා. ඇස් ඇරලා තියාගන්න. පර්යංකයට යනකොට නම් ඇස් වහගන්නවා තමයි. ඒත් චිත්ත රූප ඇවිල්ල කරදර කරනවා. නමුත් ඒකෙදි පශ්චත්තාප වෙලා හිස අත බැඳගෙන අඬනවා වෙනුවට, මම මේ කරන භාවනාවට මම ඉන්ද්‍රිය සංවරයක් ඇති කරගන්න නම් මෙතැනදී පවා තාම පමා නෑ කියල, මට පුළුවන් ඒක සතියට ලක් කරන්න, මට පුළුවන් ඒක විමසුම් නුවණට ලක් කරන්න කියලා අන්න ඒ දේට සූදනම් මනස ඉතාමත්ම වැදගත් බව අපේ ලොකු ස්වාමීන් වහන්සේ නිතරම කියනවා. සක්මනට ගියාට පස්සේ ඔක්කොමල කට වහගෙන, දඟලන්නේ නැතුව, වේදනා නැතුව, සද්ද නැති ලෝකයක් හම්බ වෙයි කියලා හිතන්න එපා. ඒවා වෙනකොට හිත පනින්නේ නැති වෙයි කියලා හිතන්නත් එපා. හිත පනිනවා. හිත පැන්නට ඒකෙ දෝෂයක් නෑ. තමන් දැනගන්න ඕනැ මෙන්න මේකෙ ඉඳලා මේකට පැන්නායි කියලා. ආන්න ඒ දේ දැනගන්න පුළුවන් නම්, ඒ දැනගැනීමේ ශක්තිය මානවයා සතු ජන්ම කුසලයක්. උත්පත්තියෙන්ම ලැබිච්ච දායාදයක්. ජන්ම දායාදයක්. ඒක තමයි අපි අතින් ක්‍රියාත්මක වෙලා නැතුව ඇත්තෙ මෙතෙක් කල්.

දැන් අපිට ඒ දේට සම්බන්ධ වෙන්න පුළුවන් වෙනවා නම්, අන්න ඒ සම්බන්ධ වීම හරහා අපිට රූප දැක්කත් අපිට ඒකෙ උපදින්න තියෙන කෙලෙස් නතර කරගැනීමේ, නැත්නම් කෙලෙස් අඩු කර ගැනීමේ සංවරයක් ඇති කරගන්න පුළුවන්. ඒ සංවරය ඇති වෙන කොටම, අපිට පේනවා දෙවැන්නෙක් මේකට සම්බන්ධ නෑ. ඒ බලන රූපෙ කෙලෙස් නෑ. ඒක එතැනදීමයි පහළ වෙන්නේ. ඒ බව දන්නවා නම් එතැනදීම ඒක නැතුව යනවා. එහෙම නැත්නම් අපි සාමාන්‍යයෙන් කියන විදියට අකාලිකවම සිද්ධ වෙනවා. ඒක වෙලත් ඇති. නමුත් ඒක හෙළි කරන්න දන්නෙ නෑ නේ අපි. කියන්න දන්නෙ

නෑ නේ අපි. එහෙම නැත්නම් ඒකට බලල නෑ නේ. අපිට ඒකට සූදනම් ශරීරයක් තිබිලා නෑ නේ. අන්න ඒ සූදනම් ශරීරයක් ඒකට නොතිබුණා නම්, තාම ඒ පැත්තෙන් භාවනාවක් බලලා නැති නම්, ඒ වගේම, දූන් බලලත් තියෙනවා පෙනිලාත් තියෙනවා තාම ලියල නැති නම් බුරුමයේ පණ්ඩිත ස්වාමීන් වහන්සේ කියනවා ඒක ගුරුන්නාන්සෙගෙ වැරැද්දක් කියලා. භාවනා කරන එක්කෙනා අහිංසකයි. එයා දන්නේ නෑ. එයාට මේක ඇද ඇද පෙන්නන්න ඕනැ.

මේ පාරේ යනකොට පිට පාරේ පනිනවා, සතිය පිට පනිනවා. ඒ පිට පැන්නට කමක් නෑ, ඒක භාවනාවට අස්වැසිල්ලක්, භාවනාවට අතිරේක ලකුණක් කරගන්න පුළුවන්කමක් තියෙනවා. ඉතින් ඒ සඳහා විපස්සනා යෝගාවචරයට පහසුවක් තියනවා. ඒ මොකද? "ඒක වුණා, අයියෝ! දූන් ඉතින් කරන්න දෙයක් නෑ" කියලා පශ්චත්තාප වෙනවා වෙනුවට "නෑ පමා නෑ, තාම පමා නෑ, ඕක දූන්වත් දූනගන්න පුළුවන් නම් හිත පිට ගිහිල්ලා මෙන්න මෙච්චර වෙලා ගියාට පස්සෙ තමයි මම අඩු ගානේ දන්නෙ පයේ තිබුණ හිත ඇහැට ගියායි කියන එක. ඒ ඇති." ඒක වාර්තා කරන්නේ අපි ඊයෙට වඩා තත්පරයකට, ඊට චිත්තක්ෂණයකට කලින් අනිත් දවසෙ අහු වුණොත්, "මට ඊයේ නම් හිත පිට ගිහිල්ලා මෙච්චර වෙලා ගියා. අද නම් මම මේකට තියෙන අවදි භාවය නිසා මට මේක අල්ලගන්න පුළුවන්" කිව්වොත් අන්න එදට පුළුවන් වාර්තාවක් සපයන්න. කොහොමද ඒක සපයන්නේ; "ඊයේ බැරි වෙච්ච දෙයක්, අද මම උත්සාහ කරපු නිසා චිත්තක්ෂණයකට කලින් ඇල්ලුවා. නැත්නම් තත්පරේකට කලින් ඇල්ලුවා, එහෙම නැත්නම් මොහොතකට, විනාඩියකට කලින් ඇල්ලුවා" කියන එක ප්‍රමාණවත්. ඒකෙන් පෙන්වනවා පමා නෑ කියන එක.

වැදගත් දේ තමයි, මේකට දෙවැන්නෙක් සම්බන්ධ නෑ, තමාමයි, තමන්ම තමන්ගෙ භාවනාව අගය කරන එක තමයි ඒවා පිළිබඳව සටහන් තැබීමෙන් කරන්නේ. ඉතින් ඒ සටහන් තැබීම වුණේ නැත්නම් අර සිත කරන වටිනා කුසලතාව අභාවයට යනවා. ඒක කුසලයක් වෙන්නේ නෑ.

ඉතින් ඒක නිසා මතක තියාගන්න ඕන} ඒ වෙලාවෙදි එහෙම නොවුණා නම්, කාම උපාදන, දිට්ඨි උපාදන, සීලබ්බත උපාදන, අත්තවාද උපාදන කියන මොනවා හරි දේකින් පැටලෙන්න පුළුවන්. නමුත් ඒ විස්තර මොනවා නොදැක්කත් මෙච්චර මම මේ පොරොන්දු වෙලා මේ පයේ තියන් ඉන්නවායි කියාගෙන හිටපු මේ හිත මේ විදියට පිට පැන්නා, මේ විදියට පිට පනිනවායි කියලා තමන්ගෙම හිතේ චර්යාව, තමන්ගෙම හිතේ රචනය තමන්ගෙම හිතේ චරණය දැනගන්න පුළුවන් නම් ඒ කටයුත්ත වෙන කාටවක්වත් අපිට කරදෙන්න පුළුවන් කමක් නෑ.

මට තේරෙන දේ තමයි හුඟදෙනෙකුට ඒක කරන්න පුළුවන්. හුඟාක්දෙනෙකුට මෙන්න මෙහෙමයි කළ යුත්තේ කියලා කියනවා නම්, මුල් මුල් අභ්‍යාසවලින් පස්සේ කරන්න පුළුවන්. ඒක හෙළි දක්වන ක්‍රමය, දෙරට වඩින ක්‍රමය තමයි කමටහන් වාර්තාවට මේක ලියන එක. ඒ වෙලාවෙදි ඉතාම සැලකිල්ලෙන් අහගෙන ඉන්න ඕනැ. අහගෙන ඉඳලා කියලා දෙන්න ඕනැ, මෙන්න මෙතන අනිත් දවසේත් වෙයි, එතකොට හොඳට බලන්න. පශ්චාත්තාප වෙන්න එපා, තමන්ට තමන් දෙස් දෙන්න එපා, නොවිය යුතුයි කියල හිතන්න එපා. අන්න එහෙම හිතනවා නම් ඒක සීලබ්බත පරාමාසයක් වෙනවා, මට එහෙම පිට යන්න බෑ කියලා. එහෙම නැත්නම් බලන්නකෝ මං වගේ මෝඩයෙක්, මට තාම හිත පිට යනවායි කියලා අත්තවාද උපාදනයකට වැටෙනවා. එහෙම නැත්නම් අපි දිට්ඨිගත වෙනවා. මෙන්න මෙහෙමයි මගේ හිත කියලා ඉතා ඉක්මනට එක අත්දැකීමෙන් විනිශ්චයකට පත් වෙනවා, දිට්ඨිගත වෙනවා. එහෙම නැත්නම් කාමයකට යට වෙනවා. ඉතින් ඒ හතරම කෙලෙස් තමයි. නමුත් ඒක සිද්ධ වෙන වෙලාවෙදී දැක්කොත් කුසලයක්. පමා වුණොත් කෙලේසයක්.

ඒ නිසා මේක අප්‍රමාදීව දැකගැනීම තමයි අපේ මේ පංචඋපාදනස්කන්ධ පිළිබඳව අත්දුටු ප්‍රත්‍යක්ෂය. ඇස්පනාපිට කෙරෙන දේ. ඒක එක සැරේ කරන්න බෑ. අපි කල් ඇතුව පොත් පත් බලලා, සාමාන්‍ය විදියට සතිය පිහිටුවලා, එහෙම කරගෙන ගිහිල්ල ඉවර වෙලා දන්නවා නම් දුක කියලා කියන්නේ මෙන්න මේ විදියට

රූපයේ වේදනාවෙ සංඥා සංස්කාරවල විඤ්ඤාණවල කොයි වෙලාවෙත් වෙන්න පුළුවන් දෙයක්. ඒ නිසා ඒ දුක එන එන වෙලාවේ, සිද්ධ වෙන වෙන වෙලාවේ නතර කරගන්න පුළුවන් නම්, නැත්නම් අඩු ගානේ දනගන්න පුළුවන් නම්, නැත්නම් වේගය අඩු කරගන්න පුළුවන් නම් ඒ වගේ දෙයක තියෙන වටිනාකම මෙතෙකැයි කියලා කියන්න බෑ. ඒක කවදාකවත් අපි හිතන මට්ටමට වෙන්නේ නෑ. ඉතාම හෙමිහිට සිද්ධ වෙන්නේ. හැබැයි කොයි වෙලාවක හරි හිතේ ඒක පැලපදියම් කරගත්තොත් අල්ලගන්න අමාරු නෑ. ඒක නිසා අපේ ලොකු ස්වාමීන් වහන්සේ ඉන්න කාලේ කියන්නේ ඒකට ලෑස්ති වෙලා යන්න. වැරදුණායි කියලා දෙයක් නෑ, පමා නෑ. වැරදුණායි කියලා පමායි කියලා දඟලුවොත් අත්තවාද උපාදානයක් වෙනවා. එහෙම නැත්නම් සීලබ්බත උපාදානයක් වෙනවා, නෑ නෑ මගේ හිත එහෙම යන්නම බෑ කියල ගන්නවා නම්, ඒවා දන් අහු වෙන්න පටන් අරගන්නවා, මෙතෙක් කල් ඒ මල්ලෙන් ගහගෙන ගිය දේවල්.

ඉතින් ඒක නිසා භාවනාවට යනකොටම පරිස්සම් වෙන්න. සද්ද තියෙන තැන්වලට යන්න කියන එක නෙවෙයි මේකෙන් කියන්නේ. ඒකෙන් කියන්නේ රූප තියෙන තැන්වලට යන්න කියන එක නෙවෙයි. යන්න. කමක් නැහැ, යනකොට පරිස්සම් වෙන්න. නමුත් කොහෙන් හරි අපිට ඇවිල්ලා මේ වගේ බාධාවක් වෙන්න ඉඩ තියෙනවා. අන්න ඒ සිද්ධ වෙන බාධාව බාධාවක් වෙන්නේ ඇසූ විරූ ඥාන නැත්නම්. ඒක කුසලයට හරවගන්න, එහෙම නැත්නම් උපාදාන නොවී පවත්වාගෙන යන්න නම් ශිල්පය අවශ්‍යයි, එහෙම නැත්නම් ක්‍රම සහ විධි අවශ්‍යයි.

අද දවසේ ධර්ම දේශනාව එවැනි ක්‍රම සහ විධි සඳහා හේතු වාසනා වේවා! යි කියන ප්‍රාර්ථනාවෙන් නතර කරන්නයි බලාපොරොත්තු වෙන්නේ.

සියලුදෙනාටම තෙරුවන් සරණයි!

# මෙම උතුම් ධර්ම දානය සඳහා දායකත්වය සැලසූ පින්වත්තු

මුද්‍රණ කටයුතු වෙනුවෙන් දායකත්වය ලබා දුන් පහත නම් සඳහන් දායක දායිකාවන්ට අපගේ ගෞරවය හා ප්‍රණාමය පුද කරමු. මෙම නාමලේඛනය සකැසීමේදී කිසියම් අතපසු වීමක් සිදු වී ඇතොත් ඒ ගැන අපගේ කනගාටුව ප්‍රකාශ කරන අතරම, එම අතපසු වීම් දන්වා එවන මෙන් ගෞරවයෙන් ඉල්ලා සිටිමු. ඉදිරි කාණ්ඩවලදී ඒවා නිවැරදි කිරීමට අපි බලාපොරොත්තු වෙමු.

- ජගත් සහ බුද්ධිකා රූපසිංහ විසින් ධර්ම දානය පිණිස.
- ඕස්ට්‍රේලියාවේ පර්ත් නුවර පදිංචි දුල්මිණි කුමාරසිංහ මහත්මිය විසින් තම මෑණියන් වන මිනුවන්ගොඩ පදිංචි මාලිනී කුමාරසිංහ මහත්මියගේ අසූපස් වන උපන් දිනය නිමිති කරමින් සහ පරලෝ සැපත් පියාණන් වන හෙන්රි කුමාරසිංහ මහතා අනුස්මරණය කරමින්.
- වේයන්ගොඩ අංක 282/48, විජය මාවත පදිංචි විමල් දිසානායක මහතා විසින් සසර ගමන කෙළවර කර නිවන් අවබෝධය පිණිස උපකාර කරන්නා වූ සාසනික කල්‍යාණ මිත්‍රරන්, දෙමාපියන්,

ගුරුවරුන්, බිරිඳ, දරුවන්, ඥාතීන්, හිතවතුන් හා පින් කැමති සියලුදෙනාට පින් පිණිස.

- ඕස්ට්‍රේලියාවේ සිඩ්නි නුවර පදිංචි මධුෂ්කා අලුත්ගේ, ගයාන් සමරසේකර සහ නෙතුල සමරසේකර පුතණුවන් විසින් ධර්ම දනය පිණිස.

- ඕස්ට්‍රේලියාවේ පදිංචි නදීකා වික්‍රමරත්න මහත්මිය විසින් ධර්ම දනය පිණිස

- හැත්තෑවන උපන්දිනය සැමරූ අති පූජනීය උඩර්රියගම ධම්මජීව ස්වාමීන් වහන්සේගේ ශාසනික මෙහෙවරට පූජෝපහාරයක් වේවා! ධර්ම මාර්ගයේ ගමන් කරන සැමට නිවන් දෙරටු විවර වේවා! ප්‍රාර්ථනය සිතැතිව නවසීලන්තයේ පදිංචි ලතා රාජපක්ෂ මහත්මිය විසින්.

- රසිකා සෝමතිලක මහත්මිය විසින් සුජීවත්ව සිටින දයා ලොකුවිතාන, සෝමතිලක ලොකුවිතාන, සෝමා අමරනායක සහ අභාවප්‍රාප්ත ජයතිස්ස අමරනායක යන මව්පියවරුන්ට ධර්මාවබෝධය පිණිස මේ පින හේතුවාසනා වේවා!!!

- සිඩ්නි නුවර බන්දුල සොයිසා මහතා විසින් මෑතකදී අප අතරින් වෙන්වූ එල්. එන්. පෙරේරා(සිඩ්නි නුවර) මහතාට පින් පිණිස මෙම පරිත්‍යාගය කරන ලදි. බන්දුල සොයිසා මහතාට පුණ්‍යානුමෝදනා වේවා!

- ගාල්ලේ එච්. පී. ලියනගේ මහතා විසින් ධර්ම දනය පිණිස

- අසංක රාජපක්ෂ මහතාට වහවහා, නොපමාව චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධය පිණිස මෙම පින්කම හේතු වේවා.

- පී. විතානආරච්චි ජයවර්ධන මහත්මිය විසින් ධර්ම දනය පිණිස

- මෝදිනී මුණසිංහ විසින් මදුරසිංහ ගුණතිලක පියාණන්ට සහ හේමා සේනානායක මෑණියන්ද ඇතුළු පින් අවැසි සාංසාරික නෑදෑයින්ට පින් පිණිස

- නිරෝෂිණි දීපිකා විසින් ධර්ම දානය පිණිස

- සුජීවත්ව සිටින වී. වීරසේකර පියාණන්ගේ ජන්ම දිනය වෙනුවෙන් ඔහුටත් බී. කුලරත්න මෑණියන්ටත් නිරෝගී බවත් ධර්මාවබෝධයත් පිණිස මේ පින් හේතු වේවා! ගෞරවනීය ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලු හිමිවරුන්ටද කාර්යාල සේවක සාමාජිකයන්ටද එසේම ප්‍රාර්ථනා කරමින් නදී වීරසේකර දියණිය විසින්.

- කලල්ගොඩ ශමිලා පෙරේරා විසින් ධර්ම දානය පිණිස.

- මේ ධර්ම දානයෙන් රැස් කරගන්නා වූ සියලු කුසල් දිවංගත මාගේ පියාණන් වහන්සේ වන මහනිල් විජේසිංහ මහතාද පින් අපේක්ෂිත සියලුදෙනාද අනුමෝදන් වෙත්වා! නිවනින් සැනසීමට අප සැමට මේ කුසලය උපනිශ්‍රය වේවා! පුණ්‍යානුමෝදනා සිතැතිව ශාමිලා විජේසිංහ විසින්.

- සීදුව අංක 30/4, 4 වන පටු මග, සීදුව නගරයේ වසන සුජාතා දෙලුවීර විසින් ධර්ම දානය පිණිස

- සීදුව අංක 20, 4 වන පටු මග, සීදුව නගරයේ වසන උචිනි ගුණතිලක විසින් සියලුම නෑදෑ හිතවතුන්ට පින් පිණිස

- කිනිති ජයතිස්ස මෙනෙවිය විසින් ධර්ම දානය පිණිස

- ජයන්ති සිරිවර්ධන මහත්මිය විසින් ධර්ම දානය පිණිස

- පරලෝ සැපත් මහාචාර්ය ආර්. පී. ලියනගේ පියාණන්ට සහ ආරියසීලී ලියනගේ මාතාවට පින් පිණිස ලලිත් ලියනගේ පුතණුවන් විසින් මෙම ධර්ම දානය සිදු කරන ලදි.

- මෙම ධර්ම දානමය කුසලය මේ ජීවිතයේදීම නිර්වාණ අවබෝධය පිණිස හේතු වේවා. මාගේ මිය ගිය දෙමාපියන් ඇතුලු සියලු මළ ගිය ඥාතීහු මේ කුසලය අනුමෝදන් වේවා! ප්‍රාර්ථනාවෙන් රාජිකා ප්‍රියංගනි මහත්මිය විසින්.

- අධිකාරි සහ නිසංසලා විසින් ධර්ම දානය පිණිස

- අප නමින් මියගිය සියලුදෙනා හට මෙම පින් අනුමෝදනා වේවා! ප්‍රාර්ථනාවෙන් එම්. කේ. රඹුක්වැල්ල මහතා විසින්.

- සීතා විජේතුංග මහත්මිය විසින් ධර්ම දානය පිණිස

- බත්තරමුල්ල කොස්වත්ත පදිංචි ප්‍රියන්ජිත් අබේකෝන්, ඉනෝෂා එදිරිසිංහ, සනුකි හෙසංගා අබේකෝන් සහ තෙනුජ සුහස් අබේකෝන් විසින් මෙම ධර්ම දානය සියලුදෙනා හට උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධය පිණිස සිදු කරනු ලැබේ.

- ඕස්ට්‍රේලියාවේ බ්‍රිස්බේන් නුවර පදිංචි දේවිකා රණසිංහ මහත්මිය විසින් ධර්ම දානය පිණිස

- කැනඩාවේ විනිපෙග් නුවර පදිංචි හේමාලි පෙරේරා සොයුරිය විසින් ධර්මාවබෝධය පිණිස.

- මව්පියන්ට ධර්මාවබෝධය පිණිස මේ පින හේතු වාසනා වේවා.!! ප්‍රාර්ථනාවෙන් ඉන්දික මැදගංගොඩ පුතණුවන් විසින්.

- සමිත වීරවර්ධන විසින් දෙමාපියන්ට පින් පිණිස.

- පරලෝ සැපත් එච්. සී. ආරියදාස ස්වාමිපුරුෂයාට සහ ඊ. බාලන් මෑණියන්ට පින් පිණිස කේ. ඩී. වයලට් මහත්මිය විසින්.

- ජයන්ති සිරිවර්ධන විසින් අකුරැස්සේ විසූ පරලෝ සැපත් එම්. පී. වනිගසේකර දෙමාපියන් අනුස්මරණය කරමින් දෙමාපියන්ට සංසාරයේ දුකක් නොලබාම නිර්වාණාවබෝධය පිණිස.

- අරුණ ප්‍රේමසිරි විසින් ධර්ම දානය පිණිස

- සාධනා සහ ලසන්ත රත්නායක, තම හිත මිතුරන් වන චතුරංග ලංකනාත්, තුසිත නුවන්, රසික ෆොන්සේකා, ඕෂධී චිරන්ත, දමයන්ති ප්‍රනාන්දු, අප්සරා ද සිල්වා, දිස්නා කාරියවසම්, අපිල පෙරේරා ඇතුළු පිරිස විසින් ධර්ම දානය පිණිස

- රම්‍යා වික්‍රමරත්න මෙනවිය විසින්, 1977 අප්‍රේල් 16 දින පරලෝ සැපත් ජේ. පී. වික්‍රමරත්න පියාණන් සහ 2020 පෙබරවාරි 2 දින පරලෝ සැපත් ජී. එම්. වික්‍රමරත්න මෑණියන් අනුස්මරණය කරමින් සියලු සංසාරගත නෑදෑයන්ට පින් පිණිස

- මේ භවයේදීම නිවනින් සැනසීමේ අපේක්ෂාවෙන් දීපා මුණසිංහ මහත්මිය විසින්.

- මාගේ මියගිය ආදරණීය බිරිඳ වන එම්.මාලනී මහත්මියටත් මාගේ මියගිය පියාණන් වන එස්.එච්.සිරිදාස මහතාටත් මියගිය මල්ලී වන එස්.එච්.පාලිටත් සසර ගමන කෙළවර කරගැනීම සඳහා මෙම ධර්ම දානය අත්වැලක් වේවා. එස්. එච්. රෝහිත වන මා හටත් සහ එස්.කුමාරි ජයසූරිය මහත්මියට මෙම ධර්ම දානයේ පිහිටෙන් දීර්ඝ ආයුෂ හා නිදුක් නීරෝගී සුවය ලැබේවා ! ප්‍රාර්ථනාවෙන් එච්. එස්. රෝහිත මහතා සහ කුමාරි ජයසූරිය මහත්මිය විසින්.

- ගුරුවර, දෙමාපියන් සහ ඥාති මිත්‍රාදීන් ඇතුළු සැමට උතුම් වූ චතුරාර්ය සත්‍ය ධර්මය අවබෝධ වේවා..!!! ප්‍රාර්ථනාවෙන් නිමල් සහ මල්ලිකා කුලරත්න ඇතුළු පවුලේ සැම.

- සතිමත් බව තුළින් මිනිසත් බවේ වටිනාකම අවබෝධ කරදුන් ගෞරවනීය උඩර්රියගම ධම්මජීව හිමිපාණන් ඇතුලු මේ තාක් දහම් මග වැඩීමට උපකාර කළ සියලුම කල්‍යාණ මිත්‍ර, ඔබ අප සියලුම දෙනාට උතුම් නිවනින් සැනසීම පිණිස මේ පින හේතු වේවා...! ප්‍රාර්ථනාව සිතැතිව මහනුවර පදිංචි චාන්දනී පුස්සේපිටිය විසින්.

- සතිපට්ඨාන සූත්‍ර දේශනා මාලාවේ දේශකයාණන් වහන්සේ වන පූජ්‍යපාද උඩර්රියගම ධම්මජීව ස්වාමීන් වහන්සේ ඇතුළු, දේශනාවලට දයක වූ මීතිරිගල නිස්සරණ වනයේ සියලුම ස්වාමීන් වහන්සේලාටද ධර්ම දේශනා සකසා දීමෙන් සහාය වූ සියලුමදෙනාටද ගෞරව ප්‍රණාමය පුද කරමි. නිස්සරණ වනයේ සියලුම කාර්ය මණ්ඩලය සහ දන දයක ඇත්තන්ට පින් පිණිස හේතු වේවා. මා නමින් මිය ගිය පුතණුවන්ට, මිත්තණියන්ටද, මුත්තණුවන්ටද ඇතුලු සියලුම ඥාතීන්ට ද පින් පිණිස හේතු වේවා. සුජීවත්ව සිටින දෙමාපියන්, සහෝදර සහෝදරියන් සහ දරුවන්ටද සෙත පිණිසත් ධර්ම දනය පිණිසත් හේතු වේවා! ප්‍රාර්ථනාව සිතැතිව ඕස්ට්‍රේලියාවේ මෙල්බර්න් පදිංචි නන්දික දේවගේ මහතා විසින්.

- කැනඩාවේ ඔන්ටාරියෝ පදිංචි උපාලි ජී. වීරපුර මහතා විසින් තම හිතමිතුරන් වන ගයත්‍රි වික්‍රමසූරිය, ස්වර්ණා වික්‍රමතුංග, කාලිංග ඩී. මෙන්ඩිස්, මහින්ද ගුණසේකර, චාමේන් ටී. කරුණාතිලක සහ බෙන් සෙනෙවිරත්න සමග, ධර්ම දනය පිණිස.

- අවුරුදු අනූදෙකක් ආයු වළඳ 2021 මැයි 28 දින පරලොව සැපත් වන්නට යෙදුණු පින්වත් අයිරීන් සුබසිංහ කලණ මිතුරියගේ මෑණියන්ට සසර ගමන කෙටි කරගැනීමට මේ පින් හේතු වේවායි ප්‍රාර්ථනා කර සිටිමු

- 2019 සැප්තැම්බර් මස 9 දින අප අතරින් වෙන් වූ අනුර පරාක්‍රම තේනුවර මහතාගේ පරලොව ජීවිතය සැපවත් වී සසර දුක් නිවා ගැනීමට මෙම කුසලය හේතු පාරමිතා වේවා. එමෙන්ම අප සියලුදෙනාටද ධර්මාවබෝධය පිණිසත් මෙම ධර්ම දනමය කුසලය පාරමිතාවක් වේවා! ප්‍රාර්ථනාවෙන් 4/40, M. J. C. ප්‍රනාන්දු මාවත, ඉඩම, මොරටුව පදිංචි බිරිඳ වන ලතා තේනුවර ඇතුළු දරුවන් විසින් මෙම ධර්ම දනමය කටයුත්ත මෙත් සිතින් සිදු කර සිටිමු.

- ඕස්ට්‍රේලියාවේ සිඩ්නි නුවර පදිංචි බන්දුල සහ ලාලනී අබේනායක දෙපළ විසින් ධර්ම දනය පිණිස

- කැන්බරා නුවර පදිංචි ජනක වැලිකල මහතා ඇතුළු පවුලේ සැම විසින් ධර්ම දානය පිණිස.

- කැන්බරා නුවර පදිංචි ඩේසි බුද්ධදාස මහත්මිය විසින් ධර්ම දානය පිණිස.

- මෙල්බර්න් නුවර පදිංචි සෝහිත සහ ඉරේෂා බුත්ගමුව දෙපළ විසින් - පරලෝ සැපත් සියලු ඥාතීන්ට පින් පිණිසත් සසර දුකින් මිදී නිවනින් සැනසීම පිණිසත් මෙම ධර්ම දානමය කුසලය හේතු වේවා!

- තිලිණි දිල්හානි දයිකාව විසින් තම දෙමාපියන්ටත් ආච්චිටත් සියලුම කල්‍යාණ මිත්‍රයන්ටත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු නිස්සරණ වනය ආරණ්‍යයේ සියලුම ස්වාමීන් වහන්සේලාට සහ ස්වාමීන් වහන්සේලාගේ දෙමාපියන්ටත් කායික නිරෝගී භාවය සහ මානසික සැනසීම ඇති කර ගැනීම පිණිස පුණ්‍යානුමෝදනා ශීර්ෂයෙන්

- ඕස්ට්‍රේලියාවේ බ්‍රිස්බේන් නුවර පදිංචි ආනන්ද සහ භද්‍රා පතිරණ දෙපළ විසින් - ධර්මාවබෝධය පිණිස

- කැනඩාවේ ටොරොන්ටෝ නුවර පදිංචි නිරෝෂ පියවීර සොයුරා විසින් - ධර්මාවබෝධය පිණිස

- කැනඩාවේ පදිංචි ප්‍රියා සොයුරිය විසින් පරලෝ සැපත් පියාණන්ට පින් පිණිසත් මවට දීර්ඝායුෂ පැතීම පිණිසත් තමාට සහ දරු දෙදෙනාට නිවන පරිපූර්ණ වීමටත් මෙම ධර්ම දානමය කුසලය හේතු වේවා.

- නාවල පදිංචිව සිටි ආදරණීය දෙමාපියන් වන බර්ටි මෙන්ඩිස් මහතාටත් බන්දු මෙන්ඩිස් මහත්මියටත් ගාල්ලේ පදිංචිව සිටි ආදරණීය දෙමාපියන් වන අයි. ජී. පියතිලක මහතාටත් ගුණවතී පියතිලක මහත්මියටත් ලොකු අම්මා වන විමලා ද සිල්වා

මෙනවියටත් නිවන් සුව පතා දරු මුණුපුරන් විසින් මෙම උතුම් ධර්ම දනයට දයකත්වය සලසන ලදි.

- අම්බලන්ගොඩ ධර්මාශෝක විද්‍යාලයේ විශ්‍රාමික ආචාර්යවරුන් වූ පරලෝ සැපත් ඒ. කරුණාරත්න ද සිල්වා (ඒ. කේ. සර්), ධර්මා ද සිල්වා (ඒ. කේ. මිස්) සදදර දෙමව්පියන්ට නිවන් සුව පතා එම දියණියවරු.

- මෙල්බර්න් නුවර පදිංචි කුසුමා ජයසිංහ මහත්මිය - පරලෝ සැපත් තම ස්වාමි පුරුෂයාට සහ දෙපාර්ශ්වයේම මාපියන්ට පින් පිණිස.

- මෙල්බර්න් නුවර පදිංචි වෛද්‍ය අබේගුණරත්න මහතා සහ වෛද්‍ය ඉන්ද්‍රානි ගුණරත්න මහත්මිය - අංක 259, තලාතුඔය පාර, ගුරුදෙණිය පදිංචිව සිට පරලෝ සැපත් කැප්ටන් ගුණරත්න මහතා සහ ඩී. එම්. ගුණරත්න මහත්මියටද අංක 638, මුල්ලේරියාව, අංගොඩ පදිංචිව සිටි ඒ.පී. සිල්වා මහතා සහ ඩේසි කුලතුංග මහත්මියටද පින් පිණිස.

- බම්බලපිටියේ, මල්ලිකා නිවාසය - සෙත් මැදුරෙහි පදිංචිව සිට වසරකට පෙර පරලෝ සැපත්, ජීවිතයේ අවුරුදු 30 ක පමණ කාලයක් ධර්ම ගුරුවරියක හා උපදේශිකාවක සේ කටයුතු කළ සුවිනීතා ප්‍රනාන්දු මෙනෙවිය කෘතඥතා පූර්වකව අනුස්මරණය කරමින්, එතුමියටත් දෙපාර්ශ්වයේම පරලෝ සැපත් දෙමාපියන් සහ සියලු නෑදෑ හිත මිතුරන්ටත් පින් පිණිසද ඒ සැමටත් අපට ශ්‍රී සද්ධර්මය පහද දෙන සියලු ගරු ස්වාමීන් වහන්සේලාටත් සියලු කල්‍යාණ මිත්‍රයන්ටත් ලෝ වැසි සියලුදෙනාටමත් ධර්මාවබෝධය පිණිසද කරනු ලබන මෙම ධර්ම දනයට දයක වන්නේ ප්‍රේමින්ද සහ දිල්රුක්ෂි ප්‍රනාන්දු දෙපළයි.

- බලන්ගොඩ වසන පින්වත් කේ. කේ. සිරිසේන මහතා සහ උමා ද මෙල් මැතිනිය විසින් - ධර්ම මාර්ගයේ ගමන් කරන යෝගාවචර භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකාවන්ගේ සතිය දියුණු වී නිවන් දෙරටුව විවෘත වී, ශාසනය දිදුළවමින් බැබලේවා! යන ප්‍රාර්ථනය

ඇතිව, එසේම 'ඒ පින් මහිමයෙන්, සත්පුරුෂ කල්‍යාණ මිත්‍ර ඇසුර හරහා නිර්මල සද්ධර්මය ශ්‍රවණයෙන්, අප්‍රමාද වීර්යයෙන්, යෝනිසෝමනසිකාරය පිහිටුවමින් ධර්ම මාර්ගයේම යාමට මේ දෙපළට මේ පින ම මූලික වේවා!'යි අපි පතමු.

- උඩහමුල්ලේ පදිංචි වෛද්‍ය එස්. ආර්. සමරතුංග මහතා - පරලෝ සැපත් තම පියාණන්ට සහ මවට පින් පිණිස; වෛද්‍ය පද්මා සමරතුංග මහත්මිය - පරලෝ සැපත් තම දෙමාපියන්ට පින් පිණිස.

- බොරැල්ලේ පදිංචිව සිට පරලෝ සැපත් චන්ද්‍රදාස විදානපතිරන, එම්. අබේකෝන් යන දෙමාපියන්ට සහ කඩුවෙල පදිංචිව සිට පරලෝ සැපත් ලීලාවති අබේකෝන් පුංචිඅම්මාට පින් පිනිස - එම දූ දරුවන් විසින්

- නිලූ දිසානායක මහත්මිය - ධර්ම දානමය කුසලානිසංසය පිණිස

- කැන්බරා නුවර පදිංචි අරුණි විජේතුංග මහත්මිය විසින් - පරලෝ සැපත් සියලු ඥාතීන්ට පින් පිණිසත් සසර දුකින් මිදී නිවනින් සැනසීම පිණිසත් මෙම ධර්ම දානමය කුසලය හේතු වේවා!

- සංජීව අබේරත්න සොයුරා - පරලෝ සැපත් නිහාල් අබේරත්න පියාණන්ට පින් පිණිස

- නිස්කා ජයකොඩි සොයුරිය - ධර්මාවබෝධය පිණිස

- ප්‍රේමා ප්‍රනාන්දු සොයුරිය - තම රුක්මන් පුතාට ධර්මාවබෝධය පිණිස

- මල්ලිකාරච්චි සොයුරිය - ධර්මාවබෝධය පිණිස

- කුසුමා නානායක්කාර සොයුරිය - ධර්මාවබෝධය පිණිස

- ඩොරීන් වීරසිංහ සොයුරිය - ධර්මාවබෝධය පිණිස

- මානෙල් කපුරුගේ සොයුරිය - පරලෝ සැපත් පුංචිඅම්මලා (සලිනා සහ චන්ද්‍රා) මහත්මීන්ට පින් පිණිස
- ඩී. එම්. ඉලංගකෝන් සොයුරිය - පරලෝ සැපත් තම කේ. ඩී. එස්. ගුණරත්න ස්වාමි පුරුෂයාට පින් පිණිස
- පාදුක්ක ජයන්ති පාරේ පදිංචිව සිටි තරිඳු හසන්ත චන්ද්‍රසිරි පුතාට උතුම් නිවනින් සැනසීම ලැබේවා.

දයකත්වය දුන් සැමට තෙරුවන් සරණින් චතුරාර්ය සත්‍ය ධර්මය අවබෝධ වී ප්‍රාර්ථනීය බෝධියකින් උතුම් නිවනින් සැනසීම උදා වේවා! යි මෙත් සිතින් ප්‍රාර්ථනා කරමු.

2022, නවම් මස 20 වන ද

# ධර්මදේශනා සකස් කිරීමට සහාය දුන් පින්වතුන් හට කරන පුණ්‍යානුමෝදනාව

අප අරණ්‍ය සේනාසනයේ භාවනා වැඩසටහන් සම්බන්ධීකාරක මහත්ම මහත්මීන්ගෙන් මීට ඉහතදී කරන ලද ඉල්ලීමක් අනුව, ආරණ්‍ය සේනාසනයට සම්බන්ධ දායක දායිකා බොහෝ පිරිසක් ධර්ම දේශනා පිටපත් කිරීම, නිවැරදි කිරීම, ටයිප් කිරීම ආදී කටයුතුවලින් අපට උපකාර කළහ. මෙම දේශනා කාණ්ඩය ඉතාම කෙටි කාලයකදී ඔබ අතට පත් වන්නේ ඔවුන් අපට දැක්වූ එම කාරුණික සහයෝගයේ ප්‍රතිඵලයක් වශයෙනි. ඉදිරි කාණ්ඩද මෙලෙස ඔබ අතට පත් කිරීම අපගේ අභිලාෂයයි.

ඒ කරන ලද මහඟු කාර්යය වෙනුවෙන් පහත නම් සඳහන් දායක දායිකාවන්ට අපගේ ගෞරවය ප්‍රණාමය පුද කරමු. මෙම නාම ලේඛනය සකැසීමේදී කිසි යම් අතපසු වීමක් සිදු වී ඇතොත් ඒ ගැන අපගේ කනගාටුව ප්‍රකාශ කරන අතරම, එම අතපසු වීම් දන්වා එවන මෙන් ගෞරවයෙන් ඉල්ලා සිටිමු. ඉදිරි කාණ්ඩවලදී ඒවා නිවැරදි කිරීමට අපි බලාපොරොත්තු වෙමු.

- අනුලා ප්‍රේමචන්ද්‍ර සොයුරිය - ඩනෙඩින්, නවසීලන්තය
- අයිරින් සුබසිංහ සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- භාමනී කුමාරසේන සොයුරිය - මහරගම
- පද්මා රත්නායක සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- ඩොරීන් වීරසිංහ සොයුරිය - බත්තරමුල්ල
- තශිකා මහනාම සොයුරිය - අලුබෝමුල්ල
- එම්. මාරසිංහ සොයුරිය - මාලබේ

- උදේනි තිලකරත්න සොයුරිය - නක්කාවත්ත
- මාලනී වික්‍රමාරච්චි සොයුරිය - උදම්මිට
- ලිලන්ගා බාලචන්ද්‍ර සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- මැණික් බස්නායක සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- ගංගා ජයවික්‍රම සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- පද්මා සමරතුංග සොයුරිය - උඩහමුල්ල
- ඩයනා සමරසිංහ සොයුරිය - කෑගල්ල
- නන්දනී වනිගසේකර සොයුරිය - ඕක්ලන්ඩ්, නවසීලන්තය
- අරුණ ලක්මාල් සොයුරා - නවසීලන්තය
- ඉෂංකා සමරවීර සොයුරිය - හෝමාගම
- ලක්මාල් නන්දසිරි සොයුරා - මාබෝදල
- විජේ අලංකාරගේ සොයුරා - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- විමල් ගමගේ සොයුරා - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- බන්දු ගමගේ සොයුරා - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- චමිලා ජයවර්ධන සොයුරිය - සිඩ්නි, ඕස්ට්‍රේලියාව
- ප්‍රියංකා මොල්ලිගොඩ සොයුරිය - බොරලැස්ගමුව
- නදීෂා දිලිනි සොයුරිය - ඇඹිලිපිටිය
- අනූෂා ගුණරත්න සොයුරිය - කුරුණෑගල
- උදනී හිරන්තිකා සොයුරිය - කැළණිය
- නදීෂා සමරකෝන් සොයුරිය - උලපනේ
- දමිත් අමරකෝන් සොයුරා - බියගම
- ඉසුරු කොඩිතුවක්කු සොයුරිය - රාවතාවත්ත, මොරටුව

- ෂෙහාන් සංජන සොයුරා - මීතිරිගල
- සුනීතා දිසානායක සොයුරිය - කොළඹ
- ගයනි සුමතිපාල සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- මදූෂානී නිමේෂා සොයුරිය - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- මදූෂ්කා අලුත්ගේ සොයුරිය - සිඩ්නි, ඕස්ට්‍රේලියාව
- දිලිනි ද අල්විස් සොයුරිය - සිඩ්නි, ඕස්ට්‍රේලියාව
- සුරන්ගනී සමරසිංහ සොයුරිය - බ්‍රිස්බේන්, ඕස්ට්‍රේලියාව
- ධම්මිකා වෙල්ගම සොයුරිය - මැදගොඩ, නාත්තන්ඩිය
- සුනිල් රත්නායක සොයුරා - මැදගොඩ, නාත්තන්ඩිය
- මල්කාන්ති ජයසිංහ සොයුරිය - නුගේගොඩ
- චම්පා කන්නන්ගර සොයුරිය - මහරගම
- දේවිකා මෙන්ඩිස් සොයුරිය - නාවල
- නිලූ දිසානායක සොයුරිය - තලවතුගොඩ
- රෝහිනී හෙට්ටිගේ සොයුරිය - ඕක්ලන්ඩ්, නවසීලන්තය
- අනුරුද්ධ ප්‍රියංකර සොයුරා - මෙල්බන්, ඕස්ට්‍රේලියාව
- ඕශානී පෙරේරා සොයුරිය - නුගේගොඩ
- මදරා විමලරත්න සොයුරිය - කැලනිය.
- චතුරිකා කාරියවසම් දුව සහ මනෝහාරී දුව ඇතුළු ටයිප් කිරීමෙහි යෙදුණ කණ්ඩායම
- සමන් සොයුරා සහ කුමුදු සමරනායක සොයුරිය - හෝමාගම, ධර්ම දේශනා ටයිප් කර දී එම දයකත්වය දැරීම වෙනුවෙන්
- චේතක ජයසෝම පුතා ඇතුළු (කොලිටි ප්‍රින්ටර්ස්) සහායක කණ්ඩායම

සම්මා සම්බුද්ධ නෙ නමො

"සබ්බ පාපස්ස අකරණං - කුසලස්ස උපසම්පදා"

# නාථගනේ අරණ්‍ය සේනාසනාරක්ෂ මණ්ඩලය

මහකෙළිය, මාස්පොත, කුරුණෑගල.

අනුශාසක,
නැවැත්පුලැස්සේ චන්දවංස ස්ථවිර.
2021. 9. 24.

තුනුරුවන් සරණයි. ජිතිමයි.

අපගේ වන්දනීය ස්ථවිරයන් වහන්සේ වෙත මෙත් සිතින්.

ප්‍රිය ආයුෂ්මතුනි.

මීතිරිගල නිස්සරණ වනයේ භාවනානුග්‍රහය නිසා මුද්‍රිත

1. මහා සතිපට්ඨාන සූත්‍ර දේශනාවලිය (7 වෙනි කාණ්ඩය)
2. සංවෘත සිත (යව කලාපි සූත්‍රය)

යන දහම් පොත් දෙක ලැබුන බව ඔබහට සතුටින් දන්වා සිටිමි. බුද්ධ ධර්මයේ සන්දිට්ඨික ගුණය මෙතරම් දුරට සරළ වූ අනුශාසනා මාර්ගයක් මා නම් මෙතෙක් දැක නැත. මේ යුගයේ මීතිරිගලින් නිකුත් වූ හැම දහම් පොතක්ම ද උත්තමාර්ථය මැනවින් පහදයි. මේවාට ධර්මාන්වීක්ෂ යැයි කියන්නේ එගේ වැටහීම නිසා වැටීනි. ලේඛනය - මුද්‍රණය - ධර්ම දානය - සිදු කරන පැවිදි ගිහි සියලු කල්‍යාණ මිත්‍ර සත්පුරුෂ වරුන්ට සුවසේ නිර්වාණාවබෝධය සිදු වේවා.

පූජනීය කල්‍යාණ මිත්‍ර උඩඊරියගම ධම්මජීව කර්මස්ථානාචාර්යතුමන් ප්‍රධාන මේ කටයුතු සඳහා දිවා රෑ නොතකා වෙහෙසෙන ඔබ වහන්සේලාට මේ සසුන් මෙහෙවර නිර්බාධිතව පැවැත්වීම නිසා සියලු ශක්තිය නිරතුරුව ලැබේවා.

මෙයට - හිතෙසි

චන්දවංශ ස්ථවිර.

ඒකායනො අයං, භික්ඛවෙ, මග්ගො සත්තානං විසුද්ධියා,
සොකපරිදෙවානං සමතික්කමාය, දුක්ඛදොමනස්සානං අත්ථඞ්ගමාය,
ඤායස්ස අධිගමාය, නිබ්බානස්ස සච්ඡිකිරියාය,
යදිදං චත්තාරො සතිපට්ඨානා.




Quality Printers
0114870333